ගුණපාල වින්ඩ්සර්

අනුස්මරණ ආදර්ශ කතා එකතුව

# පුස්තකාලය ගිනිගනී

THE BURNING OF A LIBRARY



# පිදුම

මාගේ පූර්වාචාරීන් වූ
**ගුණපාල වින්ඩිසර් සහ ආචාර්ය ඩල්සි වින්ඩිසර්**
යන මාගේ දෙමාපිය දෙපළටත්

මගේ අධ්‍යාත්මික දිවියේ ගුරුතුමා වූ රත්තනපිටිය සසුන සෙනසුනේ විසූ
**උත්තම සාධුටත්**

මගේ මනෝවිද්‍යා උපදේශණ ගුරුතුමා වූ
**ගොඩ්වින් මෙන්ඩිස් මහතාටත්**

මාගේ බාලදක්ෂ දිවියේ ගුරුතුමා වූ
**රොහාන් වීරසේකර මහතාටත්**

මෙකී නොකී සියලුම
ඇවිදින පුස්තකාලවලටත්

## "පුස්තකාලය ගිනිගනී"

ආදර්ශ කතා එකතුව
උපහාරයක්ම වේවා ...









# පෙරවදන

මගේ පියා වන ගුණපාල වින්ඩ්සර් මහතා අවුරුදු තුනහමාරකට පමණ ඉහත දී මිය ගිය විට, ඔහුගේ මිත්‍රයකු මෙන්ම මගේ ගුරුවරයකු වූ රොහාන් වීරසේකර මහතා පැවසුවේ "තාත්තා කොයි වෙලාවෙත් කතා කළේ ප්‍රයෝජනවත් දෙයක්. ඒ වගේ පුද්ගලයකු නැති වීම හරියට පුස්තකාලයක් ගිනි ගැනීමක් වගේ කියාය. මෙසේ කියූ රොහාන් සර් "මහාචාර්යවරයාගේ ගුරුතුමා"නමින් මෙහි පළවන ආදර්ශ කතාවද මතක් කර දුන්නේ මගේ පියා කියූ ආදර්ශ කතාවලින් ලද ජීවන ආදර්ශ විදහා පෑමටය.

වැඩිමහල් අත්දැකීම් පිරි බහුශ්‍රැතයකු මිය යන විට ප්‍රජාවේ ඥානයේ කොටසක් ද මිය යයි. අප්‍රිකානු ජනප්‍රවාදයකින් කියවෙන්නේ වැඩිහිටියකුගේ මරණය පුස්තකාලයක් ගිනි ගැනීමක් හා සමාන බවය (Death of an elder is like burning a library). යමෙකුට යම් දෙයක් දැන ගැනීමට අවශ්‍ය වූ විට පුස්තකාලයකට ගොස් එම විෂයට අදාළ පොත් කියවා, තොරතුරු මනස තුළ විශ්ලේෂණය කර, කාලය මිඩංගු කර එය උගත යුතුය. එහෙත් බහුශ්‍රැත ප්‍රඥාවන්තයකුගෙන් යමක් ඇසූ විට ඔහු/ඇය අදාළ තොරතුරු තම මනස තුළ විශ්ලේෂණය කර අදාළ සහ අවශ්‍ය දේ පමණක් ක්ෂණයකින් පවසයි. මෙවන් ඇවිදින පුස්තකාල ජීවත් වෙන සෑම දිනක් පාසාම තම ඥානය ඉදිරි පරම්පරාවට දායාද කරති.

මෙම වස්තු බීජය පදනම්ව මගේ පියා වන ගුණපාල වින්ඩ්සර් අනුස්මරණ කෘතියක් ලෙස ආදර්ශ කතා එකතුවක් එළ කිරීමට මට සිත් විය. ආදර්ශ කතා සම්බන්ධයෙන් මා තුළ උනන්දුවක් ඇති කළ එමෙන්ම ඕනෑම ආදර්ශයක් අන් අය වෙත සම්ප්‍රේෂණය කිරීමට කතන්දර යොදා ගත් මගේ පියා, තමන්ටම සිදුවූ දේ ස්වයං උපහාස රසයක්ද සහිතව ඉදිරිපත් කරමින් අන් අයගේ ජීවිත සරු කළ මගේ මනෝවිද්‍යා උපදේශන ගුරුවරයා වූ ගොඩ්වින් මෙන්ඩිස් මහතා, තමාටම ආවේණික නව නිර්මාණාත්මක උපමා ගලේ කෙටුවාක් මෙන් අප මනස තුළ තැන්පත් කළ රත්තණපිටිය සසුන සෙනසුනේ විසූ උත්තම සාධු, අන්තර්ජාලයෙන් සොයා ගත් ආදර්ශ කතා තමාට රිසි සේ සංශෝධනය කර මිතුරන් අතරේ බෙදාහැරි මා මිත්‍ර සපුමල් ඩී. අල්විස් මහතා, අපි එකට කළ පුහුණු කඳවුරුවලදී කතන්දර යොදා පාඩම් කියාදුන් කපිල උපුල් කුමාර මහතා සහ මාගේ ජීවිතයේ ගුරුවරයකු වූ Chicken Soup for the Soul වැනි ආදර්ශ කතාවලට විශේෂ උනන්දුවක් දැක්වූ රොහාන් වීරසේකර සර් වැනි අය මෙම කෘතිය එළි දැක්වීමට ගාමක බලවේගයන් වූ බව කිව යුතුමය.

මෙම කතාවලින් බහුතරය මා විසින් රචනා කළ ඒවා නොවේ. ඒවායින් සමහරක් මගේ පියා වන ගුණපාල වින්ඩ්සර් මහතාට ඇත්තටම සිදු වූ දේ හෝ ඔහු විසින් ගොතන ලද හෝ ඔහු විසින් කියන ලද කතාය. තවත් සමහර කතා මට සිදුවූ සිදුවීම් හා මා ඇසූ දුටු දේවල්ය. තවත් සමහර කතා උත්තම සාධු, ගොඩ්වින් මෙන්ඩිස්, ඊ.ඩබ්. අධිකාරම්, මංජු සුමිත්‍ර ආරච්චි, වජිර මහකණුමුල්ල, කරුණාදාස සූරියආරච්චි, රොහාන් වීරසේකර ආදීන් කියූ කතාය. ජන කතාද වෙනත් ස්වරූපවලින් මෙහි ඇතුළත් කර තිබේ. තවත් සමහර කතා අන්තර්ජාලයේ වෙබ් අඩවිවලින් උපුටා ගෙන අනුවර්තනය කළ කතාය. එමෙන්ම සපුමල්, සුසන් ෂුබට්, ගාමිණී ඒකනායක ඇතුළු මිතුරන් ඊමේල් මගින් එවූ කතාද, මගේ සුපරීක්ෂක රෝයි ශ්‍රී නිවාසන් කියූ කතාද, මෙහි ඇතුළත්ය. තවත් සමහර කතා මා විසින් කියවන ලද මානව සම්පත් කළමනාකරණය, සංවිධාන චර්යාව ආදී විෂයන් පිළිබඳව පොත්පත්වලින් සහ අත්ප්‍රතිකාවලින් සහ මාගේ සොයුරු සම්පත් වින්ඩ්සර්ගේ විශ්වවිද්‍යාල පොත් සහ අත්ප්‍රතිකාවලින් අනුවර්තනය කළ ඒවාය. සඳහන් කළ යුතු විශේෂතම දෙයක් වනුයේ මෙහි ඇති බොහෝ කතා මට අවශ්‍ය පරිදි ඒවායේ මුල් ස්වරූපය විකෘති කොට සකසා ගත් ඒවා බවය.

ඉහත නම් සඳහන් කළ අය හැරුණු කොට මටත් මගේ මල්ලීටත් නංගීටත් පශ්චාත් උපාධි මට්ටම දක්වාම අධ්‍යාපනයක් ලබා දුන් අපගේ මව වන ආචාර්ය ඩල්සි වින්ඩ්සර් මහත්මියද, මා ලියන කතන්දර කියවා යෝජනා සහ විවේචන ගෙනෙන මගේ බිරිඳ චන්ද්‍රිකාද, තාත්තාගේ ආභාසයෙන් මා තරමටම ආදර්ශ කතන්දර යොදාගන්නා මගේ නංගි අප්සරාද සිහිපත් කළ යුතුය. තාත්තාගේ කතාවල ආභාසය පෙන්වන තවත් උදාහරණයකි මගේ මල්ලි සම්පත්, ඔස්ට්‍රේලියාවේදී වැඩිහිටියෝ පිරිසකට මෙහි එන පළමු කතන්දරය වන "කුරුටු ගෑ චිත්‍රය "ආදර්ශ කතාවක් ලෙස කීම. මෙහිලා මගේ දියණිය කියාරා සංජනාද මතක් නොකළහොත් එය අඩුවක් යැයි හැඟේ. මගේ රැකියා ස්ථානය වන ඇමරිකානු තානාපති කාර්යාලයේ මානව සම්පත් කාර්යාලය ප්‍රසිද්ධ කරන සඟරාව හරහා මගේ කතා විවේචනයට ලක් කළ, වැඩි දියුණු කළ ප්‍රධාන කතෘ ප්‍රසාද් රත්නායකත් කර්තෘ මණ්ඩලයේ අමාලි දිසානායකත් හෂෝමි ශ්‍රියංගාවත් මෙහිදී කෘතගුණ සහිතව මතක් කළ යුතුය.

අවසාන වශයෙන් මෙම පොතේ අත්පිටපත් කියවා අදහස් සහ විවේචන ලබා දුන් රොහාන් වීරසේකර, චන්දන කුමාර, රසික මුතුකුමාරණ, කපිල උපුල් කුමාර, බිඟුමල් ජයසුන්දර ආචාර්ය සමන් රණසිංහ, හෂෝමි ශ්‍රියංගා, අමාලි දිසානායක, ප්‍රසාද රත්නායක, සපුමල් ඩී. අල්විස්, සිති අරවින්ද මුතුකුමාරණ, අමිල හේන්දහේවා, එස්. කොඩිකාර යන අයටත් මගේ ස්තූතිය හිමි විය යුතුය. මෙකී නොකී සියලුම ඇවිදින පුස්තකාලයවලට මෙම ගුණපාල වින්ඩ්සර් අනුස්මරණ ආදර්ශ කතා එකතුව උපහාරයක්ම වේවා !.

**- චිරාන් වින්ඩ්සර්**

# පටුන

# 1. කුරුටු ගෑ චිත්‍රය

එකමත් එක ගමක අති දක්ෂ චිත්‍ර ශිල්පියෙක් විසුවේය. දොළොස්වැනි වියෙහි පසුවූ ඔහුගේ දියණිය චිත්‍රයක් ඇඳ එය තම පියාට පෙන්වීමට ගියේ ඔහුගේ අදහස් දැන ගැනීමටයි. තම දුවගේ දක්ෂතාව දුටු පියා මවිතයට පත්වී එවන් අති විශිෂ්ට චිත්‍රයක් පින්තාරු කිරීම ගැන දුවට ප්‍රශංසා කළේය. මෙම චිත්‍රය කිසිඳු අඩුවක් නැති අතිවිශිෂ්ට නිර්මාණයක් බවට තදින්ම විශ්වාස කළ පියා එම චිත්‍රය ගමේ කඩ පොළේ දැන්වීම් පුවරුවේ ප්‍රදර්ශනය කළේය. තවද ඔහු එම චිත්‍රය යටින් "මෙම චිත්‍රයේ අඩු පාඩුවක් යම් අයකුට පෙන්විය හැකි නම් එය කතිරයක් මගින් සළකුණු කරන්න" යැයි අභියෝගාත්මක වැකියක්ද පළ කළේය.

පසු දින උදෑසන චිත්‍ර ශිල්පියා සහ දුව කඩමණ්ඩියට ගියේ කිසිවකුත් චිත්‍රයේ අඩු පාඩුවක් සොයාගෙන නැතුව ඇතැයි යන විශ්වාසයෙනි. එහෙත් ඔවුන්ට දැක ගන්නට ලැබුණේ චිත්‍රය වැසෙන තරමට ලකුණු කර තිබූ කතිර ගොඩකි.

එම චිත්‍රය අඩුපාඩු රාශියක් ඇති ඉතාම පහත් තත්ත්වයේ එකක් බව තීරණය කළ දුව නැවත කිසි දිනක චිත්‍රයක් නොඇඳීමට තීරණය කළාය. එහෙත් තම පියාගේ දැඩි ඉල්ලීම බැහැර කරනු නොහැකිවූ ඇය විසින් කිසිඳු උවමනාවකින් තොරව නැවතත් චිත්‍රයක් අඳින ලදී. උවමනාවකින් තොරව අඳින ලද එම චිත්‍රය පෙර නිර්මාණය මෙන් මහඟු නිර්මාණයක් නොවීය.

මෙම නිර්මාණයද කඩමණ්ඩියේ ප්‍රදර්ශනය කිරීමට පියා යෝජනා කළ විට දුව එම යෝජනාව ප්‍රතික්ෂේප කළේ "තාත්තාට පිස්සුද මේ පාර මිනිස්සු වැඩියෙනුත් එක්ක කතිර ගහලා මට අපහාස කරාවි" යනුවෙන් කියමිනි. එහෙත් තම පියාගේ දැඩි බල කිරීම මත ඇය, තම පියා සමග ගමේ කඩමණ්ඩියට ගියාය. එම චිත්‍රයද කඩමණ්ඩියේ දැන්වීම් පුවරුවේ ඇලවූ පියා එම චිත්‍රය යටින්ද අභියෝගාත්මක දැන්වීමක් අලවන ලදී.

පසු දින සිය පියා සමග දැන්වීම් පුවරුව වෙත දියණිය පැමිණියද ඇයට චිත්‍රය දෙස බැලීමේ උනන්දුවක් නොවිණි. පියාගේ කීම මත චිත්‍රය දෙස බැලූ ඇයට දක්නට ලැබුණේ එක කතිරයක්වත් චිත්‍රය මත නොමැති බවයි. කිසිවක් තේරුම් ගත නොහැකි වූ ඇය මහත් කුතුහලයෙන් තම පියා ලියූ අභියෝගාත්මක වැකිය කියවන ලදී.

එහි ලියා තිබුණේ "මෙම චිත්‍රයේ යම් අඩු පාඩුවක් යම් අයකුට පෙන්විය හැකි නම් එය නිවැරදි කරන්න" යනුවෙනි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්.**

- යමක් කිරීමට වඩා විවේචනය කිරීම පහසුය.
- මුරලිදරන්ට වඩා හොඳට බෝල දැමීමට හැකි, ජයසූරියට වඩා හොඳට පන්දුවට පහරදීමට හැකි, අය ටැක්සි රියදුරන්, වෛද්‍යවරුන්, කරණවෑමියන්, ඉංජිනේරුවන්, කාර්යාල සේවකයන් ආදී වෙනත් රැකියාවන්වල නිරතවන්නේ රටේ අවාසනාවටය.
- පන්දුවක් අල්ලලාවත් නැති අයකුට පන්දු යැවීම විවේචනය කළ හැක. තුවක්කුවක් ඇල්ලීමට වත් නොදන්නා අයකුට යුද්ධය මෙහෙයවීම විවේචනය කළ හැක. විවේචකයා තමා විවේචනය කරන දෙය කිරීමට දැන සිටිය යුතු නැත. චිත්‍රපට විවේචකයෝ ඊට හොඳම උදාහරණයකි.



# 2. කෙසෙල් නොකන වඳුරෝ

විද්‍යාඥයන් කණ්ඩායමක් විසින් කූඩුවකට වඳුරන් පස්දෙනක් දමා කූඩුව මැද වහලේ කෙසෙල් කැනක් එල්ලා එයට නැගීමට ඉනිමගක්ද තබන ලදී. වඳුරකු ඉනිමගට නැගීමට පටන් ගත් සෑම අවස්ථාවකදීම විද්‍යාඥයෝ දැඩි සීතල අයිස්වතුර විද සියලුම වඳුරන් තෙත් කළෝය. මෙසේ කිහිප වතාවක් කළ පසුව එක් වඳුරකු හෝ ඉනිමග නැගීමට උත්සාහ කරන හැම විටකම, අයිස් වතුර නෑමට අකමැති වූ අනික් වඳුරන් ඌට පහර දුණි. මෙසේ කිහිපවරක් කළ පසුව කෙසෙල් ගෙඩි කෑමට කෙතරම් ආශාවක් ඇති වුවද කිසිදු වඳුරකු ඉනිමග නැගීමට තරම් නිර්භීත නොවුණි.

විද්‍යාඥයන් විසින් එක් වඳුරකු කූඩුවෙන් ඉවතට ගෙන අලුත් වඳුරකු ඒ වෙනුවට කූඩුව තුළට දමන ලදී. අලුත් වඳුරා කෙසෙල් ගෙඩි සහ ඉනිමග දැක, වහාම ඉනිමගට නැගීමට පටන් ගත්තේය. එය දුටු අනෙක් වඳුරෝ අලුත් වඳුරාට පහර දුන්හ. මෙසේ කිහිපවරක් ඉනිමග නැගීමට උත්සාහ කොට ගුටි කෑමෙන් අනතුරුව අලුත් වඳුරාද ඉනිමග නොනැග සිටීමට ඉගෙන ගත්තේය. එහෙත් ඉනිමග නොනැගිය යුත්තේ ඇයි?, ඉනිමග නගින විට අනෙක් වඳුරන් පහර දෙන්නේ ඇයි ? ආදියට හේතු, කිසිදා අයිස් වතුර පහර නොකෑ මෙම වඳුරා දැන සිටියේ නැත.

ටික වේලාවකට පසුව අයිස් වතුර කෑ මුල් කණ්ඩායමේ තවත් වඳුරකු එළියට ගෙන ඒ වෙනුවට අලුත් වඳුරකු කූඩුව තුළට දමන ලදී. මෙවරත් අලුත් වඳුරා ඉනිමග නැගීමට තැත් කිරීමේදී අනෙක් වඳුරන් ඌට පහරදුණි. වෙනසකට සිදුවූයේ පසුගියවර අලුතෙන් කූඩුවට දමන ලද කිසිදා අයිස් වතුර පහර නොකෑ වඳුරාද අනෙක් වඳුරන් සමග එක්ව අලුත් වඳුරාට ගුටිබැට දීමයි.

මෙසේ වරකට එක් වඳුරා බැගින් මාරු කර අලුතෙන්ම වඳුරන් පස් දෙනකු කූඩුවට දමන ලදී. ඒ සෑම වතාවකදීම කිසි දිනක අයිස් වතුර පහර නොකෑ සියලුම වඳුරන් ඉනිමග නැගීමට තැත් කළ අලුත් වඳුරාට පහර දෙන ලදී. නමුත් මෙම වඳුරෝ කිසිවෙක් ඉනිමග නැගිය යුතු නැත්තේ ඇයි? කෙසෙල් ගෙඩි නොකෑ යුත්තේ ඇයි? යන්න කිසි විටෙකත් නො දැන සිටියහ. ඔවුහු හුදෙක් එම කූඩුවේ වැඩ කටයුතු කෙරුණු විදිහ මෙය බැවින් ඊට විරුද්ධ නොවී එම චාරිත්‍රය නොකඩවා පවත්වා ගෙන අවෝය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්.**

- අපගේ සංස්කෘතියේත් ආයතනික සංස්කෘතියන්ගේත් ආගම්වලත් මෙවන් ප්‍රශ්න නොකළ වලංගුතාවයක් නැති චාරිත්‍ර සහ පුරුදු කෙතරම් පවතින්නේද?
- නීතිරීති සහ සම්ප්‍රදායන් ඇතිකිරීමට මූලික වූ හේතූන් නැති වූ පසුවත් ඒවා ඉදිරියට පවත්වා ගෙන යාමේ අයෝග්‍යතාවය මින් පිළිබිඹු වෙයි. ඕනෑම දෙයක් තාර්කිකව සහ විමර්ශනාත්මකව ප්‍රශ්ණකිරීමෙන් සමාජයට හා ආයතනයකට කෙතරම් යහපතක් විය හැකිදැයි මෙමගින් පෙන්වා දෙයි.
- කිසිඳු විමසීමකින් තොරව පුරුද්ද නිසා සිදුවන ක්‍රියාවල ඇති අරුත් සුන් බව මෙයින් දැක්වේ.

# 3. ආගමික පූසා

ආරාමයක සිටි භික්ෂූන් වහන්සේලා පිරිසක් සවස් කාලයේ භාවනා කිරීම ආරම්භ කරන විට ආරාමයේ සිටි බළලකු ශබ්ද නගා කෑ ගැසීමට පටන් ගැනීම නිසා භාවනාවට විශාල වශයෙන් බාධා ඇති විය. මෙයට පිළියමක් ලෙස සවස් වරුවේ භාවනාව පටන් ගැනීමට පෙර බළලා ගැට ගසා ගෝනියකට දැමීමට ගුරු හාමුදුරුවන් ගෝලයන්ට උපදෙස් දුන්නේය. මෙම ක්‍රමයට බළලාගේ කෑගැසීම නතර වූ බැවින් දිනපතා භාවනා කිරීමට පෙර බළලා ගැට ගසා ගෝනියකට දැමීම පුරුද්දක් ලෙස මෙම භික්ෂූන් කර ගෙන ගියේය. වසර කීපයකට පසු ගුරුවර භික්ෂුව මිය ගිය නමුත් බළලා ගැට ගැසීම දිගටම කෙරීගෙන ගියේය. තවත් වසර ගණනකට පසුව බළලාද මිය ගිය මුත් අලුත් බළලකු සොයා ගැට ගසා භාවනා කරන ලදී. ශතක ගණනාවකට පසුව එම ගුරුකුළයේ භික්ෂූන් භාවනා කිරීමේදී බළලෙකු ගැට ගැසීමේ ආගමික වැදගත්කම පිළිබඳව විද්වත් ග්‍රන්ථ ප්‍රකාශයට පත් කළ අතර සෑම ආරාමයකම භාවනාව ආරම්භයට පෙර බළලකු සොයා ගෙන ගැට ගසා ගෝනියක දැමීම චාරිත්‍රයක් නොහොත් ආගමික වතාවතක් ලෙස කරගෙන යාමට කාලයාගේ ඇවෑමෙන් පුරුදු විය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ බහුතර මිනිසුන් තමා යමක් කරන්නේ ඇයි දැයි සිතා බලන්නේ නැත. පාරම්පරිකව එලෙසම කරගෙන ආ නිසා නැතහොත් සමාජයේ වැඩිදෙනා එලෙස කරන නිසා ප්‍රශ්න කිරීමකින් තොරව එසේ කරගෙන යයි.
- ☞ මෙම කතාව මට මතක් කරන්නේ කුඩා ළමුන් කරන"පණිවුඩ රිලේ" නම් ක්‍රීඩාවකි. පළමුවැන්නා පණිවුඩයක් දෙවැන්නා ගෙකණට කර කියයි. දෙවැන්නා තුන්වැන්නාටද, තුන්වැන්නා හතරවැන්නාටද වශයෙන් පණිවුඩය රහසින් කියා අන්තිමයා පණිවුඩය ශබ්ද නගා කියන විට එය මුල් පණිවුඩයට වඩා බොහෝ දුරට විකෘති වී ඇත. එසේම යම් චාරිත්‍රයක් ආරම්භයේදී එයට තර්කානුකූලව හේතුවක් තිබුණා විය හැක. එම චාරිත්‍රයට පදනම් වූ හේතුව කාලයත් සමග විකෘති වී ඉදිරියට ආ විට විකෘති වූ පණිවුඩය බැහැර කරනු වෙනුවට ඊට තර්කානුකූල අර්ථකථනයක් දීමට මිනිස්සු උත්සහ කරති.
- ☞ අනවශ්‍ය මිථ්‍යා මත නිසා යම් අයකු හෝ සමාජයක් පීඩාවට පත්විය හැක.
- ☞ ආගමික හෝ සංස්කෘතික වත්පිළිවෙත් හා උත්සව කීයෙන් කීයක් මූලාරම්භයේදී සරල ප්‍රායෝගික ප්‍රශ්නයකට පිළියමක් වශයෙන් ආරම්භවීද? .
- ☞ මෙම කතාව, පරම්පරාවෙන් පරම්පරාවට අපට දායාද කළ චාරිත්‍ර නැවත ප්‍රශ්න කිරීමට පොළඹවයි.
- ☞ විද්වතුන්ට, ඉතාම මෝඩ දෙයක් වුවද විද්වත් දැනුම් සම්භාරයක් ලෙස පෙනෙන සේ ඉදිරිපත් කළ හැක.
- ☞ මෙය බළලුන්ට හිංසා පීඩා කිරීමේ වැරදි ආදර්ශයකි. මට ඒ බළලුන් ගැන අනුකම්පාවක් ඇතිවේ. ඊත් වැඩියෙන් අනුකම්පා කළ යුත්තේ මෝඩ මිනිසුන්ටද ,මිනිසුන්ගේ මෝඩකමින් විපාක විඳින බළලුන්ටද යන්න මට සිතා ගත නොහැක
- ☞ අප බොහෝ දෙනා ජීවිත ගතකරන්නේ මෙසේය. අප බොහෝ දේ යාන්ත්‍රිකව නැවත නැවත කරන්නේ එසේ කරන්නේ ඇයිද? එහි අර්ථය කුමක්ද? යන්න පිළිබඳව සිතීමකින් තොරවය.
- ☞ මිනිසුන් ප්‍රශ්න නොකිරීම ඇත්තටම පුදුම සහගතය.

# 4. බොරුවක් වූ සත්‍යයේ දොරටුව

එක් රජතුමෙක් බොරු කීම තදින්ම අප්‍රිය කළ අතර තම රට වැසියන්ට සත්‍ය කීමට බලකරන යන්ත්‍රණයක් සෑදීමට තීරණය කළේය. එක් දිනක් නගරයේ ගේට්ටු විවෘත කරන විට ඒ අසල එල්ලුම් ගසක් තනා තිබෙණු රට වැසියන්ට දක්නට ලැබුණි. නගරද්වාරය අසල විශාල අකුරින් දැන්වීමක් ගසා තිබුණි. එහි ලියා තිබුණේ "මෙම දොරටුවෙන් ඇතුලු වන සියලු දෙනාගෙන්ම ප්‍රශ්නයක් අසනු ලැබේ. එම ප්‍රශ්නයට සත්‍ය ප්‍රකාශ කරන අයට නගරයට ඇතුලු වීමට අවසර ලැබෙන අතර, අසත්‍ය ප්‍රකාශ කරන අය එල්ලා මරා දමනු ලැබේ" යන්නයි. මෙය ක්‍රියාත්මක කිරීමට හමුදා භට කණ්ඩායමක්ද , යොදා තිබුණි. නගරයට ඇතුලු වීමට බලාසිටි පිරිස අතරින් නසරුදීන් මුලින්ම නගර දොරටුව වෙත ගියේය. හමුදා භට කණ්ඩායමේ අණ දෙන නිලධාරියා ප්‍රශ්නයක් ඇසුවේය. "ඔබ කොහේද යන්නේ?" "මම අර පෙනෙන එල්ලුම් ගහේ එල්ලා මැරෙන්ට යනවා" නසරුදීන් පිළිතුරු දුණි. "මට ඔබව විශ්වාස කරන්න බෑ" අණ දෙන නිලධාරියා පැවසීය. "බොහොම හොඳයි එහෙනම් මම බොරුවක්නේ කියලා තියෙන්නෙ, එහෙනම් මාව එල්ලා මරන්න" නසරුදීන් තැන්පත්ව පිළිතුරු දුණි. "නමුත් මම ඔබව එල්ලා මැරුවොත් ඔබ කී දෙය සත්‍යයක් වෙනවා" හමුදා සෙබළා කීවේය. "සත්තකින්ම" නසරුදීන් පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- මෙම කතාව සත්‍යයේ සාපේක්ෂ බව පෙන්වයි. එක් අයකුට සත්‍ය දෙය තවත් අයකුට අසත්‍යයකි. එක් මොහොතක සත්‍ය වන දෙය තව වෙලාවක අසත්‍යයකි. එක් රටක, ආගමක, ගුරුකුලයක සත්‍ය තවත් රටක, ආගමක, ගුරුකුලයක අසත්‍යයකි.
- එකම ප්‍රශ්නයට පිළිතුරු ගණනාවක් ඇත. උදාහරණයක් ලෙස එකයි එකයි එකට එකතු කරහම,එක, දෙක, තුන, එකොළහ, එකසිය එකොළහ ආදී විවිධ පිළිතුරු ලැබෙනුයේ පිළිතුරු දෙන්නා එකම ප්‍රශ්නය දෙස බලන විවිධ දෘෂ්ටි කෝණ නිසාය. මෙම පිළිතුරු සියල්ලම නිවැරදිය, සත්‍යයය.
- මෙය ද්වීකෝටිකයකි - උණු නිසා බොන්නත් බෑ කැඳ නිසා විසිකරන්නත් බෑ වැනි තත්ත්වයක් උද්ගතව ඇත.
- පාලකයෝ/කළමනාකරුවෝ නීති හැදීමේදී විවිධ දෘෂ්ටිකෝණවලට ගරු කළ යුතුය. තමාගේ දෘෂ්ටියම නිවැරදි යැයි සිතා වැඩ නොකළ යුතුය.

# 5. හිමකිරම බඳුන්

පාසලෙන් ඉවත් වී රැකියාවල නිරතවන තරුණ පිරිසක් තමන්ට පාසලේදී ඉගැන්වූ දැනට විශ්‍රාම සුවයෙන් පසුවන මුල් ගුරුතුමා හමුවීමට ගියහ. ඔවුන් කතාබහ කරන අතර වැඩිපුරම කතා වුණේ තම කාර්ය බහුල ජීවිතවල ඇති ආතතිය පිළිබඳවයි.

ගුරුතුමා තම පරණ ගෝලයන්ට සංග්‍රහ කිරීමට විශාල අයිස් ක්‍රීම් බඳුනක් සහ විවිධාකාර කෝප්ප රාශියක් ගෙන ආවේය. මෙම අයිස්ක්‍රීම් කෝප්ප පෝසිලේන්, වීදුරු, පලිඟු, රිදී, රත්තරං, ප්ලාස්ටික් ආදි විවිධ අමුද්‍රව්‍යවලින් නිමවා තිබුණු අතර සමහර ඒවා මල් වැඩ දමා අලංකාර පෙනුමෙන්ද සමහර ඒවා සාමාන්‍ය පෙනුමෙන්ද යුක්ත විය. සමහර කෝප්ප මිල අධික බව පෙනුණු අතර තවත් ඒවා ලාභ කෝප්ප බව පෙනුණි. ගුරුතුමා තමාට කැමති කෝප්පයක් ගෙන අයිස් ක්‍රීම් බෙදා ගන්නා ලෙස සිසුන්ට පැවසීය.

සියලු දෙනාගේම අතේ අයිස් ක්‍රීම් කෝප්පය බැගින් තිබෙන විට ගුරුතුමා මෙසේ පැවසීය. "බලන්න ඔක්කොම අලංකාර, මිල අධික කෝප්ප අරගෙන, ඉතිරිවෙලා තියෙන්නේ ලාභ සාමාන්‍ය පෙනුමෙන් යුක්ත කෝප්ප විතරයි, හොඳම දේ ගැනීම සාමාන්‍ය දෙයක් වුවත් ඒකම තමයි ඔයාලගේ ආතතියට හේතුවත්. ඔබ කන අයිස් ක්‍රීම්වලට ඔබගේ කෝප්පය නිසා කිසිදු අගයක් එකතු වෙන්නේ නෑ. බොහෝ විට එයින් සිදුවන්නේ මිල වැඩි වීම පමණයි. ඔබ සියලු දෙනාටම ඕන උනේ අයිස් ක්‍රීම් මිස කෝප්ප නෙවෙයි. නමුත් ඔබ අවිඥානිකව හෝ සවිඥානිකව හෝ හොඳම කෝප්ප තෝරා ගත්තා. ඊට පස්සේ ඔබ අනිත් අයගේ කෝප්පවලටත් ඇස් යොමු කරා. ජීවිතය අයිස් ක්‍රීම් ලෙසත් ඔබගේ රැකියාව, මුදල් සමාජ තත්ත්වය ආදිය කෝප්ප ලෙසත් සිතන්න. මේවා ජීවිතය දරා සිටින මෙවලම් පමණයි. කෝප්පය ඔබගේ ජීවන ප්‍රමිතිය වැඩි කරන්නේවත් වෙනස් කරන්නේවත් නෑ. සමහරක් විට අප කෝප්ප ගැන අවධානය යොමු කිරීම හේතුවෙන් අයිස් ක්‍රීම් රස විඳීමට බැරිවෙනවා. තෘප්තිමත්, ප්‍රීතිමත් මිනිසුන් සෑම දෙයකින්ම හොඳම දේ ලබා ගෙන නෑ. ඔවුහු තමා සතු සෑම දෙයක්ම හොඳම දේ බවට පත් කර ගනිති."



**මෙම කතාව පිළිබද විවිධ අදහස්**

- සරලව ජීවත් වන්න, ඔබගේ අයිස් ක්‍රීම් රසවිඳින්න.
- Richest Man is not the man with most money but the man with least amount of needs.
- ලද දෙයින් සතුටු වන්න
- බාහිර ආටෝපයන්ට නොඇලෙන්න
- අපගේ ජීවිත වල සාර්ථකත්වය නාවැරදි තෝරාගැනීම/තීරණගැනීම් මත රඳා පවතී.

# 6. බක්මහ අකුණ

එළිමහන් නායකත්ව සහ කළමනාකරණ පුහුණු ක්‍රමයක් භාවිත කරන ආයතනයක පුහුණුකරුවෙක් ලෙස මම කලක් වැඩ කළෙමි. පුහුණුකරුවන් පුහුණු කිරීම් වැඩමුළුවක් අප්‍රේල් මාසයේ කුරුණෑගලදී පැවැත්වුණු අතර මූලික පුහුණුකරු ලෙස ඇමරිකානු ජාතිකයෙක් ක්‍රියා කළේය.

Outdoor Based Trainnig (OBT) පුහුණු වැඩමුළුව ආරම්භයේදීම විනාඩි 30ක පමණ කෙටි දේශනයක් පැවත්වූ ඔහු අපගේ පුහුණුකරුවන් තුළ තිබිය යුතු ධෛර්යය හා ඕනෑම දේකට බිය නොවීම, සමූහයක් ලෙස තිබිය යුතු එකමුතු බව ආදිය විස්තර කළේය. මේ අතර හදිසියේම වර්ෂාවක් කඩා වැටුණු අතර ඊළඟට නියමිතව තිබුණේ එළිමහනේ කරන ක්‍රීඩාවකි. ඇමරිකානු ජාතිකයා කීවේ OBT පුහුණුකරුවන් වැස්සට අව්වට බය නැති බවත්, වැස්සට අපට බාධා කළ නොහැකි බවත්, අපි ශාලාවෙන් එළියට ගොස් ක්‍රීඩාවේ නිරත විය යුතු බවත්ය. මෙහිදී මගේ සිතට එක්වරම ආ අදහස වූයේ කුරුණෑගල යනු අකුණු සැර වැදීම් අධික පළාතක් බවය. එමෙන්ම අප සිටි පුහුණු මධ්‍යස්ථානය පොල් ගස් අධික එකක් වූ බැවින් අකුණු සැර වැදීමේ අවධානම ඉතා අධික බවත් මට සිතුණි. එමෙන්ම දැඩි සීතලක් සහ තද වර්ෂාවක් තිබූ බැවින් නිව්මෝනියාව, උණ ආදි රෝගවලටත් කණ්ඩායමේ අය බඳුන් විය හැකි බවත් මට සිතුණි. එහෙත් මම මගේ අදහස් එළිපිට ප්‍රකාශ කිරීමෙන් වැළකී සිටියේ කණ්ඩායමේ අනිත් අය වැස්සේ ක්‍රියාකාරකම් කිරීමට කැමති විය හැකියැයි සිතූ නිසාත් මෙම අදහස ප්‍රකාශ කළහොත් මා බයගුල්ලකු සහ දියතලියේ කිඹුලන් දකින ජාතියේ අයකු යැයි කණ්ඩායමෙන් කොන් විය හැකිය යන බිය නිසාත්ය. යම් අනතුරුදායක තත්ත්වයක් ඇති බව වැටහුණත්, “මැරුණොත් මැරිච්චදෙන්” කියා සිතූ මම ද කණ්ඩායමේ අනිත් අය සමග මහ වැස්සේ තෙමී තෙමී ක්‍රියාකාරකම්වල නිරත විය. ක්‍රියාකාරකම අවසානයේ අප සියලු දෙනා රවුමක් ලෙස සිටගත්තේ මඩ වලක් මැදිවන ආකාරයටය. රවුමේ මගේ ප්‍රතිවිරුද්ධ පැත්තේ මුහුණට මුහුණලා සිට ගෙන සිටියේ අපගේ ඇමරිකානු ජාතික පුහුණුකරුවාය. ඔහුට අඩි දහයක් පමණ පිටු පසින් පොල් ගසක් තිබුණි . හදිසියේම මහා හඬක් නංවමින් පොල් ගසේ මුලින් අඩි දෙකක් පමණ උඩට අකුණු සැරයක් පහත් විය. පොල් ගසේ කඳ පිච්චී කෑලි විසිවී ගිය අතර අප පුහුණුකරුට සිදුවූයේ කුමක්දැයි සිතා ගැනීමටත් තරමක වේලාවක් ගත වුණි. සියල්ල සිදුවූවාට පසු සියලු දෙනාටම හිස අල්ලාගෙන පහත් වන ලෙසටත් ඉන් අනතුරුව ශාලාවට දිව යන ලෙසටත් ඔහු නියෝග කළේය. වැරදිලාවත් අකුණු සැරයේ විදුලිය මඩ වල දිගේ ගලා ආවා නම් කිහිප දෙනකුටම මරණය අත්වීමට ඉඩ තිබුණි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- මිනිසුන් ඇත්ත වශයෙන්ම බිය වුවත් තමන් බය බව සමාජයට නොපෙන්වා නිර්භීතයකු ලෙස හැසිරෙන්නට යන්නේ සමාජය තමා ගැන දකින විදිහ, තම ප්‍රතිරූපය පවත්වා ගැනීමේ අවශ්‍යතාවය නිසා නොවේද?
- සමහර විට කණ්ඩායමේ බහුතරයක් හෝ අවම වශයෙන් තවත් සෑහෙන දෙනෙක් හෙණ ගහන වෙලාවේ එළියට යෑමට බිය වුවා විය හැක. එහෙත් එක් ප්‍රබල ජනමත නායකයකුගේ මතය සහ ඔහුගේ මතයට කණ්ඩායමේ තවත් අය ද එකඟ වන බවට කරන ලද උපකල්පනය හේතුවෙන් තම අදහස සිත තුළම තබා ගෙන සිටියා විය හැක.
- සමූහ චින්තන සහලක්ෂණය / ධර්මතාවය (Group think syndrome ) යනු කණ්ඩායමක් තුළ ඇති වන කණ්ඩායමේ මතයට විරුද්ධ මතයක් ප්‍රකාශ කිරීමට වඩා කණ්ඩායමේ අන් සාමාජිකයන්ගේ අනුමැතිය වැදගත් වීම නිසා ඇති වන තත්ත්වයකි. මෙහි ප්‍රතිඵලයක් ලෙස කණ්ඩායම වැරදි සහ හානිකර තීරණ ගත හැක. මෙම සංකල්පය ඉදිරිපත් කළේ Irving Janis නැමැත්තාය. සමූහයේ පිළිගත් මතයන්ට එකඟ වීම නව අදහස්වලට වඩා ඉහළ තැනක් ගනී. යම් සාමාජිකයෙක් කණ්ඩායමේ මතයට විරුද්ධවන්නේ නම් ඔහු අසාමාන්‍ය අයකු, කණ්ඩායමට පිටින් ක්‍රියාකරන්නක හා ද්‍රෝහියකු ලෙස

සලකයි. දැඩි කණ්ඩායම් හැඟීමක් ඇති කණ්ඩායමක් තුළ කණ්ඩායමේ පිළිගත් ධර්මතා හා අපේක්ෂිත හැසිරීම් අනුව ක්‍රියා කිරීමට සාමාජිකයන්ට දැඩි පීඩනයක් එල්ල වේ. කණ්ඩායම ගන්නා පොදු මතයක් ඉතාමත් වැරදි සහ හානිකර මතයක් ලෙස යම් සාමාජිකයෙක් දුටුවත් ඔහු/ඇය එම තීරණය ගැන අවිනිශ්චිතතාවයන් ප්‍රකාශ කිරීමට පසුබට වේ. එම නිසා නිශ්ශබ්දතාවය සියලු දෙනාගේම එකඟතාව ලෙස පෙනී යයි. අවස්ථානුකූල පසුබැසීම, නායකත්වයට බාධාවක් නොවේ. අවස්ථානුකූල තීරණ ගැනීම සාර්ථකත්වය ලගාකරගැනීමට මෙන්ම එහි රඳා පැවැත්මටද උපකාරී වේ.

☞ කණ්ඩායමේ පිළිගත් ධර්මතාවලට එකඟ වීම හෝ ගඟ ගලන අතට යෑම කණ්ඩායමේ එකමුතුවට හේතු වේ. මෙවිට කණ්ඩායමේ මත ප්‍රශ්න කිරීම්වලට ලක් වීම හෝ මත භේද ඇතිවීම සිදු නොවේ. මතභේද හා ගැටුම් අපගේ සවනට අමිහිරි වචන වන අතර කණ්ඩායම් එකමුතුව හා සමගිය මිහිරි වදන් වේ. නමුත් තද සමගියක් ඇති, 'අපි' හැඟීම ඉතා වැඩි, කණ්ඩායම් ධර්මතාවලට එකඟ වන, සමූහ බොහෝ විට නරක තීරණ ගනී. මෙම හැසිරීම් උගුල Irving Janis හඳුන්වන්නේ සමූහ චින්තන සහලක්ෂණය (Group Think Syndrome) ලෙසය. මෙහි රෝග ලක්ෂණ 8ක් ඇත.

**1. අපරාජිත මායාව**
කණ්ඩායම තමන් Invulnerable හෙවත් පරාජය කළ නොහැකි සුරක්ෂිත සමූහයක් ලෙස දකී. අධික ශුභවාදී ධනාත්මක චින්තනයකට පෙළඹෙන අතර අනවශ්‍ය තරමටම අවදානම් දරයි.

**2. අනතුරු අවතක්සේරුව**
කණ්ඩායම තමන්ට පෙනෙන්නට ඇති තර්ජන, අනතුරු හැඟවීම් ආදිය අවතක්සේරු කර බැහැර කරයි.

**3.සාදාචාරාත්මක බවේ විශ්වාසය**
. තම තීරණ අත්‍යවශ්‍යවම සහ ස්වභාවයෙන්ම සාදාචාරාත්මක සහ නිවැරදි බවට විශ්වාස කරයි. "අපි කොහොම ද වැරැද්දක් කරන්නේ" යැයි සිතා වැරදි /සදාචාරාත්මක නොවන තීරණයක්ය යන සිතිවිලි බැහැර කරය.

**4.ඒකාකෘතකරණය**(Stereotyping)
කණ්ඩායමෙන් පිටත විරුද්ධවාදීන් නපුරු මෝඩ සහ දුර්වල අය ලෙසත්, ගණන් ගත යුතු නැත අය බවටත් ඒකාකෘතකරණය/එක අච්චුවකට දැමීම කරයි.

**5. සෘජු පීඩනය**
යම් කණ්ඩායම් සාමාජිකයකු කණ්ඩායමේ පවත්නා තත්ත්වය ප්‍රශ්න කිරීමට තරම් අවංක හා නිර්භීත වුවහොත් සමූහයේ ධර්මතාවලට එකඟව වැඩ කිරීමට සෘජු පීඩනයක් යොදයි.

**6. ස්වයං වාරණය**
සාමාජිකයන්ට සැකයක් ඇති වුවත් තමන්ටම අදහස් ප්‍රකාශ කිරීමේ වාරණයක් පනවා ගන්නා අතර එකඟතාවක් ඇතැයි යන පෙනුම ආරක්ෂා කර ගනී.

**7. ඒකච්ඡන්ද මිත්‍යාව**
නිශ්ශබ්දතාවය, එකගතාව ලෙස දකින නිසා ඒකීය තීරණයක් යන වැරදි චිත්‍රයක් ඇත.

**8 .දොරටුපල්ලන්**
කණ්ඩායමේ සමහරු මානසික ආරක්ෂකයන් හෙවත් දොරටුපාලයන් බවට තමන්ව පත් කර ගෙන පිටස්තර තර්ජනාත්මක හෝ අභියෝගාත්මක තොරතුරු කණ්ඩායම ඉදිරියට ඒම වළක්වයි.

☞ 1961 ජනාධිපති කෙනඩි සහ ඔහුගේ උපදේශකවරු කියුබාවේ Bay of Pigs ආක්‍රමණය තුළින් වැරදි තීරණයක් ගත් බව පෙනුණි. මින් ඇමරිකාව පරාජයටත්, ලජ්ජාවටත් පත් විය. මෙම තීරණයේදී සමූහ චින්තන සහලක්ෂණයේ ලක්ෂණ රාශියක් දක්නට ලැබුණි. ඔවුන්

- සතුරා දුර්වල ලෙසත් ගණන් ගත යුතු නැති කෙනෙක් ලෙසත් දුටුවේය.
- තම සැබෑ හැඟීම් හා අන්තර්ඥානය , ආදියට ස්වයං වාරණයක් පනවා ගත්තේය.
- කණ්ඩායමේ පොදු තීරණය විවේචනය කළහොත් තමන් දුර්වලයකු ලෙස දකීවිය යන බිය තිබුණි.
- ජනාධිපති ජෝන් කෙනඩි වැනි බලපාන සුළු සහ ආක්‍රමණශීලී පෞරුෂයක් ඇති අයගේ මත තීරණයට බලපෑවේය.
- පිටතින් පැවති දත්ත හා විකල්ප නොසැලකීය. මෙම උපදේශක පිරිසම 1962 කියුබානු මිසයිල අර්බුදය අවස්ථාවේදී ප්‍රති- සමූහ චින්තන උපක්‍රම යොදා ගනිමින් වඩාත් හොඳ තීරණයක් ගත්තේය. එහිදී ඔවුන් කණ්ඩායමට නව දෘෂ්ටි කෝණ ලබා දීමට පිටතින් තවත් අලුත් සාමාජිකයන් බඳවා ගන්නා ලදිකෙනඩි ජනාධිපතිතුමා රැස්වීම්වලට සහභාගිවීමෙන් වැළකී සිටියේ තම මතය ඉස්මතු වී තමාම සාකච්ඡාවට නායකත්වය දීමෙන් වැළැක්වීමටය. තාර්කික විශ්ලේෂකයකු ලෙස හෝ නිතරම විරුද්ධ අදහස් මතු කරන්නක (Devil's advocate) ලෙස හෝ කණ්ඩායමේ සාමාජිකයන් කිහිප දෙනෙකුම උවමනාවෙන්ම පත් කරන ලදී.

☞ අවස්ථානුකූලව පසු බැසීම නායකත්වයට බාධාවක් නොවේ. අවස්ථානුකූලව තීරණ ගැනීම සාර්ථකත්වයට පමණක් නොව රඳා පැවැත්මටද බලපායි.

# 7. තාපසයාගේ අමුඩය

එකෝමත් එක කාලයක දඹදිව වනවාසී තාපසයෙක් අල්පේච්ඡතාව පුහුණු කරමින් සිටියේය. කැලෑවක ගල් ගුහාවක වාසය කළ මොහු සන්තකයටම තිබූ එකම වස්තුව වූයේ විළි වසා ගැනීම සඳහා වූ අමුඩ ලේන්සු දෙකක් පමණි. ඔහු එක අමුඩ ලේන්සුවක් ඇඳ එය කිළිටි වී සෝදන විට අනිත් අමුඩ ලේන්සුව ඇඳ ගනී. ඔහු වෙසෙන කැලෑව හරහා විශාල වන්දනා නඩ යන බව තාපසයාට වැටහුණි. මෙම පිරිස් කොහේ යන්නේදැයි කුකුසක් උපන් තාපසයා දිනක් වන්දනාකරුවකු නවත්වා ඔවුන් යන්නේ කොහේදැයි විමසීය. වන්දනාකරු කීවේ කැලයෙන් එපිට නුවර ජනක රජතුමා අල්පේච්ඡතාවෙන් ජීවත් වන බව තමන් එතුමාව බැහැ දැකීමට යන බවත්ය. තමන් ජනක රජුටත් වඩා අල්පේච්ඡතාවෙන් ජීවත් වන බව කීවත් වන්දනාකරුවෝ තාපසයාට හිනාවී තම ගමන ගියහ. මෙසේ ටික දවසක් ගතවූ පසු සියලු සැප සම්පත් සපිරි රජකු තමාට වඩා අල්පේච්ඡ ජීවිතයක් ගත කරන්නේ කෙසේදැයි සිතූ තාපසයා ජනක රජු බැහැ දැක ඔහුගේ ප්‍රසිද්ධියේ රහස දැන ගැනීම සදහා පිටත් විය. දින දෙකක ගමනකින් පසු උදේ වරුවක ඔහු රජ මාලිගාවට පැමිණ රජතුමා බැහැදැක්කේය. රජතුමා සතුටු සාමීචි කතා කොට තාපසයා කැමති රජ මාලිගය තුළ කතා කිරීමටද එසේ නැතහොත් රජ උයනට ගොස් කතා කිරීමටදැයි විමසීය. තාපසයාගේ කැමැත්ත අනුව උයනට ගොස් ගසක් යට වාඩිවී දෙදෙනා අල්පේච්ඡතාව ගැන කතා කිරීමට පටන් ගත්හ. ටික වේලාවකින් රජ මාලිගාව දෙසින් දුමක් නගින බව ඔවුනට පෙනුණි. විමසා බලන විට පෙනී ගියේ රජ මාලිගය ගිනි ගන්නා බවය. ජනක රජතුමා කලබල නොවී දිගටම කතාව කරගෙන ගියේය. එහෙත් තාපසයා කලබලයට පත් විය. ඒ ඔහුගේ අතිරේක අමුඩ ලේන්සුව මාලිගාවේ දමා ආ බව සිහිපත් වීමෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්.**

☞ යම් වස්තුවකට ඇති බැඳීම පවතින්නේ සිතේය. කෙතරම් වස්තුව තිබුණත් ඒවාට බැඳී ඇලී ගැලී නැත්නම් අඩු බලාපොරොත්තු (අල්ප-ඉච්ඡා) සහිත ජීවිතයක් ගත කළ හැක.

☞ මෙම කතාවේ තාපසයා අල්පේච්ඡ නැත. එහෙත් යම් හෙයකින් තාපසයා අල්පේච්ඡ ජීවිතයක් ගත කළද මිනිසුන් වැඩිපුර කතා කරනු ඇත්තේ ජනක රජු ගැනය. මෙහිදී මිනිසුන් සතු මූලික ලක්ෂණයක් පෙනේ. එනම් යම් අයකු ධනවත්ව, බලවත්ව සිට ඒවා අත්හැර මහණකම වැනි දෙයකට ජීවිතය කැප කළ විට, එය වර්ණනා කිරීමයි. උදාහරණ ලෙස සිදුහත් කුමරුන් සක්විති රජකම අත්හැර මහණ වීම ලොකු දෙයක් ලෙස මිනිස්සු දකිති.

☞ රජතුමාට සමහරවිට තවත් මාලිගා සහ වස්තුව ඇත. එමනිසා මෙවැනි සුළුදෙයකට රජතුමා කලබල නොවීය. නමුත් අතිරේක අමුඩ ලේන්සුව යනු තාපසයා සතු වස්තුවෙන් හරිඅඩකි. ඔහු හා අපු අයත් වූ කළබලවල වෙනස මෙය විය හැකිය.

☞ අඩු බලාපොරොත්තු යන්නට සීමාවක් දිය හැකිද? එය සාපේක්ෂය එහෙත් සරලව සැහැල්ලුවෙන් ජීවත්වීමට අඩු බලාපොරොත්තු රුකුලකි.

# 8. කොටවූ දිග කලිසම

මම අටේ පන්තිය පසු කර නව වන පන්තියට යන ඇවුරුද්දේ පළමු වරට පාසලට දිග කලිසම් ඇඳීමට ලැබෙන දිනය එනතුරු පුළ පුළා බලා සිටියෙමි. මගේ පියාගෙන් ලැබුණු මුදල්ද රැගෙන එක පිම්මේ ටේලර් සාප්පුවට දුවගෙන ගිය මම, මගේ මිම්ම ගන්නා ලෙස ටේලර්ට පැවසුවෙමි. මීට මාස කීපයකට පෙර මට කලිසමක් මැසීමට ගත් මිම් ඔහු ළඟ ඇති බව පැවසූ ටේලර් කෝකටත් කියා එම මිම් නැවතත් පරීක්ෂා කර බලා සතියකින් එන ලෙසට පැවසීය. මම ඇඟිලි ගනිමින් සිට සතිය පිරුණු වහාම ටේලර් සාප්පුවට දිව ගියේ කලිසම ගෙන ඒමටය. කලිසම ඇඳ බලා ගෙන යන ලෙස ටේලර් කීවත් මට තිබූ කලබලයට ගෙදර ගොස් ඇඳ බලන්නම් යැයි පවසා එක පිම්මට ගෙදර දිව ගියේය. ගෙදර ගොස් කලිසම ඇඳ බලන විට මට වැටහුණේ කලිසම අඟල් දෙකක් දිග වැඩි බවයි. නැවත ටේලර් හමුවීමට යාමට මැළිවුණු මම අම්මා සොයා ගොස් ඇයට කලිසමේ කකුල් දෙක අඟල් දෙකකින් කොට කර දීමට හැකිදැයි විමසුවෙමි. තමා උයන බවත් උයා ඉවර වෙලා වෙලාව තිබුණොත් කොට කරන්න බලන්නම් යැයි ද, ඇය පැවසුවාය. එතෙක් බලා සිටීමට ඉවසිල්ලක් නොතිබූ මම අක්කා සොයා ගියෙමි. අක්කා කීවේ ඇය නවකතාවක් කියවන බවත් එය ඉවර කළොත් කලිසම කොට කර දිය හැකි බවත්ය. මේ වන විට ඉච්ඡාභංගත්වයට පත්ව සිටි මම ආච්චි සොයා ගියේ මගේ වාසනාව උරගා බැලීමටය. ගෙත්තමක් කරමින් සිටි ආච්චි කීවේ එය අවසන් කර කලිසම කොට කර දිය හැකි බවය. තමන් හිසට තම අතමය සෙවනැල්ල යැයි සිතූ මම නූලක් සහ ඉඳිකට්ටක් ගෙන කලිසමේ කකුල් අඟල් දෙකකින් කොට කරගතිමි. පසුදින උදෑසන මගේ අලුත් කලිසමත් ඇඳගෙන පාසල්යාමට සැරසුණු මට දක්නට ලැබුණේ කලිසම කොට කලිසමකට ආසන්න මට්ටමකට කොටවී ඇති බවය. ගෙදර හැමෝම රැස් කර මේ ගැන විමසූ මට දැනගන්නට ලැබුණේ අම්මාත්, අක්කාත්, ආච්චිත් තම තමන්ගේ වැඩ අවසන් වූ පසුව, මගේ ඉල්ලීම මතක්වී කලිසම කොට කිරීමේ නිරත වී ඇති බවයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- මෙම කතාව සම්බන්ධීකරණයේ වැදගත්කම පෙන්වයි.
- තමා වැඩේ කළ පසු අන් අයට ඒ බව දැනුම් දුන්නා නම් මෙම අවුල වෙන්නේ නැත. සන්නිවේදනයේ වැදගත්කම එයයි.
- තාත්තාට කලිසම කොට කිරීමට කියා නොකීවේ ඇයි? ඇඳුම් මැසීම කාන්තාවන්ට පමණක් අයිත භූමිකාවක්ය යන සමාජ මතය නිසාද?
- අප යමක් කිරීමට පෙර එය එසේ කළ යුත්තේ ඇයි දැයි තේරුම් ගෙන සිටිය යුතුය. අඟල් දෙකක් කොට කිරීමට කියූ පමණින් එසේ නොකොට මිනුම් ගෙන කළ යුතුදේ අවබෝධ කර ගත්තා නම් මෙසේ වන්නේ නැත.
- මෙය කියවන විට සම්බන්ධීකරණය පිළිබඳ කවියක් මතක් වේ.අප ජන වහරෙ එන මෙම කවියෙන් සම්බන්ධීකරණය (Coordination) ගැන වැදගත් පාඩමක් කියා දෙයි.දුන්නත් ඊතලයත් තිබිය යුත්තේ සහ රාල සිටිය යුත්තේ සබරගමුවේ මිස තැන් තැන්වල නොවේ.

  දුන්න දුනු ගමුවේ - ඊතල කිතල ගමුවේ
  රාල මීගමුවේ - මුවෙක් හැඬුවයි සබරගමුවේ

# 9. පැරෂුට් පූසෝ

1959 වසරේදී බෝර්නියෝ දූපතේ දයාක් වැසියන් අතර මැලේරියා වසංගතය පැතිරුණි. මැලේරියාව පැතිරෙන්නේ මදුරුවන්ගෙන් බැවින් ලෝක සෞඛ්‍ය සංවිධානය මදුරුවන් විනාශ කිරීමට ගුවන් යානා යොදා අහසින් DDT ඉසින ලද්දේ දෙවරක් නොසිතාය. DDT ගැසූ විට මදුරුවන් මැරුණි. මැලේරියා වසංගතයද පාලනය විය. බෝර්නියෝ වැසියෝ සතුටු වූහ.

ටික කලක් යන විට දයාක් වැසියන් නැවතත් ශෝකයට පත්වූයේ ඔවුන්ගේ ගෙවල්වල කුස තණවලින් සෑදූ වහලවල් දිරාපත්ව තම හිස මත කඩා වැටීමට පටන් ගැනීමේ හේතුවෙනි. මීට මූල හේතුව සොයා බලන විට පෙනුණේ කුස තණ කා දමන කෘමියකු කා ජීවත් වන පරපෝෂිත දෙබරුන් විශේෂයක්ද DDT ඉසීමෙන් විනාශ වී යාම නිසා කුස තණ කන කෘමීන් වර්ධනය වී වහලවල් කා දමා ඇති බවය. මෙම ප්‍රශ්නයට පිළියම් ලෙස බලධාරීන් දෙවරක් නොසිතාම දයාක් වැසියන්ට ටකරන් වහලවල් ගසා දුණි. නැවතත් දයාක් වාසීහු ප්‍රීතියට පත්වූහ.

එහෙත් එම ප්‍රීතිය වැඩි කලක් තිබුණේ නැත. මෝසම් වැසි කාලය පටන් ගැනීමත් සමඟම ටකරන් වහලවල් සංගීත භාණ්ඩ මෙන් නද දෙන්නට පටන් ගත් නිසා දයාක් වාසීන්ට රෑට නිදා ගැනීම අතහැර දමා පැදුරු සාජ්ජ දැමීමට සිදුවිය.

මේ අතර දයාක් වාසීන්ගේ ගම්වල බළලුන් අරුම පුදුම ලෙස මිය යාමට පටන් ගති. මීට මූල හේතුව සොයා යන විට පෙණුනේ කෘමීන් කා ජීවත් වන කුඩා කටුසු වර්ගයක් ඊට හේතුවන බවය. කෘමීන්ගේ ශරීරවලට DDT ඇතුල් වීම නිසා කෘමීන් කන කටුස්සන් තුළටද විස ඇතලු විය. උන් මිය ගියේ නැතත් උන්ගේ ක්‍රියාශීලීත්වය අඩුවී වේගයෙන් දිවීමේ හැකියාව නැතිවී ගිය බැවින් බළලුන්ට තම ප්‍රියතම ආහාරය වන කටුස්සන් ඉතා පහසුවෙන් අල්ලා ගත හැකි විය. විෂ සහිත කටුස්සන් කෑ බළලුන් මිය යාම නිසා මීයන් රංචු පිටින් බෝවීමට පටන් ගති. මීයන් පැතිර යාමත් සමඟම මහාමාරියා වැනි මීයන්ගෙන් පැතිරෙන වසංගත රෝග කීපයක්ම පැතිර යාමට පටන් ගත් හෙයින් දයාක් වාසීන් නැවතත් දුකට පත්වුණි. මීට විසදුම් ලෙස බලධාරීන් වෙනත් ප්‍රදේශවලින් බළලුන් දයාක් ප්‍රදේශයට නැව්වලින් ගෙන ආ අතර විශේෂ පෙට්ටි වර්ගයක දමන ලදුව පැරෂුට් මගින් ගුවනින්ද බළලුන් දමන ලදී. පැරෂුට් බළලුන්ගේ ආගමනයත් සමග මීයන් වඳවී දයාක්වාසීන් නැවතත් සතුටට පත්විය.




**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ යමක් කිරීමට පෙර සම්පූර්ණ චිත්‍රය ගැනම අවබෝධයෙන් යුතුව අතුරු ඵල පිළිබඳවත් සිතාබලා වැඩ කරන්න

☞ පනින්න පෙර සිතා බලන්න.

☞ ස්වභාව ධර්මයේ ජීවිත අන්‍යෝන්‍ය යැපීමේ චක්‍රයක් මත පවතී.

☞ ඕනෑම ප්‍රශ්නයකට විසඳුම් සෙවීමේදී මූල හේතුව සොයා බලන්න.

# 10. මැටි යට රත්තරන්

තායිලන්තයේ බැංකොක් නුවර රත්තරන් බුදුන්වහන්සේගේ පන්සල (Temple of Golden Buddha) යැයි නම් ලද පන්සලේ විශාල ඝන රන් බුදු පිළිමයක් ඇත. මෙම පිළිමය පිටුපස ඇති ජනප්‍රවාදය මෙසේය. 1950 දශකයේ එක් පන්සලක තිබූ අඩි 10 1/2 ක් උස මැටි බුදු පිළිමයක් වෙනත් ස්ථානයකට ගෙන යාමට එහි විසූ භික්ෂූන් වහන්සේලාට සිදුවිය. මෙය ගෙන යාමේදී පිළිමය ඉරි තැලීමට පටන් ගත් අතර, අතරමගදී වැස්සකට අසුවී තෙමෙන්නටද පටන් ගති. භික්ෂූහු පිළිමය හැකි තරම් නොතෙමෙන ලෙස ආවරණය කළහ. වැස්ස අවසානයේ ආවරණ ඉවත් කළ විට එක භික්ෂුවක් මැටි අතරින් දිස්නයක් දුටුවේය. ඔහු ගල්කට්ටක් ගෙන එතන මැටි කඩා ඉවත් කළ විට දිස්නය තවත් වැඩිවිය. පසුව හෙලිවුනේ එය මැටියෙන් ආවරණය කළ රත්තරන් බුදු පිළිමයක් බවය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අප අතර ඉතා වටිනා දක්ෂතා සහ ඥානයන් සැඟවුණු පුද්ගලයන් සිටී. පිටස්තරයන් ඔවුන්ගේ මෙම දක්ෂතා අහම්බෙන් දැක ඒවා ඉස් මතු කර ඔප දැමූ පසු එම පුද්ගලයින්ගේ අගය ලොවටම පෙනේ. ඔබ අවට සිටින අයගේ මැටි යට සැඟවුණු රත්තරන් සොයා ගන්න.
- බාහිර පෙනුමට රැවටී යම් දෙයක හෝ යම් අයකුගේ අගය තක්සේරු නොකරන්න. මැටි තුළ රත්තරන්ද, රත්තරන් තුළ මැටිද තිබිය හැක.
- එක් එක් පිළිමය අනුව මැටි ගලවා රන් මතු කර ගැනීමට යන කාලය වෙනස් විය හැක.
- සමහරුන් රත්තරන් පිළිමය මැටි පිළිමයට වඩා අගය කරයි. එය නැරඹීමටද යයි. එහෙත් වඩා වැදගත්වන්නේ බුදුපිළිමයක් සාදන ලද අමුද්‍රව්‍ය නොව බුදු රුව තුළින් බුදුන් සහ දහම් දැකීමය.

# 11. වෘකයන් දෙදෙනාගේ  සටන

මහලුව මියයාමට ආසන්නවූ රතු ඉන්දියානු ගෝත්‍රික නායකයෙක් තම දරු මුණුබුරන්ට රැස්වන ලෙස ඉල්ලා සිටියේය. එසේ රැස්වූ දරු මුණුබුරන්ට ඔහු කතාවක් කීවේය.

"මා තුළ වෘකයන් දෙදෙනෙක් ඉතා භයානක ලෙස සටන් වදිමින් සිටිනවා. උන් දෙදෙනා මා උපන්දා පටන් අද දක්වාම නොනවතින සටනක යෙදිලා ඉන්නවා.

"එක් වෘකයක්ගේ නම 'නරක'. ඌ නපුර, වෛරය, කේන්තිය, ඊර්ෂ්‍යාව, පළිගැනීම, දුක, පසුතැවිල්ල, ලෝභකම, කෑදරකම, අහංකාරය, මෝඩකම, බොරුව, මමත්වය ආත්මාර්ථය වගේ ගතිගුණවලින් පිරිලා.

"අනික් වෘකයාගේ නම 'හොඳ'. එයා සතුට, සාමය, මෛත්‍රිය, බලාපොරොත්තුව, මනුෂ්‍යත්වය, කරුණාව, පරිත්‍යාගය, සත්‍ය, බුද්ධිමත්භාවය, අන්‍යකේන්ද්‍රීයබව, පරාර්ථකාමිත්වය වැනි ගතිගුණ දරා සිටිනවා."

"මෙසේ කියනවාත් සමගම ගෝත්‍ර නායකයාගේ එක් කුඩා මිණිබිරියක් කතාවට බාධා කරමින් "සීයේ, සීයේ මොන වෘකයාද සටනින් දිනන්නේ?"යැයි ඇසුවාය.

සීයා පිළිතුරු දෙමින් කිවේ " දිනන්නේ තමා පෝෂණය කරන, කන්න බොන්න  දෙන වෘකයා. තමන් පෝෂණය කරන්නේ නරක ගතිගුණ නම් නරක ශක්තිමත් වී නරක  වෘකයා දිනයි. තමන් පෝෂණය කරන්නේ හොඳ ගතිගුණ නම් හොද වෘකයා දිනයි", යනුවෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞තමන්ට අස්වැන්න ලෙස ලැබෙන්නේ තමන් වපුරන දෙයයි.

☞දේශනපාලන උපාදියක් හදාරන්න බලාපොරොත්තු වන්නකු ආර්ථික විද්‍යා විෂය මාලාව හදාරා ඵලක් නැත.

# 12. බිම් මහලේ සිර ගෙය

කැලිෆෝනියාවේ ස්ටැන්ෆර්ඩ් විශ්ව විද්‍යාලයේ පිලිප් සිම්බාර්ඩෝ මහාචාර්යතුමා මනෝ විද්‍යා අංශයේ බිම් මහලේ සිරගෙයක් නිර්මාණය කළේය. ඔහු පෞරුෂ පරීක්ෂණයකින් සාමාන්‍ය මට්ටමට ලකුණු ගත් හොඳ කායික හා මානසික තත්ත්වයකින් යුක්ත නීතිගරුක ශිෂ්‍යයන් 24 දෙනෙක් දිනකට ඩොලර් 15 බැගින් ගෙවා පරීක්ෂණය සඳහා බඳවා ගත්තේය. ඔහු මෙම සිසුන් 24 දෙනා අතර අහඹු ලෙස සිරකරු භූමිකාවත්, බන්ධනාගාර නියාමක භූමිකාවත් බෙදා දී නීති රීති මාලාවක් සකස් කර සිදුවන්නේ කුමක් දැයි නිරීක්ෂණය කළේය.

නියාමකවරුන් ලෙස පත් කළ සිසුන් සහ සිරකරුවන් ලෙස පත් කළ සිසුන් අතර මැනිය හැකි වෙනස්කම් නොතිබුණු අතර නියාමකවරුන්ට විශේෂ පුහුණුවක් ලබා දුන්නේද නැත. ඔවුනට කීවේ සිරකඳවුර තුළ නීතිය පවත්වාගෙන යන ලෙසත් එමෙන්ම සිරකරුවන්ගේ වැරදි හැසිරීම්වලට ඉඩ නොදෙන ලෙසත්ය. භෞතික ප්‍රචණ්ඩත්වය තහනම් කර තිබුණි. මෙම සිර ගෙදර සාමාන්‍ය තත්ත්වයට සමාන කිරීමට, සිරකරුවන් බැලීම සඳහා මිතුරන්ට සහ ඥාතීන්ට පැමිණීමට ඉඩ දුණි. නියාමකවරු පැය අටේ වැඩමුරවල වැඩ කළ අතර සිරකරුවන්ට ආහාර ගැනීමට, වැසිකිළියාමට, ව්‍යායාම කිරීමට, ගණන් කිරීමේ පෙරෙට්ටුවට සහ වැඩ බෙදා දීමට එළියට ආ හැකි වුවත් අන් සෑම විටම කූඩුව තුළ සිටිය යුතු විය.

සිරකරුවන්ට නියාමකවරුන්ගේ අධිකාරිත්ව භූමිකාව පිළිගැනීමටත් නියාමකවරුන්ට තම අධිකාරී භූමිකාවට හැඩ ගැසීමටත් ගත වුයේ සුළු කාලයකි. දෙවන දිනයේ සිරකරුවන් ඇති කළ කැරැල්ලක් නියාමකවරුන් විසින් මැඩ පැවැත්වූ පසු සිරකරුවෝ තවදුරටත් යටහත් පහත් වුහ. නියාමකවරුන් නිතර මතක් කර දුන් ආකාරයටම තමන් බල රහිත පහත් තත්ත්වයේ අය ලෙසට ඇත්ත වශයෙන්ම විශ්වාස කිරීමටත් එසේ හැසිරීමටත් සිරකරුවෝ පටන් ගති. එමෙන්ම සෑම නියාමකවරයකුම පරීක්ෂණ කාලය තුළ යම් අවස්ථාවකදී අණදෙන සුලු පීඩනයට ලක් කරන ආකාරයේ හැසිරීම්වල යෙදුණි. එක් නියාමකවරයකු පැවසුයේ ''මට මං ගැනම පුදුම හිතුණා. මම ඔවුන් එකිනෙකාට විකට නම්වලින් කතා කිරීමට බල කළා. ඒ වගේම ආවරණය නොකළ අත්වලින් වැසිකිළි සුද්ද කිරීමට අණ කළා.''

මෙම පරීක්ෂණය ඕනෑවටත් වඩා සාර්ථක වූ අතර සති දෙකක් සඳහා සැළසුම් කළ ද දින 6 කින් නැවැත්වීමට සිදුවූයේ පුද්ගලයන් තමන්ගේ භූමිකාවන් ඉතා ඉක්මණට ඉගෙන ගැනීමටත් ඒ අනුව හැසිරීමටත් පටන් ගත් බැවින් සහ ඔවුන් Pathological ප්‍රතිචාර පෙන්වීමට පටන් ගත් බැවිනුත්ය. මෙම පරීක්ෂණයට සහභාගි වූ අය අතර කිසිදා සිරගත වූ හෝ සිරගෙදරක වැඩ කළ අය නොවීය. එහෙත් ඔවුන් අප මෙන්ම බල සහිත සහ බල රහිත භූමිකා තුළින් (ගෙදරදී දෙමව්පිය - දරු, පාසලේ දී ගුරුවර - ශිෂ්‍ය) ලද අත්දැකීම් තුළිනුත් මාධ්‍යවලින් ඉගෙනගත් දේ අනුවත් සිරකරුවන්ගේ සහ නියාමකවරුන්ගේ භූමිකාවන් ඒකාකෘතකරණය (stereotype) කර තිබුණි. ඔවුන් තමන්ගේ සාමාන්‍ය පෞරුෂයට වඩා වෙනස් වූ මෙම භූමිකාවන් ඉතා ඉක්මණින් බාර ගත්තේය. කිසිදා පුහුණුවක් නොතිබූ අය පවා අදාළ භූමිකාවන් හා බැඳුණු අපේක්ෂිත චර්යාවන් අනුව හැසිරුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙහි භූමිකා යනු සමාජයේ යම් තනතුරක් දරන කෙනෙකුගෙන් අපේක්ෂිත හැසිරීම් රටාවන්ය. යම් භූමිකාවකට අදාළ ආකල්ප සහ චාර්යාවන් ඇත. පුද්ගලයකු යම් තනතුරකට පත් වූ පසුව මෙම අපේක්ෂිත චර්යාවන් අනුව හැසිරීමට උත්සහ කරන අතර සමාජය ද එම භූමිකාවට අනුව හැසිරීමක් ඔහුගෙන් / ඇයගෙන් බලාපොරොත්තුවේ.

☞ යම් අයකුගේ හැසිරීමට මෙම භූමිකාවන් කෙතෙක් දුරට බලපානවා ද යන්න සෙවීමේදී යම් අයකුගේ පෞරුෂයටත් වඩා භූමිකා අපේක්ෂාවන් චර්යාව කෙරෙහි බලපාන බව මෙම පරීක්ෂණය පෙන්වා දෙයි.

# 13. බැටළු පැටවා සහ මස් බඳුන

ලෝක ප්‍රකට බ්‍රිජට් බාඩෝ නම් නිළිය තරුණ කාලයේ ධන කුවේරයකු සමග දිවා ආහාරය ගෙන විනෝද වීමට ගියාය. බ්‍රිජට් බාඩෝ මෙම ධන කුවේරයාගේ මාලිගාවට ඇතුලු වී ඉතා අලංකාර වූ උද්‍යානය හරහා ඔහු හා ඇවිදගෙන යන විට කොහේදෝ සිට දිව ආ සුරතල් බැටළු පැටවක් ඇය වටා දැවටීමට පටන් ගත්තේය. මෙම බැටළු පැටවාට ආසා වූ ඇය ඌව සුරතල් කරමින් ටික වේලාවක් ගත කළාය. ධන කුවේරයා ඇය තමා හා විනෝද වෙනවා වෙනුවට බැටළු පැටවකු සුරතල් කිරීම ගැන කෝපයට පත් වුවද එය නොපෙන්වා ඇය හා කාලය ගත කළේය. දිවා ආහාර වේල ඉතා ආකර්ෂණීය ලෙස සකසා තිබූ අතර කෑම කොහොමදැයි ධනවතා බ්‍රිජට්ගෙන් ඇසුවේය. ඇය කීවේ කෑම ඉතාම රසවත් බවත් මෙවන් කෑම වේලක් කන්නට ලැබෙන්නේ ඉතා කළාතුරකින් බවත්ය. මස් කරියක් පෙන්වූ ඔහු එය කෙසේ දැයි ඇසූ විට ඇය කීවේ ඉතා රසවත් බවත් තමා එය කිහිපවරක්ම බෙදා ගෙන කෑ බවත්ය. ඒ මොනවාද කියා දන්නවාද ඇයගෙන් ඇසූ විට ඇය කීවේ “ඔව් බැටළු මස්නේ” කියාය. එවිට ධනවතා ඇසුවේ මොන බැටළුවාගේ මස්ද කියලා දන්නවද ? යනුවෙනි. “මොන බැටළුවාගේද කියලා මම දන්නේ කොහොමද? මම හැම බැටළුවාවම පෞද්ගලිකව දන්නවයි කියල හිතුවාද?”යි ඇය විහිළු කළාය. “මේ තමයි අද උදේ ඔයත් එක්ක සුරතල් වෙච්ච බැටළු පැටවාගේ මස්” යැයි ධනවතා කී විට ඇයට වමනය ගියේය. එදා සිට මස් මාංස අනුභවයෙන් වැළකුණු ඇය සත්ත්ව සුභසාධනය වෙනුවෙන් තම ධනය හා කාලය වැය කළාය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

මෙය මිනිසුන්ගේ ආත්මාර්ථකාමීත්වය පෙන්වන හොඳ නිදසුනකි. තම තමන්ගේ මනදොල පිරවීම ගැන මිස ඒ වෙනුවෙන් කැපවන අන් අය ගැන ඇත්තේ අඩු තක්සේරුවකි.

# 14. බූරුවා කවුද?

පියෙක් සහ පුතෙක් පොළට ගොස් බූරුවෙක් මිලදී ගත්තෝය. මේ දෙන්නා බූරුවාව දක්කාගෙන ගෙදර එන අතර මගදී ඔවුනට ආර්ථික විද්‍යා මහාචාර්යවරයෙක් මුණගැසුණු අතර ඔහු මෙසේ කිවේය .

"හරිම මෝඩයෝ දෙන්නෙක්නෙ. බූරුවා නිකම් යනවා. මේ දෙන්නා පයින් යනවා. ඇයි දෙන්නගෙන් එක්කෙනෙක් බූරුවා පිට උඩ යන්නෙ නැත්තේ?"

මෙය ඇසූ පියා, පුතාට බූරුවාගේ පිට උඩ ගමන් කිරීමට සළස්වා බූරුවා අසලින් පයින් ගමන් කළේය.

මෙසේ ඔවුන් ටික දුරක් යන විට සම්ප්‍රදාය ගරු කරන වයසක කාන්තාවක් හමුවී මෙසේ පැවසුවාය. "බලන්න කොච්චර අශෝභනද?. තාත්තා පවුලේ මූලිකයා. ඒ වගේම වැඩිහිටියෙක්. මේ ළමයා වැඩිහිටියන්ට සලකන්නවත් දන්නේ නෑ. තාත්තා පයින් යද්දී පුතා මොන හිතකින්ද බූරුවා පිට උඩ යන්නේ? "

මෙය ඇසූ පුතා වහාම බූරුවා පිටින් බැස තාත්තාට බූරුවා පිට උඩ යාමට සැලැස්වීය. මෙසේ ඔවුන් ටික දුරක් යන විට ළමා සුබසාධන සංගමයක තරුණියක හමුවිය. පුතා පයින් ගමන් කරනු දුටු ඇය ''අර හැඩිදැඩි මිනිහා මොන හිතකින් ද දන්නෙ නෑ බූරුවා පිටේ යන්නේ. අර පොඩි ළමයාට පයින් ගිහිල්ලා කකුලුත් රිදෙනව ඇති "යැයි පැවසුවාය.

මෙය කණ වැකුණු පියා පුතාටත් බූරුවා පිට නගින ලෙස කීවේය. මේ ආකාරයට පිය පුතු දෙදෙනාම බූරුවා පිට ගමන් කරන විට සත්ත්ව අවිහිංසා සංගමයේ ක්‍රියාකාරිකයකු හමුවිය. ''අසරණ බූරුවා, කොහොම මිනිස්සු දෙන්නෙක්ගෙ බර උහුලගෙන යනවද දන්නෙ නෑ. මේක නම් නියම සත්ත්ව හිංසාවක්. මහ කෲර මිනිස්සු දෙන්නෙක් " යනුවෙන් ඔහු පැවසිය.

මෙය ඇසූ පියා සහ පුතා වහාම බිමට බැස ඉතිරිව තිබූ එකම විකල්පය ක්‍රියාත්මක කළේය. එනම් බූරුවා රිටක ගැට ගසා කර තබාගෙන යාමයි. මෙසේ ඔවුන් ටික දුරක් යන විට කුඩා ගැහැණු ළමයකු හමුවූ අතර ඇය මෙසේ පැවසුවාය''මේ මොන මෝඩකමක්ද? බූරුවෝ දෙන්නෙක් බූරුවෙක් කර තියාගෙන යනවා''





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- කිසිම විටක සියලු දෙනාම ඔබට ප්‍රශංසා නොකරනු ඇත. එසේම කිසිම විටක සියලුම දෙනාම ඔබට අපහාසද නොකරනු ඇත. මෙය සදාකාලික සත්‍යයකි.
- විවිධ පුද්ගලයන්ට විවිධ දෘෂ්ටිකෝණ ඇත. සැමවිටම අප් දකින්නේ එකම සිදුවීම වුණත් එය තේරුම් ගන්නා ආකාරය, අර්ථකථනය කරන ආකාරය වෙනස්ය.
- කිසිම ක්‍රියාවකින් සෑම දෙනාම සෑහීමකට පත්කළ නොහැක. ඕනෑම නායකයකුට අනුගාමිකයන්, පසසන්නන් මෙන්ම විරුද්ධවාදීන් සහ විවේචකයන් ද ඇත.

# 15. ලොව ප්‍රබලතම නෞකාව

දැඩි මීදුමක් පැවති රාත්‍රියක ලොව ප්‍රබලතම නාවික හමුදාවකට අයත් එක් නෞකාවක නිරීක්ෂක නැවියකු ඈත මුහුදේ සංඥා එළියක් දැක අනතුරුදායක ලෙස තවත් යාත්‍රාවකට ළංවන බව සිතුවේය. ඔහු එය නැවේ කපිතාන්වරයාට දැන්වීමෙන් අනතුරුව කපිතාන්වරයා රේඩියෝ සංඥා මාර්ගයෙන් එළිය දිස්වන වස්තුව හා සම්බන්ධ වී පහත සඳහන් සංවාදයේ නිරත විය.

**කපිතාන්:** මම ඉල්ලා සිටිනවා ඝට්ටනයක් වැළැක්වීම සඳහා ඔබගේ ගමන් මාර්ගය අංශක 15 කින් උතුරට වෙනස් කරන ලෙස.

**අනික් පාර්ශ්වය:** කරුණාකර ඔබගේ ගමන් මාර්ගය අංශක 15 කින් දකුණට වෙනස් කර ඝට්ටනය වළක්වා ගන්නේ නම් මැනවි.

**කපිතාන්:** මම නිර්දේශ කරනවා ඔබගේ ගමන් මාර්ගය වෙනස් කරන ලෙසට.

**අනික් පාර්ශ්වය:** ඔබගේ ගමන් මාර්ගය වෙනස් කරන්න

**කපිතාන්:** මම නාවික හමුදාවේ නැවක කපිතාන්වරයෙක්. මම නැවත අණ කරනවා ඔබගේ ගමන මාර්ගය වෙනස් කරන ලෙස.

**අනික් පාර්ශ්වය:** බැහැ. මම නැවතත් ඉල්ලා සිටිනවා ඔබගේ ගමන් මාර්ගය වෙනස් කරගන්නා ලෙස.

**කපිතාන්:** මෙය ලෝකයේ තිබෙන ප්‍රබලතම නාවික හමුදාවේ අත්ලාන්තික් නාවික බල ඇණියේ දෙවන විශාලතම නැව. මෙය ප්‍රහාරක ගුවන් යානා ප්‍රවාහන නෞකාවක්. මෙම නෞකාවේ ආරක්ෂාවට ප්‍රහාරක යාත්‍රා පහක් නෞකාව වටේට ගමන් කරනවා. මම නාවික හමුදාවේ ජ්‍යෙෂ්ඨතම අද්මිරාල්වරයෙක්. මම නැවතත් ඔබට නියෝග කරනවා ඔබගේ ගමන් මාර්ගය අංශක 15 කින් උතුරට වෙනස් කරගන්නා ලෙස.

**අනික් පාර්ශ්වය:** මේක ප්‍රදීපාගාරයක්. මම ප්‍රදීපාගාර ක්‍රියා කරවන්නා. හරවනවා ද, නැද්ද යන තීරණය ඔබේ අතේ.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- මෙම කතාවෙන් යම් වස්තුවක් / යම් අයකු පිළිබඳ අපගේ සංජානනය වෙනස් වීමෙන් එය / එම පුද්ගලයා කෙරෙහි අප තුළ ඇති ආකල්ප, බලන දෘෂ්ටිය ආදිය වෙනස් වන ආකාරය විදහා දක්වයි. එළිය එන්නේ ප්‍රදීපාගාරයකින් බව දැනගත් විට කපිතාන්වරයාගේ මුළු දෘෂ්ටිකෝණයම වෙනස් වේ.
- ප්‍රදීපාගාර ක්‍රියාකාරු මුලදීම එය ප්‍රදීපාගාරයක් බව කීවා නම් මෙම තිත්ත සංවාදය මග හැර වැරදි වැටහීම් ආදිය නැති කරගත හැකිව තිබුණි. අනිකා තමා කවුදැයි දන්නවා යැයි උපකල්පනය කර හෝ තමා කවුදැයි වටහා ගැනීම අනිකාගේ යුතුකම බව සිතා කතා කිරීමට වඩා තමා කවුදැයි හඳුන්වා දීමෙන්, නැතිනම් තමාගේ තත්ත්වය පැහැදිලි කරදීමෙන් සබඳතා මීට වඩා හොඳ විය හැක. කපිතාන්වරයාද පූර්ව නිගමනයකට නොබැස අනික් වස්තුව කුමක්දැයි තේරුම් ගෙන ඒ අනුව ප්‍රතිචාර දැක්විය යුතුව තිබුණි.
- වැරදිලාවත් අනික් පාර්ශ්වය ප්‍රබලතම යුද්ධ නෞකාව වුවානම් තත්ත්වය කෙසේ වේවිද? එසේත් නැතිනම් එය තම නාවික හමුදාවටම අයත් වඩාත් උසස් නිලධාරියකු විසින් මෙහෙයවන නෞකාවක් වුවානම් තත්ත්වය කෙසේද? නිහතමානි බව මානව සම්බන්ධතාවල අත්‍යවශ්‍ය ලක්ෂණයකි.
- මෙම කතාව යථාර්ථවාදී නැත. යාත්‍රාවක ආලෝක සංඥා ප්‍රදීපාගාරයක ආලෝක සංඥාවලින් පැහැදිලිව වෙන්කර හඳුනා ගත හැක.
- අනවශ්‍ය ලෙස මානයෙන් හිස උදුම්මවාගත් නායකයන් තමාත් තමා වටා සිටින අයත් පරිහානිය කරා රැගෙන යයි.

# 16. නසරුදීන්ගේ වයස

**අමුත්තා:** "නසරුදීන් ඔබගේ වයස කීයද?"

**නසරුදීන්:** "40 යි"

**අමුත්තා:** "නමුත් ඔබ අවුරුදු තුනකට ඉස්සෙල්ලා මම ඔය ප්‍රශ්නෙ ඇහුවමත් දුන්නේ ඔය උත්තරේනේ"

**නසරුදීන්:** "මම එක වචනයක් තියෙන කෙනෙක්. මම වචනයක් කිව්වොත් ඒක වෙනස් කරන්නේ නෑ."



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ සෑම දෙයක්ම වෙනස් වේ. මිනිසුන්ගේ ස්ථාවරයන්, අදහස් හා ආකල්ප නව දැනුම ලැබීමත සමගම වෙනස් විය යුතුය. එකම ස්ථාවරයක සිටීමේ විහිළුව මෙම කතාවෙන් පෙන්නුම් කරයි.

☞ වෙනස්වන ලෝකයක නොවෙනස් පුද්ගලයකු ලෙස සිටීමට උත්සහ කිරීමෙන් අනුන්ගේ හාස්‍යයට ලක්වේ.

# 17. වෙන්න පුළුවන්

මහලු ගොවිමහතකුට අයත් එකම අශ්වයා පැනගොස් කැලෑ වැදුණේය. මෙම පුවත ඇසූ අසල්වාසීහු ඔහු හමුවට පැමිණ "අනේ අවාසනාවක්" යැයි ශෝක ප්‍රකාශ කළහ. ගොවි මහතා කීවේ "වෙන්න පුළුවන්" යන්න පමණි. පසු දින උදෑසන පැන ගිය අශ්වයා තවත් කැලෑ අශ්වයන් තුන් දෙනෙකු සමග අශ්වගාල තුළට පැමිණ සිටිනු ගොවිමහතාට දක්නට ලැබුණි. "හරිම වාසනාවක්නේ" අසල්වාසීන් පැමිණ සතුට ප්‍රකාශ කළ විට ගොවි මහතා පෙර පරිදිම ප්‍රකාශ කළේ "වෙන්න පුළුවන්" යන්න පමණි. ඊළඟ දවසේ ගොවි මහතාගේ පුතා කැලෑ අශ්වයකු හීලෑ කිරීමට ගොස් අශ්වයා පිටින් වැටී කකුල කැඩුණේය. මෙම පුවත ඇසූ ගම්මු "අනේ අවාසනාවක මහත" යැයි ශෝක ප්‍රකාශ කළහ. පෙර පරිදිම ගොවි මහතා "වෙන්න පුළුවන්" යැයි සන්සුන්ව පැවසීය. ඊළඟ දවසේ රජයේ සොල්දාදුවෝ ගමේ තරුණයන් අනිවාර්ය හමුදා සේවයට බඳවා ගෙන යාම සඳහා පැමිණියෝය. ඔවුහු ගොවි මහතාගේ පුතාගේ කකුල කැඩී ඇති බැවින් ඔහු හැර අනික් තරුණයන් හමුදාවට බඳවාගෙන ගියහ. අසල්වාසීන් පැමිණ "වාසනාවට මේ ළමයාගේ කකුල කැඩිලා තිබුණේ නැත්නම් හමුදාවට ගිහිල්ලා යුද්දෙදි මැරෙන්න තමයි වෙන්නේ" යැයි සතුට ප්‍රකාශ කළෝය. "වෙන්න පුළුවන්" ගොවි මහතා කීවේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ජීවිතයේ සිදුවන හොඳ සහ නරක දේවල් පිළිබඳව මධ්‍යස්ථව සිතන්න. හොඳ දේ සිද්ධ වන විට සතුටෙන් ඉපිළ යාම හෝ නරක දේ සිදුවන විට දුක්වීම නොකරන්න. හොඳ සහ නරක උපේක්ෂාවෙන් මැදිහත් සිතින් බාර ගන්න.
- හොඳ හෝ නරක අත්දැකීම්වලදී නැතිනම් අටලෝදහමේදී තැන්පත්ව සිටින්න.
- සිදුවූ යමක් ගැන දුක්වීමෙන් ඵලක් නැත.
- යම් තත්ත්වයක් එක්වරම මනින්න යන්න එපා.
- මෙම කතාවට අර්ථයක් තිබේද? "වෙන්න පුළුවන්".

# 18. වැරදි පැත්තේ නැවැත්වූ කාර් එක

මෙම සිදුවීම 1950 දශකයේ සිදුවූවකි. මෙකල ගුණපාල වින්ඩ්සර් මහතා ගාලු නගරයේ ජාතික මුද්‍රණාලය නමින් අච්චු කන්තෝරුවක් පවත්වාගෙන ගියේය. මෙම මුද්‍රණාලය තිබූ වීදියේ වාහන නතර කිරීමට සැලැස්මක් තිබුණි. සඳුදා, බදාදා සහ සිකුරාදා දිනවල පාරේ වම් පසත්, අඟහරුවාදා සහ බ්‍රහස්පතින්දා දිනවල පාරේ දකුණු පසත් වාහන නතර කළ යුතු බවට දැන්වූ දැන්වීම් පුවරුවක් පාර ආරම්භ වන ස්ථානයෙහි දක්නට ලැබුණි. මෙම දැන්වීම් පුවරුව තරමක් පරණ එකක් වූ අතර එහි අකුරු මැකී කියවීමට අපහසු තත්ත්වයක පැවතුණි. මෙම සිදුවීම සිදුවූ කාලයේදී ගාලු පළාතට සහකාර පොලිස් අධිකාරීවරයකු අලුතින් පත් කරනු ලැබූ අතර නීතිය අකුරටම ක්‍රියාත්මක කිරීමට සහ නීති කඩන්නන්ට පහර දීමට ක්‍රියා කිරීම නිසා ජනතාව ඔහුගේ නම කී පමණින් වෙව්ලන තත්ත්වයකට පත්ව තිබුණි.

මෙම සිදුවීම සිදුවූ දිනයේ ගුණපාල වින්ඩ්සර් මහතා උදෑසනම වැඩට පැමිණ පාරේ වම් පස වාහනය නතර කළේය. නීතිය අකුරටම පිළිපදින්නකු වූ ඔහු වාහන නැවැත්වීමේ කාල සටහන කටපාඩමින් දැන සිටි බැවින් බදාදාවක් වූ එදින වම් පස තම සිංගර් ගැසල් කාරය නවත්වන විට වෙන කිසිදු වාහනයක් පාරේ නවත්වා නොතිබුණි. උදෑසන 10 පමණ වන විට පාර දෙසින් ඒ.එස්.පී. මහතාගේ ගෝරනාඩුව ඇසුණි. ඔහු වට පිට සිටි අයගෙන් කෑ ගසා විමසුයේ කාගෙද මේ වම් පැත්තේ නවත්තපු සිංගර් ගැසල් එක යනුවෙනි. පාරේ සිටි රික්ෂෝකරුවෙක් භය පක්ෂපාතීව පැවසුයේ එය අයිති අච්චු කන්තෝරුව අයිති මහත්තයාට බවයි. “මහත්තයට එළියට එන්න කියාපිය” ඒ.එස්.පී. පැවසීය. රික්ෂෝකරු දුවගෙන ගොස් ගුණපාල වින්ඩ්සර් මහතාට මේ බව දැන්වූ විට ඔහු මුද්‍රණාලය ඉදිරිපස පාරට පැමිණියේය. එතැන් සිට ඒ.එස්.පී. මහතාත් ගුණපාල වින්ඩ්සර් මහතාත් අතර ඇතිවූ සංවාදය මෙසේය.



මේ කාර් එක ඔහෙගේද?”

“ඔව්”

“තමුසෙ වැරදි පැත්තෙ පාක් කරල තියෙන්නේ”

“නෑ මම හරි පැත්තෙ පාක් කරලා තියෙන්නේ”

“මේ අනිත් ඔක්කෝම කාර් පාරේ දකුණු පැත්තේ නවත්තලා තියෙද්දිත් තමුසෙ කියන්නෙ තමුසේ නැවැත්තුවෙ හරි පැත්තේ කියලද?”

“ඔව් අනිත් හැමෝම වැරදියට පාක් කරලා තියෙන්නේ මම හරි පැත්තේ පාක් කළේ”

“මොනවා තමුසේ කොහොමද එහෙම කියන්නේ? ”

“මෙතන ඉඳන් මීටර් 150 ක් ඉස්සරහට ගියහම පාරේ දකුණු පැත්තේ බෝඩ් එකක් ගහලා තියනවා. ඒකෙ තියනව අහවල් දවසට පාක් කරන්න ඕනෙ වම් පැත්තේද දකුණු පැත්තේද කියල මම පාක් කරන්නෙ ඒක අනුව. ඒ නිසා මම පාක් කරලා තියෙන්නේ හරි පැත්තේ.”

මහජනතාව ඉදිරියේ ලැජ්ජාවට පත් වූ ඒ.එස්.පී. තම මෝටර් සයිකලයට නැගී “හොඳයි මම එහෙනම් බලලා එන්නම්. හැබැයි තමුසෙ වැරදි වුණොත් උසාවි දානවා” කියමින් පිටත්ව ගියේය. විනාඩි 5 කට පමණ පසුව නැවත පැමිණි ඔහු “ ඔහේ කියපු එක හරි, මට සමාවෙන්න ඒත් කරුණාකරලා අදට විතරක් කාර්එක පාරේ දකුණු පැත්තට දාන්න පුළුවන්ද? මොකද මට අනිත් හැමෝම මේ පැත්තට ගන්න එක ටිකක් අමාරුයි. හැබැයි ලබන සතියේ ඉඳන් ඒ බෝඩ් එක අනුව කාර් පාක් කරවන්න මම වගබලා ගන්නම්” යැයි කීවේය. ගුණපාල වින්ඩ්සර් මහතා තම කාරය දකුණු පස නැවැත්වීය. ටික වේලාවකට පසුව අත් පත්‍රිකාවක් අච්චු ගැසීමට පැමිණි ගණුදෙනුකරුවකුට තව දින දෙකකින් එනම් සිකුරාදා එය ලබා දෙන බව කී විට ඔහු කීවේ අද බ්‍රහස්පතින්දා බවත් දින දෙක වෙන්නේ සෙනසුරාදාට බවත්ය.

මෙය ඇසූ වින්ඩ්සර් මහතාට තමාට දිනය වැරදී ඇති බවත් අද කාර් එක පාක් කර ඇත්තේ වැරදි පැත්තේ බවත් ක්ෂණිකවම වැටහුණි. එහෙත් තමා නිවැරදි බව දැඩි විශ්වාසයකින් යුතුව ප්‍රකාශ කළ ආකාරයත්, තමා නිවැරදි බව පෙන්වීමට දත්ත ගෙන හැර දැක්වූ ආකාරයත් මත ඒ.එස්.පී වැඩි දුර සොයා නොබලා තමා කී දේ පිළිගත් බව ඔහුට වැටහුණි.

# 19. වයසට ගියත් ඉගෙනීම අත් හරින්නෙ නෑ

දිනක් ඉංග්‍රීසි ඉගෙන ගැනීමට සිතූ වැඩිහිටියෙක් ගුරුවරියක සොයාගෙන ගොස් තම අභිලාෂය පැවසීය. ගුරුවරිය ඉතා සතුටට පත්ව වයසට ගොස් හෝ ඉගෙන ගැනීමට සිතීම ඉතා හොඳ බව පවසා පසුදා පන්තියට එන ලෙසට දැන්වීය. පසුදින ගුරුවරිය ඉංග්‍රීසි හෝඩිය ගෙන 'ඒ' අකුර පෙන්වා මෙය 'ඒ' අකුර බව පැවසීය. වැඩිහිටියා ඉතා ඉක්මණින් එය ඉගෙන ගත්තේය. ඉන් පසුව 'බී' අකුර පෙන්වා එය 'බී' අකුර බව ගුරුවරිය පැවසීය. ඔහු 'බී' අකුර ශබ්ද නඟා කියා ටික වේලාවක් කල්පනාවක නිමග්න වී අත උස්සා තමාට ප්‍රශ්නයක් ඇති බව ඇඟවීය. වැඩිහිටියාගේ උනන්දුව ගැන පැහැදුණු ගුරුවරිය ප්‍රශ්නය අසන ලෙස පැවසුවාය."ඇයි අපිට බැරි 'ඒ' අකුරට 'බී' කියලා 'බී' අකුරට 'ඒ' කියන්න" වැඩිහිටියා ඇසුවේය. සමාජයේ සම්මතයක් ඇති බවත් ඉංග්‍රීසි බස භාවිත කරන හැමෝම 'ඒ' අකුරට 'ඒ 'අකුර කියන බවත් 'බී' අකුරට 'බී' අකුර කියන බවත් ගුරුවරිය පැහැදිලි කර දුණි. එහෙත් එම පිළිතුරෙන් සෑහීමට පත් නොවූ වැඩිහිටියා, අනිත් අය කොහොම කීවත් තමන් 'ඒ' අකුරට 'බී' කියා කීමට කැමති බව ප්‍රකාශ කළේය. ගුරුවරිය කීපවරක්ම මෙය තේරුම් කර දීමට බැලුවත් වැඩිහිටියා දිගින් දිගටම තර්ක කළේය. මින් කේන්තියටත්, කළකිරීමටත් පත් වූ ගුරුවරිය වැඩිහිටියාගේ කණ තදින් අල්ලා ඇදීමට පටන් ගත්තාය.

**වැඩිහිටියා :** අනේ මිස් මගේ කණ අතහරින්න මගේ කණ රිදෙනවා.

**ගුරුවරිය :** මොනවා! මම ඔහේගේ කණක් අල්ලන් ඉන්නවායැ?

**වැඩිහිටියා :** ඔව් මිස් ඔය අල්ලන් ඉන්නේ මගේ කණනේ.

**ගුරුවරිය :** මොන පිස්සු ද මම අල්ලන් ඉන්නේ ඔහේගෙ කකුලනේ?

**වැඩිහිටියා :** නෑ නෑ ඕක කණ

**ගුරුවරිය :** මේක කණ වෙන්නේ කොහොම ද? මේක කකුල

**වැඩිහිටියා :** නෑ නෑ සමාජෙ හැමෝම ඕකට කියන්නේ කණ කියලා. ඇයි මිස් විතරක් ඕකට කකුල කියන්නෙ?

**ගුරුවරිය :** අන්න ඒ වගේම තමයි සමාජයේ හැමෝම 'ඒ' අකුරට 'ඒ' කියලත් 'බී' අකුරට 'බී' කියලත් කියන්නේ .






**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- තර්කය හොඳ වුවත් ප්‍රායෝගික නැති කෙස් පැලෙන තර්ක ඉගෙනීමට බාධාවකි.
- ප්‍රායෝගිකව යමක් තේරුම් කර දුන් විට එය වඩාත් හොඳට තේරුම් ගත හැක.
- සමාජයේ එකිනෙකා සමග වැඩකිරීමේ දී විවිධ සම්මතයන් ගොඩ නැගී තිබේ. විශේෂවූ හේතුවක් නොමැතිව ඒවා වෙනස් කිරීම ව්‍යාකූලත්වයට හේතු වෙනවා මිස වාසියක් නොලැබෙයි.

# 20. ගින්න නිවු ආකාරය

ලී රාමුවකින් සහ ලීයෙන් තැනුණු පොළවකින් යුක්ත වූ ගෙයක පිටුපස කොටසේ ඇති වූ ගින්නක් මැඩලීම සඳහා ගිනි නිවන හමුදාව කැඳවුණි. ආලින්දයට ගිය පිරිස කුස්සිය දෙසින් නැගෙමින් තිබුණු ගිනිදැල්වලට ජලය විද්දහ. එසේ කිරීමේදීද ගින්න වතුර මැඩගෙන බුර බුරා ඉදිරියට කඩා පැන්න බැවින් ඔවුහු දෙදෙනා බැගින් විසිර පැතිවලින් වතුර ප්‍රහාර එල්ල කර යම් ප්‍රමාණයකට ගිනිදැල් මැඩ පවත්වා නැවත ආලින්දයට රැස් වුහ. එහෙත් භට පිරිසෙහි අණදෙන නිලධාරියාගේ සිතට දැනුණේ තදබල අපහසු හැඟීමකි. ඔහු ක්ෂණයකින් සියලු දෙනාටම නිවසින් පිටවන ලෙසට අණ කළේය. භට කණ්ඩය වීදියට පිවිසෙනවාත් සමගම ආලින්දයේ ලී පොළව කඩා වැටී මුළු නිවසම එකම ගිනි ජාලාවක් බවට පත් වුයේ ඔවුන් තව මොහොතක්වත් නිවස තුළ සිටියා නම් මරණය නියත බව පසක් කරවමිනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙම අණ දෙන නිලධාරියා නිවසින් පිටත්වීමට අණ දීමට තීරණය කළේ තර්කානුකූලව තීරණයක් ගෙන නොව තම හිතට හරි යැයි දැණුන දේ කළ නිසාය. තීරණය ගෙන පසුව ඒ ගැන කල්පනා කරන විට ඔහුට වැටහුණේ ගින්නේ හැසිරීම ඔහු බලාපොරොත්තු වූ ආකාරයට වඩා වෙනස් වූ නිසා ඔහුගේ සිතේ සැකයක් ඇති වූ බවයි. එසේම ඔහුට තවත් සැක මතුකරන කාරණාවක් වුයේ ඇසට පෙනෙන්නට තිබෙන ගින්දරෙහි ප්‍රමාණයට වඩා ඉතා අධික රස්නයක් ආලින්දය තුළ වීමයි. ඇත්ත වශයෙන්ම ගින්නෙහි වැඩි කොටසක් දැල්වෙමින් පැවතුණේ ආලින්දය ඇතුළුව නිවසේ ලී පොළව යටිනි. එම ගින්න ගිනි නිවන භටයන්ගේ වතුරවලින් බාධාවකින් තොරව පැතිරෙමින් පැවතුණි. මෙහිදී අණදෙන නිලධාරියාගේ අන්තර්ඥානයට (Intuition/Gut feeling) හැඟී ගියේ එන පොට හොඳ නැති බවයි.

☞ පළපුරුදු ගිනිභටයන් අවුරුදු ගණනක් තිස්සේ විවිධාකාර ගිනි වර්ග දැක ඒවා නිවා ලබාගන්නා අත්දැකීම් අනුව අවිඥානිකවම ඔවුන්ගේ මනස තුළ ගිනි වර්ගීකරණයක් ඇතිවේ. එමෙන්ම ඒ ඒ ගිනි වර්ගයට ප්‍රතිචාර දැක්විය යුතු ආකාරය පිළිබඳව ඔවුන් තුළ මානසික සැලැස්මක් සෑදේ. ඉන් අනතුරුව ඔවුන්ගේ මනස තර්කානුකූල විශ්ලේෂණයකින් තොරව තමා හමුවේ ඇති ගින්නෙහි රටාවන් සහ ඉඟි කියවා ඒ අනුව ගත යුතු ක්‍රියාමාර්ගය ක්ෂණිකව තීරණය කරයි.

☞ ක්ෂණික තීරණ ගැනීමට අවශ්‍ය වෘත්තිකයන් වන ගිනි නිවන භටයින්, ප්‍රහාරයකට මුහුණ දෙන හමුදා භට කණ්ඩයක්, හදිසි ප්‍රතිකාර අංශයේ වෛද්‍යවරුන්, ප්‍රහාරක ගුවන් යානා නියමුවන් අතර නවකයකුට වඩා ප්‍රවීණයකු තීරණ ගන්නා ආකාරයේ වෙනසක් ඇත. ප්‍රවීණයන් දකින දේ මත ඔවුන්ගේ සිත කළ යුත්තේ කුමක් දැයි ඔවුනට උපදෙස් දෙයි. මෙවන් අවස්ථාවල ඉහත වෘත්තිකයන් බොහෝවිට ජීවිතය හා මරණය තීරණය කරන තීරණ ගන්නේ තාර්කික (Rational) තීරණ ගැනීමේ ආකෘතිය භාවිත කරමින් නොව තමන්ගේ අන්තර්ඥානය (Intuition) මත පාදක වෙමින් තීරණ ගැනීමේ ආකෘතිය භාවිත කරමිනි.

☞ ප්‍රවීණයකුට තම අත්දැකීම් මත යම් අවස්ථාවක් තුළ දැක්නට ලැබෙන රටාවන් හා ඉඟි ක්ෂණිකව හඳුනා ගැනීමටත් එමඟින් ඊට සමාන තමාට පෙර මුණගැසුණු අවස්ථාවලට අදාළ තොරතුරු මත ක්ෂණිකව තීරණයකට එළඹීමටත් හැකියාව තිබේ. ප්‍රතිඵලය වනුයේ ඉතාමත් සුළු තොරතුරු ප්‍රමාණයක් පමණක් ඇතැයි පෙනීයන අවස්ථාවලදී වුවද අන්තර්ඥානය මත පදනම්ව වේගවත් තීරණ ගැනීමට හැකිවීමයි.

# 21. රූමත් කතක් කර තබාගෙන ගිය භික්ෂුව

ගමනක් යමින් සිටි තරුණ භික්ෂුවක් සහ මහලු භික්ෂුවක් සැඩ පහරක් සහිත ගඟක් අසලට පැමිණියහ. මෙම ගඟෙන් එතෙර වීමට නොහැකිව සිටි රූමත් තරුණ කතක් තමාට ගඟෙන් එගොඩ වීමට උදව් කළ හැකිදැයි භික්ෂූන් දෙදෙනාගෙන් විමසුවාය. මහලු භික්ෂුව මීට තරමක් පැකිළුණුමුත් තරුණ භික්ෂුව වහාම ඉදිරිපත්වී ඇයව කරතබාගෙන ගඟෙන් එගොඩ කළේය. නැවතත් භික්ෂූන් දෙදෙනාම ගමනට පිටත් වුවත් මහලු භික්ෂුව වැඩි කතාබහක් නැතිව ගමන් කළේය. ඔවුන් දෙදෙනා රාත්‍රියේ පන්සලක නවාතැන් ගත් අතර රාත්‍රියේ ඇහැරුණු තරුණ භික්ෂුව දුටුවේ මහලු භික්ෂුව නිදි වර්ජිතව කල්පනා කරමින් සිටින බවය. මේ පිළිබඳව තරුණ භික්ෂුව මහලු භික්ෂුවගෙන් විමසූ විට තවදුරටත් නිශ්ශබ්දතාව රැක ගත නොහැකි වූ ඔහු කතා කළේය. "අපට විනය නීති අනුව කියාදී තිබෙන්නේ කාන්තාවන් ස්පර්ශ නොකළ යුතු බවයි. එහෙත් අද ඔබ තරුණ රූමත් කාන්තාවක් කර උඩ තබාගෙන ගමන් කළා." මෙය ඇසූ තරුණ භික්ෂුව "මම ඇයව ගඟෙන් එතෙරදී බිම තබා ආවා. ඒත් ඔබ වහන්සේ තවමත් ඇයව කරතබා ගෙන ඉන්න හැඩයි." යනුවෙන් පැවසීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- තරුණ භික්ෂුව තමාට ඉගැන්වූ න්‍යායයන්ට නොව තම හෘදය සාක්ෂියට ඇහුම්කන් දී කළ යුතු නිවැරදි දේ කළේය.
- තමා ස්වාධීන විය යුතුය. අන් අය කියන නිසාවත්, තම ආගමේ උගන්වන නිසාවත්, සම්ප්‍රදායානුකූලව එසේ කියන නිසාවත්, යමක් නොකර තමාගේ සිතට එකඟව එය අන් අයට හෝ තමාට හානියක් හෝ හිරිහැරයක් නොවන දෙයක් නම් කළ යුතු අතර, ඒ ගැන පසුතැවිලි විය යුතු නැත.
- යමක් වූ පසු සමහරු එය අමතක කර දමා අනිකුත් කටයුතු කරගෙන යන අතර සමහරු එම සිදුවීම නැවත නැවත සිහිකරමින් ඒ මතම කාලය ගත කරති.
- බෞද්ධ දර්ශනය අනුව  භික්ෂුවට වරද වන්නේ ගැහැණියක භෞතිකව ස්පර්ශ කිරීම නොව ඇයව රාග සිතින් මෙනෙහි කිරීම හෝ කාමසිත් උපද්දවා ගැනීමයි.
- අප මෙතෙක් උගත් දෙය, අපගේ ආගම  ධර්මය සංස්කෘතිය ආදිය ස්වාධීන චින්තනයට බාධාවකි. ඒවා පැත්තකින් තබා තමාගේම මනසින් සිතා බලන්න.

# 22. කන්ද ඉවත් කිරීමේ න්‍යාය

ඈත අතීතයේ දුෂ්කර පළාතක කුඩා ගමක් තිබුණා. මේ ගම හා එහා ගම අතර විශාල කන්දක් තිබුණු නිසා ගම් දෙක අතර ගමන් කිරීමට දින හතක් වත් ගත වුණා. මේ ගමේ ජීවත් වුණු මහලු සීයා කෙනෙක් හිතුවා මේ කන්ද හරහා උමං මාර්ගයක් හැදුවොත් දිනක් තුළ එහා ගමට යා හැකියි කියලා. ඔහු මේ අදහස තම බිරිඳට කිව්වහම ඇය ඇහුවා, "අනේ හැබෑට මේ නහින දෙහින කාලෙට ඔහේගේ මොළෙවත් නරක්වේගෙන එනවද? ඔය මහ කන්ද කපන්න අපිට පුළුවන්ද? "කියලා. මින් අධෛර්යයට පත් නොවුණු සීයා මහා උගතකු වන ගම් ප්‍රධානියා හමුවී තම අදහස පැවසුවා. ඔහු ව්‍යාපාර උපදේශකවරයකු මෙන් ගණන් හදා බලා කීවේ "මේක කිසිසේත්ම කරන්න බෑ. මේක කපන්න නම් පස් කූඩ මිලියන දෙලක්ෂයක් කපා ඉවත් කරන්න වෙනවා. ඒ සඳහා මිනිසුන් පන්ලක්ෂයක්වත් අවශ්‍ය වෙනවා. අඩුවශයෙන් අවු 60 ක් වත් යනවා, සීයා වැඩිම වුණොත් තව අවුරුදු 20 ක් ජීවත් වෙයි. මේක කීයටවත් කරන්න බෑ". මේ වගේ අහපු හැමෝම සීයාට දුන්න පිළිතුර වුණේ ඔය වැඩේ අත් හැරලා දාන්න කියපු එකමයි. ඒත් සීයා අධෛර්යයට පත් වුණේ නෑ. ඔහු කීවා මට මේක ඉවත් කරන්න බැරි වුණත් මගේ පුතෙක් හරි පුතාගේ පුතෙක් හරි මේක ඉවර කරයි කියලා. ඔහු තනියම පස් කූඩයක්, උදැල්ලක්, ගල් ඉන්නක්, අරගෙන වැඩේට බැස්සා. දවසක් දෙකක් යන කොට සීයගේ පුතාලත් මේක බලන් ඉන්න බැරිකමට තාත්තාට බැණ බැණ උදව්වට ආවා. පාර ගැන ආරංචිය ලැබුණ එහා ගමේ උදවියත් ඒ පැත්තෙන් පාරක් කපන්න ගත්තා. මේ විදියට යනකොට අවුරුදු කිහිපයක් තුළ වැඩේ අවසන් වෙලා ගම් දෙකටම විශාල යහපතක් වුණා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අභිප්‍රේරණය (Motivation) සංවර්ධනාත්මක පෙළඹවීමක් විය යුතුය.
- යමක් කරන්න ගියහම මුල, මැද, අග යන තුන් අවස්ථාවේදීම වීර්යය යෙදිය යුතු බව බුදුන් වහන්සේ කියලා තියෙන බව අපි දහම් පාසල් පොතක ඉගෙන ගත්තා. ඒ වගේම මාඕ සේතුන් කීවේ ගව්වක් දුර ගමනක් යන්න වුණත් මුල් පියවර තැබිය යුතුයි කියලා. ජන කතාවක් ආශ්‍රයෙන් සැකසුණු කන්ද ඉවත් කිරීමේ න්‍යායයෙන් ස්වයං අභිප්‍රේරණය හා ඉලක්ක කරා ළඟාවීමේ දැඩි අධිෂ්ඨානය,තුළින් විශාල ඉලක්ක අත්පත් කර ගත හැකි බව ආදි පාඩම් රැසක් පෙන්නුම් කරනවා.
- අඳුරට බනිමින් සිටිනවාට වඩා පහනක්වත් දැල්වීම සුදුසුය.

# 23. හඳේ අගය

නසරුදීන් භෝජනාගාරයක් තුළට ගොස් “හඳ ඉරට වඩා ප්‍රයෝජනවත්” යැයි ප්‍රකාශ කළේය. එහි සිටි අයෙක් “ඒ මොකද මුල්ලා” යැයි ඇසුවේය. “අපට දවල්ට වඩා ආලෝකය අවශ්‍ය වන්නේ රෑටනේ” නසරුදීන් පිළිතුරු දුනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඉරෙන් ආලෝකය දීම අප අගය කරන්නේ නැත. එය සාමාන්‍යයෙන් විය යුතු දෙයක් (taken forgranted ) සේ අප දකී. අම්මා ආහාර පිසදීම විශේෂයක් ලෙස ළමුන් නොදකී. එය කළ යුතු දෙයක් බව ඔවුහු සිතති. එහෙත් තාත්තා ආහාර පිසදීම විශේෂයක් ලෙස ඔවුහු දකිති.
- අපට යමක් වඩාත්ම අවශ්‍ය වන්නේ එහි අගය දකින්නේ එය සුලභව තිබෙන විට නොව එය ඉතා අඩුවෙන් ඇති විටය.
- හඳේ ආලෝකයේ ප්‍රභවයද ඉරය, එහෙත් කවියන් වඩාත් වර්ණනා කරන්නේද, මිනිසුන් බලා සිටින්නේද, හඳ දෙසය. සමහර අවස්ථා වල මිනිසුන් තීරණ ගන්නේ මතුපිටින් ඇති දේ සලකාය.
- Quality is appreciated when there is no Quality
- හිරුගේ අගය තේරෙන්නේ වළාකුළු ඇති විටයි.
- සමහර අවස්ථාවල මිනිසුන් තීරණ ගන්නේ මතුපිටින් පෙනෙන්නට ඇති දේ පමණක් සලකා බලාය.

# 24. ගිනි ගත් ගෙය

දිනක් තම නිවසට යාබද ගෙයක් ගිනි ගන්නා බව දුටු තරුණයෙක් වහා ඉදිරිපත් වී ගින්න නිවීමට පටන් ගත්තේය. ඒ අසලින් ගමන් ගත් පිරිසක් ඔහුට උසුළු විසුළු කරමින් එම ගින්න නිවිය නොහැකි බවත් ඔහු මෝඩයෙක් බවත් ඔහු කරන්නේ වැරදි වැඩක් බවත් කියමින් නින්දා අපහාස කිරීමට පටන් ගති. එම නින්දා අපහාස නොතැකූ තරුණයා දිගටම ගින්න නිවීමේ නියැලුණි. මෙම තරුණයා නැවත දිනක, ගෙයක් ගිනි ගන්නා බව දැක එය නිවීමට පටන් ගත්තේය. එදින එහි රැස්වූ අසල්වාසීන් තරුණයාගේ ක්‍රියා අගය කරමින් ඔහුව උද්‍යෝගිමත් කළෝය. එයද නොතැකූ තරුණයා දිගටම ගින්න නිවීමේ නියැලුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ යමක් කළ යුතු බව තමාට වැටහේ නම් අන් අයගේ නින්දා හෝ ප්‍රශංසා නොතකා කළ යුතු දෙය කරන්න.

# 25. මිරිස් කැපීම

දිනක් මම මගේ මිතුරකු සංවිධානය කළ දානේ ගෙදරක ආහාර පිසීමේ වැඩවලට උදව් වීමට ගියෙමි. ඔහුගෙන් කළ යුත්තේ කුමක්දැය විමසූ විට අමු මිරිස් කිලෝ 2ක් දී එය කෑලිවලට කපන ලෙසට දැන්වීය. මම කිලෝවක් පමණ කපා අවසන් වූ පස මගේ මිතුරාගේ මව එතනට පැමිණියාය. මේ මිරිස් කපන්නේ කුමන ව්‍යංජනයකට දැමීමටදැයි ඇය මගෙන් විමසුවාය. පිළිතුර මම දන්නේ නැතිබවත් මගේ මිතුරා මිරිස් කැපීමට කී බැවින් කපන බවත් මම කීවෙමි. එවිට ඇය මිතුරාට කතා කර මෙම මිරිස් කුමන ව්‍යංජනයටදැයි ඇසූ විට ඔහු කිවේ එය ගොටුකොළ සම්බෝලයට බවයි. එවිට ඇය මිරිස් සියල්ල ඉවතලන ලෙස පවසා ගොටු කොළ සම්බෝලයට මිරිස් ලියන විට මීට වඩා හීනියටත් හැඩයටත් කැපිය යුතු බව පැවසුවාය. ඇගේ මෙම ක්‍රියාවෙන් මාත් සමඟ සිටි මිතුරන් කීප දෙනෙක් උරණ වුවත් මම ඉන් ඉතා වටිනා පාඩමක් උගත්තෙමි. ඒ යමක් කරන විට එහි අරමුණ නොදැන කළොත් එහි ප්‍රයෝජනයත් නැති විය හැකි බවයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අරමුණ දැන තම අරමුණට අනුකූලව ඒ වෙත ළඟාවීමට, කරන සියලුම ක්‍රියාකාරකම් සකස් විය යුතුය.
- කැපූ මිරිස් විසි නොකර එම කැපූ ආකාරය අනුව ප්‍රයෝජනයට ගත හැකි වෙනත් ව්‍යංජනයකට දැමිය හැකිව තිබුණි.
- විමසා බලා කටයුතු කිරීමෙන් සිදුවන පාඩු අවම කරගත හැකිවා මෙන්ම වෙහෙස හා කාලය නාස්ති වීමද අවම කර ගත හැක

# 26. සමාජ අපේක්ෂා

දිනක් මා සමාජ සේවා ආයතනයක නවක ස්වේච්ඡා සේවකයන් පිරිසක් හමුවේ දේශනයක් පවත්වමින් සිටියෙමි. ඉතා අලංකාර සල්වාර් ඇඳුමක් ඇඳ සිටි තරුණියකට සභාව ඉදිරියට පැමිණ සිටගන්නා ලෙස පැවසූ මම එහි සිටි එක් තරුණයකු අමතා මෙසේ කීවෙමි. "අපි කවුරුත් දන්නවානේ මුදිත විශ්ලේෂණය කිරීමේ දක්ෂතා ඇති කෙලින්ම විවේචනය කරන කෙනෙක් බව. හොඳයි මුදිතට මොනවද කියන්න තියෙන්නේ මෙයාගෙ ඇඳුම සම්බන්ධයෙන්" මුදිත සල්වාර් ඇඳුම ගැන විශ්ලේෂණයක් සහ විවේචනයක් කළේය. ඉන් පසු එහි සිටි තවත් තරුණයකු අමතා මා කීවේ "අපි කව්රුත් නීල්ව හඳුනාගෙන ඉන්නේ සෞන්දර්යාත්මක සිතක් ඇති කලාකාරයකු ලෙස ඔබට මොනවද කියන්න තියෙන්නේ මෙයාගෙ ඇඳුම ගැන". නීල් කවියකින් තම විවේචනය ඉදිරිපත් කරන්නදැයි අසා ඇඳුම මෙන්ම හදවතද ලස්සන විය යුතු බවට ප්‍රකාශ වන හිටිවන කවියක් කීවේය. මේ උදාහරණය උකහා දක්වමින් මා කීවේ සමාජය විසින් යම් අයකුගෙන් යම් ආකාරයක හැසිරීමක් බලාපොරොත්තු වනවා නම් බොහෝ විට එම පුද්ගලයා සමාජය බලාපොරොත්තු වන ආකාරයට හැසිරෙන බවත් එම අපේක්ෂා නොබිඳින බවත්ය. උදාහරණයක් ලෙස මම අවංක කෙනෙක් හැටියට ඔවුන් මාව වර්ණනා කළොත් ඇත්තටම මා කපටියකු වුවත් මා අවංකයකු ලෙස හැසිරෙන්නේ ඔවුන් මා ගැන තැබූ ප්‍රතිරූපය ආරක්ෂා කර ගැනීමට මට උවමනා නිසා බවත් පැවසුවෙමි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- මෙය self fulfilling prophecy හෙවත් පිග්මැලියන් බලපෑම (pygmalion effect) ලෙස හැඳින්වෙන සංකල්පයට උදාහරණයකි. මෙය එක් පුද්ගලයකු හෝ සමාජය දෙවැන්නකු වැරදි ලෙස සංජානනය කිරීමත්, දෙවැන්නා පළමුවැන්නාගේ හෝ සමාජයේ සංජානනයට පටහැනි නොවන ආකාරයෙන් නැතහොත් බලාපොරොත්තු වූ ආකාරයට හැසිරීමෙන් ඇතිවන තත්ත්වයකි.

# 27. ඔරලෝසු තනන්නා

භාවනාවට කැපවුණු උපාසකයෙක් බෞද්ධ භික්ෂුවක් හමුවීමට ගියේය.

**උපාසක** - මම මේ වන විට බෞද්ධ දර්ශනය පිළිබඳව පොත් දහසකට වඩා කියවලා තියෙනවා. ඒ වගේම අවම වශයෙන් දිනකට පැය දෙකක්වත් බුදු පිළිමය ඉදිරියට ගොස් මල් පහන් තියලා හඳුන්කූරු පත්තුකරලා ගාථා කියනවා. ඒ විතරක් නොවෙයි මම යන එන හැමතැනදීම මට නිවන් ලැබේවා, මට නිවන් ලැබේවා කියලා ප්‍රාර්ථනා කරනවා. බුදුන්ගේ සූත්‍ර අනුලෝම පටිලෝම වශයෙන් සජ්ජායනා කරනවා . මට දැන ගන්න ඕන ඔබ වහන්සේ හිතන විදියට මම යන මාර්ගය නිවැරදිද කියලා.

**භික්ෂුව** - අපි හිතමු යම් විද්‍යාඥයෙක් ලෝකයේ ප්‍රථම වරට ඔරලෝසුවක් නිෂ්පාදනය කළා කියලා. ඉන් පසුව ඔහු ඔරලෝසුවක් තනන ආකාරය ගැන පොතක් ලිව්වා කියමුකෝ. පසුකාලයක යම් අයකුට ඔරලෝසුවක් නිෂ්පාදනය කිරීමට අවශ්‍ය වුණොත් කළ යුත්තේ කුමක්ද? ඒ පුද්ගලයා ඔරලෝසුව නිපදවූ විද්‍යාඥයාගේ ඡායාරූපයක් සොයා ගෙන එය බිත්තියේ එල්ලලා දිනපතා පින්තූරය වෙත ගොස් මල් පහන් පූජා කරලා හඳුන්කූරු දැල්වූවොත් ඔරලෝසුවක් හැදේවිද?

**උපාසක** - නෑ

**භික්ෂුව** - ඔරලෝසුවක් නිපදවීමට අවශ්‍ය වූ පුද්ගලයා දිනපතා යාඥා කළොත් හෝ ප්‍රාර්ථනා කළොත් මට ඔරලෝසුවක් ලැබේවා මට ඔරලෝසුවක් ලැබේවා කියලා ඒ පුද්ගලයාට ඔරලෝසුවක් ලැබේවිද?

**උපාසක** - නෑ

**භික්ෂුව** - ඔරලෝසුව අවශ්‍ය පුද්ගලයා විද්‍යාඥයා ලියූ පොත මුල සිට අගටත් අගසිට මුලටත් ශබ්ද නගා කියෙව්වොත් ඔරලෝසුවක් හැදෙයිද?

**උපාසක** - නෑ

**භික්ෂුව** - එහෙනම් එම පුද්ගලයා ඔරලෝසුවක් නිෂ්පාදනය කළ යුත්තේ කෙසේද?

**උපාසක** - ඔහු හෝ ඇය එම පොත හොඳින් කියවා එය වටහා ගෙන අවශ්‍ය අමුද්‍රව්‍ය, ආයුධ සහ උපකරණ සපයා ගෙන එම පොතේ තියෙන පිළිවෙළ අනුව සිතුවිලි, වචන හා ක්‍රියාව මෙහෙයවා කටයුතු කළ විට ඔහුගේ අරමුණ වන පළමු විද්‍යාඥයා නිපදවූ ඔරලෝසුව වැනිම ඔරලෝසුවක් ඔහුටත් ලබා ගත හැකියි.



**භික්ෂුව** - සත්තකින්ම, ආගම පිළිපැදීමත් නිවන් දැකීමත් ඒ වගේම තමයි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔරලෝසුව නිපදවීමට අවශ්‍ය වූ පුද්ගලයා පොතේ හැටියට නොව තමාට ඕනෑ විදියට ඔරලෝසුවක් නිපදවීමට ගියොත් වෙන්නේ කුමක්ද?

☞ පොත කියවා වටහා ගත් තැනැත්තා එහි ඇති ක්‍රමවේදයේ යම් අංගයක් නිසි අවබෝධයකින් යුතුව නිර්මාණශීලීව වෙනස් කළොත් වඩාත් හොඳ ඔරලෝසුවක් නිපදවීමට හැකිවේවි.

☞ සමහර දේවල් අර්ථය දැනගෙන කළත් අර්ථය නොදැන කළත් ප්‍රතිඵල අත්වේ. උදාහරණ ලෙස පැරසිටමෝල් බී වේදනාව නැතිකර ගැනීමට පැරසිටමෝල්වල සංයුතිය එය ශරීරයේ ක්‍රියා කරන ආකාරය ආදිය ගැන ඔබ දැන සිටිය යුතු නැත. එමෙන්ම වස කියා නොදැන උග්‍ර විසක් පානය කළොත් එම පුද්ගලයා මියයයි.

☞ දර්ශණය අවබෝධ කරගෙන සිටීම වැදගත්.

# 28. පරාල ඇණේ

ඉතාමත් ඉක්මණින් කේන්ති යන ළමයෙක් සිටියේය. ඔහුගේ පියා ඔහුට පරාල ඇණ මල්ලක් දී ඔහුට කේන්ති යන සෑම විටකම එක් පරාල ඇණයක් බැගින් ගෙදර ඉදිරිපස ලෑලි වැටේ ගසන ලෙසට කීවේය. පළමුවන දිනයේදී පරාල ඇණ 37 ක් වැටේ තිබුණි. ඉදිරි සති කීපය තුළදී ඔහු තමාගේ කේන්තිය පාලනය කරගැනීමට ඉගෙන ගැනීම නිසා දිනපතාම වැටට ගසන පරාල ඇණ ප්‍රමාණය අඩුවිය. අවසානයේදී එක්වරක්වත් කේන්ති නොගිය දවසක් උදා විය. ඔහු වහාම ගොස් තම පියාට මේ බව දැන්වීය. පියා යෝජනා කළේ ඔහුට කේන්ති නොයන සෑම දිනකටම එක් පරාල ඇණය බැගින් ගලවා නැවත මල්ලට දමන ලෙසයි. දින, සති, මාස ගණන් ගෙවී ගියේය. කේන්තියාම පාලනය කර ගැනීමට ගිය කාලයට වඩා වැඩි කලක් ගතවුවත් වැටේ ගසා තිබූ අවසාන ඇණයත් ගැලවූ දිනය උදා විය. පුතා මේ බව පියාට දැන්වූ විට පියා ඔහුත් සමග වැට ළඟට ගියේය. "පුතා හොඳට කේන්තිය පාලනය කරන්න ඉගෙන ගෙන තියෙනවා.මගේ සුභ පැතුම්. ඒත් බලන්න වැටේ තිබෙන සිදුරු දිහා. වැට කවදාවත් මුලින් තිබුණු තත්ත්වයට ආයෙත් ගන්න පුළුවන් කමක් නෑ. කේන්තියෙන් යමක් කළාම හෝ කිව්වාම මේ වගේම තුවාල කැළැල් අනිත් අයගේ සිත්වල ඇතිවෙනවා. යමෙකු මිනිහෙකුට පිහියකින් ඇන කොච්චර වතාවක් සමාව ගත්තත් තුවාලයේ කැළල පවතිනවා. භෞතික තුවාල වගේම මානසික තුවාලත් ඉතාමත් වේදනාකාරීයි. ඒ වගේම නොමැකෙන කැළැල් ඉතිරි කරනවා".



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ කටින් වචනයක් පිටවූ විට එය නැවත ආපසු ගැනීම කළ නොහැක

☞ ගිය නුවණ ඇතුන් ලවාවත් අද්දවා ගත නොහැක.

# 29. ඉණිමඟකින් වැටී

පශ්චාත් උපාධි ශිෂ්‍යයකු වු ජිම් සට්ක්ලිෆ්ට සමූහ චර්යාව අධ්‍යයනය කිරීම සඳහා විශ්ව විද්‍යාල පැවරුමක් කිරීමට සිතුණි. ඔහු ඇල්ක්‍රොෆ්ට් ගෘහ භාණ්ඩ නිෂ්පාදන කර්මාන්ත ශාලාවේ රැකියාවකට බැඳුණේ මෙම පැවරුම සඳහාය. ජිම් වැඩ පටන්ගත් මුල්ම දිනයේ ඔහුගේ වැඩ කණ්ඩායමේ අනෙකුත් සගයෝ ඔහු හමුවී ඔහු වැඩ කළ යුතු ආකාරය, ඔහුගෙන් බලාපොරොත්තු වන හැසිරීම් ආදිය පැහැදිලි කර දුන්හ. පළමු දිනයේ දී ජිම් ඉතා මහන්සියෙන් සහ වේගයෙන් වැඩ කළේය. වැඩ කණ්ඩායමේ වැඩිම සේවා කාලයක් සහිත සාමාජිකයා වන ෆ්‍රෑන්ක්, ජිම්ට පැවසුවේ එතරම් වේගයෙන් වැඩ කිරීමට අවශ්‍ය නැති බවත් දැනටමත් තම කණ්ඩායම අවශ්‍ය පාරිතෝෂික දීමනා ලැබෙන ප්‍රමාණයට වැඩ කිරීමේ නියම වේගය සකස් කරගෙන ඇති බවත්ය. ජිම් මෙය තම විශ්වවිද්‍යාල අධීක්ෂකවරිය සමඟ සාකච්ඡා කර දෙවන දවසෙ වැඩට ගොස් පළමු දිනයේ තරම්ම වේගයෙන් වැඩ කරගෙන ගියේය. මෙදිනද ෆ්‍රෑන්ක්. ජිම්ට කතා කර අනියම් ආකාරයෙන් තර්ජනය  කළේ, ජිම් කණ්ඩායමට වඩා වේගයෙන් වැඩ කළහොත් අනික් සාමාජිකයන් ඔහු සමග අමනාප විය හැකි බව කියමිනි. විශ්වවිද්‍යාල පැවරුමේ කොටසක් ලෙස ජිම් මෙම සංවාද පටිගත කරගෙන ඒවා විශ්වවිද්‍යාලයේ අධීක්ෂකවරිය සමඟ ද සාකච්ඡා කළේය.

ඊළඟ සති කිහිපය තුළ කණ්ඩායම ජිම්ව නොරුස්සන තත්ත්වයකට පැමිණි අතර වඩ වඩා ප්‍රචණ්ඩ ක්‍රියා මාර්ග කෙරෙහි යොමුවිය. මුලින්ම ඔවුහු ජිම් සමග කතා කිරීම නැවැත්වූහ. දෙවනුව ජිම්ගේ කාර් එක මත ලී වගයක් අහම්බෙන් වට්ටවා ඩොලර් 1200 ක පමණ හානියක් කළෝය. මේවිට ජිම්ගේ විශ්වවිද්‍යාල අධීක්ෂකවරිය පැවරුම නවත්වා දැමීමට යෝජනා කළත් ජිම්ට තව සතියක්වත් මෙය ඉදිරියට කරගෙන යාමට අවශ්‍ය විය.

ඊළඟ සතියේ බ්‍රහස්තිපතින්දා සවස තේ විවේකයේදී ෆ්‍රෑන්ක් ජිම්ගෙන් ඇසුවේ තම කණ්ඩායම අවුරුදු ගණනක් තිස්සේ වැඩ කළ ආකාරය සැළකිල්ලට නොගනිමින් ඔහු මෙසේ හැසිරෙන්නේ ඇයි යන්නයි. ජිම් කීවේ තමාට යම් දිනක කළමණාකරුවකු වීමේ අදහසක් ඇති බවත්, තමාට දිනක වැටුපට සාධාරණයැයි සිතුන වැඩ කොටසක් කළ බවත්ය. මීට පිළිතුරු ලෙස ෆ්‍රෑන්ක් පැවසුවේ කණ්ඩායමත් සමග එකට වැඩ කළ නොහැකි අය උසස්වීම් ලබනු වෙනුවට පාරිහානියට පත් වන බවයි. මෙසේ කියු ෆ්‍රෑන්ක් ජිම්ට පිටුපා යන්න ගියේය. පසු දින ජිම් ඉණිමඟකින් වැටී අතක් කැඩී රෝහල්ගත කරන ලදී. කවුරුන් හෝ ඉණිමඟ තල්ලු කර තමාව වැට්ටවූ බව ජිම්ට හොඳටම විශ්වාස වුවත් ඔහුට එය ඔප්පු කිරීමට කිසිදු සාක්ෂියක් නොවීය. ජිම් ඔහුගේ වැඩ කණ්ඩායමෙන් සහ රැකියාවෙන් ඉවත් වුණු අතර රෝහල් ඇඳේ සිට තම විශ්වවිද්‍යාල පැවරුම ලිවීමේ නිරත විය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ ඇත්තටම ජිම් වැටුණාද වැට්ටුවාද? ජිම් තමාව වැට්ටවූ බවට උපකල්පනයකට පැමිණියේ ඊට පෙර සිදුවූ සිදුවීම් නිසාද?
- ☞ අනතුර පිළිබඳව සංඥා දැක දැකත් ඔහු එය නොසළකා හැරීම අනුවන ක්‍රියාවකි.
- ☞ සමාජය වෙනස් කිරීමට අවශ්‍ය නම් උපක්‍රමශීලීව ඉවසිල්ලෙන් එසේ කළ යුතුය

# 30. ගෝනුස්සා, ගෙම්බා සහ භික්ෂුව



බෞද්ධ භික්ෂූන් වහන්සේ දෙනමක් මුහුණ සේදීමට ගඟක් අසලට ගිය විට ගඟට වැටී දඟලන ගෝනුස්සකු දුටුවහ. එක් භික්ෂුවක් වහාම අත දමා ගෝනුස්සාව ඉවුරේ තිබූ ගස් අත්තක තැබුවේය. මෙම ක්‍රියාවලියේදී ගෝනුස්සා භික්ෂුවට දෂ්ඨ කළේය. තවත් සුළු මොහොතකින් නැවතත් ගෝනුස්සා ගස් අත්තෙන් දියට වැටුණු අතර භික්ෂුව නැවතත් ගෝනුස්සාව ඔසවා ඉවුරෙන් තබන ලදී. ගෝනුස්සා නැවතත් භික්ෂුවට දෂ්ඨ කරන ලදී. මෙය බලා සිටි අනිත් භික්ෂුව ගෝනුස්සාගේ ස්වභාවය දෂ්ඨ කිරීම බව දැන දැනත් ඔබ නැවත නැවතත් ගෝනුස්සාව බේරා ගැනීමට ඉදිරිපත් වූයේ ඇයි? යනුවෙන් ප්‍රශ්න කළේය. ගෝනුස්සා බේරාගත් භික්ෂුව උත්තර දෙමින් කීවේ. "ඒ අනුන්ට පිහිටවීම මගේ ස්වභාවය නිසයි" යනුවෙනි.

**මෙම කතාවේම මීට වඩා වෙනස් ස්වරූපයක්ද පවතී.**

ගඟක් අද්දර සිටි ගෙම්බකු හමුවූ ගෝනුස්සෙක් තමන්ව පිට උඩ තබා ගෙන එගොඩ කරන ලෙස ඉල්ලා සිටියේය. බැරිවෙලාවත් මෙගොඩදීම මම ඔහේව පිට උඩට ගත්ත ගමන් ඔහේ මට දෂ්ඨ කළොත් මොකද වෙන්නේ ?"යනුවෙන් ගෙම්බා ප්‍රශ්න කළේය.



"එහෙම කළොත් මට එගොඩ යන්න වෙන්නෙ නෑනෙ. මම එහෙම පාඩුවක් කර ගැනීම තර්කානුකූල නෑනෙ" යනුවෙන් ගෝනුස්සා පිළිතුරු දුණි.

"බැරිවෙලාවත් ගඟ මැදදී ඔහේ මට දෂ්ඨ කළොත්? " ගෙම්බා නැවත ඇසීය.

"ගඟ මැදදී මම ඔහේට දෂ්ඨ කළොත් මමත් ගිලිලා මැරෙයිනේ. මම එහෙම තර්කානුකූල නැති වැඩක් කරයිද?" ගෝනුස්සා පිළිතුරු දුණි.

"හොඳයි එතකොට එගොඩ ගිහිල්ලා ඔහේගේ වැඩේ කර ගත්තාට පස්සේ ඔහේ මට දෂ්ඨ කළොත් " ගෙම්බා නැවතත් ඇසීය.

"පිස්සුද මම එහෙමත් කරනවද? මම කළගුණ සළකන කෙනෙක්" ගෝනුස්සා පිළිතුරු දුණි.

කමක් නෑ ඕන දෙයක් උනාවේ, ගෝනුස්සා කියන කතාවේ ඇත්තකුත් තියෙනවානේයි සිතූ ගෙම්බා ගෝනුස්සාවත් පිට මත තබා ගෙන ගඟෙන් එගොඩට පිහිනීමට පටන් ගත්තේය. හරියටම ගඟ මැදදී ගෝනුස්සා ගෙම්බාට දෂ්ඨ කරන ලදී. මෙයින් පුදුමයට පත්වූ ගෙම්බා ඇසුවේ

"මොකක්ද ඒ කළේ දැන් අපි දෙන්නම ගිලිලා මැරෙනවා නේද? ඒක තර්කානුකූල නැති බව කීවේ ඔහේම නේද?"



"ඔව් ඒත් මොනවා කරන්නද දෂ්ඨ කරන එක මගේ ස්වභාවයනේ" ගෝනුස්සා පිළිතුරු දුණි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ කොපමණ තර්ක විතර්ක ඉදිරිපත් කළත් මූලික ගති ස්වභාව වඩා ප්‍රබලය.
- ☞ භික්ෂුවට තමාගේ අනුන්ට පිහිටවීමේ ස්වභාවය ආරක්ෂා කර ගනිමින් කෝටු කෑල්ලක් ගෙන ගෝනුස්සාව ගොඩට දැම්මානම් දෂ්ඨ කර නොගෙන එසේ කළ හැකිව තිබුණි
- ☞ භික්ෂුව එසේ කළේ තමාට වෙන හානිය ගැනවත් නොසිතා අනුන්ට උදව්වීම ඔහුගේ පුරුද්ද බැවිනි. තමාට වන අලාභය ගැන නොසිතා නිවැරදි දෙය කරන්න. තර්කය යහපත් දෙය කිරීමට බාධාවකි.
- ☞ භික්ෂුව ගෝනුස්සාගේ ස්වභාවය නිසා ඌට වෙනස් කමක් නොකළේය. ඔහු ජීවිතයක් බේරා ගති. දෂ්ඨ කිරීම, උසස් ප්‍රතිපත්තිවලට ඇලී සිටීමට ලැබුණු ත්‍යාගයක් ලෙස ඔහු බාර ගති.
- ☞ සමහර දේ කළොත් එයින් අපට හානියක් විය හැකි බව දැන දැනත් එය කිරීමට සිදුවේ. මන්දයත් එසේ නොකළහොත් එයින් අප අපගේ අධ්‍යාත්මයට කර ගන්නා හානිය ඊටත් වඩා බරපතල බැවිනි.
- ☞ භික්ෂුව තමාගේ යහපත් ස්වභාවය නිසා හානියක් කර ගත්තේ තමාට පමණි. ගෝනුස්සාට යහපතක් වුණි. එහෙත් ගෙම්බා තමාගේ යහපත් ස්වභාවය නිසා තමාට පමණක් නොව ගෝනුස්සාටද හානියක් වීමට ඉඩ සලස්වන ලදී. අප අතර සිටින සමහරුන්ද තමන්ගේ යහපත් ස්වභාවය නිසා අන් අයටත් හානිවීමටද ඉඩ හැර ඔහේ බලා සිටී.

# 31. සතියකට වරක් රැස්වූ තරුණ සමිතිය

ගුණපාල වින්ඩ්සර් මහතා 1960 - 70 දශකවල මාගාල්ලේ තරුණ සමිතියක් ආරම්භ කළේය. මෙම තරුණ සමිතිය ගමට විශාල සේවයක් කරමින් පවත්වාගෙන යන අතරතුර පියරත්න නම් අවුරුදු 16 ක පමණ තරුණයකු මෙම සමිතියට සම්බන්ධ විය. ඔහු සමිතියට බැඳුණු දා පටන් සමිති රැස්වීම්වලදී සීමාව ඉක්මවා ගිය උනන්දුවකින් කතා කළ අතර ප්‍රායෝගිකව කිරීමට අපහසු බොහෝ දේ ඔහු විසින් යෝජනා කරන ලදී. ඔහුගේ බොහෝ අදහස් තරුණ සමිතිය විසින් ක්‍රියාවට නොනඟන බව දුටු ඔහු දිනක් තරුණ සමිතියේ ලේකම්වරයාට ඔහුගේ අකාර්යක්ෂමතාව ගැන තදින් දෝෂාරෝපණය කර සමිතිය සෑම මසකට වරක් පැවැත්වීම ප්‍රමාණවත් නොවන බවත් සෑම සතියකට වරක් එය රැස්විය යුතු බවත් කියා සිටියේය. සමිතිය කල්තැබූ ගුණපාල වින්ඩ්සර් මහතා ලේකම්වරයා පුද්ගලිකව හමුවී ඊළඟ සභාවාරය වන විට ඉල්ලා අස්වන ලෙස ඉල්ලා සිටියේය. සැළසුම් කළ පරිදි පියරත්නව ලේකම් ලෙස පත් කරන ලදී. ඒ අතරම පියරත්න විසින් යෝජනා කරන ලද සතියකට වරක් සමිති පැවැත්වීම ඇතුළු ප්‍රායෝගික නොවන තවත් යෝජනා කීපයක්ද සභාව ඒකමතිකව අනුමත කරන ලදී. දැන් කතාවෙන් පමණක් නොව ක්‍රියාවෙන්ද තම යෝජනා ක්‍රියාවට නැංවීම පැවරුණේ පියරත්නටය.



ඔහුට සෙසු සාමාජිකයන්ට මෙවර සභාවේ සභා වාර්තාව බෙදා හැරීම, විශේෂයෙන්ම මෙවර නොපැමිණි සාමාජිකයන්ට ලබන සභාවාරයේ දිනය දැනුම්දීම ඇතුළු අනිකුත් යෝජනා ක්‍රියාත්මක කිරීමේ අතිවිශාල කාර්යභාරයක් පැවරුණි. එකල අද මෙන් තැපැල් සේවය කඩිනම් නොවූ නිසා සතියක් ඇතුළත අනික් සභාව පැවැත්වීමට නම් සෑම සාමාජිකයකුගේම ගෙදරට ගොස් සභාවාර්තාව සහ ඊළඟ සභාවේ න්‍යාය පත්‍රය බෙදා දීම කළ යුතුව තිබුණි. තරුණ සමිතියේ සම්පූර්ණ සාමාජිකත්වය 75 ක් වූ අතර සාමාන්‍ය සභාවකට පැමිණියේ 45 දෙනෙකු පමණි. සමහර සාමාජිකයන් ඈත දුෂ්කර ගම්වල ජීවත් විය. පියරත්න බයිසිකලය පැදගෙන මෙම නිවෙස් 75 ටම ගොස් දැන්වීම් බෙදා දී රැස්වීම කැඳවූ අතර සභාව තමාට ලබා දුන් අනිකුත් ඉලක්ක ළඟා කර ගැනීමටද වෙර දැරීය. කෙසේ හෝ ඔහු සතියකින් සභාව කැඳවීය. එහෙත් ඔහු සභාවට පැවසුවේ සතියකට වරක් සභාව කැඳවීම ප්‍රායෝගිකව කළ නොහැක්කක් බව තමාට අවබෝධ වූ බවත් තමා ලේකම් තනතුරෙන් ඉල්ලා අස්වන බවත්ය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ක්‍රියාවක බරපතල බව දන්නේ තමා විසින්ම එය කරන විටය

☞ ප්‍රායෝගික වීම ජීවිත සාර්ථකත්වයට බෙහෙවින් ඉවහල්වේ.

# 32. එළිය ඇති තැන සෙවීම

ඉතා කළුවර රාත්‍රියක මුල්ලා නසරුදීන් වීදි ලාම්පුවක් යට දණගාමින් යමක් සොයමින් සිටියේය. ඔහුගේ අසල්වාසී පිරිසක් ඔහු ළඟට පැමිණ "මොනවද නැතිවුණේ නස්රුදීන්" යැයි ඇසුවෝය. "මගේ ගෙදර දොරේ යතුර" නසරුදීන් පිළිතුරු දුණි. අසල්වාසීන්ද බිම දණ ඔබා ගෙන දිගු වේලාවක් යන තුරු සෙව්වද යතුර හමුවුණේ නැත. මේ වනවිට හතිවැටී සිටි එක අසල්වැසියෙක් "අපි බලන්න පුළුවන් හැමතැනම හෙව්වනේ. ඔබට හොඳටම විශ්වාසද යතුර බිම වැටුණේ මෙතනම කියලා?" යනුවෙන් ප්‍රශ්න කළේය. නසරුදීන් ඔහුගේ මුහුණ බලා "කොහෙත්ම නෑ මගේ අතින් ඒක වැටුණේ මගේ ගෙදර දොර ඉස්සරහ" යැයි පිළිතුරු දුණි. "එහෙනම් මෙතන හෙව්වෙ මොන එහෙකටද?" තවත් අසල් වැසියෙක් ප්‍රශ්න කළේය. "ඒක ඉතා පැහැදිලියිනේ. මෙතන හොඳට එළිය තියෙනවානේ" නසරුදීන් ඇඟට පතට නොදැනී කීවේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- වැරදි ස්ථානයක යමක් සෙවීම කෙතරම් පහසු වුවත් එයින් සොයන දෙය කිසිදාකත් හමුනොවනු ඇත. කෙතරම් දුෂ්කර වුවත් නිවැරදි තැන හෙව්වොත් එය හමුවණු ඇත.
- යමක් කිරීමේදීත් පහසුව නිසා වැරදි ක්‍රම භාවිතය දීර්ඝකාලීනව අකාර්යක්ෂම වන අතර නිවැරදි ක්‍රම භාවිතයෙන් වඩාත් හොඳ ප්‍රතිඵල ලබාගත හැකිය.
- ප්‍රශ්නයකට පිළිතුරු සෙවීමට බොහෝ අය උත්සහ කරන්නේ තමාට වඩාත් පහසු ක්‍රම වලිනි. එහෙත් එය පිළිතුරු සොයා ගැනීමේ සුදුසුම ක්‍රමය නොවිය හැකි වුවද එය වෙනස් කිරීමට සමහරු මැලිවේ.

# 33. ඇතා කව්රු වගේ ද?

කිසිදිනක ඇතෙක් දැක නැති දෘශ්‍යාබාධිත පිරිසක් ඇත් ගොව්වකු හමුවී ඇතා අතපත ගා ඇතාගේ හැඩරුව අවබෝධ කර ගැනීමට අවස්ථාවක් ඉල්ලු අතර ඇත්ගොව්වා ද ඊට එකඟ විය. පළමු දෘශ්‍යාබාධිත පුද්ගලයා ඇතාගේ දළයක් අල්ලා "ඇතා හරියට පොල් ලෙලි ගහන යකඩ ඉන්නක් වගේ" යැයි නිගමනයකට පැමිණුනි. දෙවැනි දෘශ්‍යාබාධිත පුද්ගලයා ඇතාගේ හොඬවැල අල්ලා "ඇතා හරියට තඩි පිඹුරෙක් වගේ"යැයි නිගමනය කළේය. තුන්වන දෘශ්‍යාබාධිත තැනැත්තිය ඇතාගේ කණක් අල්ලා "ඇතා හරියට කුල්ලක් වගේ" යැයි නිගමනය කළාය. හතර වැන්නා ඇතාගේ කකුළක් ස්පර්ශ කර "ඇතා හරියට වංගෙඩියක් වගේ" යැයි පැවසීය. පස්වැන්නා ඇතාගේ වලිගය අල්ලා "ඇතා කඹයක් වගේ" යැයි පැවසීය. හයවැන්නිය ඇතාගේ බඩ අල්ලා "ඇතා ගල් කුළක් වගේ" යැයි පැවසුවාය. හත්වැන්නා ඇතාගේ හොඬවැල ස්පර්ශ කර බලා එයින් ඇතා අවසන් නොවන බව වැටහී සම්පූර්ණ ඇතාම අතගා බලා ප්‍රකාශ කළේ "මම නම් ඇතාව තේරුම් ගත්තා, ඒත් ඇතා ඇතාවගේ මිස වෙන මොකක් වගේවත් නෙවෙයි" යනුවෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- සමස්තය දෙස බලා තීරණ ගන්න. එක් කොටසක් හෝ කොටස් කීපයක් බලා යම් දෙයක් හෝ යම් පුද්ගලයකු තේරුම් ගත නොහැක.
- අන් අයව තේරුම් ගැනීමේදී, ඇස් හොඳින් පෙනෙන අයත් මුල් දෘශ්‍යාබාධිතයින් හය දෙනා මෙන් ක්‍රියා කරනවා නොවේද?
- යම් දෙයක් හැඳින්වීමේ දී තවත් දෙයකට උපමා කිරීමෙන් වැරදි රූපයක් මැවිය හැක. වරක් එක් දේශකයකු පැවසුයේ පාරිභෝගිකයා රජෙක් වගේ කියාය. ඊට විරුද්ධ මතයක් පළ කළ තවත දේශකයකු කීවේ රජකුට මිනිසුන් ගරු කරන්නේ මුනිච්ඡාවට පමණක් බැවින් පාරිභෝගිකයාට තමන්ගේ දරුවකු ලෙස සළකා අව්‍යාජ සැළකිල්ලක් දැක් විය යුතු බවයි. මා කීවේ පාරිභෝගිකයා පාරිභෝගිකයකු මිස රජකුවත් දරුවකුවත් ලෙස දැකිය යුතු නොවන බවයි. රජකු හා යටත් වැසියකු අතර තිබෙන සබඳතාවේ යම් යම් විශේෂ ලක්ෂණ රැසක් පාරිභෝගික - සේවාදායක සබඳතාවය තුළ තිබිය හැක. එමෙන් ම දෙමව්පිය - දරු සබඳතාවක ලක්ෂණ රැසක්ද ඒ තුළ තිබිය හැක. පාරිභෝගිකයා සහ පාරිභෝගික සේවා නිලධාරියකු/ව්‍යාපාරිකයකු අතර ඇත සුවිශේෂී සබඳතාව තුළ ඉහත සබඳතා දෙකේම යම් යම් ලක්ෂණ පැවතිය හැකි වුවත් එම සබඳතාවලට සම කිරීමට වඩා වෙනස් සුවිශේෂී සබඳතාවක් ලෙස දැකීම වටී. සමහරු තම බිරිඳ මවක් වගේ යෙහෙළියක් වගේ කියා කියන විට ද කිව යුත්තේ බිරිඳ බිරිඳ වගේ මිස මවක් හෝ යෙහෙළියක වගේ යැයි කිව නොහැකි බවය.

# 34. ජෙරී ඇබිලීන් ගියා වගේ

දිනක් සැන්දෑවරුවක පවුලේ උදවිය ආලින්දයට වී කාඩ් සෙල්ලම් කරමින් සිටියහ. හදිසියේම තාත්තා අදහසක් ප්‍රකාශ කළේය. ඔහු කීවේ අපි රෑ කෑමට සැතපුම් 53 ක් දකුණින් වූ ඇබිලීන් නගරයට යමු කියාය. මවද "හොඳ අදහසක් වගේ පේනවා" යැයි පැවසුවාය. දිගු දුරක් වාහනය පැදවීමට ඇති නිසාත්, රස්නය නිසාත්, මේ පිළිබඳව යම් පසුබෑමක් හිතේ තිබුණ ද පවුලේ අනිත් අයගේ මතයෙන් තම මතය වෙනස් වේවි යැයි කල්පනා කළ පුතා ද "මමත් කැමතියි" යනුවෙන් ප්‍රකාශ කළේය. මව ලේලියගෙන් විමසුයේ "කොහොමද දුව යන්න කැමතිද? " යනුවෙනි. ලේලිය ද කීවේ තමා කාලයකින් ඇබිලීන් ගොස් නැති නිසා එහි යාමට කැමති බවය.

ඔවුන් දිගුදුරක් වාහනය පදවා ඇබිලීන්වලට ළඟා විය. එහි දැඩි රශ්මියක් පැවති අතර ආපන ශාලාවේ කෑම ද රසවත් නොවීය. ඔවුන් පැය කීපයකට පසු ගෙදර ආවේ හොඳටම තෙහෙට්ටු වූ පසුය. පවුලෙන් එක් අයකු තම අවංක අදහස් ප්‍රකාශ නොකර "ඒක හොඳ ට්‍රිප් එකක් නේද?" යැයි විමසීය. මව කෙළින්ම අදහස් පවසමින් පැවසුයේ තමාට නම් ගෙදර සිටියා නම් වඩා හොඳ බවය, ඇය කීවේ අනිත් තුන්දෙනාට යාමට උවමනා වූ නිසා මෙම ගමන ගිය බවය. එවිට පුතා ද කීවේ "මමත් මුල ඉඳන්ම කිසිම කැමැත්තක් තිබුණේ නෑ ගමනට. එත් ඔයාලව සතුටු කරන්න හිතාගෙන තමයි මම ගියේ." කියාය. ලේලිය ද කීවේ කට්ට අව්වේ දාඩිය දාගෙන මෙච්චර දුරක් යාමට නම් තමාට පිස්සු විය යුතු බවත් අන් අය සතුටු කිරීමට සිතා තමා ද මෙම ගමනට එක් වූ බවත්ය. තාත්තා පැවසුයේ තමා එම යෝජනාව නිකමට මෙන් පැවසුයේ අනිත් අයට ගෙදර හිඳීම කම්මැලි ඇතැයි සිතූ නිසා බවත් තමාටත් මෙම ගමන යාමට කිසිදු වුවමනාවක් නොතිබුණු බවත්ය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඇබිලීන් ධර්මතාවයේ දී කණ්ඩායමේ සෑම සාමාජිකයකුගේම පුද්ගලික කැමැත්තට පරස්පර විරෝධී තීරණයක් කණ්ඩායම විසින් සාමූහිකව ගනී. මෙයට හේතුව වන්නේ කණ්ඩායම් සන්නිවේදනය ඇණ හිටීම නිසා සෑම සාමාජිකයකුම තමාගේ කැමැත්ත කණ්ඩායමේ පොදු කැමැත්තට පටහැනියැයි උපකල්පනය කර ඊට විරුද්ධ නොවී සිටීමයි. මෙම සංකල්පය Jerry B. Harvey විසින් ඉදිරිපත් කරන ලද්දකි.
- මෙම පිරිස කණ්ඩායමක් ලෙස සාමූහිකව තීරණය කළේ එක් සාමාජිකයකුටවත් කිරීමට අවශ්‍ය නොවූ දෙයක් කිරීමටය.
- මෙම කතාවෙන් කණ්ඩායමක මතයට විරුද්ධව ගමන් කිරීමට මිනිසුන් තුළ ඇති මැළිකම පෙන්වා දෙයි.
- මිනිසුන් කියන කරන දෙය පසුපස සැඟවුණු ඉඟි සහ නොකියවුණු පණිවුඩ ඇත. මීට එක් හේතුවක් වනුයේ සමාජ පීඩනය සහ තම පුද්ගලික ආකල්ප නිසා තම අව්‍යාජ හැඟීම් නිදහසේ පැවසීමට හා තම ආශාවන් නිදහසේ ඉෂ්ඨ කර ගැනීම අධෛර්යත් කිරීමයි.
- කණ්ඩායමක් වශයෙන් තීරණ ගැනීමේ දී එකිනෙකාගෙන් අසා ගත යුතු ප්‍රශ්නයකි. ''අපිත් ඇබිලින් යනවාද?'' යන්න උපකල්පනය කිරීම (Assume) ඔබත්, මමත් බූරුවන් කරයි. (Ass U and Me)

# 35. ඒක ඇරිලා යාවී

කර්මස්ථානයක්, භාවනාවක් ලෙස වැඩීමට පුරුදු පුහුණු වෙමින් සිටි ශිෂ්‍යයෙක් තම ගුරුවර භික්ෂුව වෙත ගොස් "භාවනා කිරීම ඉතාමත් කරදරයි මගේ මනස නිතරම වෙන වෙන දේවල්වලට දුවනවා. මගේ කකුල් රිදෙනවා. මට නිතරම නිදිමත හැදෙනවා. කොටින්ම කියනවා නම් මට ඉතාමත් කළකිරුණු හැඟීමක් එන්නේ" යැයි කීවේය. "ඒක ඇරිලා යයි" ගුරුවරයා කෙටියෙන් පිළිතුරු දුණි. සතියකට පසුව ගුරුවරයා හමුවීමට පැමිණි ශිෂ්‍යයා "මගේ භාවනාව ඉතාමත් හොඳයි. මට ඉතාම සාමකාමී සැහැල්ලු හැඟීමක් එනවා මේ හැඟීම නම් මට වචනවලින් විස්තර කරන්නත් අමාරුයි" යැයි පැවසීය. ගුරුවරයා කෙටියෙන් පිළිතුරු දුණි. "ඒක ඇරිලා යයි."



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ලෝකයේ එකම නිත්‍ය දෙය අනිත්‍යතාව හෙවත් වෙනස් වන ස්වභාවය පමණි. ගංගාවක තිබෙන ගල්කුලක්ද, සූර්යයාද, හිම සහ වතුර ආදී මෙකී නොකී හැම දේම නිරන්තරයෙන් වෙනස් වේ.
- ජීවිතය ස්ථිර නැත. නිතරම වෙනස් වේ. ජීවන මාවතේ කඳු හා පල්ලම්, හොඳ හා නරක, වැස්ස හා අව්ව, සෞඛ්‍යය සහ රෝග, හිනාව සහ කඳුළු හමු වේ නරක කිසි දෙයක් ස්ථිරව පවතින්නේ නැත. එමෙන්ම හොඳ දේවල්ද සදාකාලික නැත.
- ජීවන මගේ ඔබ දැනට කරදරවලට මුහුණ දෙන්නේ නම් කලබල නොවන්න. මොකද ඒක "ඇරිලා යාවි. ඔබ දැනට ජීවිතයේ යහපත් දේ අත්දකින්නේ නම් ඒකත් "ඇරිලා යාවී." සෑම දේම ඇරිලා යන බවට අවබෝධයෙන් සහ අපේක්ෂාවෙන් සිටින්න.
- ඔබගේ සතුටු හෝ දුක් හැඟීම්වලට නොඇලෙන්න. ඒ දෙකටම අවසානයක් ඇත.
- අටලෝ දහමේදී කම්පා නොවන්න. සතුටින් උදම් නොවන්න. අටලෝදහම අනිත්‍ය බව සිතන්න.
- කර්මස්ථාන හෝ භාවනාව කෙතරම් යථාර්ථවාදී දෙයක් ද? භාවනාව යනු කුමක්ද?
- මට මෙම කතාව පිළිබඳ අදහසක් නැත. "ඒක ඇරිලා ගියා."

# 36. ඇඟිල්ලෙන් ගොඩ නැගූ පාලම

1883 දී ජෝන් රොබ්ලින් නම් නිර්මාණශීලී ඉන්ජිනේරුවෙක් නිව්යෝර්ක් නගරය ලෝන්ග් අයිලන්ඩ් සමග යා කිරීම සඳහා පාලමක් ගොඩනැගීමේ අශාවෙන් පෙලුණේය. විශේෂඥයෝ මෙය කළ නොහැකි කාර්යයක් බව පෙන්වා දෙමින් එම අදහස අත්හැර දමන ලෙසට ජෝන්ට අවවාද කළහ. ඔවුන් කීවේ "මෙවැනි වැඩක් මීට පෙර කිසිදාක මිනිස් ඉතිහාසයේ කර නැති බව හා එය ප්‍රායෝගික නැති බවයි. ජෝන්ට මෙම පාලම ගැන තම මනස තුළ ඇතිවූ දර්ශනය නොසලකා හැරිය නොහැකි විය. ඔහුගේ හදවත ගැඹුරෙන් මතුවූ හඬක් මෙය කළ හැකි බව දැඩි විශ්වාසයකින් යුතුව පැවසීය. නොයෙක් තර්ක විතර්කවලින් පසුව ජෝන් තම පුතුවූ තරුණ ඉන්ජිනේරුවකු වන වොෂින්ටන්ට මෙය කළ හැකි බවට ඒත්තු ගැන්වීය. පළමුවතාවට එකට වැඩ කළ පිය පුතු දෙපළ මෙම පාලමේ සැළසුම් සාදා ඇතිවිය හැකි බාධා හා ඒවා මගහරින විදි සැළසුම් කළෝය. ඔවුහු ඉන්ජිනේරුවන් ඇතුළු වැඩ කණ්ඩායමක් බඳවාගෙන තම සිහින පාලම සෑදීමේ ව්‍යාපෘතිය ආරම්භ කළහ. ව්‍යාපෘතියට මාස කීපයක් ගතවන විට වැඩ පොළේ සිදුවූ හදිසි අනතුරකින් ජෝන් රොබ්ලින් අවාසනාවන්ත ලෙස මිය ගිය අතර වොෂින්ටන්ගේ මොළයට හානි වී ඇවිදගත නොහැකි, කතා කළ නොහැකි,ශරීරය චලනය කළ නොහැකි තත්ත්වයකට පත්විය. විවේචකයෝ "අපි ඕක කලින් කිව්වනේ" "පිස්සු මිනිස්සු හා ඔවුන්ගේ පිස්සු සිහින" ආදී නොයෙක් සෘණාත්මක කතා කීහ. වැඩි දෙනා කීවේ ජෝන් මියගොස් ඇති නිසාත් වොෂින්ටන් ඇඳට සීමා වී ඇති නිසාත් ව්‍යාපෘතිය අත්හැර දැමිය යුතු බවයි. එහෙත් මනසින් තවමත් ක්‍රියාකාරී වූ වොෂින්ටන් මෙම පාළම කෙසේ හෝ නිම කිරීමේ දැඩි අධිෂ්ඨානයකින් පෙලුණි. රෝහලේ ඇඳ උඩ හාන්සිවී කල්පනා කරමින් සිටින විට ඔහුට හදිසියේම අදහසක් පහළ විය. ඔහුට කළ හැකි එකම භෞතික දේ වූයේ එක් අතක එක් ඇඟිල්ලක් සෙලවීම පමණි. මෙම සම්පතින් උපරිම ප්‍රයෝජනය ගැනීමට ඔහු සිතා ගති. ඇඟිල්ල සෙලවීම මඟින් තම බිරිඳ සමග සන්නිවේදනය කිරීමට ඔහු සංකේත ක්‍රමයක් සාදා ගති. බිරිඳ මගින් ඉන්ජිනේරුවන් රැස් කළ ඔහු සංකේත ක්‍රමය මගින් කළ යුතු දේ ඔවුන්ට දැන්වීය. වොෂින්ටන් ඇවුරුදු 13 ක් තම ඇඟිල්ලෙන් සංකේත දෙමින් තම බිරිඳ මාර්ගයෙන් සන්නිවේදනය කරමින් අවසානයේදී පාලම හදා නිම කළේය.





John A. Roebling



Washington Roebling



Emily Warren Roebling

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අද දර්ශනීය බෘක්ලින් පාලම උත්කර්ෂවත් ලෙස නැගී සිටින්නේ එක් පුද්ගලයකුගේ බාධාවලින් නොනවතින අප්‍රතිහත අධිෂ්ඨානයත් ඔහුගේ බිරිඳගේ අවුරුදු 13 ක දිගු කලක් ඉවසිල්ලෙන් සංකේත පණිවුඩ බවට පත්කිරීමේ කැපවීමත්, පාලම තැනූ ඉන්ජිනේරුවන් ඇතුළු කණ්ඩායමේ දක්ෂතාව හා ඔවුන් වොෂින්ටන් කෙරෙහි තැබූ විශ්වාසයත් නිසාය.එමෙන්ම අපූර්ව දෙයක් නිර්මාණය කිරීමට සමාජයේ පවතින තත්ත්වය වෙනස් කිරීමට සිහින දුටු ජෝන්ටද මෙහි ගෞරවය හිමි විය යුතුය.
- මෙය ලෝක ඉතිහාසයේ කිසිවිටකත් අත් නොහැරීමේ ආකල්පයට අනගි උදාහරණයකි.
- අපට දිනපතා ජීවිතයේ බාධක එනවිට වොෂින්ටන්ට ආ බාධකයන් සමඟ එය සසඳා බලන්න.
- අරමුණට ඉළක්ක කර නොනැවතී ගමන් කරන්න
- සාර්ථකත්වයේ රහස උත්සාහය සහ තාවකාලික අසාර්ථකවීම් නොසලකා දිගටම අධිශ්ඨානශීලීව අරමුණ කරා යාම සහ ධෛර්‍යයයි.

# 37. ඔරු පැදීමේ තරගය

එකමත් එක කාලයක ජයපාලලන්ත කණ්ඩායමත් පසුබට ජනරජය කණ්ඩායමත් අතර ඔරු පැදීමේ තරගයක් පැවැත්වීමට තීරණය කෙරුණා. කණ්ඩායම් දෙකේම ඔරු පදින්නන් තම කාර්ය සාධනයේ (Performance) මුදුනටම ඒමට මහන්සි වී පුහුණුවීම්වල නිරත වුණා. නමුත් තරගය දවසේ දී පසුබට ජනරජය කණ්ඩායම මුහුදු සැතපුමකින් ජය ගත්තා.

ප්‍රතිඵලයෙන් අධෛර්යයට පත් වුණු ජයපාලලන්ත කණ්ඩායමේ උද්යෝගය හොඳටම අඩුවුණා. මානව සම්පත් සංවර්ධන කළමණාකරු තීරණය කරා මෙම බරපතල පරාජයට හේතු සෙවීමට වැඩ කණ්ඩායමක් පත් කර ඔවුන්ගේ නිර්දේශ සහ ක්‍රියාමාර්ගික සැළසුම් ලබා ගැනීමට. ඔවුන්ගේ පිටු ගණනක වාර්තාවේ සමාලෝචනය වුණේ පසුබට ජනරජය පිලේ අට දෙනෙක් හබල් ගා එක් අයෙක් මෙහෙයවූ නමුත් ජයපාලලන්ත කණ්ඩායමේ අට දෙනෙක් මෙහෙයවා එක් අයෙක් හබල් ගෑ බවයි.

මානව සම්පත් සංවර්ධන කළමණාකරු වහාම ව්‍යාපාරික උපදේශන සමාගමක් කුලියට ගෙන ඔරු පැදීමේ කණ්ඩායම් ව්‍යුහය විශ්ලේෂණය කිරීමට බාර දුන්නා. මිලියන ගණනක් සහ මාස ගණනක් වැයකිරීමෙන් පසුව ඔවුන්ගේ නිගමනය වුණේ වැඩි පිරිසක් මෙහෙයවීම හා ප්‍රමාණවත් තරම් හබල් ගසන්නන් නොසිටීම පරාජයට හේතුවූ බවයි.

ඊළඟ අවුරුද්දේ පැරදීම වැළැක්වීමට ජයපාලලන්ත කණ්ඩායමේ සංයුතිය වෙනස් කළේ සහකාර මෙහෙයුම් කළමණාකරුවන් තිදෙනෙකු එක් විධායක මෙහෙයුම් කළමණාකරුවකු, මෙහෙයුම් අධ්‍යක්ෂවරයකු සහ එක් ඔරු පදින්නකු ලෙසයි. ඒ විතරක් නොවේ ඔරු පදින්නාගේ ඔරු පැදීම කාර්යක්ෂම කිරීමට කාර්යසාධන කළමණාකරණ ක්‍රමයක් සහ ප්‍රතිපත්තියක් ද ඇති කළා.

ඊළඟ අවුරුද්දේ පසුබට ජනරජය කණ්ඩායම මුහුදු සැතපුම් දෙකකින් ජයග්‍රහණය කළා. අධ්‍යක්ෂ මණ්ඩලය දුර්වල කාර්යසාධනය නිසා ඔරු පදින්නාව සේවයෙන් ඉවත් කර හබල් සියල්ල විකුණා දමා, නව උපකරණ සඳහා වූ සියලුම ප්‍රාග්ධන ආයෝජන හා නව ඔරුවක් තැනීමේ ව්‍යාපෘතිය ද අත්හිටුවා දැම්මා. මෙසේ ඉතිරි කරගත් මුදල් කළමණාකරුවන්ට බෝනස් ගෙවීමට යෙදෙව්වා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ සරලව දැකිය හැකි දෙයක් ගැඹුරින් විශ්ලේෂණය කළ යුතුද?

☞ නිවැරදි තීරණ ගැනීමේ වැදගත්කම මෙයින් පෙන්නුම් කෙරේ. විශ්ලේෂණය මත පදනම්වන නිගමන නිවැරදි නොවන විට සිදුවන්නේ තවත් පසුගමනය වීමකි.

# 38. අම්බලමක් වූ මාලිගය

ප්‍රකට බෞද්ධ භික්ෂුවක් රටේ රජතුමා හමුවීමට රජවාසලට ගියේය. රජු අමුත්තා හඳුනා ගෙන "ඔබට අවශ්‍ය මොනවාදැයි" විමසීය. "මට මේ අම්බලමේ නවාතැන් ගැනීමට අවශ්‍යයි" භික්ෂුව පිළිතුරු දුණි. "කාමරයක් දෙන්න නම් පුළුවන්. ඒත් මේක අම්බලමක් නෙවෙයි. මේක මගේ මාලිගාව" රජු පිළිතුරු දුණි. "ඔබට පෙර මේක අයත්ව තිබුණේ කාටද කියා මට දැනගන්න පුළුවන්ද?" භික්ෂුව ඇසීය. "මගේ පියාට. ඔහු දැන් මිය ගිහින්" රජතුමා කීය. "ඔහුට පෙර මෙය අයත්ව තිබුණේ කාටද?" භික්ෂුව නැවතත් ඇසීය. රජු පිළිතුරු දෙමින් කීවේ "මගේ සීයාට. ඔහුත් මිය ගිහින්" කියාය. "මිනිසුන් කෙටි කාලයකට ජීවත්වී පිටත්ව යන ස්ථානයට කියන්නේ අම්බලම කියලා. ඔබ මෙය අම්බලමක් නෙවෙයි කියා කිව්වාද?."



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අපි සියලු දෙනාම ලෝකයේ කෙටි කාලයක් සිට නැවත ගමන් අරඹයි. වෙනත් ස්ථානයකට යයි.
- බලවත් අයට තම බලය හා තනතුරු තාවකාලික බව පෙන්වා දෙන උදාහරණයකි.
- අප ඉපද, ජීවත්ව, මිය යයි. ඇත්ත වශයෙන්ම අපට අපගේ ශරීරයවත් අයිති නැත. මිනිසුන් මෙය ගැඹුරින් සිතනවාද?
- ජීවිතං අනියතං. මරණං නියතං. ශරීරයත් මෙවැනිම අම්බලමකි.
- මිය ගිය පසු පුනරුත්පත්තියක් නැතිනම්, ස්වර්ගයට හෝ අපායට නොයයි නම්, මරණය පුද්ගලයකුගේ සදාකාලික අවසානය නම් මෙම තර්කය වලංගුවේද?

# 39. හාමුදුරුවරු, ගුරුවරු හා පොලිස් නිලධාරීන්

දිනක් මා මුද්‍රණාලයකට ගොස් යතුරු ලියන කටයුත්තක් කරවා ගනිමින් සිටියෙමි. මේ වන විට කාර්යාලය වැසීමට ඔන්න මෙන්න කියා තිබුණු අතර යතුරු ලියන්නිය මගේ වැඩය කර ගෙදර යන කෝච්චිය ඇල්ලීමට බලා සිටියේය. මේ වෙලාවේ හදිසියේම මුද්‍රණාලයේ අඩවල් කර තිබූ දොර ඇරගෙන ඇතුළට ආ හාමුදුරුනමක් තමන්ට යතුරු ලියන වැඩක් ඇති බවත් එය කෙසේ හෝ කරදෙන ලෙසත් පැවසීය. මුද්‍රණාලය තව විනාඩි පහකින් වසන බව මුද්‍රණාල හිමියා දැන්වුවද හාමුදුරුවෝ තම වැඩය කර දෙන ලෙස දිගින් දිගට පෙරැත්ත කළේය.මුද්‍රණාල හිමියා යතුරු ලියන තරුණිය ඈත ප්‍රදේශයක පදිංචි බවත් දුම්රිය අල්ලා ගත යුතු බවත් කීවද හුමුදුරුවන් උත්සහය අත්නොහරින බව තේරුණු හෙයින් ඔහු කීවේ තරුණියගෙන් අසා බලන ලෙසය. හාමුදුරුවන් ඇයටද පෙරැත්ත කළද ඇය එය කිරීම ප්‍රතික්ෂේප කළ නිසා අවසානයේදී මුද්‍රණාලයෙන් පිටව ගියේය. හාමුදුරුවන් පිටව ගිය පසු මුද්‍රණාල හිමියා මා හට පැවසුවේත් සමාජයේ කොටස් තුනක් සිටින බවත් ඔවුන් කෙසේ හෝ තම පෞද්ගලික වැඩ අනුන් ලවා කරගැනීමට බලය යොදන බවත්ය. ඔහුට අනුව මේ කොටස් තුන නම් හාමුදුරුවරු,ගුරුවරු හා පොලිස් නිලධාරීන්ය.







**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඉහත වෘත්තීන් තුනට අයත් සියලු දෙනාම එක අච්චුවකට දමා මැනීම සුදුසු නැත හැම ජපනාම හපන් නැත.
- මෙය මෙම වෘත්තීන්වලට සීමා කිරීමෙන් මුද්‍රණාලයකර සාමාන්‍යකරණයක නිරත වේ.
- කුමන තනතුරක අයකු වුවද තනතුරු බලය යොදා වැඩකර ගැනීමට බැලීමත් විශේෂයෙන්ම එහිදී අන් අයට වන අපහසුතා ගැන නොසිතීමත් හොඳ නැත.
- අන් අය ගැන සැළකිලිමත් වන්න. ඔවුන්ගේ තැන සිට සිතන්න.
- මෙම තුන් කොටසම තම බසට අන් අය අවනත කර ගැනීමට පුහුණු වූ අයයි. ඔවුන්ගේ එම පුරුද්ද අනෙක් කටයුතු වලදීද බලපානවා විය හැක.

# 40. ජීවිතයද? මරණයද?




මයිකල් සෑම විටම සතුටින් සිටින්නකු වූ අතර සෑම විටම ඔහුගේ මුවින් පිටවූයේ ධනාත්මක සුභවාදී දේවල්ය. "කොහොමද සැප සනීප" යැයි යමකු ඔහුගෙන් ඇසුවොත්,"සියයට දෙසීයක් හොඳයි" "නියමයි" ආදී පිළිතුරු දීමට ඔහු පුරුදුව සිටියේය. ඔහු සහජයෙන්ම අන් අය උනන්දුකරවන්නකු විය. අන් අය අශුභ අත්දැකීමකට මුහුණ දී දුකින් සිටිය විට එම ප්‍රශ්නයේ සුභවාදී පැත්ත බැලීමට මයිකල් ඔවුන්ව පෙළඹවීය. දිනක් මම මයිකල්ගෙන් "ඔබ කොහොමද නිතරම වගේ ධනාත්මක හැඟීම්වලින් ඉන්නේ", යනුවෙන් ඇසුවෙමි.

**මයිකල් :** මම හැමදාම උදෑසන නැගිටලා මටම කියා ගන්නවා අද ඔබට තෝරා ගැනීමට විකල්ප දෙකක් තියෙනවා. ඔබට දුක්මුසුව සිටීමට තෝරා ගන්න පුළුවන්. එසේත් නැතිනම් සතුටින් සිටීමට තෝරා ගන්න පුළුවන්. යම් නරක දෙයක් මට සිදුවුණහම මට එහි පීඩිතයා වී දුක්විඳිමින් සිටින්නට පුළුවන්. එසේත් නැතිනම් මට ඉන් පාඩමක් ඉගෙන ඉස්සරහට යන්න පුළුවන්. මම නිතරම තෝරා ගන්නේ ජීවිතයේ ධනාත්මක පැත්ත.




**මම :** නමුත් ඕක කරන එක කියන තරම්ම ලේසි නෑනේ.

**මයිකල් :** අපොයි ඒක හරි ලේසියි. ජීවිතය කියන්නේ තීරණ ගොඩක් යම් තත්ත්වයකට ප්‍රතිචාර දක්වන්නේ කෙසේදැයි තීරණය කරන්නේ තමාමයි. අනික් අයට තමන්ගේ හැඟීම්වලට බලපාන්න දෙන්නේ කෙසේදැය තීරණය කරන්නේත් තමාමයි. මූලික හරය තමයි ඔබ ජීවත්වන්නේ කෙසේද කියලා තීරණය කරන්නේ ඔබම තමයි කියන එක.

කාලයකට මට මයිකල්ව මුණ නොගැසුණි. මයිකල් අඩි 60 ක උසකින් වැටී, පැය 18 ක ශල්‍යකර්මයකට භාජනය වී ඉස්පිරිතාලයෙන් පිටව ගිය බව මට ආරංචි වී තිබුණි. මෙම සිදුවීමට මාස 6 කට පමණ පසු මට හදිසියේම මයිකල් මුණ ගැසුණි.

**මම :** ඔබ අඩි 60 ක් උඩින් වැටුණු වෙලාවෙ ඔබට මොනවද හිතුණේ?

**මයිකල් :** මම වැටිලා බිම ඉන්න වෙලාවේ මට මතක් වුණා මට තෝරා ගැනීමට විකල්ප දෙකක් තියෙන බව. මට ජීවිතය සහ මරණය යන දෙකින් එකක් තෝරා ගන්න තිබුණා. මම තෝරා ගත්තේ ජීවත් වෙන්න.

**මම :** ඔබට බය හිතුණේ නැද්ද?

**මයිකල් :** එතනට ආපු ප්‍රථමාධාර කණ්ඩායම මාව දිරිමත් කළා. මට මොකුත් වෙන්නේ නැති බව කීවා. ඊත් හදිසි අනතුරු අංශයට ඇතුළත් කළ විට මා වටේ රැස්වුණු දොස්තරලාගෙත් නර්ස්ලාගේත් මූණු දැක්කම නම් මට හොඳටම බය හිතුණා. ඔවුන්ගේ මුහුණුවලින් පෙණුනේ මාව දැනටමත් මළ මිනියක් ලෙස ඔවුන්ට පේන බව. මට තේරුණා මම මොනවා හරි කළ යුතු බව. නර්ස් කෙනෙක් මගෙන් උස් හඬින් ප්‍රශ්න අසමින් සිටියා. ඇය ඇසුවා" ඔබ මොනවා හරි දේකට ඇලජික්ද? (ආසාත්මිකද)" කියලා. මම මගේ ඇඟේ තිබූ මුළු ධෛර්යයම අරන් "ඔව්" යැයි කීවා. දොස්තරලාත්, නර්ස්ලාත් වැඩ නවත්වා මගේ පිළිතුර එන තුරු බලා සිටියා. මම කෑගැසුවා "මම ගුරුත්වාකර්ෂණයට ඇලජික්" කියලා. ඔවුන්ගේ හිනාව මැද්දේ මම කිව්වා මම

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මයිකල්ගේ ධනාත්මක චින්තනය ඔහුගේ මානසික ශක්තියට බලපෑවා විය හැක. එහෙත් වෛද්‍යවරුන්ගේ දක්ෂතාවය හා නිවැරදි තීරණ, රෝගී තත්ත්වයේ බරපතළ භාවය ආදී භෞතික සාධකද සනීපවීමට බලපෑ බවට නිසැකය.

☞ යමක් දිගින් දිගටම පුරුදු පුහුණු කළ විට මරණ මොහොතේ වුව මතකයට එන්නේ එම දෙයයි. මයිකල් සෑම දෙයක්ම තීරණයක්, තෝරා ගැනීමක් ලෙස අභ්‍යාස කර තිබීම, ජීවිතයත්, මරණයත්, තීරණයක් ලෙස දැකීමට ඉබේටම උපකාර විය.

☞ සමහරුන් පාලනයේ කේන්ද්‍රය (Locus of control) තමා ලෙසම සිතයි. තවත් සමහරු තම ජීවිතයේ පාලනය අන් අයට, ආයතනවලට, දෙවියන්ට, දෛවයට, කර්මයට ආදී බාහිර බලවේගවලට අයත් බව විශ්වාස කරති.

☞ ධනාත්මක චින්තනය යනු ධනාත්මක මානසික ප්‍රකාශනයන් පුන පුනා කිරීම තුළින් යමක් සංජානනය කරන ආකාරය වෙනස් කර යථාර්ථය වෙනස් කිරීමට මනස පුහුණු කරවන ශික්ෂණ ක්‍රමයකි. මෙහි දී පරිසරයෙන් ධනාත්මක චින්තවේග තෝරා ගෙන එවා සංජානනයන්ට හා විශ්වාසයන්ට යොදා ගනී. ධනාත්මක මානසික ආකල්ප යනු ධනාත්මක සිතිවිලි ක්‍රියාවලියක් තුළින් අත්පත් කර ගැනීම් වර්ධනය කරගත හැක යන විශ්වාසයයි. මෙය ජීවන ප්‍රවේශයක් ලෙස හැඳින්විය හැක. ධනාත්මක චින්තනයෙ පුන පුනා කරන තහවුරු කිරීමේ වාක්‍ය යම් සංජානනයක් වෙනස් කිරීම සඳහා යොදා ගනී. වඩ වඩාත් තහවුරු කිරීමේ වාක්‍ය යොදා ගත් විට මනස එම යෝජනාව තව තවත් පිළිගනී. ''මම සාර්ථක පුද්ගලයෙක් .මම සෞඛ්‍යවත්. මා තුළ ජීවිතය වෙනස් කිරීමේ බලය තිබෙනවා'' වැනි වාක්‍ය මගින වත්මන් මොහොත කේන්ද්‍රීය කර ගැනීම සහ මනස නැවත වැඩසටහන් ගත කර ගැනීම තුළින් ධනාත්මක ප්‍රතිඵල ලබා ගත හැකි බව ධනාත්මක චින්තනවාදීන්ගේ විශ්වාසයයි.

☞ ශුභවාදියා ලෝකය ධනාත්මක දෙයක් ලෙසත් මිනිසුන් සහ සිදුවීම් සහජයෙන්ම යහපත් බවත් ඕනෑම තත්ත්වයක් අවසානයේ දි යහපත් අතට හැරෙන බවත් විශ්වාස කරයි. ශුභවාදී ද අශුභවාදී ද යන්න ගෙනහැර පාන උදාහරණයක් වන්නේ හරි අඩක් වතුර පිරුණු වීදුරුවක් දෙස ශුභවාදියා බලන්නෙ ''අඩක් පිරී ඇති ලෙසත් අශුභවාදීයා බලන්නේ අඩක් හිස් ලෙසත් යන උපහැරණයයි. මෙම උදාහරණය පිරී තිබීම යහපත් සහ හිස් වීම අයහපත් යන මූලික උපකල්පනය මත පදනම වේ. තවත් කියමනක් වනුයේ ශුභවාදියාට ධනාත්මකව දැකිය නොහැකි එකම දෙය අශුභවාදියා යන්නයි.

☞ පැන්ග්ලෝසියනිසම් යනු පදනම් රහිත අන්තවාදි ශුභවාදි ධනාත්මක චින්තනය හැඳින්වීමට යෙදෙන වදනකි. මේ දෘෂ්ටිය අනුව ලෝකය උපරිම මට්ටමට හොඳය එය තවත් හොඳ වීමට ඉඩක් නැත. අන්තවාදි ධනාත්මක චින්තකයන් අධි තක්සේරුවක සිටින අතර ඔවුන් ඕනෑම දෙයක් යහපත් අතට සිදුවීමට වැඩි සම්භාවිතාවක් ඇති බව සිතයි. එසේම සෘණාත්මක සිදුවීම් අවතක්සේරු කරයි. මේ නිසා නිවාරණයට හෙවත් කල්තියා අයහපත් ප්‍රතිඵලය වලක්වා ගැනීමට අවශ්‍ය තරම් අවධානයක යොමු නොකරයි. අධික හා අනවශ්‍ය අවදානම් දරයි. ක්‍රෙඩිට් කාඩ් භාවිතයේ දී අධික ධනාත්මක චින්තනයක් ඇති පුද්ගලයා තමාට කලට වේලාවට ගෙවිය හැකි බවට අධි තක්සේරුවක් කරයි. එමෙන්ම බලාපොරොත්තු රහිත වියදම් කරදර ආදිය අවතක්සේරු කරයි. ඒවා බලාපොරොත්තු නොවේ. මේ නිසා කලට වේලාවට ගෙවිය නොහැකිව දඩකයි. මූල්‍ය ආයතන ද මෙම සංකල්පය ප්‍රයෝජනයට ගනී. ධනාත්මක චින්තකයා ණයකට කෙතරම් පොලිය අධික වුවත් එය ශුභවාදීව බලා ගෙවීමට බාර ගනී. අධිතක්සේරුවක සිටින්නා හදිසි රැකියාව අහිමි වීමේ බරපතල රෝගී තත්ත්ව ඇති වීමේ සම්භාවිතාව අවතක්සේරු කරයි.

☞ එමෙන්ම ධනාත්මක චින්තකයා ඕනෑම දෙයක් තමාගේ පාලනය යටතේ ඇති බව සිතා තම පාලනයේ ඇති සීමාව අධි තක්සේරු කරයි. සැලසුම්කරණයේ දී ද ධනාත්මක චින්තකයා වර්ෂාව ආදී සෘණාත්මක දේ අවතක්සේරු කරන අතර වැයවන මුදල් ආදී සම්පත් ද අඩුවෙන් ගණන් බැලීමේ සම්භාවිතාවක් ඇත.

☞ ධනාත්මක චින්තනය දියුණුවට සහ වෙනසක් ඇති කිරීමට බාධාවක් විය හැක. නැතහොත් බාධාවක් කරගත හැක. පවත්නා සෑම දෙයම ධනාත්මක නම් වෙනසක් ඇති කළ යුත්තේ මන්ද? ධනාත්මක පැත්ත දෙස බැලීම වැඩිදියුණු නොකිරීමට නිදහසට කාරණයක් කර ගත හැක.

☞ අප සතුටු නොවන තත්ත්වයක් පිළිගැනීමට ධනාත්මක චින්තනය යොදා ගැනීම කරන්නේ නම් එය සංවර්ධනයට හේතු නොවේ. උදාහරණයක් ලෙස ඔබ බංකොලොත් වී ඇත, ඔබ අධික ලෙස තරබාරුය. ඔබට මිතුරන් ඇත්තේ නැත. ඔබ ධනාත්මක චින්තන යොදා ඔබගේ තත්ත්වයේ ශුභවාදි පැත්ත දකී. එම තත්ත්වයේ වුව ඔබ ජීවත්ව සිටීම වාසියක් යැයි හිතට ඒත්තු ගන්වා ගෙන හිනා මුණක් දමාගෙන ජීවත් වේ. මිතුරන් නැතත් සල්ලි නැතත් තරබාරු වුණත් කමක් නෑ කියා ඔබ සිතයි. මෙම තත්ත්වයටම සෘණාත්මක චින්තනය යොදා ගෙන බලමු. ඔබට ඔබගේ මිතුරන් නැත බංකොලොත් තරබාරු

ජීවිතය එපා වී ඇත. කේන්තිය ඔබ තුළින් මතු වී ඒ පිළිබඳව යම් ක්‍රියාවක් ගැනීමට පොළඹවයි. මෙම තත්ත්වය ගැන ඔබ තුළ ඇති අතෘප්තිය සහ කේන්තිය එම තත්ත්වය වෙනස් කිරීමට ඔබව පොළඹවයි. මෙහි දී සෘණාත්මක චින්තනය වඩා යහපත් බලවේගයක් වූයේ ඇයි?.

☞ ධනාත්මක චින්තනයේ අන්තයට ගිය තවත් සමහරු සිතන්නේ සෑම විටම ධනාත්මක පැතුමක් පැතු විට සියල්ල හරි යන බවයි. ඔබට මුදල් නැත්නම් කණ්ණාඩියක් ළඟට ගොස් 'මම ධනවත් වේවා' 'මම ධනවත් වේවා' යැයි පැතූ පමණින් හෝ දැනටමත් තමා කෝටිපතියකු යයි සිතා එසේ හැසිරීමෙන් ධනාත්මක බලවේගයන්වල ඵලයක් ලෙස තම ජීවිතයට මුදල් ලැබෙන බව විශ්වාස කරති. මෙය ඉතා හොඳ සැලසුමක් ලෙස පෙනේ. එහෙත් අවාසනාවට සැබෑ ලොවේ මෙවන් සැලසුම් සැබෑ වන්නේ නැත. උදාහරණයක් ලෙස ඔබ දැනට රාත්තල් 300 ක් බෙන්ච්ප්‍රෙස් කරන බව සිතන්න. ඔබ ධනාත්මක චින්තනය යොදා ගෙන අද සිට ඔබට රාත්තල් 400 ක් එසවිය හැකි බව සිතයි. ඔබ කණ්ණාඩිය ඉදිරිපසට වී ස්වයං යෝජනාවක් දමා ගන්නේ තමනට රාත්තල් 400 ක් එසවිය හැකි බවටයි. ඉන් පස ඔබද ඇත්තටම රාත්තල් 400 ක් එසවිය හැකි බව සිතයි. බෙන්ච් එක වෙත ගොස් රාත්තල් 400ක් දමා ඔසවන්න ගියොත් සිදුවන්නේ එය පපුව මත වැටී මිය යාමටයි. ඔබ ලොව සිටින සෘණාත්මක චින්තනයෙන් යුත් ජරාම ජරා පුද්ගලයා වුවත් ඔබට ශක්තිය ඇත්නම් හා මීට පෙර බර ඔසවා පුහුණු වී ඇත්නම් රාත්තල් 400 බෙන්ච් ප්‍රෙස් කළ හැක. ධනාත්මක චින්තනය ක්‍රමානුකූල පුහුණුවේ හා ශක්තියේ තැන ගන්නේ නැත.

☞ එක් මිතුරෙක් මට දිනක් පැවසුයේ වසු පැටවකු කුඩා කල සිට දිනපතා එසවීමට පුරුදු වූ පුද්ගලයකුට එම වසු පැටවා මහ හරකකු වු පසුත් එසවීමට හැකි වු බවයි. මෙය විශ්වාස නොකළ මම " එහෙනම් වහු පැටවා වෙනුවට අලි පැටවකු ඉස්සුවොත් මහ අලියකු එසවීමට හැකි වේවිද?" යනුවෙන ඇසුවෙමි. කෙතරම් ධනාත්මක චින්තනයක් සහ ක්‍රමානුකුල පුහුණුවක් තිබුණත් මිනිසාට භෞතික සීමාවන් ඇත.

☞ ධනාත්මක චින්තනය යොදා ගන්නා තවත් සමහරු සිතන්නේ තමන්ට අයහපතක් කළ පුද්ගලයින්ට සමාව දී එය අමතක කළ යුතු බවය. උදාහරණයක් ලෙස යම් පුද්ගලයකු ඔබට අයත් වාහනයක වංචාවෙන් ලබා ගන්නේ යැයි සිතමු. ඔබ ධනාත්මක චින්තනය භාවිත කර ඔහුට මෛත්‍රී කර පාඩුවේ සිටී. ඔබට වෑන් රථය ලැබෙන්නේ නැත. එසේ නැතිනම් ඔබ සෘණාත්මක චින්තනය යොදා ගනිමින ඔහු කෙරේ ඇති කේන්තිය භාවිත කර වෑන් රථය නැවත ලබා ගැනීමට අධිෂ්ඨාන කර පොලීසි, උසාවි ගොස් හෝ බලෙන් හෝ එය නැවත ලබා ගනී. එහෙත් වෑන් රථය මෙම ක්‍රමවලින් ලබා ගැනීමට නොහැකි තත්ත්වයක් පවතී නම් සෘණාත්මක චින්තනය යොදාගෙන හිතේ වෛරයක් පවත්වා ගෙන යාම තම ශක්තිය අපතේ හැරීමකි. මෙහි දී අවශ්‍ය වන්නේ යථාර්ථවාදී චින්තනය මිස සෘණාත්මක හෝ ධනාත්මක චින්තනය නොවේ. අවම වශයෙන් ඔහු තමාට වංචාවක් කළ බව පිළිගෙන ඔහු තම ජීවිතයෙන් ඈත් කරන්න. මෙම යථා තත්ත්වය පිළිගැනීම තුළින් ඔබ නැවත නැවතත් එකම වැරැද්ද නොකරන බවට වගබලා ගත හැක. එමෙන්ම මෙම සිදුවීම අන් අයට පැවසීමෙන් ඔවුන්ටත් අමාරුවේ නොවැටී සිටීමට උපකාර විය හැක. වැරැද්ද හෝ අලාභය පිළිගෙන ඒ තුළින් පාඩමක් ඉගෙනීම ධනාත්මක දෙයකි.

☞ ධනාත්මක චින්තනය විශ්වාස කරන තවත් සමහරු සිතන්නේ තමාට යම් දෙයක් තහවුරු කර ගැනීම තුළින් සෑම දේම හරියන බවය. මුල් වරට ප්‍රසිද්ධ දේශනයක් පැවැත්වීමට යන්නකු තමා දක්ෂ කථිකයකු බව කොපමණ වාර ගණනක් කියා ගත්තත් එසේ වන්නේ නැත. තමන් දක්ෂ කථිකයක නොවන බව පිළිගෙන එසේ වීමට පුහුණුවී උපරිම උත්සාහයක් ගන්න. මා මුල්ම දේශනය කරන්න යද්දී මට හොඳින් කළ හැකි යැයි සිතා ගොස් පිරිස ඉදිරියේ අදහස් ප්‍රකාශ කළ නොහැකිව ගොළු විය. මම ඇත්ත ඇති සැටියෙන් පිළිගතිමි. (යථාර්ථවාදී චින්තනය). මින් කෝපයට පත් මම, මගෙ දුර්වලතාවයන් දුටු මම, (සෘණාත්මක චින්තනය) ඊළඟවර කෙසේ හෝ මීට වඩා හොඳට කරන බව සිතා පුහුණු වී මගේ මුල්වර දුර්වලතාවලින් පාඩම් ඉගෙන ගෙන (ධනාත්මක චින්තනය) දෙවන දේශනය වඩාත් හොඳට කළෙමි. එහෙත් කෙතරම් හොඳට කළත් දේශන 1000 ක් කර අත්දැකීම් ඇත දක්ෂ දේශකයකුගේ තත්ත්වයට මට දෙවන දේශනයේ දී පැමිණිය නොහැකි බව මම දැන සිටියෙමි (යථාර්ථවාදි චින්තනය).

☞ ධනාත්මක චින්තනය නරක දෙයක් ද? නැත කිසිසේත්ම නැත. සෘණාත්මක චින්තනය නරක දෙයක් ද? එසේත් නැත. සෑම දෙයක්ම ධනාත්මකව දකින්නන් හෝ සෑම දෙයක්ම සෘණාත්මකව දකින්නන් සංවර්ධනයට බාධා ඇති කර ගනී. ජීවිතයේ ධන සහ සෘණ දෙකම ඇත. ඉන් එකක් ප්‍රතික්ෂේප කිරීම යථාර්ථවාදී නොවේ. යම් දෙයක් යථාර්ථවාදීව හොඳින් සිදුවන විට එය පිළිබඳව ධනාත්මකව හිතන්න. යම් දෙයක් ඇත්ත වශයෙන්ම නරක් වන විට සෘණාත්මක බලවේගයන් එම තත්ත්වය වෙනස් කිරීමට ගාමක බලවේගයක් ලෙස යොදා ගන්න. යම් තත්ත්වයක් ගැන අතෘප්තිකර වීම නොසෑහීමට පත් වීම ඔබව කේන්තියට පත් කිරීම හේතු විය හැක. එම කේන්තියම, ලෝකය සහ ඔබේ ජීවිතය වඩා යහපත් අතට වෙනස් කිරීමට උපයෝගී කර ගන්න අවශ්‍ය විට ධනාත්මක වන්නත් අවශ්‍ය විට සෘණාත්මක වන්නත් ඉගෙන ගන්න. අවශ්‍ය පරිදි මනා සමතුලනයකින් යුතුව එම චින්තනයන් දෙකම භාවිත කරන්න. ජීවිතය යථාර්ථවාදිව දකින්න. යථාර්ථවාදී චින්තනය තුළ අවශ්‍ය පරිදි ධනාත්මක හා සෘණාත්මක චින්තනයන්, බලවේගයන් යොදා ගනිමින් ලෝකය සහ ජීවිත යහපත් අතට වෙනස් කරන්න.

# 41. දියමන්තිය විවේචනය කිරීම

එක් නෝර්වීජියානුවෙක් වයලීන් වාදනයට තදින් ඇලුම් කළේය. ඔහු ඔහුගේ මුළු කාලයම සහ ශ්‍රමයම යෙදෙව්වේ වයලීන් වාදනයටය. අවාසනාවකට මෙන් හෙතෙම වයලීන් වාදනයේ උසස්ම දක්ෂතාවක් තිබූ අයෙකු වුවද ඔහුට හමුවූ ගුරුවරයා සාපේක්ෂව අදක්ෂයකු විය. ඔහු ලොව පුරා වයලින් වාදන ප්‍රසංග මාලාවක් පැවැත්වීමට සැලසුම් කළේය. මේ අතර ඉතාලියේ මිලාන් නුවර පුවත්පතකට විවේචකයෙක් ලිපියක් ලියමින් කියා සිටියේ "ඔහු නුපුහුණු සංගීතඥයෙකි. ඔහු දියමන්තියක් නම් නිසැකවම කපා ඔප නොදැමූ දියමන්තියකි" යනුවෙනි. වයලීන් වාදකයාට මෙම විවේචනයට මුහුණ දිය හැකි ක්‍රම දෙකක් තිබුණි. කේන්තිගොස් එයට පහර ගැසීමට හෝ එයින් යමක් ඉගෙන ගැනීම යන ක්‍රම දෙකෙන් එකක් ඔහුට තෝරා ගත හැකිව තිබුණි. වාසනාවකට මෙන් ඔහු තෝරා ගත්තේ දෙවැන්නයි. ඔහු පත්තර කාර්යාලයට ගොස් විවේචකයා හමුවීමට අවස්ථාවක් යොදා ගත්තේය. වයලීන් වාදකයා මුළු හවස් වරුවක්ම අවුරුදු 70 ක් වයස විවේචකයා සමග ගත කර ඔහුගේ දුර්වලතා සහ ඒවා නිවැරදි කර ගැනීමට හැකි ආකාරය පිළිබඳ අවවාද අසා ගත්තේය. මෙම සාකච්ඡාවෙන් පසු වයලීන් වාදකයා ඔහුගේ ඉදිරි ප්‍රසංග සියල්ල නවත්වා නැවත සිය රටට ගොස් ඉදිරි මාස 6 අති දක්ෂ වයලීන් ගුරුවරයකු යටතේ ඉගෙන ගත්තේය. ඔහුගේ දුර්වලතා මග හරවා ගැනීමට වරු ගණන් දින ගණන් ගත කළේය. මාස 6 කට පසු නැවත ඔහුගේ ප්‍රසංග සංචාරය ඇරඹීමට තීරණය කළේය. අවුරුදු 26 දී ඔහු යුරෝපය පුරා ජනප්‍රිය වූ ඕලේ බුල් නැමති සුප්‍රකට වයලින් වාදකයා බවට පත්විය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- යම් අයෙක් විවේචනවලට ප්‍රතිචාර දක්වන ආකාරය මත ඔහුගේ/ඇයගේ සාර්ථකත්වය හෝ පරිහානිය රඳා පවතී.
- විවේචනීය සාධනීය විවේචනයක් විය යුතුය තවත් අයකු විවේචනය කරන්නේ ඔහුව/ඇයව පහත හෙළීමේ අරමුණින්ද නැතහොත් ඔහුව/ඇයව දියුණු වනු දැකීමේ ආශාවෙන්ද යන්න මෙහිදී බලපායි.
- තමාගේ හොඳම මිතුරා වන්නේ තමා හොඳින් විවේචනය කරන පුද්ගලයාය. මන්ද යත් ඔහු/ඇය තමාගේ දුර්වල ස්ථාන පෙන්වාදෙන බැවිනි. ඒවා නිවැරැදිකර ගැනීම වඩා හොඳ තලයකට පැමිනිය හැකිය.
- හොඳ අරමුණකින් විවේචනය කිරීම පමණක් නොව කියන විදිහ මෙහිදී අදාල වේ.

# 42. මානය කුමක්ද?

විශාල අධිරාජ්‍යයක අග්‍රාමාත්‍යවරයා, රටේ සේනාධිනායකයාද වූ රණ ශූරයෙක් ද විය. කීර්තිමත් යුද්ධ සේනාධිපතියෙක් හා දේශපාලකයෙක් වුවද ඔහුගේ බලය, සම්පත් ආදිය නොසලකා, තමන් නිහතමානී අයෙක් ලෙස ඔහු සැලකීය. ඔහු නිතරම තමා ඉතා ප්‍රිය කළ පඬිවරයකු හමුවී ඔහු යටතේ දර්ශනවාදය ඉගෙනීමට ගියේය. අග්‍රාමාත්‍යවරයාගේ බලය කීර්තිය මෙම සම්බන්ධතාවට බලනොපාන බව පෙනුණි. අගමැතිතුමා මෙම පඬිවරයාගේ තවත් එක් ශිෂ්‍යයෙක් පමණක් විය. දිනක් තමාගේ සාමාන්‍ය සංචාරයක් අතරතුර අගමැතිතුමා පඬිවරයාගෙන් ප්‍රශ්නයක් ඇසුවේය. "ගෞරවනීය පඬිතුමනි මානය යනු කුමක්ද?" පණ්ඩිතයාගේ මුහුණ රතු පැහැගැන්වී ඉතා අපහාසාත්මක ස්වරයකින් ඔහු කෑ ගැසීය "මොන මෝඩ තකතීරු ප්‍රශ්නයක්ද ඒ ඇහුවේ?" මෙම අනපේක්ෂිත ප්‍රතිචාරයෙන් අගමැතිතුමා නොසන්සුන්තාවයටත් කේන්තියටත් පත්විය. පඬිවරයා සිනාසී මෙසේ පිළිතුරු දුන්නේය. "ගරු අග්‍රාමාත්‍යතුමනි ඔන්න ඕකට තමයි කියන්නේ මානය කියලා"




**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- යමක් ඉගෙන ගැනීමේ හොඳම විදිහ නම් එය විස්තර කර දීම නොව එය අත්දැකීමට සැලැස්වීමයි.
- ක්‍රියාව වචනවලට වඩා හයියෙන් කතා කරයි.
- මිනිසෙක් තවත් මිනිසෙක් සමඟ සම්බන්ධතාවක් ඇති කර ගැනීමට නම් මිනිසුන් තමාගේ පටු නම්බුනාම නිලතල ආදිය පැත්තකින් තැබිය යුතුය. නිලතල මාන්නයේ කොටසකි.
- බොහෝ අය තමන් අසන ප්‍රශ්නයට පිළිතුරු දනී. එය සොයා ගැනීමට මෙසේ සුළු උපකාරයක් කළ විට තමාටම පිළිතුරු සොයා ගත හැක.
- නිලතල සමාජ තත්ත්වය ආදිය සහිත අය එය තමන්ට විශාල දෙයක් නොවන බව ඇඟවීමට යයි. නමුත් ඒවා ඔවුන්ට වැදගත්ය.
- යමෙක් නිලයෙන්, ධනයෙන්, ඥානයෙන්, කුලයෙන්, තරුණ බවෙන්, ශක්තියෙන් මෙන්ම ශීලයෙන්ද මත්විය හැක.
- මට සිහිවෙන්නේ අට සිල්වල "උච්ඡාසයන මහාසයනා" යන්නයි." මම තාත්තා, මෙයා පුතා, මම ගුරුවරයා අහවලා ගෝලයා, මම අගමැති මෙයා යටත් වැසියා" ආදී උස් ආසන ගැනීමෙන් හා "මම මහානායක, අනුනායක, මහාචාර්ය" ආදී මහා ආසන ගැනීමෙන් වැළකීම මෙම සිල් පදයේ අර්ථය බව මම අසා ඇත්තෙමි.

# 43. ආඬි හත්දෙනාගේ කැඳ හැලිය

තැන් තැන්වල යමින් තම ජීවනෝපාය කරගෙන ගිය ආඬි හත්දෙනෙක් දවසක් දා එකම අම්බලමක නවාතැන් ගත්තා. එදා රාත්‍රියට කැඳක් පිළියෙල කර ගැනීමට කතා කරගත් හැමෝම ලිපක් බැඳ වතුර මුට්ටියක් එහෙම ලිපේ තියලා සූදානම් වුණා. ඔන්න පළමුවෙනි ආඬියා ලිප ළඟට ආවා, “මොකටද මම හාල් දාන්නේ, තව හය දෙනෙක්ම ඉන්න එකේ මම හාල් නොදැම්මාට කාටවත් තේරෙන එකක් නැහැනේ,” කියලා හිතලා හාල් දමන බව බොරුවට පෙන්නුවා. ඉතිරි හය දෙනාත් පළමුවෙනි ආඬියා වගේම හිතලා, හාල් දමන බව බොරුවට පෙන්නුවා.

ඔන්න කැඳ බෙදන වෙලාවත් ආවා. හැමෝම තමන්ගේ බඳුන් අරගෙන සූදානම් වුණා කැඳ බොන්න, ඒත් හැමෝගේම බඳුන්වලට වැටුණේ උණුවතුර විතරයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- Social Loafing යනුවෙන් හඳුන්වන්නේ යම් පුද්ගලයකු තනිව යම් ක්‍රියාවක නිරත වන විට යොදන උත්සහයට වඩා අඩු උත්සහයක්, කණ්ඩායමක් ලෙස වැඩ කරන විට යෙදීමයි.
- සාමාන්‍යයෙන් කණ්ඩායමක උත්සහය එහි සමාජිකයන්ගේ උත්සහයන්වල එකතුවට සමාන හෝ ඊට වඩා වැඩි විය යුතු වුවත් මෙහිදී කණ්ඩායමේ උත්සහය තනි උත්සහයන්ගේ එකතුවට වඩා අඩුවේ. උදාහරණයක් ලෙස තනි පුද්ගලයකු කඹ ඇදීමේ තරගයක යෙදෙන විට ඔහු / ඇය 120 kg බලයක් යොදා අදීයැයි සිතමු. එම ශක්තියම ඇති දහ දෙනෙක් එකතු කළ විට (120x10)1200 kg බලයක් යෙදිය යුතු වුවත් බොහෝ විට සිදු වන්නේ ආඬි හත් දෙනාගේ කැඳ හැලියේ මෙන්ම එක් එක් සමාජිකයා තම උපරිම උත්සහය නොයෙදීම හේතුවෙන් 1200 kg ට වඩා අඩු බලයක් යෙදීමය.
- විශේෂයෙන්ම එක් එක් පුද්ගලයාගේ උත්සාහය වෙන වෙනම මැනීමට අපහසු අවස්ථාවල මෙසේ සිදුවේ. ආඬි හත්දෙනාගේ උදාහරණයේ ආඬින් දෙදෙනෙක් හාල් නොදැම්මේ නම් එසේ නොදැම්මේ කුමන ආඬින් දෙදෙනාදැයි දැන ගැනීමට ක්‍රමයක් නැත. එමෙන්ම කණ්ඩායම් හැඟීම තදින්ම නැති කණ්ඩායම්වලදී Social Loafing ඇති විය හැක. හොඳ කණ්ඩායම් තුළ මෙසේ නොවීමටද ඉඩ ඇත. උදාහරණ ලෙස කඹ ඇදීමේ තරගයකදී දිනපතා එකට පුහුණු වූ තම පුද්ගලිකත්වයට වඩා කණ්ඩායම දිනවීම අරමුණු කරගත් කණ්ඩායමක සමාජිකයන් තමා තනිව යොදන උත්සහයටත් වඩා වැඩි උත්සහයක් යෙදිය හැක.

# 44. වල් ඌරාද? මිනින්දෝරුවාද?

කැලෑවක් තුළ වැඩ කරමින් සිටි මිනින්දෝරුවකුට වල් ඌරකු මුහුණට මුහුණ මුණ ගැසුණි. වල් ඌරා මිනින්දෝරුවා පසුපස පැන්නීමට පටන් ගත් අතර මිනින්දෝරුවාද හැකිවේගයෙන් දිවීමට පටන් ගති. මිනින්දෝරුවා මහත කඳක් ඇති ගසක් දැක එය වටේ රවුමට දිවීමට පටන් ගති. වල් ඌරාත් ඔහු පසු පස එළවමින් ගහවටේ රවුමට එළවීමට පටන් ගති. හදිසියේම වල් ඌරාගේ සිතේ අවිනිශ්චිතතාවක් ඇතිවිය. මම මිනින්දෝරුවා පස්සේ එළවනවාද? නැතිනම් මිනින්දෝරුවා මා පස්සේ එළවනවාද? ඌ හිතන්නට පටන් ගති. මෙම සිතිවිල්ලෙන් බියට පත් ඌරා කැලය තුළට  පැන ගියේය.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මිනිසුන්ටද වල් ඌරාට මෙන් වැඩක් කරගෙන යන අතරතුරේ තමාගේ මුල් අරමුණ කුමක්දැයි අමතක වේ.

# 45. ආත්තම්මා කොටු කිරීම

කුඩා අතදරුවෙක් වූ එෂිණි සෙල්ලම් කරමින් සිටියාය. ඒ අසල ගෙතුමක් කරමින් සිටි ආත්තම්මාට එෂිණිගේ කරදර කිරීම් නිසා ගෙතුම හරිහැටි කර ගත නොහැකි විය. එෂිණිගේ අම්මා යෝජනා කළේ එෂිණි වට කොට ක්‍රීඩා කිරීමේ කොටුව (Playpen) දැමීය යුතු බවයි. එහෙත් එෂිණිගේ තාත්තා කීවේ ආත්තම්මා කොටුව තුළට දැම්මොත් ඇයට එෂිණිගෙන් කරදරයක් නොවන බවත් එෂිණිට වැඩි ඉඩ ප්‍රමාණයක සෙල්ලම් කිරීමට ඉඩ ලැබෙන බවත්ය.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙය තිරස් චින්තනයට ( Lateral Thinking ) හොඳ උදාහරණයකි.

☞ සාම්ප්‍රදායික චින්තනයෙන් පිට විසඳුම් සෙවීමට අප පුරුදු විය යුතුය.

# 46. කාටවත් හොයන්න බැරි චක්‍රලේඛනය

ගුණපාල වින්ඩ්සර් මහතා ගාල්ලේ රිච්මන්ඩ් විද්‍යාලයේ බාලදක්ෂ නායකයෙක් ලෙස වැඩ කරන කාලයේ එම විද්‍යාලයේ බාලදක්ෂයකුගේ රැජිණ බාලදක්ෂ පදක්කම් අයදුම් පත්‍රයක් ජාතික මූලස්ථානය විසින් ප්‍රතික්ෂේප කර තිබුණි. වෙනත් වැඩකට කොළඹ පැමිණි ගුණපාල මහතා මූලස්ථානයට ගොස් විෂය බාරව සිටි නිලධාරියා හමුවිය. ඔහු නීතිය අකුරටම ක්‍රියාත්මක කරන්නකු වූ අතර මූලස්ථාන චක්‍රලේඛන කටපාඩමින් දැන සිටියේය. ගුණපාල මහතා එම නිලධාරියාගෙන් රැජිණ බාලදක්ෂ පදක්කම් අයදුම්පත ප්‍රතික්ෂේප කිරීමට හේතු විමසූ විට ඔහු ප්‍රකාශ කළේ අහවල් අවුරුද්දේ අහවල් අංකය දරන මූලස්ථාන චක්‍රලේඛනය අනුව රැජිණ බාලදක්ෂ පදක්කමේ ප්‍රජා සේවා ව්‍යාපෘතිය කර මාස දෙකක් ඇතුළත අයදුම් පත ලැබීමට සැලැස්විය යුතු බවත් මෙම අයදුම් පත ඉදිරිපත් කර ඇත්තේ ව්‍යාපෘතිය සම්පූර්ණ කර මාස තුනක් බවත්ය. මෙම චක්‍රලේඛනයේ පිටපතක් ලබාදෙන ලෙස ගුණපාල මහතා ඔහුගෙන් ඉල්ලීය. ඔහු ටික වේලාවක් සෙවූ නමුත් සොයාගත නොහැකි විය. ගුණපාල වින්ඩ්සර් මහතා තම අනිකුත් කටයුතු අවසන් කර හවස නැවත පැමිණ එය ලබාගන්නා බව කියා පිටත්ව ගියේය. හවස්වරුවේ බාලදක්ෂ මූලස්ථානයට පැමිණි වින්ඩ්සර් මහතා අර නිලධාරියාගෙන් චක්‍රලේඛනය ඉල්ලූ විට ඔහු පැවසුවේ එය මූලස්ථානයේ සොයා ගැනීමට නොහැකි බවත්, එහෙත් එම චක්‍රලේඛනයේ එසේ සඳහන්ව ඇති බව තමාට හොඳටම විශ්වාස බවත්ය. වින්ඩ්සර් මහතා පිළිතුරු ලෙස පැවසුවේ, මූලස්ථානය ඇතුලෙවත්, මූලස්ථාන කොමසාරිස්වරයකුට හොයා ගත නොහැකි චක්‍රලේඛනයක් කොළඹින් හැතැප්ම ගණනක් ඈත පළාතක පාසල් යන වයසේ බාලදක්ෂයකුට සොයා ගැනීම සහ එය පිළිපැදීම  අපේක්ෂා කිරීම සාධාරණ නොවන බවයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ තමාට ක්‍රියාත්මක කළ නොහැකි යමක් වෙන කෙනෙකුගෙන් බලාපොරොත්තුවීම සුදුසුද?

# 47. වනේ ගිජිඳාය දුටුවොත් වනසාය

**වනේ ගිජිඳාය දුටුවොත් වනසාය**
**ලිඳේ පණිදාය වැටුණොත් උෟ කාය**
**අතකින් කරවැලකි අතකින් දඬු බෑය**
**මරණ තුනක් ඇති මිනිසෙක් පැණි කෑය** - *ජන වහරේ ඇති කවියක්*

ගිජිදාය = ඇත්රජු
පණිදාය = නාග රාජයෙක්
දඬුබෑය/දඬුවැල් බෑය මී මැස්සන්ට වඩා ස්වල්පයක් කුඩා මැසි වර්ගයක් බඳින වදය. මෙම පැණි මී පැණිවලට වඩා රසවත්ය.

**මෙම කවියට පාදකවූ කතාව විවිධ ස්වරූප ගන්නා අතර එවන් එක් කතාවක් පහත පරිදි වේ.**

කැලෑවක් තුළ ගමන් කරමින් සිටි මිනිසකු පසුපස කොටියෙක් එළවාගෙන ආවේය. වේගයෙන් දිව ගිය මිනිසා ගල් කුලක කෙළවරකට ආ අතර ඉන් ඔබ්බට තිබුණේ ගැඹුරු ප්‍රපාතයකි. තම ජීවිතය ගලවා ගැනීමට තිබු දැඩි උවමනාව නිසාම ඔහු ප්‍රපාතයෙන් පහළට එල්ලෙමින් තිබූ වැලක් දිගේ පහළට බඩගා එහි එල්ලී සිටියේය. මේ අතර ඒ අසල පිහිටි මී ගුලකින් එළියට ආ මීයෝ දෙදෙනෙක් මිනිසා එල්ලී සිටින වැල කා දැමීමට පටන් ගත්හ. ඔහු වැල අතහැරියොත් ප්‍රපාතයට වැටී මිය යයි. වැල දිගේ ඉහළට නැග්ගොත් තමා කෑමට කෙළ හල හලා බලා සිටින කොටියාට ගොදුරු වේ. මුකුත් නොකරම සිටියත් මීයන් දෙදෙනා වැල කා දැමීම නිසා ප්‍රපාතයට වැටී මිය යාමට සිදුවේ. හදිසියේම ඔහු ඉහළින් එල්ලී ඇති මී වදයකින් පැණි බේරෙනු දුටුවේය. ඔහු එදෙසට මුව අයා පහළට වැටෙන මීපැණි ලෙව කෑවේය. එම මී පැණි අතිශය රසවත් විය.



මෙම ජනකවියේ මූලාශ්‍රය මහාභාරතයේ ඇති කතාවක් බව සුනන්ද මහේන්ද්‍රයන් පවසයි. එම කතාව පහත පරිදි වේ.

බ්‍රාහ්මණයෙක් යම රජු පවා යෑමට බියවන භයානක සතුන්ගෙන් පිරි වනයකට ඇතුලු විය. ඔහුට බිය දැනී වනයෙන් පිටවීමට සැරසෙද්දී ඔහු රවුමට රවුමට යන බව වැටහුණි. එවිට ඔහු දුටුවේ යෝධ කතක් විසින් එලන ලද දැලකින් වනාන්තරය වටවී ඇති බවය. හිස් පහක සර්පයකු මුළු වනය පුරා පැතිර සිටියේය. බ්‍රාහ්මණයා එළිමහනට ආ අතර එහි වැල්වලින් වැසුණු ගැඹුරු ලිඳක් විය. පාද 12 ක් හා මුහුණු 6 ක් සහිත අලියකු එළවාගෙන ආ හෙයින් බ්‍රාහ්මණයා ලිඳ තුළට වැල් දිගේ බඩ ගා මැදක් හරියේ ඔලුව බිමට සිටින සේ එල්ලී සිටියේය. ලිඳ පතුලේ උග්‍ර විෂ සහිත විශාල නාගයකු සිටින බව ඔහු දුටුවේය. ඔහු එල්ලී සිටි වැල්වල පැත්තක මී වද බැඳ තිබූ අතර ඒවායින් මී පැණි බේරෙමින් තිබුණි. ඔහු මී පැණි බිඳක් තොළගෑවේය. ඔහුට ආසා සිතී තව තවත් පැණි කෑමට පටන් ගති. සුදු හා කළු මීයන් රංචුවක් විත් බ්‍රාහ්මණයා එල්ලී සිටි වැල කෑමට පටන් ගති. මී කෑමෙන් කුපිත වූ මී මැස්සෝ බ්‍රාහ්මණයා වට කොට සැරිසරති. බ්‍රාහ්මණයාට තව තවත් පැණි කෑමට උවමනා විය.



**මෙම කතාවේ තවත් ස්වරූප පහත පරිදි වේ.**

- ජෛන උපමාවේ කඩුවක් අතින් ගත් යක්ෂණියක් එළවාගෙන එන අතර කන්නේ මී පැණිය.
- ජපානයේ මුල් කතාවේ කන පලතුරු ජාතිය විෂ වර්ගයකි. මිනිසා එය කා මිය යයි.
- තවත් කතාවක මීයන් දෙදෙනකු වෙනුවට වල් ඌරන් දෙදෙනකු වැල හාරයි.
- කතාවේ තවත් ස්වරූපයක වැලක් වෙනුවට මිනිසා එල්ලී සිටින්නේ ගසක අත්තකය. ගසේ අත්ත බිඳෙනවාත් සමගම ඔහු පැණි කෑමේ යෙදේ.
- බටහිර කතාවේ පැණි වෙනුවට ස්ට්‍රෝබෙරි යෙදේ .
- එළවාගෙන එන සතුන්ද සිංහයකු, කොටියකු, ඇතෙකු, වළසෙකු ආදී විවිධ ස්වරූප ගනී.



**මෙම කතාවේ මහාභාරත කතාවේ අර්ථය ලෙස දක්වා ඇති අදහස්**

- වනය අපගේ ජීවිතයේ සීමිත පරාසයයි. එය අඳුරෙන් හා අනතුරුවලින් ගහණය.
- දැල අතින් ගත් යෝධ කත මහලුවීමේ කියාදාමයයි. ඉන් කිසිවකුටත් ගැලවිය නොහැක.
- කැලේ වසන සතුන් රෝග ව්‍යාධි ආදී මිනිසා විනාශ කළ හැකි අනිකුත් බලවේගයන්ය.
- ලිඳේ සිටින නාගයා කාලයයි. කාලය ජීවත්ව සිටින සියලු දෙනා ක්‍රම ක්‍රමයෙන් කා දමයි.
- කකුල් 12 ගේ අලියා මාස 12 ක් සහිත අවුරුද්දයි.
- සුදු සහ කළු මීයන් දිවා රැයයි. එමෙන්ම අපගේ ජීවන චක්‍රය ක්‍රම ක්‍රමයෙන් ක්ෂය කර දමන කාලය මෙයින් අදහස් වේ.
- මීපැණි ජීවිතයේ තෘප්තියයි. අපගේ කාම පිපාසය නොසන්සිඳෙන සුලුය. තව තවත් රසයම සෙවීමට මිනිසා උත්සහ දරයි.
- මෙම උපමාව මිනිස් ජීවිතය ශෝකාන්තයක් ලෙස නිරූපණය කරයි. මිනිසා තමා වටා ඇති සියලු අනතුරු නොතකා කම් සැප පසුපස ලුහු බඳින බව ඉන් පෙන්වයි.

**මෙම කතාව පිළිබඳ බටහිර සංකල්පයන්ට බර විවිධ අදහස්**

- තමා මුහුණ දී සිටින අනතුරු / ජීවිතයේ අශුභවාදී පැත්ත ජීවිතය රස විඳීමට බධාවක් කර නොගන්න ජීවත්වන සෑම මොහොතක්ම එහි පූර්ණත්වයටම ජීවත්වන්න, රසවිඳින්නා. හෙට මැරුණත් හිතට සැපයි අද ජොලි කරලා.
- ජීවිතය ඇත්තේ විඳවන්න නොව විඳින්නය.
- මිනිසා වැටී මිය ගියත් මීයන් දෙදෙනා ද වට්ටවාගෙන වැටිය යුතුය.
- මිනිසා තමාට සිදුවන නරක, අශුභවාදී දේ ගැන අවශ්‍ය ප්‍රමාණයට වඩා අවධානය යොමු කරයි. ඔවුහු තමා අභියස ඇති හොඳ දේ, ශුභවාදීපැත්ත නොදකිති. සෑම අඳුරු අවස්ථාවකම ලස්සන, ධනාත්මක පැත්ත දුටුවිට ඔබට සතුටින් ජීවත්විය හැක. ජීවිතය අනිත්‍යයි, දුකයි, අනාත්මයි කියා සිතන්නේ ඇයි? ඔබ සතුටින් සිටි අවස්ථා හා දුකින් සිටි අවස්ථා ගණන් කර බැලුවහොත් වඩා වැඩි සතුටින් සිටි අවස්ථා නොවේද?

☞ ජීවිතය ලස්සනයි.
☞ ඔබට හැකි අවස්ථාවේ ජීවිතය රස විඳින්න. එම මොහොත ජීවිතයේ අමතක කළ නොහැකි සුන්දරම අවස්ථාවක් විය හැක.
☞ කරදර ගොඩක් මැද සිටියත් සතුටින් ජිවත්වන්න.
☞ මැරෙන තෙක් ජීවත්වන්න.
☞ ජීවත්වන්න!

**මෙම කතාව පිළිබඳව පෙරදිග සංකල්පයන්ට බර විවිධ අදහස්**

☞ ජීවිතය අනතුරු / මරණවලින් පිරුණු එකකි. අප සියලු දෙනාම කොයි මොහොතේ හෝ කඩා වැටේදැයි නොදන්නා වැල්වල එල්ලී පැණි කනවා නේද?
☞ සෑම දෙයක්ම සෑම මොහොතක් පාසාම වෙනස් වේ. (අනිත්‍යයි). මිනිසා ජරාවට, ලෙඩට, දුකට මරණයට ළංවේ. මහලුව තම අවයවම තමාට කීකරු නැති තත්ත්වකට පත්වේ (දුකයි) මමය, මාගේය යනුවෙන් අල්ලා ගැනීමට කිසිවක් නැත. ඒවා සංකේත පමණි (අනාත්මයි). ජීවිතයේ යථාර්ථය මෙයයි. ත්‍රිලක්ෂණ (අනිත්‍ය, දුක්ඛ, අනාත්ම) දැක දැක මෙම දුක, දුකට හේතුව, දුක නැති කිරීමේ මාර්ගය, දුක නැති කිරීම යන චතුරාර්ය සත්‍යය සොයන්නේ නැතිව නිවන් දැකීමට උත්සහ නොගෙන, කම් සැපෙහි ඇලී ගැලී සිටීමේ ඛේදවාචකය මෙම කතාවෙන් පෙන්වයි. මිනිසා ආශාවන් පසු පස දිව යනුයේ ලිපගිනි මොළොවන තෙක් දිය සැළියේ, දිය කෙළිය කකුළුවා මෙනි.
☞ ලස්සන හැම දේ මොහොතක සුවදේ එහි කෙළවර දුක දේ.
☞ ජපන් කතාවේ කන පළතුරු වර්ගය විසකි.  කම්සැප විඳීම දිව යන්නේ ද සසර දික් කර ගැනීමටය. මී පැණි හෙවත් කම්සැප මතුපිටින් රසවත් වුවත් දිගුකාලීනව බැලු විට ඉන් මිනිසාට වන්නේ හානියකි.  සසර දික් කර ගැනීමකි. විෂ සහිත පළතුරු රස වුවත් ඒවා කෑමේ විපාකය මරණයයි.
☞ සංසාරික පැවැත්මේ අශුභවාදී පැත්ත පෙන්වා දෙයි.

**මෙම කතාව පිළිබඳ තාර්කික  සංකල්පයන්ට බර විවිධ අදහස්**

☞ මෙම කතාවේ මිනිසා තම මරණය තව මොහොතකින් සිදුවන බව නියතවම දනී. ඔහුට ඒ පිළිබඳව කළ හැකි කිසිවක් නොමැති බව වැටහී තිබුණි. මීපැණි ඔහුගේ ජීවිතයේ විනෝද වීමට ඇති අවසාන අවස්ථාවයි. බිය, බලාපොරොත්තු රහිත බව ආදී තත්ත්වයන්ගෙන් ඔහුගේ මෙම අවසාන අවස්ථාව නැති කර නොගෙන එම අවස්ථාවෙන්  ඔහු උපරිම ප්‍රයෝජන ගත්තේය.
☞ බාධා, කම්කටොළුවලින් බාධා නොවීමෙන් සැනසුම ළඟා කර ගත හැක.
☞ වත්මනේ පමණක් ජීවත්වන්න.
☞ ඔහු මීපැණි රසවින්දේ එය අතීතයේ කෑ මීපැණිවල රස හා සන්සන්දනය නොකළ නිසාත්, අනාගතයේදී එවන් මීපැණි කෑමට අවස්ථාවක් නොලැබෙනවා යැයි දුක් නොවූ නිසාත්ය.
☞ මී පැණි කෑමට වඩා තමාගේ ජීවිතය ගලවා ගැනීමට යම් දෙයක් කළ හැකිදැයි ඔහුට සිතීමට තිබුණි. උදාහරණ ලෙස මීයන්ට මීපැණි දී තමන්ට ජීවත්වීමට තව ටික වෙලාවක් ලබා ගැනීම හෝ මරණයෙන් ගැලවීමට වෙනත් උපායක් කල්පනා කළ හැකිව තිබුණි. ඔහු තම මොහොතක රසය ගැන සිතුවා මිස දුර දිග සිතුවේ නැත.
☞ කොටියා අතීතයයි, ප්‍රපාතය අනාගතයයි. මීයන් දෙදෙනා අපව ටිකෙන් ටික මරණය වෙත ළං කරවන දිවා රැයයි. මී පැණි වර්තමාන මොහොතයි.  අතීතය අමතක කරන්න. අනාගතය ගැන සිතා දුක්නොවන්න. අද දින සිදුවන දේ ගැනත් නොසිතන්න. වත්මත් මොහොත ගැන පමණක් අවධානය යොමු කරන්න. සතුටින් ජීවත්විය හැක්කේ මෙම ක්‍රමයට පමණි.
☞ මෙහි සිදුවිය හැකි තත්ත්වයන් දෙකකි.

1. සැබෑවටම පරිණත මනසක් ඇති අයකුට අනතුරු රාශියක් මැද වුවද, තම සිත වෙනතක යොමු කරවන බාධක රැසක්  මැද වුවද, වත්මන් මොහොතට සහ එම ස්ථානයට පමණක් සිත මෙහෙයවා සිටිය හැක.

2. මොහු යථාර්ථය ප්‍රතික්ෂේප කරන මානසිකව දුර්වල තත්ත්වයක සිටින අයකු විය හැක. මෙම හේතු දෙකෙන් කුමක් වුවත් ඒවා දිව යන්නේ එකම අනන්තයකට හෙවත් මරණය වෙතය. ප්‍රතිඵලය එකය.

# 48. Mr. බොන් ඇපතීත්

සතියක කළමනාකරණ පාඨමාලාවක් හැදෑරීම සඳහා මාතුපාල ප්‍රංශයට ගියේය. පාඨමාලා සංවිධායකයින් ප්‍රංශ ජීවිතයට හුරුවීම සඳහා මාතුපාලට සහය වීමට ප්‍රංශ ජාතිකයකු සමාජ අනුග්‍රාහකයකු ලෙස (Social Sponsor) ලෙස වෙන් කර තිබූ අතර ඔවුන් දෙදෙනා සෑම දිනකම උදෑසන ආහාරයේ දී එකිනෙකා හමුවිය යුතුව තිබුණි. පළමු දින උදෑසන ඔවුන් කෑම මේසයේ දී හමු වූ විට ප්‍රංශ ජාතිකයා ''බොන් ඇපතීත්'' (Bon Appetit) යැයි කීවේය. ඔහු ඔහුගේ නම කියන බව සිතූ මාතුපාල තමාගේ නම කීවේ 'මාතුපාල' යනුවෙනි. දවල් වරුවේ ඔවුන් දෙදෙනා වෙන වෙනම ඔවුන්ගේ දේශනවලට සහභාගී වී පසුදින උදෑසන ආහාරය සඳහා ද එකතු වුණි. බොන් ඇපතීත් මහත්මයා එදිනද  නැවත වරක් ඔහුගේ නම කීවේය. මාතුපාලට ටිකක් අප්සෙට් ගිය ද ඔහු හිතුවේ ඔහුට ඊයේ නම කියූ බව අමතකව අදත් නම කියන බවය. මාතුපාල ද නැවත වරක් තම නම 'මාතුපාල'යනුවෙන් ශබ්ද නගා කිවේය. තුන්වන දින ද උදෑසන කෑම මේසයේ දී මේ ආඩම්බර ප්‍රංශකාරයා නැවතත් ඔහුගේ නම කීවේය. මෙවර  සෑහෙන කේන්තියට පත් මාතුපාල ද ''හොද්දට ගියත් අපි සෙකන්ඩ් වෙන්නේ නෑ'' ආකල්පය ඇතිව පපුවත් පුම්බා කෑ ගසා ''මාතුපාල'' යැයි කීවේය.

මෙදින දවල් වරුවේ නගරයේ  ඇවිදින විට ප්‍රංශයේ වසන ශ්‍රී ලාංකේය කාන්තාවක්  මාතුපාලට මුණ ගැසුණි. ප්‍රංශ වාසය කෙසේදැයි ඇය මාතුපාලගෙන් විමසූ විට මාතුපාල කීවේ ඔක්කොම හොඳයි හැබැයි මාත් එක්ක හැමදාම උදේට කෑම කන ප්‍රංශකාරයා නම් මහා ආඩම්බරකාරයෙක්, හැමදාම මිනිහා එයාගේ නම කියනවා යනුවෙනි. ඔහුගේ නම කුමක්දැයි ඇය විමසූ විට මාතුපාල කීවේ  ''බොන් ඇපතීත්'' බවයි. මෙය ඇසූ ඇයට සිනහව නතර කර ගත නොහැකි විය. යන්තම් සිනහව නතර කරගත් ඇය මාතුපාලට විස්තර කළේ එය ප්‍රංශ ජාතිකයන් ආහාර ගැනීමට පෙර භාවිත  කරන ආචාර ක්‍රමයක් බවත්  'බොන්' යනු හොඳ යන්නත්  'ඇපතීත්' යනු බඩගින්න බවත්  ''බොන් ඇපතීත්'' යනු "යහපත් බඩගින්නක් ඇතිවේවා" නැතිනම්" හොඳින් ආහාර ගැනීමට හැකිවේවා "  යන්න බවත්ය. මෙය ඇසූ මාතුපාලට ලැජ්ජාව වාවා ගත නොහැකි විය. දිගින් දිගට කල්පනා කළ ඔහු පසුදින උදෑසන කෑම මේසයේ දී මෙය නිවැරදි කර ගැනීමට සිතුවේය. පසුදා උදේ ප්‍රංශ  ජාතිකයා හමු වූ මාතුපාල ඔහු  සුභපැතීමට පෙර  ''බොන් ඇපතීත්'' යැයි කීවේය. ප්‍රංශ ජාතිකයා ශබ්ද නගා ''මාතුපාල'' යැයි කෑගැසුවේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- දැන ගියොත් කතරගම නොදැන ගියොත් අතරමග.
- දේසේ හැටියට බාසේ

# 49. රොබා සහ බබා

අර්ථික විද්‍යාවේ කතපයාධිකාරී වෙළඳපොළ (Oligopoly) යටතේ එන ක්‍රීඩා න්‍යායයේ (Game theory) ක්‍රීඩා, සැබෑ ජීවිතයේ තීරණ ගැනීමටද යොදා ගත හැක. මේ අනුව තම ප්‍රතිවාදියාගේ ප්‍රතිචාරය අනුමාන කර තම ප්‍රතිචාරය හැඩ ගස්වා ගත හැක. එවන් එක් ක්‍රීඩාවකි සිරකරුවන්ගේ උභතෝකෝටිකය ( Prisoners Dillemma)

රොබා සහ බබා කාර් එකක් සොරකම් කර ගෙන යද්දී බඩුත් එක්කම පොලීසියට හසු වුණා. රහස් පරීක්ෂක කණ්ඩායමට ලැබුණු හෝඩුවාවක් අනුව මොවුන් දෙන්නා මෑතකදී සිදුවු ගිනිපොලී බැංකු මංකොල්ලයට සම්බන්ධයි. මේක රහස් පරීක්ෂකයන්ට සීයයට සියයක්ම විශ්වාස වුවත් ඔප්පු කිරීමට කිසිම සාක්ෂියක් ඔවුන් සතුව තිබුණේ නෑ. බැංකු මංකොල්ලයට රොබාට සහ බබාට දඬුවම් දිය හැකි එකම ක්‍රමය වූයේ ඔවුන් පාපොච්චාරණය කිරීමට පොළඹවා ගැනීමයි. රහස් පරීක්ෂකයන් පහත නීති රීති යටතේ ඔවුන් ලවා ක්‍රීඩාවක් කෙරෙව්වා. රොබා සහ බබා එකිනෙකාට කතා කළ නොහැකි වන සේ වෙන වෙනම කාමරවලට දමා රහස් පරීක්ෂකයන් ඔවුන්ට පවසන්නේ. . . .

1 ඔවුන්ව බැංකු මංකොල්ලයට සැක කරන බව,
2 ඔවුන් දෙදෙනාම බැංකු මංකොල්ලය ගැන පාපොච්චාරණය කළේ නැතිනම් කාර් සොරකමට පමණක් අවුරුදු දෙක බැගින් සිරදඬුවම් ලැබෙන බව ,
3 දෙදෙනාම බැංකු මංකොල්ලය ගැන පාපොච්චාරණය කළොත් කාර් සොරකමට සහ බැංක මංකොල්ලයට යන වැරදි දෙකටම අවුරුදු තුන බැගින් සිරදඬුවම් ලැබෙන බව,සහ
4 එක් අයකු පමණක් පාපොච්චාරණය කළොත් පාපොච්චාරණය කළ තැනැත්තාට අවුරුද්දක් සහ පාපොච්චාරණය නොකළ තැනැත්තාට අවුරුදු දහයක්ද වශයෙන් හිරදඬුවම් ලැබෙන බවත්ය.

මෙම තත්ත්වයන් යටතේ රොබාටත්, බබාටත් ගත හැකි විකල්ප ක්‍රියා මාර්ග/ තෝරා ගැනීම් දෙකක් ඇත. ඔවුනට,

1. බැංකු මංකොල්ලය ගැන පාපොච්චාරණය කිරීම ,හෝ
2. එම වරද ප්‍රතික්ෂේප කිරීම හෙවත් පාපොච්චාරණය නොකිරීම, තෝරා ගත හැක.

තෝරා ගැනීම් 2ක් සහ සිරකරුවන් දෙදෙනකු සිටින නිසා ඇති විය හැකි ප්‍රතිඵල 4 කි.ඒවා නම් ,

1. දෙදෙනාම පාපොච්චාරණය කිරීම ,
2. දෙදෙනාම පාපොච්චාරණය නොකිරීම ,
3. රොබා පමණක් පාපොච්චාරණය කිරීම,
4. බබා පමණක් පාපොච්චාරණය කිරීම ,යන හතරයි.

**රොබා**

| | පාපොච්චාරණය | ප්‍රතික්ෂේපය |
|---|---|---|
| පාපොච්චාරණය | අවු 03 / අවු 03 | අවු 10 / අවු 01 |
| ප්‍රතික්ෂේපය | අවු 01 / අවු 10 | අවු 02 / අවු 02 |

**බබා**

රොබාටත්, බබාටත්, ඉහත කී ප්‍රතිඵලයන් හතර තුළ තමන්ට දැරිය යුතු වන්දිය (Payoff ) ගණනය කළ හැක. මෙම ගණන් බැලීම Payoff Matrix එකක් මගින් ඉහත පරිදි නිරූපණය කළ හැක.ඉහත වගුවේ සුදු ත්‍රිකෝණයේ රොබා දැරිය යුතු වන්දියත් අළු කොටුවේ බබා දැරිය යුතු වන්දියත් සටහන් වේ.

1 උඩ වම් පස කොටුවෙන් පෙන්වන්නේ දෙදෙනාම පාපොච්චාරණය කළොත් දෙදෙනාටම අවුරුදු තුන බැගින් සිර දඬුවම් ලැබෙන බවයි.

2 පහළ දකුණු කොටුවෙන් පෙන්වන්නේ දෙදෙනාම වරද ප්‍රතික්ෂේප කළහොත් කාර් හොරකමට පමණක් අවුරුදු දෙක බැගින් පමණක් දෙදෙනාටම සිර දඬුවම් ලැබෙන බවයි.

3 උඩ දකුණු පස කොටුවෙන් පෙන්වන්නේ රොබා වරද ප්‍රතික්ෂේප කර බබා පමණක් පාපොච්චාරණය කළොත් බබාට අවුරුද්දක සිර දඬුවමක් හා රොබාට අවුරුදු දහයක සිර දඬුවමක් ලැබෙන බවයි.

**හොඳම තෝරා ගැනීම**

රොබාගේ දෘෂ්ටි කෝණයෙන් තත්ත්වය දෙස බැලුවොත්, බබා පාපොච්චාරණය කළොත් රොබාට ද අනිවාර්යයෙන්ම පාපොච්චාරණය කරන්නට සිදුවේ. ඒ එසේ නොකළොත් ඔහුට අවුරුදු දහයක සිර දඬුවමක් හිමිවන නිසාය. පාපොච්චාරණය කිරීමෙන් එය අවුරුදු තුන දක්වා අඩු කර ගත හැක. එසේම බබා පාපොච්චාරණය නොකළද රොබාට ගත හැකි හොඳම තීරණය

වන්නේ පාපොච්චාරණය කිරීමයි, ඒ කරුමෙටවත් බබා පාපොච්චාරණය නොකර තිබ්බොත් තමාගේ දඩුවම අවුරුද්දකට පමණක් සීමා වන නිසාය. බබාගේ දෘෂ්ටිකෝණයෙන් බැලුව ද මෙම තෝරා ගැනීම මෙසේම වේ.

**සමතුලිතය** ( Equilibrium )

රොබාටත් බබාටත් ගත හැකි හොඳම ක්‍රියාමාර්ගය පාපොච්චාරණය කිරීම නිසා දෙදෙනාම පාපොච්චාරණය කර අවුරුදු තුනකට හිරේ යන අතර එම තත්ත්වය මෙම ක්‍රීඩාවේ සමතුලිතය ලෙස හැඳින්වේ. මෙම තත්ත්වය ඉහළ වම් පස කොටුවෙන් නිරූපණය වේ. මෙය Nash Equilibrium ලෙස හඳුන්වන්නේ, මෙම සංකල්පය හඳුන්වා දුන්නේ නොබෙල් ත්‍යාගලාභී ප්‍රින්ස්ටන් විශ්වවිද්‍යාලයේ ජෝන් නාෂ් බැවිනි. සමතුලිතය යන්න තවත් විදිහකට හඳුන්වා දුන්නොත් බබාට ගත හැකි තෝරා ගැනීම්, සලකා බලා රොබා තමාට ගත හැකි හොඳම තෝරා ගැනීම ගත් විටද, රොබාට ගත හැකි තෝරා ගැනීම් සලකා බලා බබාද තමාට ගත හැකි හොඳම තීරණය ගත් විටද, ඇති වන තත්ත්වය සමතුලිතය නමින් හැඳින්වේ.

**උභතෝකෝටිකය** Dilemma

මෙම ක්‍රීඩාවේ විසඳුමේ ඇති උභතෝකෝටිකය ඔබට දැන් පෙනෙනවා ඇත. රොබාත් බබාත් යන දෙදෙනාම වරද ප්‍රතික්ෂේප කළොත් අවුරුදු දෙකක් පමණක් සිර දඬුවම ලැබෙන බව පැහැදිලිය. නමුත් රොබාටත් බබාටත් අනිකා පාපොච්චාරණය කරයිද නැත්ද යන්න හරියටම දැන ගැනීමට ක්‍රමයක් නැත. දෙදෙනාගේම සිත තුළ ඇත්තේ පහත පැනයයි.

මගේ සගයා වරද ප්‍රතික්ෂේප කරන බවට විශ්වාස කර අපි දෙන්නාටම අවුරුදු දෙක බැගින් හිර දඬුවම් ලැබෙන විදියට මාත් වරද ප්‍රතික්ෂේප කරනවාද? හැබැයි කරුමෙටවත් මිනිහා පාපොච්චාරණය කළොත් මට දහයයි මිනිහට එකයි. එහෙමත් නැතිනම් මම පාපොච්චාරණ කළොත් ඒවගේම මගේ සගයත් පාපොච්චාරණය කරලා තිබුණොත් අපි දෙන්නටම වැඩිම වුණොත් ලැබෙන්නේ අවුරුදු තුන බැගින්. ඒ වගේම මිනිහා පාපොච්ඡාරණය කරල නොතිබුණොත් මට අවුරුදු එකක හිර දඬුවමක් විතරක් ලැබීමටත් චාන්ස් එකක් තියෙන නිසාත් මම පාපොච්චාරණය කරනවා ද නැද්ද?

මෙම උභතෝකෝටිකය විසඳෙන්නේ ක්‍රීඩාවේ සමතුලිතයෙහි තීරණය ගැනීමෙනි.

**අයහපත් ප්‍රතිඵලය**

මෙහි දී පාපොච්චාරණය කිරීමෙන් දෙදෙනාටම හොඳම ප්‍රතිඵලය අත් නොවන බව පැහැදිලිය. වරද ප්‍රතික්ෂේප කළා නම් අවුරුදු දෙකකට හිරේ යන්න තිබුණි. එසේ කළ නොහැකි වන්නේ ඔවුන් දෙදෙනාට අනිකාට කතා කිරීමට නොහැකි නිසාය. අනිකා ප්‍රතික්ෂේප කරන බවට හොඳට ෂුවර් නම් දෙදෙනාටම අවුරුදු දෙකක සිරදඬුවමක් ලබා ගත හැක. එහෙත් අනිකාට ගත හැකි හොඳම උපාය මාර්ගය පාපොච්චාරණය බව දන්නා නිසා දෙදෙනාටම අයහපත් ප්‍රතිඵලයක් ගෙන දෙමින් තීරණය සමතුලිතයේ පවතී.

# 50. නිවුණු ඉටිපන්දම

කර්මස්ථාන වැඩීම පුරුදු පුහුණුවෙමින් සිටි ශිෂ්‍යයෝ හතර දෙනෙක් දවස් හතක් නිශ්ශබ්දව භාවනා කිරීමට කතිකා කර ගත්හ. කුටියකට වැදුණු ඔවුහු පළමු දිනය නිශ්ශබ්දතාවයෙන්ම කමටහන් (කර්මය අස්ථාන ගත කිරීම) වැඩුහ. එදින රාත්‍රියේදී ඉටිපන්දම සුළං රැල්ලකට අසුව මොහොතක් ලෙළදී නිවී ගියේය. මෙවිට ඔවුන් අතර වූ සංවාදය පහත පරිදිය.

පළමු ශිෂ්‍යයා: “අයියෝ ඉටිපන්දම නිවුණා.”

දෙවන ශිෂ්‍යයා :“අපි නිශ්ශබ්දව සිටිය යුතු බව මතක නැද්ද?”

තුන්වන ශිෂ්‍යයා: “ඔබලා දෙන්නාම හරි මෝඩයි ඇයි ඔබලා නිශ්ශබ්දතාව කැඩුවේ?”

හතරවැන්නා: “හුරේ! මම තමයි කතා නොකළ එකම එක්කෙනා.”



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්.**

☞ ශිෂ්‍යයෝ හතර දෙනා වෙන වෙන හේතූන් මත නිශ්ශබ්දතාව බින්දෝය. මේ හේතු හතරම කර්මස්ථාන වැඩීමට බාධාය. පළමුවැන්නා ලෝකයේ ඇති එක් ධාතුවක් (ගිනි දැල්ල) නිසා භාවනාවට තිබූ අවධානය බිඳ ගත්තේය. දෙවැන්නා කමටහනට වඩා නීති රීති ගැන වැඩි තැකීමක් කළ නිසා කමටහනට බාධා කර ගත්තේය. තුන් වැන්නා අනිත් අය නීති කැඩීම ගැන කේන්ති ගත් අතර තමාගේ වැඩේට බාධා කරගනිමින් අනිත් අය කරන දේ ගැන අවධානය යෙදීම නිසා කමටහනට තිබූ අවධානය බිඳගත්තේය. හතරවැන්නා තමාගේ අභිමානය හා තරගය තුළ අතරමං විය. මෙම බාධා ඇතිකරවන හේතූන් අප කරන අනික් දේවල්වලටද ගලපා බලන්න.

☞ බොහෝ අය හතරවන ශිෂ්‍යයා වැනිය. ඔවුන් හිතන්නේ “තමන් හොඳ දෙයක් කරනවා නම් එය අනිත් අය බලා සිටින්නේ නැත්නම්, අන් අයගේ අවධානය තමාගේ යහ ක්‍රියාව වෙත ඇද ගත යුත බවයි. ඔවුන් සිතන්නේ යම් ක්‍රියාවක ප්‍රතිඵලය තිබෙන්නේ එම ක්‍රියාවේ හෝ ආයාසයේ නොව එයට ලැබෙන පිළිගැනීම මත බවයි.

☞ තම පරමාර්ථයට ලගාවන විට තමන් එය වෙත ලගාවීමෙන් ඇති වන මානය අරමුණට බාධාවක් විය හැක.

☞ එහි පස්වන ශිෂ්‍යයාවක් සිටියේ නම් ඇය, විනාඩි 10 ක් පමණ අන් අය නිශ්ශබ්ද වේදැයි බලා සිට ඔවුන් නිශ්ශබ්ද වන්නෙත් නැත්නම් සහ ඒ ඝෝෂාව මැද සිත එකඟ කරගෙන කමටහන වැඩීමට නොහැකි නම්, වෙන කුටියකට ගොස් භාවනා කරනු ඇත.

☞ භාවනාව තරගකාරී විය යුතු නැත. එය සාමූහිකව කළ නොහැක්කකි.

☞ මෙම ශිෂ්‍යයෝ හතර දෙනාම කමටහන් වැඩීමට ආධ්‍යාත්මික වශයෙන් තවමත් සූදානම් නැති බව පෙනේ. ඔවුන්ට සිත එකඟ කිරීමට නොහැකි අතර ඉතා පහසුවෙන් අවට පරිසරය නිසා අවධානය බිඳ ගනී. ඔවුහු තමන්ගේ ඉලක්කය වන දින 7 ක් නිශ්ශබ්දව කර්මස්ථාන වැඩීමට ළඟාවීමට අපොහොසත් විය. මෙම කතාවේ මූලික පාඩමක් නම් යම් ක්‍රියාවකට පෙළඹීමට පෙර ඒ සඳහා හොඳින් සූදානම් විය යුතු බවයි. ඉලක්කය ඉතා අපහසු එකක් වුවත් හොඳ සූදානමකින් යුතුව වැඩේට බැස ඉලක්කය කෙරෙහිම මනස වෙහෙසවමින් (දැඩි අධිෂ්ඨානයෙන්) යුතුව, මුල මැද අග යන තුන් තැන්හීම වීර්යය යෙදුවොත් ළඟාවිය නොහැකි ඉලක්ක ඉතා අඩුය.

☞ නිශ්ශබ්දතාව කමටහනට සම්බන්ධ වන්නේ කෙසේද? කමටහන වාඩිවී සිටින විට, ඇවිදින විට, හිටගෙන සිටින විට, හාන්සි වී සිටින විට(තිට්ඨං චරං නිසින්නෝවා සායානෝවා) වැඩිය යුතු දෙයකි. නිශ්ශබ්දව කමටහන් වැඩීම හොඳ වුවත් දින හතක් එක දිගට නිශ්ශබ්දව සිටීමේ ඵලයක් ඇත්ද? මූලික ඉලක්කය අවශ්‍යතා විශ්ලේෂණයෙන් තොරව ඇති කරගත් SMART නොවූ එකකි. එම අරමුණ ඇයි අපි මේක කරන්නේ? (R=Relevancy) නිශ්ශබ්දතාව කමටහනට අදාළද? දින හතක් නිශ්ශබ්දව සිටීම ළඟා විය හැකි අරමුණක්ද? (A=Achievable) යන ලක්ෂණ ගැන නොසිතා සාදා ගත අරමුණකි.



# 51. ගෝල්ෆ් බෝල, පබළු, වැලි සහ සිසිල් බීම

වැඩිහිටි වෘත්තීය ආයතනයක දේශකවරියක් තම ශිෂ්‍යයාවන්ට පාඩමක් කියා දෙමින් සිටියාය. ඇය විශාල වීදුරු බීකරයක් ගෙන එය තුළට ගෝල්ෆ් බෝල පිරෙව්වාය. ඉන් අනතුරුව "මෙම භාජනය පිරිලාද?" යනුවෙන් සිසුන්ගෙන් විමසුවාය. පන්තිය ඒකමතිකව පැවසුවේ එය පිරී ඇති බවයි. ඉන් අනතුරුව ඇය පබළු පිරුණු මල්ලක් ගෙන පබළු, ගෝල්ෆ් බෝල පිරුණු වීදුරු බීකරයට දැම්මාය. පබළු ගෝල්ෆ් බෝල අතර හිඩැස් අතරට බැස්සේය. අනතුරුව ඇය නැවතත් "දැන් මෙම වීදුරු බඳුන පිරිලාදැයි" පන්තියෙන් විමසුවාය. මෙවර ගියපාර තරම් විශ්වාසයෙන් යුතු වූයේ නැතත්, බහුතර සිසුන් එය පිරී ඇති බව පැවසීය. ගුරුවරිය වැලි බඳුනක් ගෙන වැලි, බීකරය තුළට හැලුවේය. පෙර මෙන්ම වැලි පබළු හා ගෝල්ෆ් බෝල අතර ඇති හිඩැස්වලට කිඳා බැස්සේය. "දැන් මෙම බීකරය පිරිලාදැයි" තුන්වන වරටත් ගුරුවරිය විමසුවාය. මෙවර බොහෝ සිසුන් උත්තර දීමෙන් වැළකී සිටියද සමහරෙක් එය පිරී ඇති බව පැවසුහ. මෙවර ගුරුවරිය ජනප්‍රිය සිසිල් බීම වර්ගයක බෝතලයක් ගෙන එය බීකරය තුළට වක් කළාය. බීම වැලි අතරට පිරුණි.

මෙහිදී ගුරුවරිය පන්තියෙන් විමසුයේ මෙයින් උගත හැකි පාඩම මොකක්ද? යන්නයි. එක් දක්ෂ සිසුවියක් මීට පිළිතුරු දුන්නාය.

"යමෙකුගේ කාලසටහන කෙතරම් පිරී තිබුණත් ඊට තව තවත් දේවල් රිංගවීමට පුළුවන් බව"



"නෑ" ගුරුවරිය කීවාය. "මෙම බීකරය ඔබලාගේ ජීවිතය නියෝජනය කරන බව සිතන්න. ගෝල්ෆ් බෝල තමයි, ඔබගේ පවුල, දරුවන්, සෞඛ්‍යය, මිතුරන්, ආධ්‍යාත්මික හා පෞරුෂ දියුණුව ආදී අත්‍යවශ්‍ය දේවල්. අනිත් සියලුම දේ නැතිවී මේවා පමණක් ඉතිරි වුණත් ඔබේ ජීවිතය තවදුරටත් පිරී පවතින දේවල් තමයි ගෝල්ෆ් බෝල. පබළු තමයි අත්‍යවශ්‍ය නොවුණත් වැදගත් දේවල්. උදාහරණ තමයි ඔබගේ රැකියාව, නිවාස, වාහන ආදිය. වැලි තමයි ඉතිරි සුළු සුළු දේවල්. ඔබ මුලින්ම බීකරයට වැලි පිරෙව්වොත් පබළු හෝ ගෝල්ෆ් බෝලවලට ඉඩක් ඉතිරිවන්නේ නෑ. ජීවිතයත් එසේමයි, ඔබගේ කාලය සහ ශක්තිය සුළු සුළු දේවල්වලට වැය කරොත් ඔබට වැදගත් දේ කිරීමට අවකාශයක් ලැබෙන්නේ නෑ. ඔබගේ සන්තෝෂයට වැදගත් දේ පිළිබඳව අවධානය යොමු කරන්න. ඔබගේ දරුවන් සමග සෙල්ලම් කරන්න. වෛද්‍ය පරීක්ෂණයක් කරගන්න, ඔබගේ සැමියා හෝ බිරිඳ සමඟ චිත්‍රපටයක් බලන්න යන්න. එවිට ගෙදර පිරිසිඳු කිරීම අළුත්වැඩියාව වැනි දේට වෙලාව ඉතිරි වේවි. මුලින් ගෝල්ෆ් බෝල හෙවත් අතිශය වැදගත් දේවල් ගැන වගබලා ගන්න. ඔබගේ ප්‍රමුඛතා තීරණය කර ගන්න. අනිත් දේවල් නිකම්ම පබළු හා වැලි විතරයි.

එක් සිසුවෙක් අත උස්සා අසා සිටියේ "එතකොට සිසිල් බීම නියෝජනය කරන්නේ මොනවද?"යනුවෙනි. ගුරුවරිය පිළිතුරු දෙමින් කීවේ,"මට සන්තෝෂයි ඔබ ඒ ප්‍රශ්නය අහපු එකට. එයින් පෙන්වන්නේ ඔබගේ ජීවිතය අනිත් දේවලින් කෙතරම් පිරී තිබෙන බව පෙනී ගියත්, විනෝදවීමටත්, ජීවිතය රස විඳීමටත් වේලාව ඉතිරිව තිබෙන බවයි".

# 52. ටොම් ඉඩම් ගත්ත හැටි

ටොම් ජැක්සන් ඔස්ට්‍රේලියාවේ, ක්වීන්ස්ලන්තයේ, ග්ලැඩ්ස්ටන්වල චන්ද්‍රිකා සන්නිවේදන උපකරණ නිෂ්පාදනය කරන කර්මාන්ත ශාලාවක් තැනීම සඳහා භූමියක් මිලදී ගැනීමට ඩොලර් මිලියන 40 ක් වියදම් කිරීමට තම අත්සන තැබුවේය. ටොම් තම සමාගමේ ප්‍රධාන විධායක නිලධාරියා විය. ව්‍යාපාර උපදේශන සමාගමක් විසින් මෙම කර්මාන්ත ශාලාව සෑදීම සඳහා යෝග්‍ය බිම් කොටස් 5 ක් පිළිබඳව කරන ලද සවිස්තර වාර්තාවක් ඔහු ඉදිරියේ තිබුණි. එම වාර්තාවේ ග්ලැඩ්ස්ටන් භූමිය නම් කර තිබුණේ තුන්වැන්නට වුවත් ටොම් එය තෝරා ගත්තේය. විශේෂඥ නිර්දේශවලට පටහැනිව ග්ලැඩ්ස්ටන් තෝරා ගැනීම පිළිබඳව ටොම්ගෙන් විමසූ විට ඔහු කීවේ "මා වාර්තාව ඉතා ප්‍රවේශමෙන් කියෙව්වා. මගේ හිත කීවේ එහි ඇති දත්ත සියල්ල පවසන්නේ නැති බවයි. මගේ අන්තර්ඥානය අනුව මට ඉව වැටුණේ දිගුකාලීනව බැලූ විට හොඳම තේරීම වනුයේ ග්ලැඩ්ස්ටන් බවයි" යනුවෙනි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙහිදී ටොම් අන්තර්ඥානය (Intuition/Gut Feeling) මත තීරණයක් ගත් අතර බටහිර රටවල මෑතක් වන තුරුම එය අවිද්‍යාත්මක, අකාර්යක්ෂම තීරණ ගැනීමේ ක්‍රමයක් ලෙස සැලකුණි. එහෙත අද වන විට අන්තර්ඥානය තීරණ ගැනීමට යම් තැනක් හිමි වී ඇති අතර සමහර තත්ත්වයන් යටතේ අන්තර්ඥානය පාදක කරගෙන තීරණ ගැනීම වඩාත් යෝග්‍ය බව පිළිගෙන ඇත.

☞ අන්තර්ඥානය සමහරු දකින්නේ හයවන සන්නිවේදන ඉන්ද්‍රියක් (Sixth Sense) ලෙසිනි. තවත් සමහරු එය පෞරුෂත්වයේ ඇති ගතිලක්ෂණයක් (Trait) ලෙස හෝ දක්ෂතාවක් (Skill) ලෙස දකී.

☞ තෝරා බේරාගත් අත්දැකීම් තුළින් නිර්මාණය වූ අවිඥානික ක්‍රියාවලියක් ලෙස අන්තර්ඥාන තීරණ ගැනීම හැඳින්විය හැක. එය අත්‍යවශ්‍යයෙන්ම තර්කානුකූල තීරණ ගැනීමෙන් ස්වාධීනව ක්‍රියාත්මක වන්නක් නොවේ. තර්කානුකූල තීරණ ගැනීම හා අන්තර්ඥාන තීරණ ගැනීම එකිනෙකාට අනුපූරක වශයෙන් ක්‍රියා කරයි.

☞ ප්‍රවීණයකුට තම අත්දැකීම් මත යම් අවස්ථාවක් තුළ දක්නට ලැබෙන රටාවන් හා ඉඟි ක්ෂණිකව හඳුනා ගැනීමටත් එමඟින් ඊට සමාන තමාට පෙර මුණගැසුණු අවස්ථාවන්වලට අදාළ තොරතුරු මත ක්ෂණිකව තීරණයකට එළඹීමටත් හැකියාව ලැබේ. ප්‍රතිඵලය වනුයේ ඉතාමත් සුළු තොරතුරු ප්‍රමාණයක් පමණක් ඇතැයි පෙනීයන අවස්ථාවලදී වුවද අන්තර්ඥානය මත පදනම්ව වේගවත් තීරණ ගැනීමට හැකිවීමයි.



☞ අන්තර්ඥාන තීරණ ගන්නා අවස්ථා:

* ඉහළ මට්ටමක අවිනිශ්චිතතාවක් පවතින අවස්ථාවල
* විචල්‍යවල හැසිරීම කෙසේ වේදැයි අනුමාන කිරීම අපහසු විට
* තොරතුරු ප්‍රමාණවත් නැතිවිට
* තිබෙන තෙරාතුරු යා යුතු මග පැහැදිලිව නොපෙන්වන විට
* විකල්ප විසඳුම් රාශියක් ඇතත් ඒ සෑම විසඳුමක්ම හොඳ විසඳුමක් සේ පෙනෙන විට
* අඩු කාලයක් තුළ නිවැරදි තීරණයක් ගැනීමට දැඩි පීඩනයක් ඇති විට

☞ තවමත් බටහිර සංස්කෘතියේ අන්තර්ඥාන තීරණ ගැනීමට වඩා, තර්කානුකූල තීරණ ගැනීම අගය කරන හෙයින් අන්තර්ඥානය මත තීරණ ගන්නා අයද බාහිර සමාජයට පෙන්වන්නේ එය තර්කානුකූල තීරණයක් ලෙසය. මේ පිළිබඳව විධායක නිලධාරියකු පැවසුවේ, බොහෝ විට අන්තර්ඥානය මත පදනම්ව ගත් තීරණයක් අන් අයට එත්තු ගැන්වීමට නම්, එම තීරණය ගත් පසුව දත්තවලින් සරසා තර්කානුකූල ස්වරූපයක් ලබාදිය යුතු බවය.

# 53. සැපට නිකම් ඉන්න දුප්පතා



ඔන්න එකමත් එක රටක ලොකු ඉඩමක ලොකු මන්දිරයක ලොකු ධනවතෙක් වාසය කළා. ඔහුගේ වත්ත මායිමේ එහා වැටේ හිටිය පුද්ගලයා රැකියාවක් නැතිව, අඹුවක් දරුමල්ලෙක් නැතිව පුංචි පැල්පතකට වී නිකම් කාලය ගත කරන බව දුටු ධනවතාට තම දුප්පත් අසල්වැසියා ගැන දුක හිතුනා. දුප්පතා වැඩිපුරම දවස ගෙවන්නේ ඔහුගේ ඉඩමේ දොළපාරක් අසල ඇති ගල් තලාවක් උඩ වැතිරී දොළ පාරට කකුල් දෙක දමා ගෙන අහස, ගස්වැල් දිහා බලා ගෙන. දිනක් දුප්පතා මෙසේ සිටින විට පොහොසතා එතැනට ගියා.

**පොහොසතා** : ඔහේ මොකද ඔතන කරන්නේ ?
**දුප්පතා** : නිකං ඉන්නවා .
**පොහොසතා** : ඇයි කාලෙ කකා නිකං ඉන්නේ, ප්‍රයෝජනවත් වැඩක් කළා නම් නරකද? මෙන්න මම බිලීපිත්තක් ගෙනාවා ඔයාට තෑග්ගක් හැටියට.
**දුප්පතා** : බිලීපිත්තෙන් මම මොකද කරන්නේ ?
**පොහොසතා** : නිකං ඉන්නේ නැතිව මාළු බාන්න පුළුවන්නේ ?
**දුප්පතා** : මාළු බාලා ඊට පස්සේ ?
**පොහොසතා** : මාළු තම්බලා, බැදලා කෑමට ගන්න පුළුවන්නේ ?
**දුප්පතා** : ඊට පස්සේ ?
**පොහොසතා** : ඊට පස්සේ වැඩිපුර මාළු විකුණන ව්‍යාපාරයක් පටන් ගන්න පුළුවන්නේ ?
**දුප්පතා** : ඊට පස්සේ ?
**පොහොසතා** : ඊට පස්සේ වෙනත් සේවකයෙක් වැඩට ගන්න පුළුවන් මාලු අල්ලන්න. මුලින් බයිසිකලයක් අරන් මාළු විකුණලා, පස්සේ ලොරියක් ගන්න පුළුවන්, තවත් සල්ලි හම්බු කෙරුවාම මුහුදට ට්‍රෝලර් දලා මාළු අල්ලලා මාළු පිට රට පටවන ව්‍යාපාරයක් පටන් ගන්න පුළුවන්.
**දුප්පතා** : ඉතින් ඊට පස්සේ ?
**පොහොසතා** : අවුරුදු 10 ක් විතර යනකොට ඔයාගේ ව්‍යාපාරේ සාර්ථක නිසා ඔයාට ගෙදරටම සල්ලි ගලා ගෙන එයි. මහන්සි වෙන්න දෙයක් නෑ.
**දුප්පතා** : ඊට පස්සේ ?
**පොහොසතා** : ඊට පස්සේ කාලා බීලා සැපට නිකම් ඉන්න පුළුවන්නේ ?
**දුප්පතා** : නිකම් ඉන්න නම් ඕවා කරන්න ඕනයැ. මම දැනුත් ඉන්නේ නිකම්මනේ.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙම කතාවෙන් පෙනෙන්නේ එක් අයකුට දුකයි කියා පෙනෙන දෙය අනිකාට සැපක් විය හැකි බවයි. වැස්සේ තෙමෙන කුඩා දරුවකු දෙස බලන වැඩිහිටියකුට එය එම දරුවාට දුකක් ලෙස පෙනුනත් දරුවාට වැස්සේ තෙමෙන එක තරම් සතුටක් නැති විය හැකියි. හිඟාකන උදවිය ගතකරන ජීවිතය දුකක් ලෙස අපි දැක්කත් එය ඔවුන්ගේ තෝරා ගැනීම විය හැකියි. හිඟාකන අය මහලු නිවාසවලට ගෙන යාමට උත්සාහ කළත් ඔවුන් අකමැති වන්නේ ඒ නිසයි. හිඟා කෑමෙන් ඇති නිදහස් ජීවිතය ඔවුනට දුකක් නොව සතුටක් විය හැකිය.

☞ පාදඩයා කවි පෙලෙන් නැගෙන්නේ ද මෙම අරුතයි.

රට තොට ඇවිදිමි එක තැන නොඉඳිමි - අද මෙන් හෙට දවස ද ආදෙන්
මට මගෙ දුක සැප දෙකෙහිම පිහිටන - මිතුරා සෙවනැල්ලම වූදෙන
කටයුතු පිළිවෙත් කරගත්තෙමි මම - මෙතුවක් ලැබගත් අවබෝධෙන්
යට කරවන්නට දෙවියකුටත් බැහැ - මගෙ නිදහස පාදඩවාදෙන්

*- පී. බී. අල්විස් පෙරේරා සූරීන්*

☞ ඕනෑම අයෙක්ට තමා දකින විදියක් ඇත. මිනිහෙක් මරා හෝ හොරකම් කර හිරේ ගිය මිනිසෙක් දකින විදිහට ඔහු නිවැරදි විය හැක. එහෙත් අධිකරණයටත්, සමාජයේ අන් අයටත් ඔහු වැරදි කාරයකු ලෙස පෙනේ. මෙම උදාහරණයෙනුත් තේරෙන්නේ ජීවිතයේ හොඳ නරක, දුක සැප හරි වැරැද්ද, බලන දෘෂ්ටිකෝණය අනුව තීරණය වන බවයි.

☞ දුක හෝ සැප යනු නිකම්ම වචන පමණි.

☞ මිනිසුන් ජීවිතය දෙස බලන්නේ අතිශයින්ම විවිධාකාර සහ පෞද්ගලික වූ දෘෂ්ටිකෝණවලිනි.

# 54. පිපුරුණු ටයරය

විශ්වවිද්‍යාලයක ඉගෙන ගන්නා ඉතාමත් දක්ෂ සිසුවෝ හතර දෙනෙක් සිටියෝය. ඔවුන් සියලුම විභාගවලට ඉතා හොඳින් ලකුණු ලබාගත් අතර අවසාන විභාගයටද අධි සම්මානයක් ලබා ගන්නා බව අතිශය විශ්වාසවන්ත විය. මොවුන් කෙතරම් අධිතක්සේරුවක සිටියේද යත් විභාගයට පෙර සති අන්තයේ විනෝද ගමනක් ගොස් විනෝද වීමට සැලසුම් කරගති. ඉරිදා හොඳ හැටි විනෝද වී සඳුදා පාන්දර තුනට පමණ නැගිට කෙළින්ම විශ්ව විද්‍යාලයට ගොස් විභාගයට පෙනී සිටීම ඔවුන්ගේ අරමුණ විය. එහෙත් ඉතාමත් විඩාපත් වීම නිසා සහ උනන්දුව නොතිබීම නිසා සඳුදා උදේ නැගිටින විට උදේ 6ත් පසුවී තිබුණි. විශ්වවිද්‍යාලය තිබෙන ප්‍රදේශයට යෑමට අවම වශයෙන් පැය 4ක් වත් යන බව දැනගත් මිතුරෝ මේ සඳහා උප්පරවැට්ටියක් කල්පනා කළහ. ඔවුහු තම මහාචාර්යවරයා හමුවීමට ගොස් තමන්ට සිදුවූ දෙය විස්තර කළෝය. ''සර් අපි සති අන්තේ වැඩිපුර පොත් ටිකක් කියවන්න හිතිලා මීට හැතැප්ම 200 ක් විතර එහායින් තියන විශ්වවිද්‍යාලයේ පුස්තකාලයට ගියා. අපි උදේ පාන්දරම නැගිටලා එන්න පිටත් වුණා. ඒත් අවාසනාවට අපේ කාර් එකේ ටයරයක් පිපුරුණා. අපට අමතර ටයරයක් නොතිබුණු නිසා පාරෙ කවුරුහරි එනකම් ඉන්න වුණා. ඒ නිසා කරුණාකරලා අපට ප්‍රශ්න පත්‍රයට උත්තර ලියන්න අවසර දෙන්න පුළුවන්ද?''

මහාචාර්යවරයා ටික වේලාවක් කල්පනා කර ඊට එකඟ වූයේ ''හැබැයි විභාගයේ ලකුණු දෙන්නේ ඔය ළමයි ඇත්ත කියනවනම් විතරයි'' යනුවෙන් කොන්දේසියක් ද දමමිනි. මිතුරන් හතරදෙනා තම බොරුවට මහාචාර්යවරයා අහුවීම ගැන යටි සිතින් හිනා වෙමින් තමන් කියන්නේ සත්‍යය බවට දිවුරා පැවසීය. මිතුරෝ හතර දෙනා එදින මුළු රෑම මහන්සි වී පාඩම් කර පසුදා උදෑසන විශ්වවිද්‍යාලයට ගියහ. මහාචාර්යවරයා ඔවුන් වෙන වෙනම කාමරවල වාඩි කර ලකුණු 100 ක ප්‍රශ්න පත්‍රයක් දුණි. පළමු පිටුවේ තිබූ ප්‍රශ්නයට ලකුණු 5 ක් වෙන් කර තිබූ අතර සිසුන් ඊට පහසුවෙන් පිළිතුරු දුන්නේ මේ විභාගය නම් ඉතාම ලේසි වෙයි යනුවෙන් සිතමිණි. දෙවන පිටුව පෙරලූ ඔවුන්ට දක්නට ලැබුණේ ලකුණු 95 ක ප්‍රශ්නයකි. ''පිපිරුවේ මොන ටයරය ද?''



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- බොරුවක් කෙතරම් හොඳින් ගෙතුවත් එහි කොහේ හෝ කාන්දුවීමක් තිබේ.
- මහාචාර්යවරයා කළේ නුවණැති ක්‍රියාවක් නොව සූදුවකි. වැරදිලාවත් සිසුන් හතරදෙනා බොරුව ඉතා හොඳින් සවිස්තරාත්මකව ගොතා තිබුණා නම්, ඔවුන් හතර දෙනාම එකම ටයරය නම් කර තිබුණා නම් මහාචාර්යවරයා බොරුකාරයන් හතරදෙනෙකුට ලකුණු 100 න් 100 ම දෙන්නේ අනික් අයටත් වඩා පහසු ප්‍රශ්න පත්‍රයක් ලබා දී අන් සියලු සිසුන්ට අසාධාරණයක්ද කරමිනි

# 55. ගෝලයාට කරන්ට් වැද්දවූ ගුරුවරු

ස්ටැන්ලි මිල්ග්‍රම් නම් පරීක්ෂකවරයා නියෝගයක් පිළිපැදීමේදී පුද්ගලයින් කෙතෙක් දුර යාවිදැයි සෙවීම සඳහා පරීක්ෂණයක් කළේය. පරීක්ෂණයට භාජනය වූ අය ගුරුවරුන් ලෙස පත්කර ශිෂ්‍යයා වැරදි පිළිතුරක් දුන් විට ඔහුට විදුලි සැරයක් වැද්දීමට උපදෙස් ලබා දුණි. ඔහු පරීක්ෂණයට භාජනය කළ ගුරුවරුන් ලෙස යොදා ගත් කණ්ඩායමට කීවේ මෙම පරීක්ෂණය දඬුවම් කිරීම මතකයට බලපාන අන්දම සෙවීමට කරන පරීක්ෂණයක් බවයි. ගුරුවරයා විදුලිසැර උත්පාදකයක් ඉදිරිපස වාඩිවීමට සැලැස්වීය. එම උපකරණයෙන් වෝල්ට් ධ න් පටන් ගෙන කොටස් වශයෙන් වාර 30කදී වෝල්ට් 450 දක්වා විදුලි සැර වැද්දවිය හැකි විය. පරීක්ෂණයේ තාත්ත්වික බව වැඩි කිරීමට ගුරුවරුන්ට වෝල්ට් 45 ක විදුලි සැරයක් වද්දවා පෙන්වූ අතර ශිෂ්‍යයා ලෙස ක්‍රියා කිරීමට යොදාගත් අවරුදු 50 ක් පමණ වූ තැන්පත් ගතිගුණ ඇති පුද්ගලයා ද මුණ ගැස්විය. ඔහුව කාමරයක විදුලි සැර වද්දවන පුටුවකට ගැට ගසා තිබුණි. ඇත්ත වශයෙන්ම මෙම ශිෂ්‍යයා නළුවකු වූ අතර ඇත්තටම විදුලි සැර වැදීමක් සිදු නොකළත් පරීක්ෂණයට භාජනය වූ ගුරුවරුන් මේ පිළිබඳව දැන සිටියේ නැත. ගුරුවරයා ශිෂ්‍යයාගෙන් ප්‍රශ්න ඇසූ අතර වරදින සෑම වාරයකදීම විදුලි සැරය වෝල්ට් 15 බැගින් වැඩි කළේය. ශිෂ්‍යයා බොහෝ වැරදි පිළිතුරු දුන් නිසා විදුලි සැරය ඉතා ඉක්මණින් ඉහළ ගියේය. වෝල්ට් 75 දී ශිෂ්‍යයා සුසුම් හෙලීමට පටන් ගත්තේය. වෝල්ට් 150 දී තමාව පරීක්ෂණයෙන් මුදාහරින ලෙසට ඉල්ලා සිටියේය. වෝල්ට් 180 දී තමාට තවදුරටත් වේදනවා උහුලාගෙන සිටිය නොහැකි බව කියමින් හඬා වැටුණේය. වෝල්ට් 300 දී ඔහු තමාගේ හෘදය රෝගී තත්ත්වය ගැන කියා තමා මුදාහරින ලෙසට බැගෑපත් වූ අතර යටිගිරියෙන් කෑගැසුවේය. ඉන්පසුව ඔහුට තවදුරටත් ප්‍රශ්නවලට පිළිතුරු දීමට නොහැකි විය.



ගුරුවරුන් බොහෝ දෙනෙකු මෙය තමාට කළ නොහැකි බව පවසා විරුද්ධ වූ අතර ශිෂ්‍යයාට හෘදයාබාධයක් ඇති වී මිය යාවි යැයි බිය පළ කළේය. ඔවුන් තදින් කියා සිටියේ තම රාජකාරිය තවදුරටත් කළ නොහැකි බවයි. එවිට පරීක්ෂකවරයා කීවේ ඔවුන්ට තෝරා ගැනීමක් නැති බවත්, තවදුරටත් විදුලි සැර වැද්දවීම කළ යුතු බවත්ය. “ඔබගේ රාජකාරිය ශිෂ්‍යයාගේ වැරදිවලට දඬුවම් කිරීමයි” ඔහු පැවසීය. ඇත්ත වශයෙන්ම ගුරුවරුන්ට තෝරා ගැනීමක් තිබුණු අතර ඔවුන්ට නැගිට කාමරයෙන් පිටට ඇවිදයාමට හොඳටම ඉඩ තිබුණි. 62% ක් ගුරුවරුන් උපරිම සීමාව වූ වෝල්ට් 450 දක්වාම විදුලි සැරය වැද්දවිය. ඉතිරි 38% දෙනා වැද්ද වූ විදුලි සැරයේ සාමාන්‍යය වූයේ වෝල්ට් 370 කි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ පරීක්ෂණයට ලක්වූවන් පරීක්ෂකවරයාගේ නියෝගය පිළිපැදීමට තිබූ කැමැත්ත විදුලි සැරය වැඩි වන විට ක්‍රමයෙන් අඩු වීද? ඔවුන් එසේ නියෝග පිළිපදින්නේ ඇයි? යන ප්‍රශ්න රාශියක් මතුවේ.

☞ අප නීති විරෝධී හෝ හදවතට එකඟ නැති නියෝග පිළිපැදිය යුතු නැත. එහෙත් අප පුරුදු වී සිටින්නේ අපට වඩා බලය වැඩි ගුරුවර, දෙමාපිය, සේව්‍යයා වැනි අයගේ නියෝග තම හදවතට එකඟ නැතත් පිළිපැදීමටය. ඇත්ත වශයෙන්ම එසේ නොකර සිටීමට අපට තෝරා ගැනීමට අයිතියක් ඇති බව අප විශ්වාස කරන්නේ නැත.

☞ අනෙකෙකුගේ දුක වේදනාව නොතකා නියෝගයක් පිළිපැදීම ඇත්තෙන්ම පුදුම සහගතය.

# 56. වැල්ලේ ලියමු

මිතුරෝ දෙදෙනෙක් කාන්තාරයක් මැදින් ගමනක් යන අතරතුර වාදයකට පටලැවුණාහ. එක් මිතුරෙක් උරණවී අනිකාගේ කම්මුලට පහරක් ගැසුවේය. ඔහු කිසිවක් නොකියා "මගේ හොඳම මිතුරා අද මගේ කම්මුලට ගැසුවේය" යනුවෙන් වැල්ලේ ලිව්වේය. තවදුරටත් ගමන් කළ ඔවුහු කාන්තාරය පසුකර විලක් ළඟට පැමිණියෝය. දෙදෙනාම වතුරට බැස නාන අතර කම්මුල් පහර කෑ මිතුරා දිය සුළියකට අසුවී ගිලෙන්නට ගියේය. එවිට කම්මුල් පහර ගැසූ මිතුරා වහා දියට පැන මිතුරාව බේරා ගත්තේය. ඔහු කිසිවක් නොකියා "අද මගේ හොඳම මිතුරා මගේ ජීවිතය බේරා ගත්තේය" යනුවෙන් අසල තිබූ ගලක කෙටුවේය. "මම ඔබට ගැසූ වේලාවේ ඔබ ඒක ලිව්වේ වැල්ලේ. නමුත් මම ඔබේ ජීවිතය බේරා ගත් විට ඔබ වැඩි මහන්සියක් දරා ඒක ගලක කෙටුවා. ඒ ඇයි?" මිතුරා ඇසුවේය." යමෙක් තමන්ට නරක දෙයක් කළ විට අප එය වැල්ලේ ලිව්වොත් සමාව නැමති සුළඟින් එය නිකම්ම මැකී යාවි. නමුත් යමෙක් තමන්ට හොඳ දෙයක් කළ විට අප එය ගලක කෙටුවොත් එය කිසිඳු බලවේගයකට මකා දමන්නට බැහැ." යනුවෙන් මිතුරා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- වැරදි කිරීම මිනිස් ගතියකි. සමාව දීම දේව ගතියකි.
- වැරදි මතක තබා ගෙන ක්‍රෝධය සිත තුළ පුරවා ගැනීමෙන් දූෂණය වන්නේ තමාගේ සිතමය. අකුසල්/ ද්වේශය රැස්වන්නේ තමාටමය. තමා පහත හෙළා ගන්නේ තමන්ගේ තත්ත්වයයි/ආත්මයයි. වැරදි අමතක කර හොඳ මතක තියා ගත්විට පිරිසිඳු වන්නේත් තමාගේම සිතයි.

# 57. ප්‍රාතිහාර්ය පෑ ආගමික නායකයෝ

එක් ආගමික නායකයකුගේ අනුගාමිකයෙක් තවත් ආගමික නායකයකුගේ අනුගාමිකාවකට තම ගුරුවරයා පිළිබඳ පාරම්බාමින් සිටියේය. ඔහු කීවේ තම ගුරුවරයාට අහසේ අකුරු ලිවීම, ජලය මත ඇවිදීම, අත ඔසවා ඔරලෝසු මැවීම, වැනි ඕනෑම ප්‍රාතිහාර්යයක් කළ හැකි බවය. ඔහු තම පුරසාරම අවසානයේ අනිකාගෙන් ඇසුවේ ඇයගේ ආගමික නායකයාට කළ හැකි ප්‍රාතිහාර්ය මොනවාද යන්නය. "මගේ ගුරුතුමාටත් ඉතාමත් පුදුම සහගත ප්‍රාතිහාර්යයන් ගණනාවක් කළ හැකියි. ඔහුට ඔහුගේ මනස පාලනය කර ගත හැකියි. ඔහුට ලද දෙයින් සතුටු විය හැකියි. ඔහුට කිසිදාක කෝපය, ඊර්ෂ්‍යාව ඇති නොවේ. ඔහු නිර්මාංශ ආහාරයෙන් යැපෙන අතර කිසිවිටකත් සත්ත්ව හිංසාවේ නොයෙදේ. ඔහු නිරන්තරවම මෛත්‍රිය වඩයි," යනුවෙන් ඇය පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ පසුව කී පංචශීලය රැකීම ආදී දේ ඉතා අපහසු වුවද කවුරුත් ඒවා ප්‍රාතිහාර්ය ලෙස නොදකී. ජලය මත ඇවිදීම, අහසේ පාවීම, ඔරලෝසු මැවීම, ආදී කිසිවකුටත් ප්‍රයෝජනයක් නැති දේ ප්‍රාතිහාර්ය ලෙස ඉතා ඉහළින් සලකයි. නමුත් ඇත්ත වශයෙන්ම කිරීමට වඩාත් අපහසුවන්නේ දෙවන ගණයේ ක්‍රියාවන්ය.

# 58. ජිරාෆ් කෝ?

**ප්‍රශ්න අංක 1** : පියවර 3 කින් ජිරාෆ් කෙනෙකු ෆ්‍රිජ් එකේ දමන්නේ කෙසේද?
**පිළිතුර** : 1. දොර හරින්න, 2. ජිරාෆ් ඇතුළට දමන්න, 3. දොර වසන්න.

☞ ජිරාෆ් කෙනෙකු ෆ්‍රිජ් එකක් තුළට දැමිය යුත්තේ ඇයි ? ප්‍රශ්න කරන්න. ඇත්තටම මෙම ප්‍රශ්නය වලංගු ද ප්‍රයෝජනවත් දැයි බලන්න.

☞ සංකීර්ණ විසඳුම් සෙවීමට පෙර සරල විසඳුම් අප විසින් සලකා බලනවාද? පොඩි ළමයකු ගෙල් පොඩියක් ගේන්න යනවා යැයි කී විට විශ්වකෝෂ පෙරළා ගෙන එහි අර්ථය බැලූ පඬිවරයා මෙන් එක්වර සංකීර්ණව නොසිතා පද පෙරළියක් වැනි සරල විසඳුම් සලකා බලා සිටින්න.

☞ ෆ්‍රිජ් එකේ ප්‍රමාණය සහ සාදා ඇති ආකාරය ජිරාෆ්ගේ ප්‍රමාණය අප සලකා බැලුවාද?

**ප්‍රශ්න අංක 2** : අලියකු පියවර 4 කින් ෆ්‍රිජ් එකට දමන්නේ කෙසේද?
**පිළිතුර** : 1. දොර අරිනවා 2. ජිරාෆ් එළියට ගන්නවා 3. අලියා ඇතුළට දානවා 4. දොර වහනවා

☞ අපගේ අවසාන ක්‍රියාවේ ප්‍රතිවිපාක අප සළකා බැලුවා ද? ජිරාෆ් ෆ්‍රිජ් එක ඇතුළේ බව අපට මතකද?

☞ ජිරාෆ්ටත් අලියාටත් දෙදෙනාටම ෆ්‍රිජ් එක ඇතුළේ ඉඩ නැති බවට අප උපකල්පනය කෙරුවේ ඇයි ?

☞ අලියා ෆ්‍රිජ් එකේ දැමීමට කීවා මිස ජිරාෆ් ෆ්‍රිජ් එකෙන් එළියට ගැනීමට කීවේ කව්ද? අප එසේ කළේ කුමන උපකල්පනයක් මතද?

**ප්‍රශ්න අංක 3** : සිංහ රජතුමා කැලෑ සතුන්ගේ සම්මේලනයක් කැඳවිය. එක් සතෙක් හැර අන් සියලුම සතුන් ඊට සහභාගි විය. නොපැමිණි සතා කව්ද?
**පිළිතුර** : සහභාගි නොවුණේ අලියා. මොකද? එයා තාමත් ෆ්‍රිජ් එක ඇතුළෙනේ.

☞ අපගේ ක්‍රියාවන් සමස්ත පරිසරයටම බලපාන ආකාරය ගැන අපි සලකා බලනවා ද? ඒ පිළිබඳව අවබෝධයකින් යුතුව සිටිනවාද?

☞ අපගේ ක්‍රියාවන්ගේ අතුරු ඵලයන් මනසේ තබා ගන්න.

**ප්‍රශ්න අංක 4** : ඔබ ඉදිරියේ ගඟක් ඇති අතර ඔබ මෙම ගඟ තරණය කළ යුතුය. නමුත් මෙය කිඹුලන් ගහණ ගඟකි. ඔබ ගඟෙන් එගොඩවන්නේ කෙසේද?
**පිළිතුර** : ඔබට පිහිනා එගොඩ විය හැක. මන්දයත් සියලුම කිඹුලන් සිංහ රජතුමාගේ සත්ත්ව සම්මේලනයට සහභාග වන බැවිනි.



☞ : සෑම විටම සමස්ත චිත්‍රයම සලකා බලන්න.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙම කතාවේ ආදර්ශවලට පමණක් සිත යොමු කරන්න මෙම කතාව ප්‍රායෝගික නොවන බොළඳ කතාවකි.

☞ සමහර විට අපට ලබා දීමට සිදුවන්නේ ප්‍රශ්නයට අදාළ උත්තරේ නොව අහන පුද්ගලයා බලාපොරොත්තු වන පිළිතුරයි.

☞ ඕනෑම සංකීර්ණ දෙයක් සරල කළ යුතු වන්නේ එය සරල කළ යුතු ප්‍රමාණයට පමණි.- *ඇල්බට් අයින්ස්ටයින්*

☞ බොහෝ වේලාවට පෙර පාසල් ළමුන් මෙම ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු සපයනු ඇත.

# 59. ධනවතාගේ වෙනස

ස්කොට් ෆිට්ස්ජෙරල්ඩ් ඃ ඉතාමත්ම ධනවත් පුද්ගලයින් ඔබටත් මටත් වඩා වෙනස් අය.

අර්නස්ට් හෙමින්වේ: ඔව් ඔවුන්ට වැඩියෙන් සල්ලි තියෙනවා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- හෙමින්වේ පුද්ගලයන්ගේ ධනය මත ඔවුන්ගේ ගතිගුණ තීරණය වන බව සාමාන්‍යකරණය කිරීම ප්‍රතික්ෂේප කරයි. නව යෞවනයන් කලබලකාරිය, ද්‍රවිඩ ජාතිකයින් මහන්සි වී වැඩ කරයි, වැනි සාමාන්‍යකරණයන් අප නිතර භාවිත කරයි.
- යම් කණ්ඩායමකින් කිහිප දෙනෙකුට හෝ කොටසකට අයත් ලක්ෂණයක් මුළු කණ්ඩායමටම අදාළ සත්‍යයක් ලෙස උපකල්පනය කිරීම සාමාන්‍යකරණය ( ඨැබැර්ඒස'ඒසදබ) ලෙස හැඳින්වේ. යම් සමාජ කණ්ඩායමකට අයත් පුද්ගලයින්ගේ ගති ලක්ෂණ ඉන් එක් අයකු හෝ කිහිප දෙනකු අධ්‍යයනය කර නිගමනය කිරීම මෙම තත්ත්වයට මග පාදයි. මෙවන් උපකල්පනයන් නිවැරදි විය හැක්කේ තෝරා ගන්නා සාම්පලය මුළු පන්තියම නිවැරදිව නියෝජනය කරන්නේ නම් පමණි.
- පහත දැක්වෙන්නේ මෙවන් සාමාන්‍යකරණ උදාහරණ දෙකකි. ශිෂ්‍යයන් දෙදෙනෙක් බැංකු ණයක් වේලාවට ගෙව්වේ නැත. ශිෂ්‍යයන් දැඩි අවධානම් කණ්ඩායමක් ලෙස බැංකු කළමනාකරු තීරණය කරයි. මම මහාචාර්යවරයකු දනී. ඔහුට සිහි කල්පනාව නැති අතර අසාමාන්‍ය හැසිරීම් දක්වයි. සියලුම උගතුන් ප්‍රායෝගික නොවන පොතේ ගුරාලා යැයි මා තීරණය කරයි.
- ඒකාකෘතකරණය හෙවත් එක අච්චුවකට දැමීම (stereotyping) යනු මෙහි අනිත් පැත්තය. ස්ටීරියෝටයිපින් යනු පුද්ගලයකු අයත් කණ්ඩායමක සාමාජිකත්වය මත යම් පුද්ගලයකු / පුද්ගලයින් කිහිප දෙනකු මැනීමත් එසේ ලේබල් කිරීමත්ය. මෙහි දී එම සමූහයේ සියලුම සාමාජිකයන් එක වගේ යැයි ද, සමස්තයකට සත්‍ය දෙය ඒහි කොටසකටත් සත්‍ය යැයි ද උපකල්පනය කරනු ලැබේ. උදාහරණ ලෙස ජපන්නු හපන්නු වුවත් මා ඉදිරියේ සිටින ජපනා මැට්ටෙකු විය හැක. හැම නරියාම කපටි ද?

# 60. වැදගත් පුද්ගලයාට නිවසක් තැනීම

එක් ආයතනයක දිගු කලක් වැඩ කළ ගොඩනැගිලි තනන්නෙක් විශ්‍රාම ගොස් තම බිරිඳ සමග නිදහස් ජීවිතයක් ගත කිරීමට සිතාගෙන තම විශ්‍රාම යාමේ අදහස තම ආයතනයේ අයිතිකරුට දැනුම් දුණි. අති දක්ෂ, කැපවී ක්‍රියා කරන සේවකයකු වූ මෙම ගොඩනැගිලි තනන්නා සේවයෙන් ඉවත්වීම පිළිබඳව ඉතා කණගාටු වූ ආයතන අයිතිකරු ඔහු විශ්‍රාම දිවිය ගෙවීමට අදහස් කරන්නේ කුමන පලාතේ දැයි ඇසුවේය. කාර්මිකයා අහවල් පලාතේ ඉඩමක් මිලට ගෙන ජීවත් වීමට අදහස් කරන බව කී විට ආයතන අයිතිකරු කීවේ "පුදුම අහඹු සිදුවීමක්නේ අපේ ඊළඟ ව්‍යාපෘතිය වෙලා තිබෙන්නෙත් ඒ පළාතේම වැදගත්ම පුද්ගලයකුට ගෙයක් හදන එක. මම කැමතියි මගේ අතිදක්ෂතම ගොඩනැගිලි තනන්නා ලෙස ඔබ විශ්‍රාම යාමට පෙර ඒ වැඩේ ඔබ අතින්ම ඉවර කරලා යනවා නම්. මොකද මේ ගේ හදන්නෙ අති විශේෂ පුද්ගලයකුට." බෑ කීමට බැරි වූ බැවින් එය කිරීමට බාරගත් සේවකයා තමා විශ්‍රාම යාමට සිටි බැවින් වැඩි උනන්දුවකින් හදවතින්ම වැඩයට බැස්සේ නැත. ඔහු බාල අමුද්‍රව්‍යය යොදා ඉතා ඉක්මණින් ගොඩනැගිල්ල තනා ඉවර කළේ කරදරයකින් බේරීමට මෙනි.

ගොඩනැගිල්ල සාදා අවසන් බවත් එය පරීක්ෂා කර බලන ලෙසත් ආයතන අයිතිකරුට පැවසූ විට ආයතන අයිතිකරු කීවේ තමා ගෙය පරීක්ෂා කර බලා එම මොහොතේම නව අයිතිකරුවන වැදගත් පුද්ගලයාට යතුර බාර දීමට අදහස් කරන බැවින් ගෙය ඉතා හොඳ තත්ත්වයේ තිබිය යුතු බවයි. අයිතිකරු එහි පැමිණි විට කාර්මිකයා යතුර ඔහු අතේ තැබුවේ ගෙය පරීක්ෂා කිරීමටය. එහෙත් අයිතිකරු "මගේ දක්ෂ සේවකයාගේ වැඩ මම පරීක්ෂා කරන්නේ මොකටද?" කියා නැවත යතුර සේවකයාට බාර දුන්නේ "ඔබ මෙතෙක් කල් මට උපයා දුන් ලාභයටත් ඔබගේම වැඩක් මෙන් කරපු සෑම වැඩකටම උපහාරයක් වශයෙනුත්. මගෙන් ලැබෙන තෑග්ග තමයි මේ ගෙය " යැයි පවසමිනි.

ගොඩනැගිලි තනන්නාට තමා ගැනම ලැජ්ජා සිතුණේ මෙම නිවස තමාට දෙන බව කීවා නම් මීට වඩා වෙනස් ආකාරයකට වැඩ කරන බව සිහිවීමෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ කරන ඕනෑම වැඩක් තමාගේ වැඩක් ලෙස සිතා කරන්න. එයින් ප්‍රතිඵලයක් නැති බව බැලු බැල්මටම පෙනී ඔබට කළකිරීමක් ඇතිවිය හැක. එහෙත් ඔබ දක්ෂ කැපවීමකින් යුත සේවකයෙක්ය යන ප්‍රතිරූපය මුදල් ප්‍රතිලාභයට වඩා අතිශය වටී. එහෙත් මෙම කතාවේ පරිදි ගෙයක් දේවියැයි සිහින මවාගෙන වැඩ නොකළ යුතුය. ප්‍රතිලාභ බලාපොරොත්තු නොවී වැඩය ගැන සිත යොමා වැඩ කරන්න.

# 61. ලෝක ඉතිහාසයේ ශ්‍රේෂ්ඨතම සේනාධිපතියා

මාර්ක් ට්වේන්ගේ කතාවක මෙසේ සඳහන් වේ.

ඉතිහාසය පිළිබඳව දැඩි උනන්දුවක් දැක්වූ ක්‍රිස්තියානි භක්තිකයකු මරණින් පසුව ශාන්ත පීතරව හමු වූයේ දිව්‍ය ලෝකයේ දොරටුව (Pearly Gate) අබියස දීය. ශාන්ත පීතර තුමන් ප්‍රඥාවන්තයකු බව දන්නා ඔහු ලෝක ඉතිහාසයේ සිටි ශ්‍රේෂ්ඨතම සේනාධිපතියා කවුද? යනුවෙන් ප්‍රශ්නයක් ඇසුවේය. ශාන්ත පීතර තුමන් “අයියෝ ඕක සරල ප්‍රශ්නයක්. අන්න අතන ඉන්න මනුස්සයා තමයි” කියා පුද්ගලයකු පෙන්වීය.

“මම ඔහුව පෘතුවියේ ජීවත්වන කාලයේ දැනන් සිටියා. ඔහු සාමාන්‍ය කම්කරුවෙක්නේ.” වික්ෂිප්තවූ මිනිසා කියා සිටියේය.

“ඔබ හරි, ඔහු සේනාධිපතියකු වුණා නම් ඔහු තමයි මිනිස් ඉතිහාසයේ සිටි දක්ෂතම සේනාධිපතියා වීමට තිබුණේ.” ශාන්ත පීතර තුමන් පිළිතුරු දුනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ බොහෝ දෙනා අපට ගැලපෙන මාර්ගය තෝරා නොගෙන වැරදි වෘත්තීන්වල යෙදෙමින් වැරදි පාරක ජීවිත කාලයම ගමන් කරයි.
- ☞ සෑම මිනිසා තුළම කිසිදා ප්‍රයෝජනයට නොගත් සැඟවුණු/නිධන්වුණු දක්ෂතා පවතී

# 62. දෙවියන්ගේ කැමැත්ත

නසරුදීන් අලුතෙන් ෂර්ට් එකක් මැහීමට මුදල් ඉතිරි කර ගත්තේ බොහොම අමාරුවෙනි. ඔහු ගමේ සන්නාලියා හමුවීමට ගියේ ඉතා සතුටිනි. ඇඳුම් මහන්නා ආගම් ලැදි පුද්ගලයකු විය. ඔහු නසරුදීන්ගේ අවශ්‍යතාව අසා, මිනුම් ගෙන "සතියකින් එන්න. දෙවියන්ගේ කැමැත්ත අනුව එදාට ඒක ලේස්ති වෙලා තියෙයි" කියා කීවේය. නසරුදීන් සතියකින් සාප්පුවට ගිය විට සන්නාලියා කීවේ ඇඳුම මැසීම පරක්කු වූ බවයි. තවද ඔහු මෙසේද කීය. "දෙවියන්ගේ කැමැත්ත අනුව හෙට ෂර්ට් එක ලේස්ති වේවි" පසු දින නසරුදීන් නැවතත් ටේලර් සාප්පුවට ගියේය. "මට සමාවෙන්න මට ඒක ඉවර කර ගන්න බැරිවුණා. දෙවියන්ගේ කැමැත්ත ඒක නම් ෂර්ට් එක හෙට මහලා ඉවර වේවි. හෙට ඇවිල්ලා බලන්න." සන්නාලියා කීවේය. "දෙවියන්ව මේකට ගාව නොගත්තොත් ෂර්ට් එක මහලා ඉවර කරන්න තව කොච්චර කාලයක් යයිද?" නසරුදීන් ඇසුවේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- සමහරු තම ක්‍රියාවල ඵලයට තමන් වගකීම නොගෙන එය දෙවියන් හෝ වෙනත් ආධ්‍යාත්මික බලවේග පිට පවරයි. දිනක් කතරගම යන බස් රියදුරකුගෙන් කතරගමට ළඟා වෙන වෙලාව ඇසූ විට ඔහුට කේන්ති ගියේය. මන්ද , එය දේව කැමැත්ත මත සිදුවන බව ඔහු විශ්වාස කළ හෙයිනුත් තමා යම් වේලාවක් කීවොත් කටවැරදීම නිසා දෙවියන් කෝපවී යම් අනතුරක් වේය යන බිය නිසාත්ය.
- කපටි පුද්ගලයන් අපගේ සිත්වල ඇති දුර්වල තැන් සොයාගෙන ඒවා ඔස්සේ තම අරමුණු ඉටුකගනී. දෙවියන් කෙරේ ගෞරව ඇති තැනැත්තන්ගෙන් දෙවියන්ගේ කටයුතු සඳහා යයි කියමින් මිල මුදල්, පුදපඬුරු වැනි ලාභ ලබාගැනීම උදාහරණ ලෙස දැක්විය හැක.

# 63. පින්තාරුකරුගේ විවේචනය

අනියම් කුලී වැඩවල නියැලුණු පින්තාරුකරුවෙක් සිටියේය. එක් එක් ආයතනවලින් තමාගේ ජංගම දුරකතනයට අමතා උදෑසන වැඩට එන ලෙස කතා කළ පසු එහි ගොස් වැඩ කිරීම ඔහුගේ පුරුද්ද විය. මාස කීපයක් තිස්සේ ඔහුට එක් විශාල ආයතනයක දිගටම වාගේ වැඩ ලැබුණි. මෙම ආයතනයේ වැඩ පැවරීම බාරව සිටියේ මහා ජාතියකට අයත් ආයතනයේ නියෝජ්‍ය කළමනාකාරවරයෙකි. මෙම ආයතනයේ සුළු ජාතියට අයත් නියෝජ්‍ය කළමනාකාරවරයකුද සිටි අතර ඔවුන් දෙදෙනා අතර ළඟදීම පුරප්පාඩු වන කළමනාකාර තනතුර සඳහා තරගයක් විය. මේ අතර පින්තාරුකරු හදිසි වැඩකට ගමේ ගියේය. කළමනාකාර ධූරය පුරප්පාඩු වූ පසු සුළු ජාතික නියෝජ්‍ය කළමනාකාරවරයා එම තනතුරට පත්වූ බව ගමේ සිට ආපසු ආ පින්තාරුකරුට අසන්නට ලැබුණි. මෙම සිදුවීමත් සමගම ගමේ සිට ආ පින්තාරුකරුට එම ආයතනයේ වැඩට කතා කළේ නැත. ඔහු තම මිතුරන් සමඟ සුළු ජාතිකයාට බැන්නේ ඔහු තමා වැනි මහ ජාතිකයන්ට වැඩට කතා නොකරන බවත්, අකාර්යක්ෂම සුළු ජාතික එහෙයියන්ට වැඩට කතා කරන බවත් කියමිනි. මෙපණකින් නොනැවතුණු ඔහු අලුත් පත්වීමෙන් පසු ආයතනයේ ප්‍රශ්නයක් තිබෙන බව පෙනෙන්නට ඇති බවත් ආයතනය පරිහානියට පත්ව ඇති බවත් ප්‍රකාශ කළේය.

මෙසේ මාසයක් පමණ වැඩ නැතිව සිටි පින්තාරුකරු එම ආයතනයේ තමා සමඟ එකට වැඩ කළ තවත් තාවකාලික පින්තාරුකරුවකුට දුරකතන ඇමතුමක් දුන්නේ ආයතනයේ තත්ත්වය දැන ගැනීම සඳහාය. මිත්‍ර පින්තාරුකරුවා කීවේ සුළු ජාතිකයා කළමනාකාරු වීමත් සමගම ඔහුට හෘදයාබාධයක් වැළඳී රෝහල්ගතව සිට, ගෙදර ආ බවත් තවමත් ඔහු වැඩට පැමිණියේ නැති බවත්ය. මෙම ප්‍රවෘත්තිය දැන ගැනීමෙන් පසු කම්පාවට පත් පින්තාරුකරු සුළු ජාතිකයාට ගෙදරට කතා කර ඔහුගේ සුවදුක් විමසීය. ඔහු තම හෘදයාබාධය පිළිබඳව කතා කර පසුගිය මාසයේ වැඩ ගැන පින්තාරුකරුගෙන් විමසුවේය. තමා වැඩට කැඳෙව්වේ නැති බව පින්තාරුකරු පැවසුවේය. පසු දිනම පින්තාරුකරුට වැඩ ලැබුණි. ඔහු මෙතෙක් සුළු ජාතිකයා ගැන කී දේට සම්පූර්ණයෙන්ම පටහැණි දේවල් ඔහුගේ මිතුරන්ට පැවසීමට පටන් ගත්තේය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- සොයා බලා හරි හැටි හේතුව අවබෝධ කරගෙන පමණක් නිගමනයන්ට එළඹිය යුතුය.
- යමෙක් යමක් හෝ යම් අයෙක් පිළිබඳව ආකල්පයක් ප්‍රසිද්ධියේ ප්‍රකාශ කළ පසු එය වෙනස් කිරීම අපහසුය. මන්ද යත් එවිට තමා පෙර කී දේ වැරදි බව පිළිගැනීමට සිදුවන හෙයිනි.
- යම් ආකල්පයක් සහ හැසිරීම අතර පරස්පරයක් ඇතිවූ විට එම පරස්පරය අප අපහසුතාවයකට පත්කරයි. එවිට පුද්ගලයින් එම පරස්පරය නැති කිරීමට උපා යොදයි
.

  උදාහරණ ලෙස :

  1. තමා මෙතෙක් විවේචනය කළ කළමනාකරු සහ ආයතනය තමාට වැඩ දෙන විට පින්තාරුකරු තම ආකල්පය වෙනස් කර ඒ ගැන හොඳ කිව හැක. (හැසිරීමට ගැළපෙන ලෙස ආකල්පය වෙනස් කිරීම)
  2. නැතහොත් පෙර ආකල්පයේම එල්බ, එම මුල් ආකල්පය හරි බව කියමින් වැඩට නොයා සිටිය හැක.(ආකල්පයට ගැළපෙන සේ හැසිරීම වෙනස්කර ගැනීම)
  3. එසේත් නැතහොත් තම හැසිරීම හරියැයි පෙන්වීමට තර්ක ඉදිරිපත් කළ හැක."ආයතනයත් හොඳ නෑ තමයි. සුළු ජාතිකයාත් හොඳ නෑ. ඒත් මගේ බඩගෝස්තරේ හොයා ගන්න වැඩට යන්න එපැයි".

- සන්නිවේදනයෙන් වැරදි අවබෝධ දුරුවේ. මෙම කතාව ඊට හොඳ උදාහරණයකි. සමහර විට සන්නිවේදනයෙන් යම් අවබෝධයක් තහවුරු වීමටද ඉඩ තිබේ. මම මීට පෙර හිතුවේ" මහ උද්දච්ච මිනිහෙක් කියලා. අද මම" එක්ක පැයක් කතා කළා. දැන් මම හොඳටම දන්නවා උද්දච්චයෙක් කියලා.
- තොරතුරු ලැබුණු පසු සංජානනය කරන ආකාරයද වෙනස් වේ. අපි මුලින් නරකට දැකපු දේ අලුත් තොරතුරු ලැබුණු පසු හොඳ ලෙස පෙනෙයි. හෘදයාබාධය ගැන දැනගත් පින්තාරුකරු සුළු ජාතික කළමනාකාරවරයාට අනුකම්පා කළේය. තමා බැනීම ගැන පසුතැවුණි. බැනීමට වන්දිය ලෙස ඔහු ගැන හොඳ කීමටද පටන් ගති.

# 64. පිග්මැලියන්

පරීක්ෂණයක් සඳහා සති 15 ක සටන් පුහුණු පාඨමාලාවක් කිරීමට බඳවා ගත් සොල්දාදුවෝ 105 දෙනෙකු යොදා ගති. දේශකවරුන් 4 දෙනෙකුට කීවේ මෙම පිරිසෙන් 1/3 ක් අධි ශක්‍යතාවන් ඇති අය බවත් 1/3 ක් සාමාන්‍ය හැකියාවන් ඇති අය බවත් ඉතිරි අයගේ ශක්‍යතාවන් නොදන්නා බවත්ය. නමුත් ඇත්ත වශයෙන්ම සිදුවූයේ 105 දෙනා අහඹු ලෙස කණ්ඩායම් 3 කට බෙදීමයි. දේශකවරුන්ට අති දක්ෂ කණ්ඩායම ලෙස හඳුන්වා දුන් අය විෂය මූලික ඇගයීමේ දී කැපී පෙනෙන ලෙස ඉහළ ලකුණු ප්‍රමාණයක් ලබා ගති. එමෙන්ම ඔවුහු අන් අයට වඩා ධනාත්මක ආකල්ප පෙන්නුම් කළහ.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අන් අය තමාව දකිනවා යැයි සිතන විදිහ (Self Image) පුද්ගල චර්යාවේ මූලික කේන්ද්‍රයකි. තම පරිසරය නැතිනම් සමාජය විසින් තමා හැසිරිය යුතු යැයි යෝජනා කරන ආකාරයට මිනිසුන් ප්‍රතිචාර දක්වයි.
- යම් අයකු ගැන අප පූර්ව ආකල්පයක් මවා ගත් විට අපට ඔවුන්ගේ හැසිරීම් පෙනෙන්නේ එම ප්‍රතිරූපයට අනුකූලවමය. ඔවුන් ද එම ප්‍රතිරූපය බිඳ නොවැටෙන සේ අපගේ බලාපොරොත්තු සුන් නොවන සේ හැසිරෙයි.
- ග්‍රීක මිත්‍යා කතාවක පිග්මැලියන් නම් මූර්ති ශිල්පී රජතුමා තමාගේ සිහින කුමරියගේ ප්‍රතිමාවක් තැනූ අතර ඊට ආදරයෙන් බැඳුණි. ඔහු තමාගේ චිත්ත බලයෙන් සහ වීනස් දෙව්දුවගේ උදව්වෙන් ඇයට පණ ලබා දුණි. මේ මත පිග්මැලියන් බලපෑම Pygmallion effect නම් සංකල්පය ගොඩ නැගී ඇත. අප අන් අයකු ගැන යම් ප්‍රතිරූපයක් මවා මානසිකව උත්සහ දැරූ විට එම ප්‍රතිරූපයට ජීවය දිය හැක. බලාපොරොත්තුවන ප්‍රතිරූපය අනුව අනිකා හැසිරේ. ජෝජ් බර්නාඩ්ෂෝ ලියූ pygmallion නම් නාට්‍යයේ සහ My fair lady නම් චිත්‍රපටියේ ග්‍රාමීය කෙල්ලක නාගරික සාමාජයේ චාරිත්‍ර වාරිත්‍ර දන්නා සුන්දර ආර්යාවක් බවට පරිවර්තනය කිරීමෙන් පෙන්වන්නේ මෙම සංකල්පයයි.
- මෙම සංකල්පය අන් අයගේ හැසිරීම් වෙනස් කිරීමට හෝ පරිවර්තනය කිරීමට මෙන්ම තමන් පිළිබඳ මවා ගන්නා ප්‍රතිරූපයකට පණ ගන්වා තමා පරිවර්තනය කර ගැනීමට ද යොදා ගත හැක.

# 65. කිරිහැලියේ ගොම රිට

මා විශ්වවිද්‍යාල අධ්‍යාපනය නිම කර මුලින්ම රැකියාවට ගියේ ඉංජිනේරු නිෂ්පාදන කම්හලක මානව සම්පත් අංශයටය. මා වැඩ ආරම්භ කර මුල් සතිය තුළ මෙම කම්හලේ සිටි සියලු දෙනාටම වාර්ෂික වැටුප් වර්ධක සඳහන් ලිපි බෙදා දීමේ කර්තව්‍යය මට බාර විය. මානව සම්පත් අංශයේ සේවකයන් මට පැවසුයේ ලිපි සූදානම් කර එක් එක් සේවකයාට මානව සම්පත් අංශයට එන ලෙසට දන්වන ලෙසය. කර්මාන්ත ශාලාවේ 200 ක් පමණ සේවකයන් පිරිසක් සිටින හෙයින් මෙම ක්‍රමයට ලිපි බෙදා දීම ඉතා අකාර්යක්‍ෂම බව පෙන්වා දුන් මම, ලිපි ටික රැගෙන වැඩබිම වෙතට ගියහොත් ඉතා වේගයෙන් ලිපි ටික බෙදා දිය හැකි බව පෙන්වා දුනිමි. මේ වනවිටත් තම වාර්ෂික වැටුප් වර්ධක කොපමණදැයි දැනගැනීමට නොඉවසිල්ලෙන් සිටි සේවකයන් කිහිපදෙනකුම මා හමුවී හැකිනම් එදින වැඩ අවසන් වීමට පෙර ලිපි බෙදා දෙන ලෙස ඉල්ලා තිබුණි. එහෙත් මානව සම්පත් අංශයේ සහ පරිපාලන අංශයේ සියලු දෙනාම මට දන්වා සිටියේ මා මෙම කර්මාන්ත ශාලාවට අලුත් නිසා මෙහි සංස්කෘතිය නොදන්නා බවත් මෙහි සිටින්නේ වැඩි පුර පිරිමි සේවකයන් බවත් ඔවුන් වෘත්තීය සමිති මානසිකත්වයකින් පෙළෙන බවත්, කලක් තිස්සේ කරගෙන ආ ක්‍රම වෙනස් කිරීමට ගියහොත් මා, අමාරුවේ වැටීමට හැකි බවත්ය. එහෙත් වඩාත් කාර්යක්‍ෂම ලෙස ලිපි බෙදා දිය යුතුයැයි මා දැඩිව කියා සිටි නිසා ඔවුන් මට කියා සිටියේ "හොඳයි එහෙනම් කරලාම පාඩම ඉගෙන ගන්නකෝ", යනුවෙනි.

මා කර්මාන්ත ශාලාව වෙත ගොස් එක් එක් සේවකයාගේ නම කතා කළ විට ඔවුහු පැමිණ ලිපි බාර ගති. ශාන්තගේ නම කතා කළ ද ඔහු ඉදිරියට පැමිණියේ නැත. ඔහු කෙළවරම මිලින් යන්ත්‍රයේ වැඩ කරමින් සිටිනු මම දුටුවෙමි. දෙවන වරද ඔහුගේ නම කතා කළද ඔහු ඉදිරිපත් නොවූ බැවින් මම ඉතිරි නම් කියවාගෙන ගියෙමි. ඒ අතර මා පිටුපසින් පැමිණ සිටගෙන සිටි ශාන්ත හදිසියේම ශබ්ද නගා දොස් නැගීමට පටන් ගත්තේය. ඔහු "මේ බොස්, මේවා මේ හවසට බිස්කට් බෙදනවා වගේ බෙදන්න බෑ. මේවා පුද්ගලික සහ රහසිගත ලියුම්. හොඳයි අනිත් කෙනාගේ ලියුමක් මට පෙණුනොත් කොහොමද?" ආදිය පවසමින් කෑ ගැසුවේය. උපක්‍රමයක් වශයෙන් මාද කටහඬ උස්කර "ශාන්ත, ශාන්තගේ නම කියපු වෙලාවේ ආවනම් පිටිපස්සෙන් ඉඳන් අනිත් අයගේ ලියුම් දකින්න වෙන්නේ නෑනේ" යැයි පවසා, ශාන්ත මේ පවසන අදහස පොදු අදහසක් නම් මා ලියුම් බෙදීම නතර කර කාර්යාලයට යන බවත් එකිනෙකා කාර්යාලයට පැමිණ ලියුම් ලබා ගත හැකි බවත් පැවසීමි. තම වැටුප් වර්ධක දැකීමට නොඉවසිල්ලෙන් සිටි අනිකුත් සේවකයන් ශාන්තට බැණ වැදී ලිපි ටික බෙදා නිමකරන ලෙස මගෙන් ඉල්ලා සිටියේය. ලිපි බෙදා අවසන් කර කාර්යාලයට ගිය මාව අනෙකුත් පරිපාලන අංශයේ සේවකයන් විසින් වට කර ගනු ලදුව "වැඩේ කොහොමද?" යැයි විමසීය. ශාන්ත හා මා අතර ඇතිවූ සිද්ධිය මා විස්තර කළ විට ඔවුන් උදම් ඇනුවේ "ඕකනෙ අපි කීවේ" යනුවෙනි. පිළිතුරු වශයෙන් මා කීවේ කම්හලේ සේවකයන් 200 ක් සිටින අතර 199 ක්ම මෙම ක්‍රියාව අගය කළ බව අප අමතක කළ යුතු නැති බවත්, එක් අයකුගේ වැරදි හැසිරීම මත ඉතිරි 199 ම නරක, අය ලෙස හංවඩු ගැසිය යුතු නැති බවත්ය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ප්‍රසිද්ධියේ කරන නරක ක්‍රියා වෙත ඇස් ඇදී යාමත් ඒ මත මුළු සමාජයම මැනීමත් මිනිසාගේ සමාන්‍ය පුරුද්දයි.
- අත්දැකීමක වටිනාකම පවතින්නේ ඔබ එය සංජානනය කරන හා විශ්ලේෂණය කරන ආකාරය මතය. නරක අපේක්‍ෂා කරන්නාට නරකත් හොඳ අපේක්‍ෂා කරන්නාට හොඳත් පෙනී යාම ස්වභාවිකය.
- මට මතක් වන්නේ මැක් ග්‍රෙගර්ගේ X, හා Y,න්‍යායයි.

# 66. මස් කෑවාට අපිට නම් ප්‍රශ්නයක් නෑ

දිනක් මම එක්තරා ආයතනයක රැකියාව කරද්දී එහි අධ්‍යක්ෂක මණ්ඩලයේ සභාපතිවරයාත්, ජ්‍යෙෂ්ඨ පරිපාලන කළමනාකාරවරයාත් සමඟ දිවා ආහාර වේලක් ගනිමින් සිටියෙමි. මා කෑම මේසයේ තිබූ මස් කරියවත්, මාළු බැදුමවත් බෙදා නොගන්නා බව දුටු සභාපතිවරයා මම නිර්මාංශිකයකුදැයි මගෙන් විමසීය. "ඔව් මම මස්, මාළු, බිත්තර, උම්බලකඩ වගේ දේවල් කන්නේ නෑ" යැයි මම පැවසීමි. එවිට ඔහු ජ්‍යෙෂ්ඨ කළමනාකාර වරයා අමතා පැවසුවේ "අපිට නම් ජලීල් එහෙම ප්‍රශ්න නෑනේ" යනුවෙනි. මාත් පැවසූයේ "ඔව් සභාපතිතුමා මටත් ප්‍රශ්නයක් නම් නෑ. හැබැයි ප්‍රශ්නෙ තියෙන්නේ, මිනිස්සුන්ගේ සුළු කෑදර කමකට ජීවිතයෙන් වන්දි ගෙවන්න සිද්ධ වෙලා තියෙන සත්තුන්ට තමයි" යනුවෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- වරක් ඊ.ඩබ්ලිව්.අධිකාරකම් පහත අදහස එන ආකාරයේ ප්‍රකාශයක් කර තිබුණි. "මම මස් මාළු නොකමි. එහෙත් මා මස් මාළු නොකන්නේ එය අකුශල කර්මයක් නිසා මා අගතියක උපදීය යන භයින් වත්, මාංශ ආහාරය සෙම් පිත් ආදියට නොහොඳ බව සිතා සෞඛ්‍යමය හේතූන් මත වත් නොවේ. මා මස් මාළු නොකන්නේ එය සතුන්ගේ මරණයට හේතුවන නිසාය"
- ශ්ලෝකයක මෙවන් අදහසක් තිබේ. මස් කෑමේදී පාර්ශ්ව දෙකට සිදුවන ප්‍රතිඵලය නම් එක් අයකුට සුළු මොහොතකට තම කෑදරකම සංසිඳීමත් අනිකාට තම ජීවිතයම අහිමිවීමත්ය.
- කරණීය මෙත්ත සූත්‍රයේදී, කෙළෙස් සහිත හා කෙලෙස් රහිත සත්වයන්ද, දිගු - විශාල ප්‍රමාණයේ - මධ්‍යම ප්‍රමාණයේ - මිටි - ඉතා සියුම් ශරීර සහිත සත්වයන්ද ඇසට පෙනෙන සහ නොපෙනෙන සත්වයන්ද, දුර හා ළඟ වාසය කරන සත්වයන්ද, ඉපදී සිටින සහ ඉපදීමට සිටින සත්වයන්ද, ආදි ලෙස දිගු ලයිස්තුවක් මඟින් විස්තර කෙරෙන සියලුම සත්ත්වයන්ට මවක් තම එකම පුතාට මෛත්‍රී කරන්නාක් මෙන් මෛත්‍රී කරන බව සජ්ඣායනා කරන සමහර බෞද්ධ භික්‍ෂු, භික්‍ෂුණී උපාසක උපාසිකාවන් එම සතුන්ගේ මරණයට හේතු කාරණා වන මස් මාංශ ආහාරයට ගන්නා විට තමන් කියන්නේ මොකක්ද කරන්නේ මොකක්දැයි නිකම්වත් හිතෙන්නේ නැද්ද?

# 67. කෝක්ද?, පෙප්සිද?




රොබර්ටෝ 1980 දශකයේ කොකා කෝලා ආයතනයේ ප්‍රධාන විධායක නිලධාරී තනතුර භාරගන්නා විට කොකා කෝලා ආයතනය පෙප්සි කෝලා ආයතනයේ තරගකාරිත්වයෙන් පීඩා විඳිමින් සිටියේය. ඔහු යටතේ වැඩ කළ විධායක නිලධාරීහු පෙප්සි වෙත අවධානය යොමු කළ අතර වෙළඳපොළ සියයට දශම එකකින් වැඩි කිරීමට අවධානය යොමු කරමින් සිටියහ. රොබර්ටෝ තරගයේ අවධානය වෙනතකට ගැනීමට තීරණය කළේය. ඔහු තිරස් චින්තනය යොදා ගනිමින් තම විධායක නිලධාරීන්ගෙන් ප්‍රශ්න කිහිපයක් අසන ලදී.

ඇමරිකානුවකු දිනකට පානය කරන දියර ප්‍රමාණය කොපමණද ? . පිළිතුර වූයේ අවුන්ස 14ක් යන්නයි. "ඉන් කොකා කෝලාවල ප්‍රමාණය කොපමණද? යන්න විමසූ විට අවුන්ස දෙකක් බවට පිළිතුරු ලැබුණි. රොබට් කීවේ තරග කළ යුත්තේ පෙප්සි කෝලා සමග නොව පුද්ගලයකු බොන දියර ප්‍රමාණයේ වැඩි වෙළඳපොළක් ඇල්ලීම සඳහා විය යුතු බවයි. මේ අනුව තරගය කළ යුත්තේ වතුර, තේ, කෝපි, කිරි, පළතුරු යුෂ ආදී අවුන්ස 14 න් ඉතිරි අවුන්ස 12 ට අයත් වූ අනිකුත් සියලුම දියර වර්ග සමගය. රොබට්ගේ චින්තනය වූයේ යමෙකුට තිබහවූ විට කොකා කෝලා එකක් අතළඟ තිබිය යුතුය යන්නය. මෙම අරමුණට ළඟාවීමේ ක්‍රියාමාර්ගය ලෙස ඔහු යොදා ගත්තේ සෑම වීදියකම කෙළවර මුදල් ගෙවා කොකා කෝලා කෑන් ලබාගත හැකි යන්ත්‍ර පිහිටුවීමයි. මෙම ක්‍රියාමාර්ගයෙන් කොකා කෝලා වෙළඳාම දැවැන්ත ඉදිරි පිම්මක් පැනූ අතර පෙප්සි කෝලා සමාගමට කාලයක් යනතුරුම ඊට කිට්ටු වීමටවත් බැරිවිය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ තරගය නවතා තමාගේ ක්‍රියාව ගැන අවධානය යොමු කිරීම වඩාත් ඵලදායී විය හැකියි.

☞ මෙම කතාව තිරස් චින්තනයේ වැදගත්කම පෙන්වයි.

☞ තම අරමුණට ළඟාවීමට යොදන උපක්‍රම නිර්මාණශීලී විය යුතුය. සාමාන්‍ය රාමුවෙන් පිට විය යුතුය.

☞ තරගයට අවධානය යොමුකර තම මානසික ශ්‍රමය අපතේ නොහරින්න.

☞ බොහෝ ව්‍යාපාර අලුත් මාවත් ඔස්සේ තීරණ ගැනීමට මැලිකමක් දැක්වුවද, යම් අලුත් දෙයක ප්‍රථමයා වීම බොහෝ විට වාසිදායකය. තම තරග කරුවන් එම සංකල්පය ක්‍රියාවට නංවනවිට ප්‍රථමයා බොහෝ දුරක් ගොස් වැඩි ලාභ අත්පත් කර ගැනීම සුලභය.

# 68. වටුවාගේ පැටවා

දවසක් කුරුළු වැද්දකු කුරුල්ලන් දඩයම් කිරීම සඳහා කැලය ඇතුළට යන විටම වටු කිරිල්ලියක් "සුභ උදෑසනක් වේවා". යනුවෙන් සුභ පැතුවාය. මින් සතුටට පත් වැද්දා වටුවාට ස්තූති කර කතාවට වැටී කැමති දෙයක් ඉල්ලන ලෙස පැවසීය. වටු කිරිල්ලිය "ඔබ මේ කොහෙද යන්නේ"? යි වැද්දාගෙන් ඇසුවාය. තමා කුරුල්ලන් දඩයමේ යන බව වැද්දා පැවසූ විට "අනේ එහෙනම් මම ඔබගෙන් ඉල්ලන එකම ඉල්ලීම තමයි මගේ පැටව් දඩයම් කරන්න එපා කියන එක" යැයි ඇය පැවසුවාය. මීට එකඟවූ කුරුළු වැද්දා "හැබැයි කොහොමද මම ඔබගේ පැටවුන් වෙන් කොට හඳුනාගන්නේ" යැයි විමසුවේය. ඇය කීවේ තම පැටවුන් කැලයේ සිටින ලස්සනම කුරුල්ලන් බවය. එදින වැද්දා ලස්සනම කුරුල්ලන් අතහැර අවලක්ෂණ කුරුල්ලන් දඩයම් කිරීමට වග බලා ගත්තේ තමන් වූ පොරොන්දුව අකුරට ඉටු කරීමටය. දඩයම් කරගත් කුරුල්ලන් වැලක එල්ලා ගෙන ආපසු එන අතරතුරේ ඔහුට නැවතත් වටු කිරිල්ලිය මුණ ගැසුණි. "අනේ මොකක්ද මේ ඔහේ කරලා තියෙන්නේ? ඔහේ මේ මරලා තියෙන්නේ මගේ පැටව් ටිකමනේ"යැයි වටු කිරිල්ලිය අඳෝනා නගන්නට පටන් ගත්තාය. මින් අන්දමන්ද වූ වැද්දා " ඉතිං ඔහේ කිව්වේ ඔහේගේ පැටව් මේ කැලයේ ඉන්න ලස්සනම කුරුල්ලෝ කියලනේ. මම මේ තෝරල බේරලම දඩයම් කළේ මේ කැලේ ඉන්න කැතම කුරුල්ලෝ ටිකනේ" යැයි පැවසීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- දෙමව්පියන්ට තම දරුවන් ලොව ලස්සනම, දක්ෂතම අය මෙන් පෙනේ. එහෙත් යථාර්ථවාදීව තම දරුවන් දෙස බැලීම ඔවුන්ගේ යහපතට හේතු වේ.
- ලස්සන සාපේක්ෂ දෙයකි. ලස්සන රඳා පවතින්නේ බලන පුද්ගලයා දකින දෙය අර්ථකථනය කරන ආකාරය මතය. වටුවාට වටු පැටවුන් මොණර පැටවුන්ටත් වඩා ලස්සන විය හැක. නමුත් සමාජයේ බහුතරය ලස්සනයැයි කියන්නේ මොණරාටද වටුවාටද යන්න ගැන අවබෝධයක් ඇතිව සිටීම වැදගත්ය.
- අශ්වයකුට ලස්සන වන්නේ ලෝක රූ රැජිණ ලෙස කිරුළු පළන් කාන්තාව නොව වෙළඹකි.
- වටු කිරිල්ලිය ඉල්ලුවේ වැරදි වරයකි. ඇය තම පැටවුන් පමණක් ආරක්ෂා කිරීමේ වරයක් ඉල්ලුවේ අන් අයගේ පැටවුන්ට කුමක් වුවත් කමක් නෑ යන ආකල්පයෙනි. අවසානේ වැරදුණේ ඇයටමය.
- මෙය කියවන විට සිහියට එන්නේ කරණීය මෙත්ත සූත්‍රයේ එන "මාතා යථා නියං පුත්තං ආයුසා ඒක පුත්ත මනු රක්ඛේ" යන මවක් තම එකම පුතා ඇහැක්වගේ රැකබලා ගන්නේ, සලකන්නේ යම්සේද එසේම සියලු සත්වයන්ට මෛත්‍රී කළ යුතුය, යන පාඨයයි. වටු අම්මා තම පුතුන්ට දැක්වූ ආකල්පය අනික් සත්ත්වයන්ට දැක්වූයේ නැත.

# 69. පාරු තුනක්

දිනක් කැලයක් හරහා ගමනක් යන පුද්ගලයෝ තිදෙනෙක් විශාල ජලාශයක් ළඟට පැමිණියහ. ජලාශය තරණය කර මිස එතෙර වීමට වෙනත් ක්‍රමයක් නොතිබුණි. එහෙයින් ඔවුහු වෙහෙස මහන්සි වී ගස් කපා, කොටන් වැල්වලින් බැඳ වෙන වෙනම පාරු සාදා ඒවා උපයෝගී කර ගෙන ජලාශයෙන් එතෙර වූහ.

පළමුවැන්නා“මම මෙච්චර මහන්සියෙන් හදපු පාරුව දාලා යන්නේ කොහොමද? මේකට සෑහෙන්න මූල්‍යම වටිනාකමකුත් ඇති. ඒ වගේම මට ජලාශයෙන් එතෙර වීමට උපකාරීවූ පාරුව දමලා යෑම කෙළෙහිගුණ නොදන්නා වැඩක්” යැයි කියා බොහොම අමාරුවෙන් පාරුව කර තබාගෙන ගමන් කළේය. දෙවැන්නා “මම නම් යමකින් ප්‍රයෝජන ගත්තහම ඒක බදා ගෙන ඉන්න හදන්නේ නෑ. මම මේක මෙතනම දාලා යනවා”. යැයි කියමින් පොරවක් ගෙන පාරුව කපා කොටා විනාශ කර තම ගමන ගියේය. තුන්වැන්නා, කිසිවක් නොකියා, එම මාර්ගයේ එන තව කෙනෙකුට ප්‍රයෝජනයක් වේවා යැයි සිතා, එසේ නොවුවත් විනාශ කිරීමට කාලය වැය කිරීම නිෂ්ප්‍රයෝජන දෙයක් ලෙස සලකා පාරුව එහිම තබා තම ගමන ගියේය.



# 70. රට බේරා ගැනීමේ තනතුර

එක් රාජධානියකට භයානක මකරකුගෙන් උවදුරු පැමිණිය හෙයින් මකරාගෙන් රට බේරා ගැනීම සඳහා තනතුරක් ඇති කර එම තනතුරට සුදුස්සකු පත්කිරීමට රජතුමා විසින් තීරණය කරන ලදී. ඉන් අනතුරුව මෙම පුරප්පාඩුව පිරවීමට රට පුරා  දැන්වීම් පළකර අඬබෙර ගසන ලදි . විවිධ සෙන්පතිවරු, ප්‍රභූවරු ආදීහු මෙම තනතුර සඳහා අයදුම්පත් ඉදිරිපත් කළහ. ඒ අතර ඈත ගමක තරුණ කම්මල්කරුවකුගේ අයදුම්පතක්ද විය. අයදුම්පත් විශාල සංඛ්‍යාවක් නොවූ හෙයින් මෙම කම්මල්කරුවාද සම්මුඛ පරීක්ෂණයට කැඳවීමට රජතුමා තීරණය කළේය. “ඔබට මීට පෙර මකරුන් මරා පළපුරුද්ද තිබෙනවාද?” රජතුමා කම්මල්කරුවාගෙන්  ඇසුවේය. “නැහැ ඒත් මම දක්ෂ අශ්වාරෝහකයෙක්. මගේ කම්හලේ කඩු ඊතල හෙල්ල ආදී ආයුධ දහස් ගණන් මම නිපදවා තිබෙනවා. ඒ ඔක්කොටම වඩා ගින්දර රස්නය ගාව ඉඳීමේ පළපුරුද්ද හා හැකියාව මට තියෙනවා.” කම්මල්කරුවා පිළිතුරු දුණි. රජතුමා විසින් රට බේරා ගැනීමේ තනතුරට කම්මල්කරුවා පත් කරන ලදී.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ රැකියාවකට තෝරා ගැනීමේදී එම ක්ෂේත්‍රයේම පෙර පළපුරුද්දටත් වඩා වැදගත් වනුයේ එම රැකියාව කිරීමට අවශ්‍ය දක්ෂතා සහිත වෙනත් ක්ෂේත්‍රයක අත්දැකීම්ය. උදාහරණ ලෙස ඇඟළුම් අලෙවි නියෝජිතයකු තේරීමේදී ඇඟළුම් අලෙවි නියෝජිතයකු ලෙස පළපුරුද්ද ඇති පුද්ගලයක සෙවීමට වඩා අලෙවි නියෝජිතයකු ලෙස ඕනෑම ක්ෂේත්‍රයක පළපුරුද්ද සෙවීම වඩාත් වැදගත්  වනුයේ ඇඟළුම් සම්බන්ධ තාක්ෂණික ඥානය ඉතා ඉක්මණින් ඉගෙන ගත හැකි වුවත් දක්ෂ අලෙවි නියෝජිත දක්ෂතා ඉක්මණින් ඉගෙන ගත නොහැකි වීම  හේතුවෙනි.

☞ මකරාගේ ගින්දර මැදින් යා හැකි දක්ෂ ලෙස අසුන් හැසිරවිය හැකි, අයුධ ගැන දැනුමක් ඇත අයකුට  ආයුධ භාවිත කර සටන් කිරීමේ දක්ෂතාව පුහුණු කිරීම එතරම් අපහසු නොවේ.

☞ රට බේරාගැනීමේදී වැදගත් සාධකයක් වන්නේ අණ දීමට සිටින සෙන්පතිවරුන් පමණක් නොව එය නිවැරදිව ක්‍රියාත්මක කළ හැකි සොල්දාදුවන්ය.

# 71. එකම වරද

මිනිසකු වරදක් පිළිබඳව සැක කරනු ලදුව පොලීසිය විසින් අත්අඩංගුවට ගෙන උසාවියට ඉදිරිපත් කරන ලදී. ඔහු නඩුකාරතුමා අමතා "මම අනිත් අය වගේ නෙවෙයි. පන්සිල්වලින් 96.66% කටත් වඩා ඉතාමත් හොඳින් රකින බෞද්ධයෙක් ස්වාමීනි. මම උපන්තේකට කවදාවත් සතෙක් මරලා නෑ. මස් මාළු කන්නෙත් නෑ. පාණාතිපාතා සිල්පදය අකුරට රකිනවා, ඒ වගේමයි අදින්නාදානාවත්. මම කිසිම දවසක මට අයිති නැති නොදුන් දෙයක්, අඩුම ගානේ ඇල්පෙනිති තුඩක්වත් හොරෙන්, බලෙන්, වංචාවෙන්, මංකොල්ලයෙන් අරගෙන නෑ. මම සුරාව. සූදුව, කාම මිත්‍යාචාරය ආදියෙන් වැළකිලා තුන්වන සිල් පදයත් අකුරටම රකිනවා. ඒ වගේම සරාගී බවට මිහිරියාවට, මදයට, පමාවට හේතුවන දෙයින්, තැන නොතැන බැලීමේ නුවණින් විමසලා වළකිනවා. ඒ වගේම මම හිස් බස්, පරුෂ වචන කේලම් ආදිය කියන්නෙත් නෑ. මගේ පොඩි වරදකට තියෙන්නේ පොඩ්ඩක් බොරු කියන එක විතරයි" යැයි කීවේය. විනිශ්වයකාරතුමා ඔහු වරදකරු බවට තීරණය කළේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- විශ්වාස කළ නොහැකි නම් අන් සියල්ලෙන්ම ඵලක් නැත.
- සැකය මත අත් අඩංගුවට ගත හැකි වුවද සැකයක් තිබූ පමණින් වරදකරු කළ නොහැක.

# 72. මම කවුද?

එක් අයකු තමා කවුද යන ප්‍රශ්නයට පිළිතුරුක් සොයා ගැනීමට ඉතා වෙහෙසී සිත යොමු කළේය. ඔහු පොත් පත් රාශියක්ද කියෙව්වේය. එහෙත් නිසි පිළිතුරක් සොයා ගැනීමට නොහැකි වූ ඔහු දාර්ශනිකයකු හමුව තමාව හඳුන්වාදී "මම කවුද කියලා මම දන්නේ නැහැ. මම කියන්නේ කවුද කියලා වටහා ගන්න මට උදව් කරන්න" යැයි පැවසීය. දාර්ශනිකයා පිළිතුරු නොදී ඉවත බලා ගත්තේය. මෙම පුද්ගලයා දිගින් දිගට පිළිතුරු දෙන ලෙසට බැගෑපත් වුණද දාර්ශනිකයා පිළිතුරු දුන්නේ නැත. අවසානයේ බලාපොරොත්තු කඩවූ ඔහු ආපසු යෑමට හැරුණි. එවිටම දාර්ශනිකයා ඔහුගේ නම කියා කතා කළේය. "ඔව්" යැයි කියමින් ඔහු ආපසු හැරුණි. "ඔන්න තියෙනවා උත්තරේ" දාර්ශනිකයා පිළිතුරු දුණි.




**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඔහු තමා යන්න දැන සිටියේ තම නමට සම්බන්ධවය. පුද්ගලයකු තමා දකින්නේ අන් අය තුළිනි.
- දාර්ශනිකයා කියන්නේ මම යනු එම පුද්ගලයාට දුන්න නම බවද? එය ඉතා සරල පිළිතුරක් බව පෙනේ.
- උපතේ සිට අත්විඳි අත්දැකීම් මත පුද්ගලයාගේ මනස තුළ මම යන ආත්ම සංඥාව ඇතිවේ. එම සංකීර්ණ අත්දැකීම්, භෞතික ශරීරය, විඳීම්, ආදී සෑම දේටම දෙන එක් කෙටි නම වන්නේ මම නොහොත් එම පුද්ගලයා හඳුන්වන සංඥා නාමයයි.
- තමා කවුදැයි සොයා ගැනීමට අනුන්ට උදව් කළ නොහැක.
- "මම"," ආත්මය", වැනි සංඥා නොහොත් ලේබල් ගැන අවබෝධයෙන් සිටීම හොඳය.
- මෙවන් ප්‍රශ්නවලට පිළිතුරු වචනවලට සීමාවේ, මම, ආත්මය යන්න යමකට දෙන සංකේත වන භාෂාවක කොටස්ය. ඊට පිළිතුරු දෙන්නේද එම භාෂාවේම සංකේත වන වදන් භාවිත කරමිනි.
- කාටත් ප්‍රයෝජනයක් නැති දෙයක් නොසොයා වැදගත් දෙයකට කාලය වැය කරන්න.

# 73. කලුවා මාරපන් යෑම

දිනක් බාලදක්ෂ කොමසාරිස්වරයෙක් වූ ජලීල් අක්බාර් මහතා මූලස්ථාන කොමසාරිස්වරුන්ගේ රැස්වීමකට ගියේය. එහි දී කතා වූයේ ක්ෂේත්‍ර කොමසාරිස්වරුන්ගේ සාර්ථකත්වය පිළිබඳවයි. උදාහරණ ලෙස එක් අයකු කීවේ ක්ෂේත්‍ර කොමසාරිස්වරු පසුගිය මාසය ඇතුළත අවම වශයෙන් තමන්ට අදාළ දිස්ත්‍රික්කවල පාසල් 25ක බාලදක්ෂ සමූහයන් වෙත ගිය බවයි. මෙහිදී රොහාන් වීරසේකර මහතා ඇසුවේ අපි ඔවුන්ගේ සාර්ථකත්වය මනින්නේ ගිය පාසල් සංඛ්‍යාව අනුව ද නැතිනම් ඔවුන් එහි ගොස් අත්පත් කර ගත් සාර්ථකත්වයන් අනුව ද? යන්නයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ යම් පුද්ගලයකුගේ කාර්යසාධනය මැනීමට යොදා ගන්නා නිර්ණායකයන් ආයතනයේ අරමුණුවලට සම්බන්ධ වන එලදායී ඒවා විය යුතුය.

☞ වැරදි චර්යාව මැන වැරදි දේට යහපත් කාර්යසාධන වාර්තා සහ පඩි වැඩි කිරීම් ලබා දුන්නොත්, ඔවුන්ද වැරදි චර්යාවේ තව තවත් තදින් යෙදෙනු ඇත.

☞ එක් ප්‍රාන්තයක් පොලිස් ජංගම මුර සංචාරක රථවල කාර්යසාධනය මැනීමට යොදා ගත් නිර්ණායකය වූයේ එම රථය ගමන් කළ දුර ප්‍රමාණයයි. ජංගම මුර සංචාරයක ඇත්ත අරමුණ වන නිරීක්ෂණය ආදිය මේ මගින් ඇගයීමට ලක් නොවේ. දිරිමත් කරන්නේ හැකි තරම් වේගයෙන් වැඩි දුරක් ගමන් කිරීමයි. මේ හේතුවෙන් ඉන්ධන නාස්තියක් ද සිදු විය හැක.

☞ තමන් එම ගමන යා යුත්තේ ඇයි දැයි නොවිමසා, නොසිතා මාරපන් ගොස් නිකම්ම නැවත ආ කලුවා කළ ක්‍රියාවට දෙවැනි නොවන ක්‍රියාවක් මෙම කතාවේ පෙන්වයි.

☞ ප්‍රමාණාත්මක භාවය පමණක් නොව ගුණාත්මක භාවයද කාර්ය සාධනයේදී සැළකිල්ලට ගත යුතුය.

# 74. මුහුදට දැමූ තරුමසා

මහාචාර්යවරයෙක් මුහුදු වෙරළක් දිගේ ඇවිද යන විට වැල්ලෙන් යම් දෙයක් අහුලමින් ඒවා එකින් එක මුහුදට විසිකරන කුඩා ළමයකු දුටුවේය. මහාචාර්යවරයා ළමයාට ළංවනවිට ඔහු දුටුවේ වෙරළ පුරා තරුමසුන් දහස් ගණනින් ගොඩ ගසා ඇති ආකාරයයි. මෙම කුඩා දැරිය තවමත් පණපිටින් සිටින තාරකා මසුන් මියයාමට පෙර නැවතත් වතුරට දමන බව ඔහු දුටුවේය. ඔහු ළමයාට ළංව ඇයගෙන් ප්‍රශ්නයක් ඇසුවේය. "ඔය ළමයා මොකද කරන්නෙ?" ළමයා තමා කර කර සිටි වැඩය මොහොතකට නවත්වා "තාරකා මසුන් මුහුදට විසිකරනවා" යැයි පිළිතුරු දුණි. "මම හිතන්නේ මම වැරදි ප්‍රශ්නෙ ඇහුවේ. මට අහන්නට තිබුණේ ඇයි ඔය ළමයා තාරකා මසුන් මුහුදට විසි කරන්නේ කියලා" මහාචාර්යවරයා තම ප්‍රශ්නය නිවැරදි කළේය. "තව ටිකකින් ඉර පායනවා එතකොට රැල්ල අඩුවෙලා වැල්ලේ ඉතිරිවන සේරම තාරකා මසුන් මැරිලා යාවි. ඒ නිසා මම එයාලාව ආයිත් මුහුදට දානවා" ඇය පිළිතුරු දුණි. "ඒත් ළමයෝ මෙම වෙරළේ හැතපුම් කීයක් තියෙනවාද? මුළු වෙරළ පුරාම තාරකා මසුන් ගොඩ ගහලා ඔයා ඔය කරන ක්‍රියාවෙන් ලෝකයට වෙනසක් කරන්න පුළුවන් වෙයි කියලා හිතනවාද?" මහාචාර්යවරයා ළමයා කරන මෝඩ වැඩය ඒත්තු ගැන්වීමේ අදහසින් ඇසීය. කුඩා දරුවා ඉවසිල්ලෙන් හා ආචාරශීලීව ඇහුම්කන් දී සිට පහතට නැමී තවත් තාරකා මසකු ගෙන මුහුදේ රළ අතරට විසිකර මෙසේ පැවසීය. "මේ ක්‍රියාවෙන් ලෝකයට වෙනසක් කරන්න පුළුවන් වුණේ නැති වුණාට මම දැන් විසිකරපු තාරකා මාළුවාගේ ජීවිතයට ලෝකයක වෙනසක් ඇති වේවි."



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- බාලදක්ෂ ව්‍යාපාරයේ නිර්මාතෘ රොබට් බේඩ්න් පවෙල් සාමිවරයා මෙසේ පැවසීය "ඔබට ලෝකය හමුවූවාට වඩා ස්වල්පයක් හෝ හොඳින් තබා මිය යාමට උත්සහ කරන්න".
- විශ්වීය වශයෙන් සිතා ප්‍රාදේශීය වශයෙන් ක්‍රියා කරන්න. සමාජයේ සියලු දෙනාම තමන්ගේ යුතු කම ඉටු කළහොත් ඉබේටම සමාජය යහපත් වේ. අවම වශයෙන් තමා යන පාරේ ඇති කසල අරන්, කසල බඳුනකට දැමුවොත්, සමාජයේ සියලු දෙනාම මෙසේ කළොත්, අප වසන පරිසරය පිරිසිදු කිරීමට මහා ව්‍යාපෘති අවශ්‍ය වන්නේ නැත. අන් අය කරන දේ, නොකරන දේ ගැන නොසිතා තමන්ගේ යුතුකම ඉෂ්ඨ කරන්න.
- අප සියලු දෙනාටම යම් යහපතක් කිරීමේ වරප්‍රසාදය උපතින්ම ලැබී තිබේ. අපි අපේ තරු මසුන් සොයා ගෙන ඔවුන්ගේ ජීවිතවලට ලෝකයක වෙනසක් කිරීමට සිතා ගත යුතුය.
- පණ්ඩිතයාට වීදණ්ඩේ යන්න බැරිලු.

# 75. ඉස්කෝලකාරයා හා පොලිස්කාරයා

ගුණපාල වික්‍රමසිංහ මහතා නවක ගුරුවරයකු ලෙස වැඩ කරන කාලයේ තවත් ගුරුවරුන් කීපදෙනකු සමග සෑම සති අන්තයකම පාපැදිවල නැගී උණවටුණේ මුහුදේ නෑමට යාමට පුරුදුව සිටියේය. එකල පාපැදිවල ඩබල් දමා යාම තහනම් වූ බැවින් සෑම දෙනාම තම තමන්ගේ පාපැදිවල පැමිණීමට පුරුදුව සිටියෝය. මෙම සිද්ධිය සිදුවූ දිනයේ එක් ගුරුවරයකුට පාපැදියක් නොතිබුණු බැවින් ඔහු තවෙකෙකුගේ පාපැදියේ ඩබල් දමා යමින් සිටියේය. ඈත තියාම පොලිස් නිලධාරියකු දුටු ඔවුන්ගෙන් එකෙකු "අන්න අන්න පොලිස් කාරයෙක්" යැයි කී විගස ඩබල් දමමින් සිටි ගුරුවරයා බයිසිකලයෙන් බැස මගියකු සේ පාරේ ගමන් කිරීමට පටන් ගත්තේය. කෙසේ හෝ පොලිස් නිලධාරියාට මෙම වචන ඇසී ඔවුන් දෙස බලා බයිසිකල් නවත්වන ලෙස නියෝග කළේය. බයිසිකල්වල ලයිසන්, ලාම්පු, තිරිංග ආදී හැම දේම පරීක්ෂා කළත් ඔහුට කිසිදු වරදක් සොයා ගත නොහැකි විය. මුහුදේ නෑමට යන නිසා මෙම ගුරුවරුන් සිටියේ සරම් හෝ කොට කලිසම් ඇඳ ෂර්ට්ද නැතිවය. එහෙත් කිසිවෙක් තමන්ගේ රැකියාව කුමක්දැයි නිලධාරියාට හඳුන්වාදීමට ඉදිරිපත් නොවුණි. මෙම පොලිස් නිලධාරියා කිසිඳු හේතුවක් නොදන්වා ගුරුවරුන් පිරිස පොලීසියට රැගෙන ගොස් කූඩුවේ දමන ලදී.

ගුණපාල වික්‍රමසිංහ මහතාගේ මස්සිනා පොලීසියේ සහකාර පොලිස් අධිකාරීවරයකු වුවද ඔහු තම මස්සිනාගේ බලය පාවිච්චි කිරීමට නොයා කූඩුවේ සිටියේය. ගුරුවරයකු තමන් කළ වරද මොකක්දැයි පොලිස් නිලධාරියාගෙන් විමසුවද ඔහු සැර කර "උඹට වරද දැනගන්නම ඕනද?"යනුවෙන් සද්ද දැම්මේය. පැය දෙකක් ඉවසිල්ලේ සිටි ගුණපාල වික්‍රමසිංහ පොලීසියෙන් කිසිදු ක්‍රියාමාර්ගයක් නැති හෙයින් තමන්ට ස්ථාන භාර නිලධාරියා හමුවීමට අවශ්‍ය බව වෙනත් පොලිස් නිලධාරියකුට පැවසීය. ස්ථාන භාර නිලධාරියා හමුවූ වික්‍රමසිංහ මහතා තමන් ගුරුවරුන් බවත් කිසිදු හේතුවක් නොදන්වා අහවල් පොලිස් කොස්තාපල්වරයා තමන් රිමාන්ඩ් කළ බවත් දන්වා සිටියේය. එම පොලිස් කොස්තාපල්වරයා කැඳවූ ස්ථාන භාර නිලධාරියා ඊට හේතුකාරණා විමසූ විට ඔහු කීවේ මෙම පිරිස තමන්ට පොලිස්කාරයා යැයි කී බවයි. ගුරුවරුන් ඇමතූ ස්ථානාධිපතිවරයා ගුරුවරුන්ට කීවේ "බලන්න ඔයාලා ගුරුවරු වෙලත් මේ කොස්තාපල් මහත්තයාට පොලිස්කාරයා කියලා කතා කරපු එක කොච්චර නරකද?" ඔයාලට කවුරුහරි ඉස්කෝලෙ මහත්තයා නොකිය ඉස්කෝලකාරයා කිව්වොත් ඔයාලට කොච්චර හිත රිදෙයිද? යනුවෙනි. මීට පිළිතුරු වශයෙන් වික්‍රමසිංහ මහතා කීවේ "සමාජයේ එක් එක් රැකියා කරන අය අමතන අවිධිමත් ව්‍යවහාරික නම් තියෙනවා. පොලිස්කාරයා, ආමිකාරයා, මාළුකාරයා, කිරිකාරයා, නඩුකාරයා වගේ නම් තියෙනවා. ඒත් කවුරුත් ගුරුවරුන්ට ඉස්කෝලේ මහත්තයා, කියනවා මිස ඉස්කෝලකාරයා කියන්නෙවත්, බෞද්ධ භික්ෂුවකට හාමුදුරුවෝ කියනවා මිස හාමුදුරුකාරයා හෝ පන්සල්කාරයා කියන්නෙවත් නෑ. ඒ වගේම වෙදකම් කරන කෙනාට වෙදා හෝ වෙදමහත්තයා කියනවා මිස වෙදකාරයා කියන්නේ නැහැ. ඒක තමයි සමාජයේ ව්‍යවහාරය" කියාය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- නම්බුව සමාජයෙන් බලෙන් ලබා ගත නොහැක.
- මෙම ගුරුවරු තම තනතුරේ බලය හෝ පොලිස් ඥාති බලය යොදා කොස්තාපල්ගේ හැසිරීම වෙනස් කිරීමට උත්සාහ නොදැරීම අද සමාජයේ නම් දකින්නට විරලය.
- ඩබල් දැමීමේ වරද අහුනොවුණ පමණින් වරදකර පොලීසියට වංචාකර ඉන් බේරීම වරදක් නොකිරීම හා සමාන නොවේ.
- සමාජයේ සෑම රැකියාවක්ම වැදගත් ය. එහෙත් එම රැකියාවේ ගරුත්වය ආරක්ෂා නොකරන විට සමාජය විසින් එයට සුදුසු ස්ථානය නිර්ණය කරයි.

# 76. පුස්තකාලය ගිනි තැබීම

බෞද්ධ දර්ශනය හැදෑරීම සහ කර්මස්ථාන වැඩීමට දැඩි කැපවීමකින් ක්‍රියාකළ බෞද්ධ භික්ෂුණියක් සිටියාය. ඇය සතුව ඉතා වටිනා පොත් රාශියකින් යුතු පුස්තකාලයක් තිබුණි. දිනක් කර්මස්ථාන වඩන අතර ඇයට නිර්වාණය අවබෝධ වී රහත්ඵලය ලැබුණි. ඇය මුළු පුස්තකාලයම පන්සල පිටුපස මිදුලට ගෙන ගොස් ගිනි තැබුවාය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්,**

- යමක් පිළිබඳව සත්‍ය අවබෝධය ලබා ගත් පසු දැනුම අභ්‍යන්තර ගතව තමා සමගම මුළු ජීවිත කාලය තුළම පවතිනු ඇත.
- ඔබගේ ඉලක්කයට ළඟාවූ පසුව ඊට උපකාරී වූ ක්‍රමය තවදුරටත් වැඩක් වන්නේ නැත. එසේ කිරීම ගඟෙන් එතෙර වූ පසුව පාරුව කර තබා ගෙන යාම හා සමානය.
- ඇයට පොත් ගිනි නොතබා වෙන කිසිවකුට දීමට තිබුණි.
- ඇය පොත් ගිනි තැබුවේ ඒවායේ නිෂ්ඵල බව අවබෝධ කරගත් නිසා විය හැක. පොත් හා දැනුම නිර්වාණයට බාධාවක් විය හැක. එම නිසා ඒවා අන් අයකුට දුන්නද සිදුවන්නේ අවැඩක්ම බැවින් පොත් ගිනි තැබුවා විය හැක.
- මට නම් කිසි දිනක පොතක් ගිනි තැබිය නොහැක. එය හරියට පොත ලියූ පුද්ගලයා ගිනි තැබීමක් වැනිය.

# 77. බාස්ලා සහ මකබාස්ලා

පාරේ යන මගියෙක් මේසන්වරු තිදෙනෙකු වැඩ කරමින් සිටිනු දක්නට ලැබුණි. ඔහු එක් මේසන්වරයකු වෙත ගොස් "කරුණාකරලා මහත්තයා මොකක්ද කරන්නෙ කියලා මට කියන්න පුළුවන්ද?" යැයි විමසීය. ඔහු අමුත්තා දෙස රවා බලා "මම මොනවද කරන්නේ කියලා පේන්නේ නැද්ද? මම ගඩොලක් පිට ගඩොලක් තියලා සිමෙන්ති දානවා" යැයි කීවේය.ඔහුට ස්තූති කළ අමුත්තා දෙවන මේසන්වරයා වෙත ගොස් එම ප්‍රශ්නයම ඇසුවේය. දෙවන මේසන්වරයා ඔහුගේ මේසන් හැන්ද බිමින් තියා "මම කරන්නේ මගේ පවුල රකින්න කීයක් හරි හම්බු කරන එක" යැයි කීය. ඔහුටද ස්තූති කළ අමුත්තා තුන්වන මේසන්වරයා ළඟට ගොස් එම ප්‍රශ්නයම ඇසුවේය. "මම මෙතන ඉදි කිරීමට යෝජිත නාට්‍ය ශාලාවේ වම්පස බිත්තිය ගොඩ නගනවා" යැයි පැවසීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබ මින් කුමන මේසන්වරයාද? ඔබ යාන්ත්‍රිකව වැඩ කරන ඉන් ඔබ්බට නොයන පළමු මේසන්වරයාද? නැතහොත් ඔබ ඔබගේ දරු පවුල රැකීමටත් ඔබගේ ජීවන රටාව පවත්වාගෙන යාමටත් යමක් හම්බුකිරීමට ශ්‍රමය වැය කරන නිසා දෛනික ජීවිතයේ වැඩ පමණක් කරන වෙන කිසිම දෙයක් නොපෙනෙන දෙවන මේසන්වරයාද? එසේත් නැතිනම් ඔබගේ වැඩය පදනම් වන උත්තරීතර අරමුණෙන් අභිප්‍රේරණය වී වැඩ කරන තෙවන මේසන්වරයාද?

☞ සෑමවිටම සම්පූර්ණ චිත්‍රය ගැන අවබෝධයක් ඇතිව පොඩි කොටසක් කරන්න අරමුණ කුමක්ද? මෙය මෙසේ කරන්නේ ඇයිද? යන්න නොදැන වැඩ කිරීමෙන් වළකින්න.

☞ ක්‍රියාදාමයක අවසාන ප්‍රතිඵලය අරමුණ දැකගතහැකිනම්, එම අරමුණ කෙරෙහි අභිප්‍රේරණය වී වැඩ කිරීමේ හැකියාවක් ද ඇත. එහෙත් තමන් එම ප්‍රතිඵලයට අරමුණට අකමැති නම් එහි අනික් පැත්ත වීමටද ඉඩ තිබේ.

# 78. Manipulate කිරීම

කණ්ඩායමේ සාමාජිකයෙක් වූ මධුර කණ්ඩායම් පැවරුමක් කිරීමේ දී උපාය මාර්ගික වීමට තීරණය කර එය මානසික අභ්‍යාසයක් ලෙස පුරුදු පුහුණු කිරීමට තිස්සව උපාය මාර්ගිකව පොළඹවන (Manipulate) ආකාරයත් ඒ පිළිබඳව කණ්ඩායමේ තෙවැන්නකු වන සජීවා දරන අදහසත් මෙම දින පොත් ආශ්‍රයෙන් පෙනේ.



**මධුරගේ දිනපොත**

**ජනවාරි 18** - මහාචාර්යතුමා කිව්වා වගේ කණ්ඩායමට මාතෘකාවක් තෝරා ගැනීමට අපහසුතාවක් තියෙනවා නම් මට ඔවුන්ව උපාය මාර්ගිකව පොළඹවා ගන්න හැකි වේවි, "පොත් සාප්පු මිල ගණන්" මාතෘකාව තෝරා ගැනීමට. ඊළඟ රැස්වීම් කීපයේ දී මම කරන්න උත්සහ කරන්නේ ඒක තමයි.

**ජනවාරි 20** - ඒක වැඩ කරනවා. ඒ වගේම හරිම ලේසියි. මම අද හවස තිස්සගේ සිතිවිලි උපාය මාර්ගිකව වෙනස් කිරීමට පටන් ගත්තා. ඔහු තමයි කණ්ඩායමට සහභාගී වීමට අවම උනන්දුවක් දක්වන තැනැත්තා. ඒ නිසා මට හිතුණා ඔහු තමයි පහසුවෙන්ම මට ඕන විදිහට හැසිරවිය හැක්කේ කියලා. මම අහඹු ලෙස තිස්සව හමුවුණා වගේ පෙන්නලා ඔහුව මගදී මුණ ගැහිලා කිව්වා. "මම හරිම කළකිරීමෙන් ඉන්නෙ කණ්ඩායමට මාතෘකාවක් තෝරා ගන්න බැරි එක ගැන. මට හිතුණා ඔයාට තමයි හොඳ යෝජනාවක් දාලා කව්රුත් පිළිගන්න මාතෘකාවක් යෝජනා කරන්න පුළුවන් කියලා". ඔහු මොනවගේ මාතෘකාවක් ද කියලා ඇහුවම මම කිව්වා "පොත් සාප්පු මිල ගණන් ප්‍රතිපත්තිය'' වගේ මාතෘකාවක් කියලා. තව දුරටත් මම කිව්වා "මම මේ මාතෘකාව කණ්ඩායමට දැම්මොත් එයාලා හිතාවි මම කණ්ඩායමේ මුදුනා වෙන්න හදනවා" කියලා, තිස්ස වැඩිය කතා නොකරපු නිසා මෙම අදහස ඔහුගෙන් ඉදිරිපත් වෙන කොට ඔහුව කණ්ඩායමේ කැපී පෙනෙන තත්ත්වයකට පත්වේවි කියලා මම කිව්ව. තිස්ස මගේ ලණුව කෑවා. ඊළඟ රැස්වීමේ දී ඔහු මම හිතපු නැති තරමේ බලයක් යොදමින් මගේ මාතෘකාව කණ්ඩායමට ඉදිරිපත් කළා. කණ්ඩායමත් කිසිම ප්‍රශ්නයක් නැතිව ඒක මිලදී ගත්තා. Manipulation වැඩ කරනවා.

**පෙබරවාරි 01**- තිස්සයා රවට්ටන එක හරිම ලේසියි. ඔහු මුලින්ම හිතන් හිටියේ සජීවාගේ ශිෂ්‍ය සභා පාලනය යටතේ ඇති පොත් සාප්පු මාතෘකාවට ඔහු අකමැතිව බව. ඒත් මම ඔහුව පෙළඹුවා ඒ අදහසට පක්ෂ වීමට. මට හරිම පුදුමයි. සමහරු මෙච්චර ලේසියෙන් රවට්ටලා මගේ වැඩේ කරගන්න පොළඹවා ගන්න පුළුවන් වීම ගැන

**සජීවාගේ දිනපොත**

**පෙබාරවාරි 01** - මධුර හරිම කපටි නරියෙක්. අද ඌ තිස්ස ලවා මගේ අදහසට සපෝට් කෙරෙව්වා. පව් තිස්ස. එයාටම කියලා හිතන්න මොළයක් නෑ වැගේ වැඩ කරන්නේ. ඒකටත් එක්ක මධුර ඌ මහා සර්පයෙක්. ඌව නම් විශ්වාස කරන්න පුළුවන් කමක් නැහැ. මට හිතෙන්නේ මිනිහා කිසිම දෙයක් ගැන විශ්වාස නොකරන කිසිම සදාචාරයක් නැති කෙනෙක් කියලා.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ කණ්ඩායමක් තුළ ආරක්ෂණවාදී හැසිරීම් (Defensiveness) ඇති කරන හැසිරීම් වර්ගයක් ලෙස උපාය මාර්ගික වීම (Being Strategic) දැක්විය හැක. උපාය මාර්ගික වීම නිර්වචනය කෙරෙන්නේ තමසැලැස්ම ක්‍රියාත්මක කිරීම සඳහා එක් පුද්ගලයකු විසින් තවකෙකු හෝ අන් අයව උපාය මාර්ගිකවපෙළඹවීමක් (Manipulate කිරීමක්) ලෙසයි. කව්රුහරි ඔබව උපාය මාර්ගිකව පෙළඹවීමට උත්සහ කර ඔබට එය එළිවුණහොත් ඔබ Defensive වෙනවා නොඅනුමානය. කෙලින් කතා නොකොට කට්ටකම්භාවිත කිරීම විශ්වාසය බිඳ වැටීමට හේතුවක් විය හැක.

# 79. ඉවසීම

දිනක් පටු පාරකදී කාර් රථ දෙකක් පදවාගෙන ආ රියදුරන් දෙදෙනකු මුහුණට මුහුණ හමුවුණි. එකිනෙකා අනිකාට වාහනය ආපස්සට ගන්නා ලෙසට කීවා මිස තමා ආපස්සට යාමට කැමති නොවීය. එක් රියදුරෙක් තමන්ගේ ඉවසීමේ ශක්තිය පෙන්වීමට සිතා කාර් එකේ එන්ජිම නතර කර ඉන් ඉවතට බැස බොනට්ටුව මත වාඩිවී පත්තරයක් කියවීමට පටන් ගත්තේය. අනික් රියදුරාද තම කාරයෙන් ඉවතට බැස බොනට්ටුව මත වාඩිවී අනික් කාරයේ රියදුරා අමතා මෙසේ ඇසීය, “ඔයා ඔය පත්තරේ කියවලා ඉවරවුණහම මටත් කියවන්න දෙන්න පුළුවන්ද?”.



# 80. රේල් පීලි දෙක

දිනක් රේල් පාරක් දෙකට බෙදෙන තැනක පුද්ගලයෙක් වාඩිවී සිටියේය. ඔහු අසලම රේල් පීල්ල මාරු කර කෝච්චිය යා යුතු දිශාව තීරණය කරන ලීවරය තිබුණි. එක් රේල් පාරක ළමුන් 20 දෙනෙකු පමණ සෙල්ලම් කරමින් සිටිය අතර එය ක්‍රියාකාරී හෙවත් දුම්රිය ගමන් කරන රේල් පාර විය. අනික් රේල් පාර අක්‍රිය අත්හැර දමන ලද එකක් වූ අතර එහි දුම්රිය ගමන් නොකළේය. එම රේල් පීල්ලේ ළමයෙක් තනියම ක්‍රීඩා කරමින් සිටියේය. හදිස්සියේම අධික වේගයෙන් දුම්රියක් එනු දුටු පුද්ගලයාට ක්ෂණික තීරණයක් ගත යුතුව තිබුණි. දුම්රිය යන විදියටම යන්න දී ළමුන් 20 දෙනෙකු මියයාමට ඉඩ දෙනවාද? නැතිනම් ලීවරය ඇද අනික් පාරට දුම්රිය හරවා තනි ළමයකු මිය යාමට සලස්වා ළමුන් 20 ක් බේරා ගන්නවාද යන පැනයට ඔහු ක්ෂණික පිළිතුරක් සොයා ගත යුතු විය. තනි ළමයා කැප කර 20 දෙනෙකු බේරා ගැනීම තර්කානුකූල සහ සදාචාරාත්මක බව සිතූ ඔහු ලීවරය ඇද්දේය.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- දුම්රිය ගමන් නොකරන පාරේ සෙල්ලම් කිරීමට තීරණය කර ළමයා අරගත්තේ නිවැරදි තීරණයකි. අනික් ළමුන් 20 දෙනා අනතුරු ඇති තැන ක්‍රීඩා කිරීමට ගත් තීරණය වැරදි තීරණයකි. බහුතරයගේ මෝඩ ක්‍රියා නිසා නිවැරදි තීරණය ගත් සුළුතරය විපාක විඳිය යුතුද? බහුතරයේ අඥානකම වසා ගැනීමට සුළුතරය කැප කළ යුතුද?

- සමහර විට දුම්රිය ගමන් කරන පාරේ සෙල්ලම් කළ ළමුන් එහි දුම්රිය ගමන් කරන බව දැන සිටින්නට ඇත. ඔවුන් දුම්රිය ශබ්දය ඇසුණු විගසම දිවයාමට සූදානමින් සිටින්නට ඇත. දුම්රිය මග වෙනස නොකළද ඔවුන් බේරෙනු ඇත. එහෙත් තමා සෙල්ලම් කළ පාරේ දුම්රිය නොඑන බව දැන සිටි ළමයා දිවීමට සූදානමක් නැති හෙයින් බලාපොරොත්තු රහිතව දුම්රිය එන විට එයට හැපී මිය යන ඇත.

- සමහරවිට අක්‍රිය රේල් පීල්ල දුම්රිය ගමනාගමනයට නුසුදුසු තත්ත්වයක තිබුණා විය හැක. ළමුන් 20 දෙනෙක් බේරා ගැනීමට ගොස් මුළු දුම්රියේම මගීන්ගේ ජීවිත විනාශ වීමට ඉඩ තිබේ.

- අනුන්ගේ ජීවිත ගැන තීරණ ගැනීමට තමන්ට අයිතියක් නැත. දෙවියන් සේ ක්‍රියා කිරීමෙන් වළකින්න.

- දුම්රිය යන පාරේ ගොස් ළමුන් 20 දෙනා මැරුණේ නම් එය හදිසි අනතුරකි. එහෙත් පීල්ල මාරු කිරීමෙන් තනි ළමයා මැරුනේ නම් එය මිනී මැරුමක් ලෙස අර්ථකථනය කළ හැක.

- සදාචාරාත්මක තීරණ ගැනීමේ ආකෘති 3 ක් ඇත. මෙම කතාවේ යොදා ගන්නේ මුල් ආකෘතියයි.

  01. Utilitarianism තීරණ ගන්නේ වැඩි සංඛ්‍යාවකට වැඩි යහපතක් වන ආකාරයටය.

  02. දෙවන ප්‍රවේශය අයිතිවාසිකම්වලට වැඩි අවධානයක් යොමු කරයි. මෙම ප්‍රවේශයේදී ව්‍යවස්ථාව වැනි ලේඛනවල ඇති මූලික අයිතිවාසකම් වැනි අයිතීන් හා වරප්‍රසාද මත පදනම්ව තීරණ ගනී.

  03. තෙවන ප්‍රවේශය නම් යුක්තිය මත තීරණ ගැනීමයි. මේ අනුව සමානව සහ සාධාරණව අපක්ෂපාතීව නීති ක්‍රියාත්මක කළ යුතුය. මේ අනුව වාසි සහ පාඩු සෑම දෙනා අතරම සමානව බෙදෙ.

# 81. බල්ලාට දැනෙන හැටි

දිනක් මිතුරන් දෙදෙනකු ගමනක් යන විට පාරේ බල්ලෙක් නිදා ගෙන සිටියේය. එක් මිතුරෙක් ඌට පයින් පහරක් ගැසුවේය. "බලන්න මේ බල්ලා වේදනාව අත්විඳින හැටි" යැයි අනිත් මිතුරා කීවේය.

"ඔබ ඒ බල්ලා නෙවෙයි. ඒ නිසා ඔබට ස්ථිර වශයෙන්ම කියන්න බෑ බල්ලා වේදනා විඳින බව" බල්ලාට පයින් ගැසූ මිතුරා පිළිතුරු දුණි.

"ඔබ මම නෙවෙයි. ඒ නිසා ඔබට කියන්න බෑ මම ඒ බල්ලා නොවන බව" අනික් මිතුරා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ හරක් ගොවියකු වීමට හරකකු වීම අවශ්‍ය නැත. පිළිකා දොස්තර කෙනෙකු වීමට පිළිකාවක් සෑදී සිටීම අවශ්‍ය නැත.

☞ අනිකාගේ තැන සිට ඔහුගේ/ඇයගේ/ හැඟීම් තේරුම් ගැනීමට හැකිවීම අන්තර් පුද්ගල සබඳතාවලට අත්‍යවශ්‍ය දෙයකි.

# 82. වතුර වීදුරු බිම තියන්න

දිනක් විශ්වවිද්‍යාල ආචාර්යවරියක් වතුර වීදුරුවක් අතේ ඇතිව තම පන්තිය ඉදිරියට ආවාය. ''මෙම වීදුරුවේ බර කීයක් විතර ඇත්ද?'' ඇය සිසුන්ගෙන් ඇසුවාය. ග්‍රෑම් 50, 100 ආදී වශයෙන් විවිධ පිළිතුරු ලැබුණි.

''මේකෙ බර මැන්නේ නැත්නම් ඇත්තටම මමත් දන්නෙ නෑ. නමුත් මේක එතරම් විශාල බරක් නැති දෙයක් ලෙස මම දකිනවා. මම මේක උඩට ඔසවාගෙන මිනිත්තු කීපයක් හිටියොත් මොකද වෙන්නෙ?''. ඇය ප්‍රශ්න කළාය.

''මුකුත් වෙන්නෙ නෑ.'' කුතුහලයට පත් සිසුන් පිළිතුරු දුණි.

''හොඳයි මම මේක පැයක් මෙහෙම අල්ලගෙන හිටියොත් මොකද වෙන්නෙ''ඇය නැවතත් ඇසුවාය.

''ඔබගේ අත කකියන්න පටන් ගනී.'' එක් සිසුවෙක් උත්තර දුණි.

'' ඔබ හරි. මම මේක දවසක් විතර මෙහෙම අල්ලා ගෙන හිටියොත් මොකද වෙන්නේ'' ආචාර්යවරිය සිසුන්ගෙන් විමසුවාය.

''ඔබගේ අත හිරි වැටේවි. සමහර විට පණ නැතිව යාවි. ඉස්පිරිතාලෙත් ගෙනියන්න වේවි'' කියා එක් සිසුවකු පිළිතුරු දුන්විට අනික් සිසුහු හිනාවීමට පටන් ගති.

''බොහොම හොඳයි. මේ කාලය තුළ මේ වීදුරුවේ බර වෙනස් වුණාද? '' ගුරුවරිය ඇසූවිට ''නෑ'' යනුවෙන් සිසුන් පිළිතුරු දුණි.

''එහෙමනම් මගේ අත කකියන්න ගත්තේත්, මාව ලෙඩ වුණේත් ඇයි?'' ඇය ඇසුවාය.

''දිගු වේලාවක් අල්ලන් හිටපු නිසා'' සිසුන් පිළිතුරු දුණි.

''එහෙනම් ඒක වලක්වා ගන්න මා කළ යුතුව තිබුණේ කුමක්ද?. ගුරුවරිය විමසුවාය.

''වීදුරුව බිමින් තියන එක'' එක් සිසුවෙක් පිළිතුරු දුණි.



''ඇත්තවශයෙන්ම ජීවිතේ ප්‍රශ්නත් මේ වතුර වීදුරුව වගේමයි. ඔබගේ හිස තුළ මිනිත්තු කීපයක් පමණක් ප්‍රශ්න තියන් හිටියොත් ඒවා එච්චර වේදනාකාරී නෑ. නමුත් දිගු වේලාවක් ප්‍රශ්න හිස තුළ තියන් හිටියොත් ඒවා වේදනාකාරී වෙනවා. සමහර විට ඔබව අකර්මණ්‍ය රෝගී තත්ත්වයකට පත් කරනවා.

ඔබගේ ජීවිතයේ ප්‍රශ්න ගැන සිතීම වැදගත්. ඒත් ඒවා දිගු වේලාවක් ඔළුව තුළ තියාගෙන නොසිට බිම තැබීමට ඉගෙන ගැනීමත් වැදගත්. ඒ නිසා අදම ඔබගේ වීදුරු බිම තියන්න'' ගුරුවරිය පැවසුවාය.

# 83. සියාතු මාමාගේ පොරව

එකමත් එක කාලෙක අති දක්ෂ, ශක්තිමත් ගස් කපන්නෙක් සිටියේය. ඔහු දැව වෙළෙන්දකු ළඟ ගස් කැපීමේ රැකියාවකට අයදුම් කර ඊට තෝරා ගනු ලැබිණි. එම වෙළෙන්දා ඉතා හොඳ වැටුපක් ගෙවූ නිසා ගස් කපන්නා තමාට හැකි උපරිම ලෙස හොඳින් වැඩ කිරීමට සිතා ගත්තේය . වැඩට ගිය පළමු දවසේ ඔහුව දැව වගාවකට ගෙන ගිය වෙළෙන්දා ඔහුට පොරවක් දී කපා බිම හෙලිය යුතු ගස් ඇති ප්‍රදේශය පෙන්වීය. පළමු දවසේ දී ගස් කපන්නා ගස් 18 ක් කපා කොටන් කර දැව මඩුවට ගෙන ඒමට සමත් විය. දැව වෙළෙන්දා ඔහුට සුබ පතා දිරිමත් කළේය. ලොක්කාගේ වචනවලින් දිරිමත් වූ ගස් කපන්නා පසු දින තවත් මහන්සි වී වැඩ කිරීමට ඉටා ගත්තේය. නමුත් දෙවන දවසේ ඔහුට කපා බිම හෙළිය හැකි වුයේ ගස් 15 ක් පමණි. තුන්වන දවසේ ඊටත් වඩා මහන්සි වූ නමුත් කැපිය හැකි වූයේ ගස් 10 ක් පමණි. දවසින් දවස ඔහු කපන ගස් ප්‍රමාණය අඩු විය. ''මගේ ශක්තිය පිරිහෙනවා ඇති'' ගස් කපන්නා සිතුවේය. ඔහු තම සේවා යෝජකයා හමු වී තමා කපන ගස් ප්‍රමාණය දිනෙන් දින අඩුවන බවත් ඊට හේතුව තමාට වටහා ගත නොහැකි බවත් පවසා සමාව ඉල්ලීය. ''ඔබ අන්තිමටම පොරව මුවහත් කළේ කවදා ද?'' දැව වෙළෙන්දා විමසීය. '' ගස් කැපීමට මගේ මුළු කාලයම යෙදෙව්ව නිසා පොරව මුවහත් කිරීමට වෙලාවක් තිබ්බේ නෑ'' ගස් කපන්නා පිළිතුරු දුණි.



**මෙම කතාව පිලිබඳ විවිධ අදහස්**

☞ අපගේ කාර්යාලයේ ඉතා මහන්සි වී කැපවීමෙන් වැඩ කරන එහෙත් තම දක්ෂතා වර්ධනය කර ගැනීමට පුහුණු වැඩමුළුවලට සහභාගී වීමට මැළිකමක් දක්වන සේවිකාවකට මම මෙම කතාව උපමා ලෙස කීවෙමි. දක්ෂතා වර්ධනය කර ගැනීමට යම් කාලයක් වැය කළ පසුව තමා මීට පෙර පැයකින් කළ දෙය ඊට වඩා අඩුකාලයකින් කිරීමට සහ ඊටත් වඩා ගුණාත්මකව කළ හැකි බවට පෙන්වා දුන්නෙමි.

# 84. ඕනෑම තැනක ලියවෙන පෑන

එක් රටක් අභ්‍යවකාශයට මිනිසුන් යැවීම ආරම්භ කළ පසු ගුරුත්වාකර්ෂණය ශූන්‍ය තත්ත්වයක් යටතේ තීන්ත, පෑන් තුඩ දක්වා නොඑන බවත් එම නිසා පෑන් ලියවෙන්නේ නැති බවත් සොයා ගති. මීට පිළියම් ලෙස ඔවුහු ඩොලර් මිලියන 12ක් සහ දශකයක පමණ කාලයක් වැය කොට පෑනක් නිපදවීය. මෙම පෑන ශූන්‍ය ගුරුත්වාකර්ෂණ තත්ත්වයක දී, උඩ පැත්තට හරවා, වතුර යටදී හෝ අයිස් මිදෙන උෂ්ණත්වයටත් වඩා පහළ උෂ්ණත්ව මට්ටමක සිට සෙල්සියස් අංශක 300කටත් වැඩි අධික උෂ්ණත්වයක් ඇති තත්ත්වයක දී වුවද ලියවුණි. එමෙන්ම දියමන්ති ඇතුළු ඕනෑම පෘෂ්ඨයක මෙම පෑනෙන් ලිවිය හැකි විය. මෙම ප්‍රශ්නයටම මුහුණ දුන් දෙවන රටක් කළේ පෑන වෙනුවට පැන්සලක් භාවිත කිරීමය



# 85. දෛවයේ සරදම



තීරණාත්මක යුද්ධයකදී තමන්ගේ හමුදාවේ ප්‍රමාණයට වඩා අතිවිශාල හමුදාවකට පහරදී ජයගත හැකි බවට සේනාධිපතියෙක් තදින්ම විශ්වාස කළේය. එහෙත් ඔහුගේ සේනාවේ ආත්ම විශ්වාසය ඉතාම අඩු බවත් ඔවුන් මෙම සටන දිනිය හැකිද නැත්ද යන චකිතයෙන් පසුවන බවත් මෙම සේනාධිපතියාට වැටහුණි. යුද්ධ භූමියට යන අතරමග ඉතා ප්‍රකට ආගමික ස්ථානයක ඔහු හමුදාව නතර කළේය. ආගමික වතාවත්වල යෙදුණු සේනාධිපතියා කාසියක් ගෙන මෙසේ පැවසීය. “මෙම පූජනීය ස්ථානයේදී අද අපගේ දෛවය තීරණය වේවි. මම මෙම කාසිය උඩදැම්මහම “නෝනා” වැටුණොත් අපි දිනනවා” පොල්ල වැටුණොත් අපි පරදිනවා.” ඔහු කාසිය උඩ දැමුවේය. සේනාව මීයට පිම්බාක් මෙන් නිශ්ශබ්දව බලා සිටියෝය. නෝනා වැටුණි. සොල්දාදුවෝ ප්‍රීතියෙන් පිනාගොස් දැඩි ආත්ම විශ්වාසයකින් යුතුව පහර දී යුද්ධය ජයග්‍රහණය කළහ. යුද්ධයෙන් පසුව හමුදාවේ කපිතාන් කෙනෙක් සේනාධිපතියාට මෙසේ කීය. “කිසි කෙනෙකුට දෛවය වෙනස් කරන්න බෑ.” “ඔබ හරියටම හරි” සේනාධිපතියා පිළිතුරු දුන්නේ දෙපැත්තේම නෝනා ඇති කාසියක් ඔහුට පෙන්වමිනි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබ සෑම විටම ශුභවාදීව සිතන්නේ නම්, දැඩි ආත්ම විශ්වාසයක් ඇත්නම්, ඔබට ඕනෑම දෙයක් සාර්ථකව කළ හැක. ධනාත්මක චින්තනයේ බලය එයයි. (???)

☞ ජයග්‍රහණය ඇත්ත වශයෙන්ම සිදුවූයේ සම්භාවිතාව නිසා විය හැක.

☞ ඔබ කොතරම් ධනාත්මක චින්තකයෙක් වුවත් යුද්ධයක ජයග්‍රහණය, හමුදාවේ යුධ ශක්තිය, සතුරාගේ උපායශීලී බව ආදී සාධක රැසක් මත රඳා පවතී. සොල්දාදුවන්ගේ සහ නායකත්වයෙ ආත්ම විශ්වාසය සහ ධනාත්මක විශ්වාසය එවන් එක් සාධකයක් පමණි.

☞ මෙම කතාව අනුහස් නායකත්වයක් තම අනුගාමිකයන්ගේ චිත්තවේග තමන්ට වාසි ලෙස උපායශීලීව හරවා ගැනීමේ කට්ට උදාහරණයක් ගෙන හැර පායි.

☞ සේනාධිපතියා යුද්ධය දින්න බව ඇත්තකි. එහෙත් එම ඉලක්කය කරා යන ක්‍රියාවලියේදී ඔහු තම අනුගාමිකයන් රවට්ටන ලදී. එය දිගුකාලීනව එතරම් සාර්ථක උපක්‍රමයක් නොවන බව මගේ අදහසයි.

☞ මෙහිදී හමුදාවට ඇතිවන හැඟීම කෙබඳුද? තමන්ව රවට්ටනු ලැබූ බව දත් ඔවුන් දෙවන වරකදීත් හමුදාපතියාව විශ්වාස කරයිද? සෙන්පතියාගේ උපාය දැනගත් හමුදාව කෙසේ ප්‍රතිචාර දක්වන්නට ඇත්ද?

☞ කොපමණ නායකයින් සංඛ්‍යාවක් ඔවුනට අවශ්‍ය දෙය අප ලවා කරවා ගැනීමට අපව උපායශීලීව පොළඹවනවාද? රවට්ටනවාද?

☞ යම් අයකු තමාව දෛවයට බාර කරන විට බොහෝ විට, වෙනත් අයකු පිටුපස සිට එයින් වාසි ලබයි.

☞ ඇත්තටම දෛවය කියා දෙයක් ඇත්ද?

# 86. දෙවියන් කොහි ද?

ගුරුවරියක් පහේ පන්තියේ ළමුන්ට පාඩමක් කියාදීමට සිතා මෙසේ කීවාය.

**ගුරුවරිය** : මල්ලිකාට පේනවද එළියෙ තිබෙන ගස්

**මල්ලිකා** : ඔව්

**ගුරුවරිය** : එළියෙ තියන තණකොළ පේනවද?

**මල්ලිකා** : ඔව්

**ගුරුවරිය** : එළියට ගිහිල්ලා බලන්න අහස පේනවද කියල.

**මල්ලිකා** : (සුළු මොහොතකින් නැවත පන්ති කාමරයට පැමිණ) ඔව් මම අහස දැක්කා

**ගුරුවරිය** : ඔබ දෙවියන් වහන්සේව දැක්කා ද? නැත්නම් දිව්‍ය ලෝකේ දැක්කා ද?

**මල්ලිකා** : නෑ

**ගුරුවරිය** : ළමයි මේකෙන් අපට ඉගෙන ගන්න තිබෙන පාඩම තමයි. අපිට දෙවියන්වත් දිව්‍ය ලෝකයවත් පේන්නෙ නෑ. මොකද කියනවනම් එහෙම දේවල් නැති නිසා. ඔයාලට මුකුත් ප්‍රශ්න තියනවද? ඇම්ඩන් තමාටත් මල්ලිකාගෙන් ප්‍රශ්න කීපයක් ඇසිය යුතු බව පැවසීය. ගුරුවරිය ඊට අවසර දුණි.

**ඇම්ඩන්** : මල්ලිකාට එළියෙ තියෙන ගස් පේනවද?

**මල්ලිකා** : ඔව්

**ඇම්ඩන්** : එළියෙ තියෙන තණකොළ පේනවද?

**මල්ලිකා** : (ප්‍රශ්නවල උත්තර දී එපා වූ මල්ලිකා) ඔව්ව්ව්.....

**ඇම්ඩන්** : මල්ලිකා අහස දැක්කද?

**මල්ලිකා** : ඔව්ව්ව්.....

**ඇම්ඩන්** : මල්ලිකාට අපේ ගුරුතුමිය පේනවද?

**මල්ලිකා** : ඔව්

**ඇම්ඩන්** : ඇයගේ මොළය පේනවද

**මල්ලිකා** : නෑ

**ඇම්ඩන්** : දැන් ටිකකට ඉස්සෙල්ලා අපේ ගුරුතුමිය අපට කියලා දීපු පාඩම අනුව අපට ඉගෙන ගන්න තියෙන දේ තමයි අපිට එයාගේ මොළය පේන්නෙ නැති නිසා එයාට මොළයක් නෑ කියන එක.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ නොපෙනෙන සෑම දෙයක්ම නැතැයි කියා විශ්වාස කළ යුතු නැතිවාක් මෙන්ම පෙනෙන සෑම දේම (මිරිඟුව වැනි) ඇතැයි කියා විශ්වාස කළ යුතුද නොවේ.

☞ නැති දේවල් ඇතැයි කියා පවසා එය විශ්වාස කළයුතු යැයි ඒත්තු ගැන්වීමට මෙවන් තර්ක ගෙන හැර පෑම අඥානය. එවන් දේ විශ්වාස කළ විට සිදුවන්නේ අලුත් ඇඳුම් ඇඳගෙන හෙළුවෙන් ගිය අධිරාජ්‍යයාට සිදුවූ දේය.

☞ දෙවියන් කර්මය වැනි අධි මානුෂීය නැතිනම් මිනිසාගේ පංචේන්ද්‍රියන්ට හසු නොවන දේ පිළිබඳව මගේ ආකල්පය නම් මා ඒවා ඇතැයි කියාද නොකියමි. නැතැයි කියාද නොකියමි. ඒවා ඇතත් නැතත් මගේ ක්‍රියාකලාපයට එයින් වන බලපෑමක් නැත. දිව්‍ය ලෝකයක්/ අපායක්, කර්මය සහ අවසාන විනිශ්චය දිනයක්, සාතන්, යොහෝවා, අල්ලා සහ ඉබ්ලිස් ආදිය

ඇතත් නැතත් අන් අයට යහපතක් වන මට හරි යයි සිතෙන ක්‍රියාවල නියැලෙමි. මෙහිදී මට කුමාරතුංග මුණිදාස මහතාගේ කවක් සිහිපත් වේ.

ඇතොත් ඇත්ත ඇති සැටියට කියන　　　දන
අපාය නම් මරණින් මතු වඩින　　　තැන
සැපාරකැයි වැණුවත් සුර පුර　　　ගලන
එපා මට එපාමැයි එතැන　　　සැබැවින

☞ යම් අයකුට යම් අධිමානුෂික දෙයක් තිබේ යැයි සිතේ නම් එය විශ්වාස කිරීමටත් නැතැයි කියා සිතේ නම් එසේ විශ්වාස කිරීමටත් අයිතියක් ඇත.

☞ මෙයට අදාල කවියක් ලෝවැඩ සඟරාවේද ඇත.

ඇතත් නැතත් පරලොව සුදනෙනි　　　මහත
හළොත් යෙහෙකි පව් කම් නොතබාමැ　　　සිත
නැතොත් එපර ලොව ඉන්වන අවැඩ　　　නැත
ඇතොත් නැතැයි පව් කළහට වෙයි　　　විපත



# 87. දිවිගැලවූ සිතියම

දිනක් කඳු නගින්නෝ පිරිසක් හිමෙන් වැසුණු ඇල්ප්ස් කඳු වැටියේ ගවේෂණයක නිරත වූහ. ඔවුහු හිම කුණාටුවකට අසුව පාර වැරදී අතරමං වූහ. ඔවුන් සතුව තිබූ සිතියම, ගමන් මලු, ආහාර පාන ආදී සියලු දේම ඔවුන්ට අහිමි විය. යන්තමින් දිවි ගලවා ගත් කඳු නගින්නෝ පාර සොයා ගැනීමට උත්සහ ගෙන තමන් සිටින ස්ථානය නොදැන අධෛර්යයට පත්ව ළඟ තිබූ ගුහාවක සෙවණට ගොස් ශාරීරික වශයෙන්ද දුර්වලව ජීවිතය ගැන තිබූ ආශාව අත්හැර තැන් තැන්වල වැතිර සිටියහ. මේ අතර සීතල නිසා තම සාක්කුවට අත දැමූ එක් අයෙකුට කොළ කැබැල්ලක් හමුවිය. එය එළියට ගත් ඔහුට දක්නට ලැබුණේ එය සිතියමක් බවය. මෙම සිතියම ලැබීමෙන් නව පණක් ලද කණ්ඩායම සිතියම හා අවට වටපිටාව දෙස බලා තමා සිටින ස්ථානය අනුමාන කර, සිතියම අනුව ළඟම තිබෙන ජනාවාසයට යාමට ගමන් ඇරඹූහ. කෙසේ හෝ එදින රාත්‍රිය වන විට ඔවුන්ට විදුලි එළි දැක ගැනීමට ලැබුණු අතර අවසානයේදී ජනාවාසයකට ළඟාවිය. පසුදින තමන්ගේ දිවි ගැලවූ සිතියම බලන විට ඔවුන්ට පෙනී ගියේ එය ඇල්ප්ස් කඳුවැටියේ නොව පයිරෙනීස් කඳුවැටියේ සිතියමක් බවය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ සංජානනය (Perception) මත නව පණක් සහ ජවයක් එයි. සංජනනයේ බලය මෙම කතාවෙන් පෙන්වා දෙයි.

# 88. ඌරා ඌරෙක් ද?



ඌරෙක් වටකරගත් මස්කඩකාරයෙක්, චිත්‍ර ශිල්පියෙක්, වෘකයෙක්, ගොවියෙක්, පශු වෛද්‍යවරයෙක්, දාර්ශනිකයෙක්, මුස්ලිම්වරයෙක් හා කුඩා දරුවෙක් පිළිබඳ චිත්‍රයක් මවා ගන්න. "ඌරා කුමක් ද?" යනුවෙන් කව්රු හරි ප්‍රශ්න කළොත් ඒ ප්‍රශ්නය ඉතා සරල එකක් වගේ පෙනේවි. නමුත් මීට පිළිතුරු සැපයීම ඉතා දුෂ්කර වෙන්නේ ඌරා එකම විට කිහිප ආකාරයක් ගන්නා නිසයි. මුස්ලිම්වරයාට ඌරා අපිරිසිඳු සත්ත්වයෙක්. මස්කඩකාරයා හා ගොවියා දකින්නේ ඌරාගේ ආර්ථික වටිනාකම. පශු වෛද්‍යවරයා සලකා බලන්නේ ඌරාගේ සෞඛ්‍ය තත්ත්වය. ළමයාට මතකයට නැගෙන්නේ කුඩා ඌරු පැටව් තුන්දෙනාගේ කතාව. වෘකයාට ඌරා ආහාරයක්.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- එකිනෙකාගේ අතීත අත්දැකීම්, ආකල්ප, හැදුණු වැඩුණු පරිසරය ආදිය මත ඒ ඒ අය ඌරාව දකින්නේ විවිධ දෘෂ්ටිකෝණවලින්. මේ දෘෂ්ටිකෝණ අනුව ඌරාට දෙන සියුම් අර්ථයත්, වැදගත්කමත් වෙනස් වෙනවා. මේ සෑම දෘෂ්ටිකෝණයක්ම ඌරා ගැන තේරුම් ගැනීමේ නව මාර්ගයක් විවෘත කරනවා. උදාහරණයක් ලෙස ඔබ මස්කඩකාරයකුගේ දෘෂ්ටියෙන් ඌරා දෙස බලන්නකු නම් ඔබ පශු වෛද්‍යවරයකු හෝ ළමයකු බලන දෘෂ්ටියෙන් ඌරා දෙස බැලුවොත මෙතෙක් කල් ඔබ ඌරාට දුන් අර්ථකථනයට වඩා වෙනස් අර්ථකථනයක් දෙන්නත් ඌරා අලුත් විදිහකට තේරුම් ගන්නත් පුළුවන් වේවි.

- බලන දෘෂ්ටිකෝණය එක් නිශ්චිත දිශාවකට බලන්නාගේ අවධානය යොමු කරවීම නිසයි මෙහෙම වෙන්නෙ. ඒ වගේම එක් දෘෂ්ටිකෝණයකින් බලන විට විවෘත වූ මාර්ගය අනික් මාර්ග වහන්නත් හේතු වෙනවා. වෘකයාට ඌරාගේ ආර්ථික වටිනාකමක් නොපෙනෙනවා වගේම, මස්කඩකාරයාට ළමයා දකින සුන්දරත්වය හෝ මුස්ලිම්වරයාට පෙනෙන අපිරිසිඳු බව පේන්නේ නෑ.

- ඌරෙක් විතරක් නොවෙයි ලෝකෙ තියෙන අනිත් දේවල් තේරුම් ගන්න ගියහමත් මේ ධර්මතාව සත්‍යයක්. අපි සාමාන්‍යයෙන් දකින විදිහට වඩා වෙනස් දෘෂ්ටිකෝණ ගණනාවකින්ම බලා තේරුම් ගන්න පුළුවන් නම් වඩාත් සාර්ථකව තීරණ ගන්නත්, ක්‍රියා කරන්නත් අපට පුළුවන් වේවි. ඒ සඳහා උපයෝගී කරගන්න පුළුවන් එක් විදිහක් තමයි විවිධ සංකල්ප රූප යොදාගෙන එම වස්තුව දිහා බලන එක.

- එකම ප්‍රතිරූපය යොදාගන්න දෙදෙනෙකුට රූප දෙකක් මැවෙන්න පුළුවන්. උදාහරණයක් හැටියට යම් පිරිසක් වේයො රංචුවක් වගේ කියලා කීවොත්, ඒක් කෙනෙක් කියාවි එම පිරිස දැක්ක දැක්ක දේ කාබසිනියා කරලා දාන මහ විනාශකාරී සත්තු ජාතියක් කියලා. තවත් කෙනෙක් හිතාවි එම පිරිස බොහෝම කඩිසර, නිර්මාණශීලි, දක්ෂ ගොඩනගන්නන් පිරිසක් කියලා. අපි සාමාන්‍ය ජීවිතයෙ යොදා ගන්නා මේ වගේ ප්‍රතිරූප කීපයක් හිතලා බැලුවොත් මේ අදහස ඔබට නැවත පැහැදිලි වේවි. මේ පොත කියවලා කව්රු හරි කිව්වොත් මේක මහ අච්චාරුවක් කියලා. එකෙන් ගන්න පින්තූරේ මොකක්ද? සමහර විට හැම දේකින්ම කෑලි එකතු කරලා හැදුණු පොතක් කියන එක වෙන්නත් පුළුවන් නැතිනම් අපිළිවෙළ අවුල් සහගත දෙයක් කියන එක වෙන්නත් පුළුවන්.





# 89. අව්‍යාජ කටහඬ

එක් භික්ෂුවක් විසූ ආරාමයකට යාබද නිවසේ දෘෂ්‍යාබාධිත මනුෂ්‍යයෙක් ජීවත් වුණේය. භික්ෂුව ගැන ඔහු මෙසේ පැවසීය. "මම අන්ධ නිසා මට යම් අයකුගේ මුහුණේ තිබෙන හැඟීම් පෙනෙන්නේ නෑ. ඒ නිසා මම යමෙක් කියන දේ පිටිපස ඇති හැඟීම් කටහඬේ ශබ්දය අනුව වටහාගත යුතුයි. සාමාන්‍යයෙන් යම් අයකු තවකෙකුට ඔහුගේ/ඇයගේ සතුට සාර්ථකත්වය වෙනුවෙන් සුභ පතන විට මට සියුම් ඊර්ෂ්‍යාවක හැඟීමක් ඒ කටහඬ තුළ දැනෙනවා. අනෙකෙකුගේ දුකකදී ශෝක ප්‍රකාශ කරන විට, එම කටහඬ තුළ සියුම් සතුටක්, තෘප්තියක් දැනෙනවා. එහෙත් මෙම භික්ෂුවගේ කටහඬෙන් මට හැමවිටම අව්‍යාජ හැඟීම් දැණුනා. යම් විටක ඔහු සතුටක් ප්‍රකාශ කළා නම් මට ඒ කටහඬ තුළ සතුටක්ම මිස වෙන යමක් ඇසුණේ නෑ. යම් විටක ඔහු ශෝකය ප්‍රකාශ කළා නම් මට ඒ කටහඬ තුළ දුකක් මිස වෙන යමක් ඇසුණේම නෑ."



# 90. බලු එළුවා

එක් ගමරාළ කෙනෙක් එළුවකු විකිණීමට පොළට ගෙන ගියේ උඟුව කර තබා ගෙනය. හොර කණ්ඩායමකට එළුවා වංචාවෙන් ලබා ගැනීමට සිතුණි. එක් හෙරක් ගමරාළ එන පෙරමගට ගොස් ඔහුට සුභ පතා සතුටු සාමීචි කතා කොට බල්ලෙක් කර තබා ගෙන කොහෙද මේ යන්නේ යැයි ඇසුවාය. ගමරාළ කීවේ මේ බල්ලකු නොව එළුවකු බවයි. තව ටික දුරක් ඉදිරියට ගිය ගමරාළට දෙවන හෙර මුණ ගැසිණි. ඇය ඇසුවේද“ මොකද මේ බල්ලෙක් කර තියාගෙන?” කියාය. මේ බල්ලකු නොව එළුවකු බව ගමරාළ කී විට හෙර ඔහේට හොඳටම විශ්වාසදැයි කියා ප්‍රශ්නකාරී මුහුණක් මවා ගෙන යන්නට ගියාය. තව ටිකක් දුර යන විට තුන්වැනි හෙරද ගමරාළ ඉදිරියට විත් “මොකද මේ බල්ලෙක් කර තබාගෙන” යැයි ඇසූ විට ගමරාළ මේ එළුවකු බව කීවත් ඇය කීවේ එය කිසිසේත්ම විය නොහැකි බවත් උඟු බල්ලකු බවත්ය. තව ටික දුරක් ඉදිරියට යන විට හතරවන හොරා ඉදිරියට වුත් “මොකද මේ බල්ලකු කර තබා ගෙන” යැයි ඇසුවේය. මෙවර ගමරාළ පිළිතුරක් නොදුණි. ඔහු කල්පනා කළේ දකින දකින හැම දෙනාම කියනවා නම් මූ බල්ලකු විය යුතු බවත්, තමන්ගේ පෙනීමේ හෝ මනසේ යම් ප්‍රශ්නයක් තිබිය යුතු බවත්ය. බහුතරය කියන දෙය හරි බව සිතූ ඔහු එළුවා බිම තියා ආපසු ගෙදර ගියේය. හොර රංචුව එළුවා අත්පත් කර ගති.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ලොව කෝටි ගණනක ජනතාව විශ්වාස කළත් අසත්‍යයක් සත්‍යයක් නොවේ. එමෙන්ම සත්‍යයක් අසත්‍යයක් වන්නේ ද නැත, යනුවෙන් කොන්ෆියුෂියස් තුමා පැවසීය.
- තමන්ගේ ස්ථාවරය ගැන විශ්වාසය තබන්න. එය නොබියව ප්‍රකාශ කරන්න. තමන්ටම තමන් වැරදි බව හැඟුණොත් මිස සමාජය කී පළියට තමන්ගේ ස්ථාවරය ගැන අන්ධ ලෙස අවිශ්වාසයක් ඇති කර නොගන්න.
- මෙවන් සමාජයට එකඟවීම්වලින් වාසි ලබන්නේ හොර රංචුමය.
- තමන්ගේ තීරණවල සුක්කානම අනුන් අතට නොදී තමන් අතේම තබා ගන්න.

# 91. කැප්ටන් හරි

ගුවන් යානා ආකෘතියක් තුළට කණ්ඩායමක් නංවා ඇත්ත තත්ත්වයන් යටතේ පරීක්ෂණයක් කළේය. පයිලට්වරයකු යටතේ සාමාන්‍යයෙන් ගුවන් යානයක් මෙහෙයවන සම්පූර්ණ කාර්ය මණ්ඩලයම මෙම යානයට නැංවූ අතර ගුවන් ගමන ආරම්භ වුණි. තරමක දුරක් ගිය පසුව කුණාටු තත්ත්වයක් මවා පෙන්වූ අතර පයිලට්ට පමණක් උවමානවෙන්ම වැරදි ක්‍රියාමාර්ග අනුගමනය කිරීමටත්, වැරදි නියෝග දීමටත් උපදෙස් දී තිබුණි. ඔහු වැරදි නියෝග දුන් අතර කාර්ය මණ්ඩලය ද ඒවා ප්‍රශ්න කිරීමකින් තොරව පිළිගත්තේය. අවසානයේ දී මෙම වැරදි නියෝගවල ප්‍රතිඵලයක් ලෙස ගුවන් යානය අනතුරකට ලක් වන බව මවා පෙන්වීය. පරීක්ෂණය අවසානයේ දී කාර්ය මණ්ඩලයෙන් ප්‍රශ්න කළ විට ඔවුන් කියා සිටියේ කැප්ටන්ගේ තීරණ වැරදි බව තමන් දැන සිටි නමුත් ඔවුන්ට වෘත්තියේ දී උගන්වා තිබුණේ කිසිම දිනක කැප්ටන්ව ප්‍රශ්න නොකරන ලෙසත් නියෝග පිළිපදින ලෙසත් බවයි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අප කුඩා කළ සිටම පුරුදුව ඇත්තේ වඩා බල සහිත අයගේ නියෝග ප්‍රශ්න කිරීමකින් තොරව පිළගැනීමටය. කුඩා කළ දෙමව්පියන්ගේ නියෝග ද, පාසලේ දී ගුරුවන්රුගේ නියෝග ද, පන්සලේ පල්ලියේ දී පූජ්‍ය පක්ෂයේ උපදෙස්ද, රැකියාවේ දී බොස්ගේ නියෝගද , රිය පදවද්දී පොලීසියේ නියෝග ද , ප්‍රශ්න කිරීමකින් තොරව පිළිගැනීමට අප හුරු වී ඇත.
- මෙම ප්‍රශ්න කිරීමෙන් තොරව නියෝග පිළිපැදීම නිසා අපිත් වැරදි තීරණවලට ඉඩදී ගුවන් යානා කීයක් අනතුරට ලක්වන්නට ඉඩ හරිනවා ඇත් ද?

# 92. සටන් ක්‍රම පන්තිය

සටන් ක්‍රම උගන්වන ගුරුවරයකු සොයා ගිය නවකයකු "සටන් ක්‍රම ඉගෙන ගැනීමට මම මගේ කාලය සහ ශ්‍රමය කැප කරන්න තීරණය කළා. ඔබතුමා උගන්වන ශිල්පය හදාරා නිම කිරීමට මට කොච්චර කාලයක් ගත වෙයිද?" යනුවෙන් ප්‍රශ්න කළේය. "අවුරුදු 10 ක්" ගුරුවරයා පිළිතුරු දුණි. "නමුත් මට ඒක ඉක්මණින් ඉගෙන ගන්න ඕන. මම ඉතාමත් තදින් සහ උනන්දුවෙන් වැඩ කරන්නම්. දිනකට පැය 12 කට වඩා පුහුණුවීම්වල යෙදෙන්නම්. එහෙම කළොත් මට ශිල්පය ප්‍රගුණ කිරීමට කොපමණ කාලයක් යයිද?" නොඉවසිලිමත්වූ නවකයා විමසීය. ගුරුවරයා මොහොතක් කල්පනා කර "අවුරුදු 20 ක්" යැයි පිළිතුරු දුණි.



**මෙම කතාව පිළබඳ විවිධ අදහස්.**

☞ මෙම ශිෂ්‍යයා ඉතා නොඉවසිලිමත් නිසා ඔහුට මුලින්ම ඉවසීම පුහුණු කිරීම වැදගත් බව ගුරුවරයා පෙන්වා දෙයි.

☞ මෙම වර්ගයේ උනන්දුව සෝඩා බෝතලය කැඩුවා වැනිය. මුල් සුළු වේලාව තුළදී ඉතා වේගයෙන් පෙන දමා ටික වේලාවකදී ඇල් මැරීයයි.

☞ ශිල්පයක් ඉගෙනීම කලබලයෙන් කළ නොහැක. වරකට එක පියවර ගණනේ තැබිය යුතුය.

☞ ඉවසිලිමත්වන්න, නැතිනම් තාරාවාගෙන් එකවර රත්තරන් බිත්තර ගන්න ගියා වගේ වෙයි.

☞ කල් තියා සාදාගත් උපකල්පනවල, සිහිනවල එල්බ වැඩක් කළ නොහැක. වැඩේට බැස/වැඩේ ගැන නිසි අවබෝධයකින්, එය කළ යුතු ආකාරය, එය කෙතරම් අමාරුද, ඊට කෙතරම් කාලයක් ගතවේද යන්න තීරණය කළ යුතුය.

☞ කටින් නොව අතින් බතල කොළ හිටවන්න.

ශිෂ්‍යයා සටන් ක්‍රම හැදෑරිය යුත්තේ ඇයිදැයි, තම අරමුණ කුමක්දැයි වටහාගෙනද වැඩේට බැස්සේ?

☞ පරිණත නොවූ හැසිරීමේත් නොඉවසිල්ලේත් අවාසි තේරුම් ගැනීමටම ඔහුට අවුරුදු 40 ක් වත් ගත වේවි.

☞ ශිෂ්‍යයා ස්වාභාවිකව ආයුතු දෙයක් කෘතිමව වේගවත් කිරීමට හදයි.

☞ වැරදි ප්‍රශ්නයක් ඇසුවොත් ලැබෙනුයේ වැරදි පිළිතුරකි.

☞ මෙම කතාව කෙටි කාලීනව යමක් අත්පත් කරගැනීමට උත්සහ දරන අයට හොඳ පාඩමකි. ඔවුන්ට සෑම දෙයක්ම ඊයේ අවසන් කළ යුතුය.

☞ හයියෙන් ඇඩුවාට පුරවා කඳුළු ඇසස<br>
දෙයියන් යැද්දාට ඉටුවෙද වැඩ කොටස<br>
කොයි අන්දමින් හෝ කළ යුතු වැඩට බැසස<br>
කයියෙන් වැඩක් නැත කෙරුවාවෙන්ම මිසස - *රණසිංහ ප්‍රේමදාස*

# 93. අන්තිම පැනය

මහාචාර්යවරයෙක් විශ්වවිද්‍යාලයක සිසුන් පිරිසකට විභාගයක් පවත්වමින් සිටියේය. එම ප්‍රශ්න පත්‍රයේ අවසාන ප්‍රශ්නය වූයේ "මෙම ශාලාව පිරිසිඳු කරන තැනැත්තියගේ නම කුමක් ද?" යන්නයි. ශිෂ්‍යයෝ මෙය විහිළුවක්දැයි සැක සිතුවේය. ඔවුන් මෙම ශාලාව අතුගාන සේවිකාව අවුරුදු කීපයක සිට දැක තිබුණත් ඇයගේ නම දැන සිටියේ නැත. පන්තියේ සිටි දක්ෂතම සිසුවකු අත ඔසවා මහාචාර්යවරයාගෙන් ඇසුවේ "අන්තිම ප්‍රශ්නයටත් ලකුණු දෙනවාද?" යන්නයි. "ස්ථිර වශයෙන්ම" මහාචාර්යවරයා පිළිතුරු දුණි. "ඔබ වෘත්තීමය ජීවිතයට ඇතුළු වුණහම ඔබට නොයෙක් තරාතිරමේ පුද්ගලයන් මුණ ගැසෙනවා. ඒ හැම දෙනෙක්ම වෙනස් ආකාරවලින් වැදගත්. ඔවුන් ඔබගේ අවධානය ගෞරවය ලැබීමට තරම් සුදුසු අය. සමහර විට ඔබ දිනපතා කරන්නේ ඔවුන් සමග හිනාවී සුභ උදෑසනක් කියා යෑම වෙන්න පුළුවන්. සිසුන්ට මෙම පාඩම කිසිදිනක අමතක නොවන්නක් විය. විශ්වවිද්‍යාලය පිරිසිඳු කරන්නියගේ නම කරුණාවතී විය.



# 94. අති විශිෂ්ටයි සර්

හමුදාවක මෙහෙයුම් ශාඛාවේ ප්‍රතිව්‍යුහගතකරණයක් ඇති කිරීමට බාහිර උපදේශකවරයකු ගෙනාවේය. මෙම කාර්ය මණ්ඩලයේ කර්නල්වරයකුගේ පටන් සාමාන්‍ය සෙබළුන් දක්වා විවිධ නිලවල අය සිටියෝය. වැඩමුළුව ආරම්භයේ දී උපදේශකවරයා පැවසුයේ ශාඛාව අලුත්ම ආයතනයක් ලෙස සිතා කලින් ඇති කරගන්නා ලද අදහස්වලින් තොරව එය නැවත සකස් කරන ආකාරය ගැන සිතන ලෙසය. මේජර්වරයකු කීවේ තමා කර්නල්ගේ උපදෙස් පිට මෙම ශාඛාව ප්‍රතිව්‍යුහගත කරන ආකාරය ගැන වාර්තාවක් සකසා ඇති බවත් මෙම වැඩමුළුවෙන් අපේක්ෂිත අරමුණ එම වාර්තාවෙන් ඉටුවන බවත්ය. තවදුරටත් ඔහු කියා සිටියේ මෙම වැඩුමුළුව තමාගේ යෝජනාව සාකච්ඡා කිරීමට පමණක් සීමා විය යුතු බවත් ශාඛාවේ ව්‍යුහය සම්පූර්ණයෙන්ම නැවත සැකසීමක් ගැන කාලය වැය නොකළ යුතු බවත්ය. මෙසේ අදහස් පැවසූ මේජර්වරයා සාමාන්‍ය සෙබළුන්ගෙන් හා සාජන්ට්වරුන්ගෙන් ඔවුන් ඒ ගැන සිතන්නේ කුමක්දැයි විමසීය. ඔවුහු මේජර් සමග එකඟ වූහ. උපදේශකවරයා ඔවුන්ගේ අදහස්වලට ගරු කරන බව කියා මේජර්ගේ වාර්තාව සලකා බැලීමෙන් වැළකී සෑම දෙනාටම ආයතනයේ ඉලක්ක, ව්‍යුහය ආදිය අලුතින් නිර්වචනය කරන ලෙස දැන්වීය. ඉතා සෙමින් මහන්සි වී වැඩකර, විවාද කර, ඉවසිල්ලෙන් ප්‍රතිඵලයක් ලබා ගැනීමට උපදේශකවරයා සමත් විය. ඔවුන් තමන්ගේ කාර්යභාරයන් දෙකක් අත්හැර දමන ලද්දේ එම කාර්යයන් හමුදාවේ වෙනත් අංශවලට වඩා හොඳින් කළ හැකි බව වැටහීමෙනි. මේ අනුව කර්නල් තනතුර සහ සාමාන්‍ය සෙබළ තනතුරු දෙකක් අඩු කළ හැකි විය. උපදේශකවරයා සහ වැඩමුළු සහභාගිකයන් තමන් හොඳ නිගමනයකට පැමිණි බවට සතුටු වෙමින් සිටි අතරේ බ්‍රිගේඩියර් ජනරාල්වරයා කාමරයට අවුත් තත්ත්වය කෙසේදැයි විමසීය. බ්‍රිගේඩියර් ජනරාල් කීවේ යෝජනා කළ වෙනස්කම් යෝග්‍ය නොවන බවයි. හේතු දක්වමින් ඔහු කීවේ ඔහුට මෙම ශාඛාව තුළ කර්නල්වරයකු සිටීම අවශ්‍ය බවත් කර්නල්වරයකු සිටීමට නම් සමූහය විසින් අත්හැර දැමූ කාර්යභාරයන් ශාඛාව තුළ තවදුරටත් පැවතිය යුතු බවත්ය. බ්‍රිගේඩියර් සමූහයෙන් ඒ පිළිබඳව අදහස් පවසන ලෙස ඉල්ලූ විට සියලු දෙනාම බ්‍රිගේඩියර් සමග එකඟ වූහ. ඊළඟ විනාඩි 10 තුළ වැඩමුළුව අවසන් වූ අතර සම්පූර්ණ යෝජනා අත්හැර දමා මුලින්ම කතා කළ මේජර්වරයාගේ වාර්තාවේ වූ යෝජනා ඒ ආකාරයෙන්ම අනුමත විය. ඔවුන් එළියට ඇවිදගෙන යන අතර මේජර්, උපදේශකවරයාට කීවේ "මම කීවනේ වැඩමුළුව නිකං කාලය නාස්ති කිරීමක් විතරයි කියලා",කියාය.



# 95. අකීකරු හරකා සහ මීයා ලවා හොරි කැස්සවූ කොටියා

මගේ ගුරුවරයකු වූ ගොඩ්වින් මෙන්ඩිස් මහතා 1990 දශකයේ පාසල් පාඨ ග්‍රන්ථවල තිබෙන කපුටා සහ කේජු කෑල්ල, මීයකු ඇඟේ හැපුණු විට හොරි කසපිය ගිනි පිඹපිය කියු කොටි රාළගේ කතාව ආදී කතාවලින් ළමුන්ට ලැබෙන වැරදි පාඩම් ගැන පවසා ඔහු පාසල් ගිය කාලයේ පොතක තිබූ මෙම කතාව කියා දුන්නේ කතාවලින් ලැබෙන වැරදි පාඩම් සහ හරි පාඩම් අතර වෙනස උකහා දැක්වීමටය.

දවසක් කරත්තකරුවකු කැලෑ බද පාරක් දිගේ ගමන් කරමින් සිටියදී කරත්තය ඇදගෙන ගිය හරකා හදිසියේම නතර විය. කරත්තකරු හරකාට කරුණාවෙන් කතා කොට ඉදිරියට යන ලෙස කීවත් ඉන් ඵලක් නොවීය. ඔහු කෙවිටක් ගෙන හරකාට තදින් පහර දුන් නමුත් ඉන්ද ඵලක් නොවිණ. විඩාවට පත් කරත්තකරු ක්‍රියා කිරීම මොහොතකට නවත්වා හිතා බැලුවේය. මොකක්ද මේ හරකා නවතින්න හේතුව? වට පිට බැලූ ඔහුට පෙනී ගියේ අසල ගසකින් වැටුණු කොස් කට්ටකි. හරකාට කොස් කට්ට කන්නට දුන් පසුව ඌ නැවතත් ගමන ආරම්භ කළේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- වැරදීමකින් ඇඟේ හුපුණු මීයකු ලවා හොරිකැස්සවූ බලවත් කොටිරාළ කෙනෙකුගේ කතාව කියවා එය රස විඳ හිනාවෙන ළමුන් වැඩිහිටියන් වූ පසු කෙබඳු ක්‍රියාවල නිරත වෙයිද?
- මොළය භාවිත නොකර අතපය පමණක් භාවිත කිරීම ප්‍රයෝජනවත් නොවේ. සෑම දෙයකටම, සෑම ඵලයකටම හේතුවක් ඇත. මූල හේතු සොයා බලා ඊට පිළියම් යෙදීමෙන් ප්‍රශ්නය විසඳේ
- කරත්තරුගේ අවශ්‍යතාව (ගමන යාම) ඉටුකර ගැනීමට නම් වඩාත් ඵලදායීම ක්‍රමය වනුයේ හරකාගේද අවශ්‍යතාව (කොස් කටුව කෑම) ඉටු කරදීමයි. ආයතනයක වුව සේවක අවශ්‍යතා අරමුණු ඉටු කිරීමට ආයතනය කැපවන විට සේවකයාද ආයතනයේ අවශ්‍යතා/අරමුණු ඉටු කිරීමට කැපවේ. අන්‍යෝන්‍ය අරමුණු සෑම විටම එකිනෙකට පරස්පරවිරෝධී නොවේ. ඒවා එකවිටම ඉටු කරගත හැක.
- පනින්න පෙර සිතා බලන්න.

# 96. පැණිකජු අයිස්ක්‍රීම්ද? නිකම් අයිස්ක්‍රීම්ද?

අවුරුදු 10ක පමණ කුඩා දරුවෙක් ආපන ශාලාවකට ඇතුලු වී පුටුවක වාඩිවිය. වේටර්වරයෙක් වතුර වීදුරුවක් ඔහු ඉදිරියේ තබා "මොනවද ඕන?" යැයි විමසීය. "පැණිකජු අයිස්ක්‍රීම් එකක් කීයද?" ළමයා ඇසීය. "රුපියල් 18යි" වේටර්වරයා කීය. ළමයා සාක්කුවෙන් සිල්ලර කාසි ටිකක් ගෙන එය ගණන් කිරීමට පටන් ගත්තේය. "එතකොට නිකම් අයිස්ක්‍රීම් එකක් කීයද?" ළමයා ඇසීය. මේ වන විට තවත් පාරිභෝගිකයින් කීප දෙනෙකුම ආසනයක් බලාපොරොත්තුවෙන් හිටගෙන හිටි නිසා වේටර්වරයා තරමක් කේන්තියෙන් සහ නොඉවසිල්ලෙන් පිළිතුරු දුන්නේ. "රුපියල් 15යි" යනුවෙනි. ළමයා නැවත සල්ලි ගණන් කර "එහෙනම් මට නිකම් අයිස්ක්‍රීම් එකක් දෙන්න" යැයි කීය. ළමයා වේටර්වරයා ගෙන ආ අයිස්ක්‍රීම් එක කා මුදල් මේසය උඩ තබා පිටව ගියේය. එහි රුපියල් 18 ක් විය. මෙය දුටු වේටර්වරයාගේ ඇස්වලට කඳුළු ආවේ ළමයා තමාට ටිප් එකක් දීමට මුදල් මදිවූ නිසා පැණිකජු වෙනුවට නිකම් අයිස්ක්‍රීම් එකක් කා රුපියල් තුනක් ටිප් එකට තබා ගිය බව සිහිවීමෙනි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙය අන්‍යකේන්ද්‍රීයතාවයට (other centeredness) උදාහරණයකි.

# 97. මහාචාර්යවරයාගේ ගුරුතුමා

එක් කලෙක ලොව වටා සංචාරය කරමින් දේශනා පවත්වන ඉතා උගත් ප්‍රකට මහාචාර්යවරයෙක් සිටියේය. මොහු යන සෑම තැනම මහලු සේවකයෙක්ද රැගෙන ගියේය. එක් ප්‍රදේශයකදී මෙම මහාචාර්යවරයා නැවතී සිටි හෝටලයට ඔහු සමග සාකච්ඡාවකට සහභාගීවීමට එම ප්‍රදේශයේ පූජ්‍ය පක්ෂය ඇතුළු උගත්තු කිහිප දෙනෙක් පැමිණියෝය. ඔවුන් දොරේ සීනුව නාද කළ විට දොර විවර කළ මහලු සේවකයා "ඇයි ආවේ කාව හම්බුවෙන්නද?" යනුවෙන් රළු සහ අවිනීත ලෙස විමසීය. මහාචාර්යතුමා හමුවීමට ආ බව කී විට ඔහු ඔවුන් ශාලාවට රැගෙන ගොස් වාඩිවීමටවත් නොකියා හැරී ගියේය. මහාචාර්යතුමා පැමිණ අමුත්තන්ට අසුන් පිළිගන්වා සාකච්ඡාව පටන් ගත් අතර අර මහලු පුද්ගලයා හදිසියේ කතාව මැදදී බාධා කරමින් පැමිණ තේ ඇල්ලුවේද කිසිදු ආචාරශීලීකමක් නැතිවය. මින් පුදුමයට පත්වූ අමුත්තෝ මහාචාර්යතුමාට කීවේ "ඔබතුමා වගේ උගතෙක් මේ වගේ අවිනීත ගෘහ සේවකයෙක්ව තියාගෙන ඉන්නේ කොහොමද ? අපිට නම් මේ වගේ මිනිහෙක් එක්ක විනාඩි පහක්වත් ඉන්න බෑ. රස්සාවෙන් අස්කරලා දානවා"යැයි කියාය. මහාචාර්යවරයා පිළිතුරු ලෙස කිවේ "හා හා එහෙම කියන්න එපා ඒ මගේ ගුරුවරයා " යන්නයි. මින් වික්ෂිප්තවූ පිරිස මෙවන් නොසන්ඩාලයකු මහාචාර්යතුමාගේ ගුරුවරයා වන්නේ කෙසේදැයි සිතූහ. ටිකවේලාවකින් "මහාචාර්යතුමා විහිළු කරනවාද ? මොනවද ඔබතුමා මේ මනුස්සයාගෙන් ඉගෙන ගත්තේ "යැයි එක් අයෙක් විමසීය. "ඉවසීම" මහාචාර්යතුමා පිළිතුරු දුණි. දැන් ඔබතුමන්ලා කීවා ඔබ තුමන්ලාට නම් ඒ මනුස්සයා එක්ක විනාඩි පහක්වත් ඉන්න බෑ කියලා. නමුත් මම ඒ මනුස්සයා එක්ක හැම තැනම යන්න තරම් ඉවසීම ප්‍රගුණ කරලා තියෙනවා. මට ඒ ඉවසීම කියාදුන් ගුරුවරයා තමයි ඔහු".




**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- බුද්ධිමතා මෝඩයාගෙන් බොහෝ දේ ඉගෙන ගන්නාමුත් මෝඩයා බුද්ධිමතාගෙන් කිසිම දෙයක් ඉගෙන නොගනී.
- ඕනෑම අඩු ප්‍රමිතියක දේශනයකින් වුවද අපට යමක් ඉගෙන ගත හැක. දේශනයේ හරවත් එක් වචනයක්වත් නැති වුවද දේශනයේ වැරදි තුළින් එම වැරදි නොකිරීමට පාඩම් රැසක් උගත හැක.

# 98. පැත්තක් කළු බැටළුවා

එක් දිනක් මිතුරෝ තිදෙනෙක් කඳුකර ප්‍රදේශයක දුම්රියකින් ගමන් කරමින් සිටියහ. පිට්ටනියක් පසුකරන විට බැටළුවකු දුටු පළමු මිතුරා "අර බලන්න මේ පළාතේ ඉන්න බැටළුවන් කළුයි." කියා කීවේය. දෙවැන්නා ඊට එකඟ නොවීය. ඇය කීවේ "අවම වශයෙන් මේ පළාතෙ ඉන්න එක් බැටළුවකුවත් කළුයි" කියාය. තුන්වැන්නා ඊටද එකඟ නොවීය. ඔහු කීවේ "අවම වශයෙන් මේ පළාතේ ඉන්න එක් බැටළුවකුගේ එක් පැත්තක් විතරක්වත් කළුයි" යනුවෙනි.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ යමක් දුටු විට ඊට තමන්ගේ උපකල්පන රාශියක් එකතු කර, හිස් තැන් පුරවා, සංජානනය කිරීම සහ නිගමනවලට ඒම මිනිස් ස්වභාවයයි.

# 99. සැබෑ පරිත්‍යාගය

ඉතා කලාතුරකින් වැළඳෙන රෝගයක් වැළඳුණු අවුරුදු 7ක පමණ කුඩා දැරියක රෝහලට ඇතුළත් කෙරුණි. ඇයට ජීවත් වීමට තිබූ එකම විකල්පය වූයේ මීට පෙර එම රෝගය වැළඳී ඉතා පුදුම සහගත ලෙස සුවවීම හේතුවෙන් රුධිරයෙහි ප්‍රතිජීවක වර්ධනය වී තිබූ ඇයගේ අවුරුදු 5ක කුඩා මල්ලීගෙන් ලේ ලබා දීම පමණි. වෛද්‍යවරයා දැරියගේ තත්ත්වය ගැන ඇගේ මල්ලිට විස්තර කර ඔහුගේ ලේ ඇයට ලබාදීමට කැමති දැයි විමසීය. ඔහු ඉතා සුළු මොහොතකට පැකිලී ගැඹුරු හුස්මක් ගෙන "ඔව් ඒකෙන් අක්කාගේ ජීවිතේ බේරෙනවනම් මම ලේ දෙන්නම්" යැයි පැවසීය. මල්ලිගේ ලේ අක්කාගේ ඇඟට ගමන් කරන විට සුදුමැලිව තිබූ ඇගේ කම්මුල් නැවතත් රෝස පැහැයට හැරුණි. මෙය දුටු මල්ලී සතුටින් සිනහවිය. ටික වේලාවකින් මල්ලීගේ මුහුණ සුදුමැලි විය. ඔහුගේ සිනහව වියැකී ගියේය. ඔහු දොස්තර දෙස බලා වෙවුලන කටහඬින් මෙසේ ඇසුවේය. "මාව දැන්මම මැරෙයිද?" දරුවා කුඩාකමට වෛද්‍යවරයා කී දේ වැරදියට වටහා ගෙන තිබුණි. ඔහු සිතුවේ තම අක්කා බේරා ගැනීමට තමාගේ ශරීරයේ ඇති මුළු ලේ ප්‍රමාණයම දිය යුතු බවය. ඒත් තම ජීවිතය පරිත්‍යාග කර හෝ තම අක්කා බේරා ගැනීමට ඔහු කැමැත්තෙන් ඉදිරිපත් වී තිබුණි.



# 100. නූතන ඉබ්බයි හාවයි

දිනක් ඉබ්බාත් හාවාත් වඩාත්ම වේගවත් කව්දැයි තීරණය කිරීමට සිතා තරග වැදුණි. හාවා අධි වේගයෙන් දිවගොස් ඉබ්බා පේන තෙක් මානයකවත් නැති බව දැන ගසක් යට නිදා ගත්තේය. ගාට ගාට ආ ඉබ්බා තද නින්දට වැටී සිටි හාවා පරදවා තරගය ජය ගත්තේය.

මින් අධෛර්යවත් නොවූ හාවා තමා පැරදුණේ ඇයිදැයි විශ්ලේෂණය කර ස්වයං අධීක්ෂණයක් කළේය.තමා

- ☞ සතුරා අවතක්සේරු කර අධි මානයකින් ක්‍රියා කළ බවත්,
- ☞ වීර්යය යොදනවිට මුල, මැද, අග යන තුන් තැන්හිම  වීර්යය යෙදිය යුතු බවත්,
- ☞ අරමුණට ළඟා වීමට පෙර විවේක ගත හොත් තරගකරුවාට අනවශ්‍ය අවස්ථාවක ලබා දෙන බවත්,
- ☞ තම නොසැලකිල්ල හා අලසකම නිසා තමා පරාජය වූ බවත්, හාවා තීරණය කළේය.

නැවත වරක් ඉබ්බාට තරගයකට අභියෝග කළ, පෙර වැරදි හදාගත්, පරාජයෙන් පාඩම් ඉගෙන ගත්, පරාජය සාධනීය පරාජයක් බවට පත් කර ගත්, හාවා මෙවර තරගය සැතපුම් ගණනකින් ජයගත්තේය. එක දිගට අඛණ්ඩව වේගයෙන් වැඩ කළහොත් ජයගත හැකි බව හාවාට මෙවර වැටහුණි. මහන්සි වී නොව උපායශිලීව වැඩ කරන්න "work smarter, not harder" යන මතය අනුව නොව උපක්‍රමශිලීව සහ වෙහෙසවී "work smarter and harder" වැඩ කළහොත් ජයගත හැකි පරාසය වැඩි බව හාවාට වැටහුණි.

මෙවර ඉබ්බා වැඩේ අතහැරියේ නැත. තරගය දැනට සංවිධානය කර ඇති ආකාරයට තමාට හාවාව පැරදීමට නොහැකි බව දැන ගත් ඉබ්බා වෙනත් මාර්ගයක තරගයට එන ලෙස හාවාට අභියෝග කළේය. ඉබ්බාගේ සපත්තුවේ සිට ඉබ්බා සිතන විදිහ පෙර නොසිතූ හාවා අභියෝග බාර ගත්තේය. ඉතා දැඩි කැපවීමෙන් දිව ගිය හාවාට මාර්ගයේ පළල ගඟක් හමුවූ විට කර කියා ගත හැකි දෙයක් නොවීය. හිමින් හිමින් ආ ඉබ්බා ගඟෙන් එගොඩට පීනා තරගය ජය ගත්තේය.  තමාගේ මූලික දක්ෂතාව හඳුනාගෙන ඒ අනුව තරග භූමිය සැකසීමෙන් තමා ජය ගත් බව ඉබ්බාට වැටහුණි.

මෙවර ඉබ්බාත් හාවාත් එකිනෙකාට විරුද්ධවාදීකම් කිරීම නතර කර එක් කණ්ඩායමක් ලෙස වැඩ කිරීමට තීරණය කර ගති. පසුගිය වර පැවැත්වූ තරගයේ ඉබ්බාට ජය ගැනීමට ගතවූ කාලය බලා එම තරගය කණ්ඩායමක් ලෙස පැවැත්වීමට මෙවර දෙදෙනාම තීරණය කළෝය. ගොඩබිමදී හාවාගේ මූලික දක්ෂතාව ප්‍රයෝජනයට ගනිමින් හාවා ඉබ්බා පිට උඩ තබා ගෙන දිවූ අතර, වතුරේදී ඉබ්බාගේ මූලික දක්ෂතාව ප්‍රයෝජනයට ගනිමින් ඉබ්බා හාවා පිට උඩ තබා ගෙන පීනුවේය. මෙලෙස පසුගිය තරගයේ කාලයෙන් දහයෙන් එකක් වැනි අඩු කාලයකින් තරගය නිම කිරීමට දෙදෙනාටම හැකිවිය. මෙවර කණ්ඩායමක් ලෙස ක්‍රියා කිරීම නිසා ඉබ්බාටත් හාවාටත් තරග කිරීමේදී දැනෙන ආතතිය වෙනුවට වැඩි තෘප්තියක් දැනුණි.

ඔවුන් දෙදෙනා මින් ඉගෙන ගත් පාඩම් වූයේ,

- ☞ පුද්ගලයකු වශයෙන් කෙතරම් දක්ෂතා තිබුණත් කණ්ඩායමක් වශයෙන් වැඩ කිරීමේදී
- ☞ විවිධ දක්ෂතා පිරි අය එකට වැඩ කිරීම තුළින් වඩා ඵලදායී ලෙස වැඩ කළ හැකි බවත්

☞ අවස්ථානුකූලව සුදුසු කෙනාට ඒ ඒ අවස්ථාවේ නායකත්වය දීමෙන් වැඩි ප්‍රතිඵල අත්වන බවත්ය. එමෙන්ම මෙම මුළු තරගාවලියේම ඉබ්බාත් හාවාත්, පරාජයෙන් අධෛර්යවත් නොවී තත්ත්වය විශ්ලේෂණය කර නිවැරදි විකල්ප සොයා ගැනීමටත්,තම සැලසුම් උපාය මාර්ගිකව වෙනස් කිරීමටත්, සුදුසු වේලාවෙ වැඩි ආයාසයක් යොදා වැඩ කිරීමටත්, සුදුසු වේලාවට උපාය මාර්ගිකව කටයුතු කිරීමටත්, තමාගේ විරුද්ධවාදියාගේ කටයුතු කෙරෙහි අවධානය යොමු කිරීම වෙනුවට තමා කරන කටයුත්ත ගැන අවධානය යොමු කිරීමෙන් වඩාත් ප්‍රතිඵල දෙන බවටත්, ඉගෙන ගති.

තව ටික කාලයක් ගත වෙද්දී නැවතත් ඉබ්බා හා හාවා විරසක වුණි.මෙවර හාවා යෝජනා කළ පාරක නැවත තරගයකට එන ලෙසට හාවා ඉබ්බාට අභියෝග කළේ ලබන සැරේ දෙමුකෝ බැටේ කියාය. ඔන්න ඉතින් නියමිත දවස ඇවිල්ලා රේස් එක පටන් ගත්තයි කියමුකෝ. හාවා තහනම් උත්තේජක ගහපු මයිකල් ජොන්සන් වගේ හැටට හැටේ දුවන්න පටන් ගත්තා. මෙදා සැරේ නම් මාර සවුත්තුව කියලා තේරුණු ඉබ්බා වට පිට බලන කොට දැක්කා කවුදෝ ඈතින් බයිසිකලයක් පැදන් එනවා . ඉබ්බාට ටොප් අයිඩියා එකක් පහළ වුණා, උං පාර මැද්දට වෙලා කූරියා ගැහුවා වගේ හිටියා. බයිසිකලය පැදන් ආපු මනුස්සයත් ඉබ්බා දැකලා නවත්තලා මූ නම් අද දවල් කෑමට හොද්දකට නියමයි කියලා ලැගේජ් එකේ තියලා බැන්දා. ඉබි මසට කෙළ හලපු මේ මිනිහා කටුකුරුන්දේ මෝටර් රේස් එකක් වගේ හතිදාගෙන බයිසිකලය පදින්න පටන් ගත්තා. හාවා පහුවෙනවාත් එක්කම කට්ටෙන් ඔලුව එළියට දාපු ඉබ්බා කෑගහනවා "ඒයි හාවෝ , හොද්දට ගියත් අපි සෙකන්ඩ් වෙන්නෙ නෑ හලෝ" කියලා.





# 101. කතරක තනිවී



පුද්ගලයෝ දෙදෙනෙක් කාන්තාරයක අතරමං වූහ. ඔවුහ පිපාසයෙන් සහ බඩගින්නෙන් මිය යාමට ආසන්නව සිටින විටවිශාල තාප්පයක් ළඟට පැමිණියහ. තාප්පයෙන් එහා පැත්තේ දිය ඇල්ලක ශබ්දයත්, කුරුල්ලන් කෑ ගසන ශබ්දයත් ඇසුණි. එමෙන්ම තාප්පය මුදුනෙන් ගස් අතු සහ රසවත් පළතුරු පෙණුනි. එක් අයෙක් වහාම තාප්පයට නැග අනිත් පැත්තට පැන්නේය. අනිකා නැවතත් කාන්තාරය දෙසට පය නැගුවේ එහි අතරමංව සිටින අනික් අයට මග පෙන්වීමටය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- වඩාත් තෘප්තිකර වන්නේ තමන්ගේ පාරාදීසය සොයා ගැනීමද?. නැතිනම් අන් අයට පාරාදීසය පෙන්නා ඉන් ලබන මානසික සතුට විඳීමද? වඩා හොඳ කායික සැපතද?, මානසික සැපතද? ජී.බී. සේනානායකයන්ගේ නුවර හැරයාම කෙටි කතාව සිහිපත් වේ.
- පාරාදීසය යැයි සිතුවත් තාප්පයෙන් එහා පැත්තේ ඇත්තටම තිබෙන්නේ මොනවාදැයි නොදැන අන් අයට පාර කීමට යාම භයානකය. එහා පැත්තේ මිනිසුන් කන භයානක සතෙක් සිටියා නම් පාර කියන්නා අන් අයද අමාරුවේ දමයි. එම නිසා තමන් එය අත්දැක ඉන්පසුව අන් අයට කිව යුතුය. පාරාදීසයට වඩාත් හොඳ අලෙවි නියෝජිතයකු වන්නේ පාරාදීසය දැකපු කෙනාද නැත්නම් එය අත්විඳි කෙනාද?
- මඟ පෙන්වන්නට ගිය කෙනා අන් අය සතු තමා විසින්ම පාරාදීසය සොයා ගැනීමේ හැකියාව නොසලකා හැරියා ද? අනිත් අයට හැන්දෙන් පොවන්න හදන්නේ නැතිව ඔවුන්ට තමන්ගේම දෙපයින් සිට ගැනීමට ඉඩදෙන්න
- දෙවැන්නා අන් අයට මඟ පෙන්වීමට යන්නේ තම ජීවිතය කැපකර හරි අන් අයට පිහිට වීමටද? නැතහොත් ඉන් ලැබෙන මානසික තෘප්තිය නිසාද? එසේත් නැත්නම් තමන් අන් අය විසින් අගය කරනු ලැබීමට කැමැත්තෙන්ද?
- පාරාදීසය සොයාගත් සියලු දෙනා එහිම රැඳුනොත් එය යථාර්ථයක් බව අන් අයට පැවසීමට ඉතිරිවන්නේ කවුද?
- පළමුවැන්නාගේ පාරාදීසය කාම සම්පත්තියයි දෙවැන්නාගේ පාරාදීසය අන් අයට සේවය කිරීමෙන් ලබන මානසික සතුටයි.
- පාරාදීසය අත්විඳින ගමන්ම අන් අයටත් උපකාර කළ නොහැකිද? අරමුණු දෙක අන්‍යොන්‍යව පරස්පර ඒවා නොවන බව පෙනේ.
- මමද?, අපිද?, සාමූහිකත්වයද?,පුද්ගලිකත්වයද?
- කාන්තාරය ජීවිතය ලෙසත්, පාරාදීසය නිර්වාණය ලෙසත් නම් කළොත් පසේ බුදුවරයෙක් තාප්පය ළඟට පැමිණ තාප්පයෙන් පනී. සම්මා සම්බුදුවරයෙක් තාප්පය දැක දැකත් අනිකුත් සත්ත්වයන් සසරින් මුදවා ගැනීමට අනන්ත උප්පත්ති මරණවලට මුහුණ දෙමින් නැවත සසරේ ගමන් ගනී.
- මහායාන ධර්මය හා ථේරවාදය අතර වෙනසත් මෙබඳුය.
- මෙය ක්‍රිස්තියානි ආගමේ එවැන්ජලිසම්වලට සමානය .ඒ අනුව එක් අයෙක් පාරාදීසය අත් විඳීමටත් තවකෙක් ඊට මඟ පෙන්වීමටත් යෙදේ.
- මේ දෙකෙන් මොන මාර්ගය තෝරා ගත්තත් එය මනා සිහියෙන් යුතුව තෝරා ගත යුතුය. දෙදෙනාම තම තමන්ගේ මාර්ග සොයාගති.
- තාප්පයෙන් පැන්න කෙනා තම අරමුණට ළඟා විය. එහෙත් තම අරමුණ දැක එය සම්පූර්ණ නොකර අන් අයට උදව් වීමට ගිය කෙනා තම අරමුණට ළඟා නොවීය. එක් අරමුණක් අවසන් කර අනික් අරමුණ පටන් ගන්න

# 102. රූඩි රට්ගර්ට එරෙහිව ජෝ මොන්ටානා

1993 "රූඩි" නම් වූ සිනමා නිර්මාණයේ කතා නායකයා වූ නෝට්ර ඩැම් (Notre Dame) ක්‍රීඩාංගනයේ අවුරුදු 23ක් වයසැති තණබිම සකසන්නා වූ රූඩි රට්ගර්ගේ (Ruettiger) සත්‍ය ජීවිත කතාවයි මේ.

ඔහුට ඇමරිකානු රග්බි ක්‍රීඩාවට අවශ්‍ය භෞතික ශරීරයක් හෝ දක්ෂතා තිබුණේ නැත. ඔහු අඩි 5 යි අඟල් 6ක් උස රාත්තල් 165ක් බර අයකු විය. එහෙත් රග්බි ක්‍රීඩකයකු වීමේ දැඩි අධිෂ්ඨානයෙන් ඉතා මහන්සිවී පුහුණු විය. අවස්ථා තුනක්ම කණ්ඩායමට ගැනීම ප්‍රතික්ෂේප වුවත් රූඩි උත්සහය අතහැරියේ නැත. හතරවන වතාවට පුහුණු සංචිතයට තේරුණත් අවුරුදු දෙකක් යන තුරු ඔහුට තරගයකට ක්‍රීඩා කිරීමේ අවස්ථාවක් ලැබුණේ නැත. එක් තරගයක අවසාන තත්පර කිහිපය තුළ පුහුණුකරු විසින් රූඩිව තරග බිමට කැඳෙව්වේ අනික් ක්‍රීඩකයන්ගේ පෙරුත්තය මතය. ඔහු ප්‍රති පිළේ ක්වාටර් බෑක් ක්‍රීඩකයා බිම වට්ටවා තම පිළට ජයග්‍රහණය අත් කර දුණි. ඔහු ක්ෂණිකව වීරයකු බවට පත් විය. ධවල මන්දිරයට කැඳවුණු ඔහුට ජනාධිපති බිල් ක්ලින්ටන්, ජනරාල් කොලින් පවෙල් සහ අති දක්ෂ රග්බි ක්‍රීඩක ජෝ මොන්ටානා හමුවීමේ වාසනාවද අත්වුණි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබ තදින් උත්සහ කළහොත් ඔබට අවශ්‍ය ඕනෑම අයකු වීමට, ඕනෑම දෙයක් කිරීමට, හැකියාව ඇත.

☞ තමන් දුර්වල අංශයක් සාමාන්‍ය මට්ටමේ දක්ෂතාවක් බවට පරිවර්තනය කිරීමට, තමන් දක්ෂ අංශයකින් අති දක්ෂයකු බවට පත් වීමට වඩා අති විශාල උත්සාහයක් යෙදිය යුතුය.

☞ කාලය, ශ්‍රමය සහ සම්පත් වැය කළ යුත්තේ දක්ෂයකු අති දක්ෂයකු කිරීමට මිස අදක්ෂයකු දක්ෂයකු කිරීමට නොවේ.

☞ ස්වාභාවික දක්ෂතාවය, කාලය ශ්‍රමය සහ සම්පත් අයෝජනය කරන ප්‍රමාණයෙන් ගුණ කළ විට එය පුද්ගලයාගේ ශක්තිය ලෙස නම් කළ හැක.

උදාහරණ ලෙස ලකුණු 5ක පරිමාණයකදී රූඩි රට්ගර්ට

| ස්වාභාවික දක්ෂතාව | | වැඩිදියුණු කිරීමට යෙදෙන ශක්තිය /අයෝජනය | | ශක්තිය |
|---|---|---|---|---|
| 2 | X | 5 | = | 10 |

ලෙසද, සාමාන්‍ය ක්‍රීඩකයකුට

| ස්වාභාවික දක්ෂතාව | | වැඩිදියුණු කිරීමට යෙදෙන ශක්තිය /අයෝජනය | | ශක්තිය |
|---|---|---|---|---|
| 5 | X | 2 | = | 10 |

ලෙසද, දැඩි ස්වාභාවික දක්ෂතාවක් ඇති එය වැඩි දියුණු කිරීමට මහන්සි වී ක්‍රියා කරන ජෝ මොන්ටානා වැනි ක්‍රීඩකයකුට

| ස්වාභාවික දක්ෂතාව | | වැඩිදියුණු කිරීමට යෙදෙන ශක්තිය අයෝජනය | | ශක්තිය |
|---|---|---|---|---|
| 5 | X | 5 | = | 25 |

ලෙසද දැක්විය හැක. තමා දුර්වල අංශයක් වැඩි දියුණු කිරීමට ආයෝජනය කරනවාට වඩා තම ස්වාභාවික ශක්තිය හඳුනාගෙන එය වැඩි දියුණු කර එහි අති දක්ෂයකු වීමට කාලය, ශ්‍රමය සහ සම්පත් ආයෝජනය කරන්න.

☞ ඔබට ගස් නැග පළතුරු කැඩීමට අවශ්‍ය නම් කළුකුමෙක් රැකියාවට බඳවා ගෙන ගස් නැගීමට පුහුණු කිරීමට වඩා ලේනෙකු බඳවා ගැනීම වඩාත් කාර්යක්ෂම වනු ඇත.

☞ දහස් ගණනක් ළමෝ ඊළඟ සනත් ජයසූරිය වීමට උත්සහ කරති. එහෙත් යථාර්ථය නම් ඔවුන්ට ඊට වඩා පහසුවෙන් වෛද්‍යවරයකු හෝ ඉංජිනේරුවකු බවට පත්වීමට හැකියාව ඇති බවයි.

- දෙමව්පියන් තම දරුවා ගණන්වලට අදක්ෂ නම් එම අදක්ෂතාවය නැති කිරීමට විශාල ආයෝජනයක් කරයි. එහෙත් ගණන්වලට අදක්ෂ අයකු දක්ෂ ගණකාධිකාරීවරයකු හෝ ගණිතඥයකු වීම විරලය. එම දරුවාට ඇති දක්ෂතාවය හඳුනාගෙන එය වැඩි දියුණු කිරීමට ආයෝජනය කිරීම වඩාත් ප්‍රයෝජනවත්ය.

- යම් අයෙකුට කාර්ය සාධනය කළ හැක්කේ දක්ෂතා ගොඩ නැගීම මත මිස දුර්වලතා දක්ෂතා බවට පරිවර්තනය කිරීම මත නොවේ. යම් අයකු වැඩ කරන ශෛලිය හා දක්ෂතා වෙනස් කළ හැක්කේ සුළු ප්‍රමාණයකට පමණි. එය සම්පූර්ණයෙන්ම වෙනස් කිරීම බොහෝ දුරට කළ නොහැක්කකි. යම් හෙයකින් එසේ කළ හැකි වුවත් අනිවාර්යයෙන්ම එය පහසුවෙන් කළ නොහැක්කකි.







# 103. මහාචාර්යවරයෙක්, ශිෂ්‍යයෙක් සහ වළහෙක්

මහාචාර්යවරයෙක් ඔහුගේ ශිෂ්‍යයකු ද සමග කැලෑවක ඇවිදීමට ගියේය. හදිසියේම ඔවුන් පිටුපසින් වළහෙක් එළවාගෙන ඒමට පටන් ගති. පිට්ටනියක් හරහා දිවීමට සිදුවූ ඔවුන්ට වැඩි වේලාවක් යෑමට පෙර වළහා තමන්ට ළංවන බව වැටහුණි. ටික වේලාවක් මෙසේ දිවූ පසු ශිෂ්‍යයා තම කරේ තිබූ ගමන් මල්ල එළියට ගෙන එහි තිබූ දිවීමට භාවිත කරන සපත්තු යුගලය ගෙන දුවන ගමන්ම සපත්තු මාරු කිරීමට පටන් ගත්තේය. මින් කුතුහලයට පත් මහාචාර්යවරයා "ඔබ ඔය දුවන සපත්තු දමා ගත්තත් වළහාට වඩා වේගයෙන් දුවන්න පුළුවන් වේවි කියා ඔබ හිතනවාද?" කියා විමසීය. "නෑ මට මගේ ජීවිතය බේරා ගැනීමට වළහාට වඩා හයියෙන් දුවන්න අවශ්‍ය වෙන්නේ නෑ. මට අවශ්‍ය වෙන්නේ ඔබට වඩා හයියෙන් දිව යාම විතරයි" ශිෂ්‍යයා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙය තීරණාත්මක චින්තනය ( Critical Thinking) පිළිබඳ හොඳ උදාහරණයකි. අවශ්‍ය වෙලාවට නිවැරදි ප්‍රශ්නය කුමක්දැයි තීරණය කළ යුතුය.

☞ ගෝලයා ගුරුවරයා ඉගැන්වූ ගෞරවයවත් තියන්නේ නැති හැඩයි.

☞ මෙවන් පුද්ගලවාදීන් (Individualistic ) සමග ගමන් යාම භයානකය.

# 104. නිවන් දකින්න ආ ගෝලයා වතුරේ ගිල්ලවීම

දිනක් ගඟක් අසල භාවනා කරමින් සිටි භාවනානුයෝගියකු හමුවීමට තරුණයෙක් ආවේය. ඔහු භාවනාවට බාධා කරමින් "ස්වාමීන්වහන්ස මට ඔබගේ අනුගාමිකයකු වීමට අවශ්‍යයි කියා පැවසීය. භාවනානුයෝගියා "ඒ ඇයි?" දැයි විමසීය. මදක් වෙලා කල්පනා කළ තරුණයා "මට නිවන් දකින්න අවශ්‍ය නිසා"යැයි පැවසීය. භාවනානුයෝගියා එකවර ඉදිරියට පැන තරුණයාගේ බෙල්ලෙන් අල්ලා ගඟ ළඟට ඇදගෙන ගොස් ඔහුගේ හිස ජලයේ ඔබා ගෙන සිටියේය. තරුණයා දැඟලීමටත් හිස උඩට එසවීමට වෙරදැරීමටත් පටන් ගත්තේය. මිනිත්තුවක් පමණ මෙසේ සිට භාවනානුයෝගියා ඔහුව අත හැරියේය. ටික වේලාවකට පසුව තරුණයා තැන්පත් වූ පසු භාවනානුයෝගියා ඔහු ඇමතීය. "මට කියන්න වතුර යට ඉන්න විට ඔබට වඩාත්ම අවශ්‍ය වූ දේ මොකක්ද කියලා? "හුස්ම ගැනීමට වාතය" තරුණයා පිළිතුරු දුණි. "බොහොම හොඳයි එහෙනම් දැන් ගෙදර ගිහින්, දිය යටදී සිටින විට ඔබට වාතය අවශ්‍ය වූ තරමටම නිවන් දකින්නට අවශ්‍ය වූ විට මෙහි එන්න." භාවනානුයෝගියා පැවසීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ මෙම කතාව උවමනාවන් සහ අවශ්‍යතාවල (Needs and Wants) වෙනස පෙන්වා දෙයි.
- ☞ එපමණටම නිවන් දක්නට අවශ්‍ය වූ විට ඔබට අන් අයගේ උදව් අවශ්‍ය නොවනු ඇත.
- ☞ කටින් කීමට වඩා, ප්‍රායෝගික උදාහරණයකින් පෙන්වීම වඩාත් වටී.

# 105. වළට වැටුණු ගෙම්බා

ගෙම්බෝ රංචුවක් කැලයක් හරහා ගමනක් ගියෝය. ඒ අතරින් ගෙම්බන් දෙදෙනකු හදිසියේම ගැඹුරු වළකට වැටුණි. වළට වැටුණු ගෙම්බෝ දෙදෙනා වළෙන් ගොඩ ඒමට වෙර දරමින් උඩ පනින්නට පටන් ගති. අනිත් ගෙම්බන් වළේ ගැඹුර දැක ගොඩ ඒමට දරන උත්සහය වැඩක් නැති බවත් කිසිදා සාර්ථක නොවන බවත් පැවසීය. ඔවුහු උඩ පනින එක නවත්වන ලෙසට කෑගැසූහ. අවසානයේ එක් ගෙම්බෙක් අනික් ගෙම්බන් කියන දෙය සත්‍යයක් බව වැටහී අධෛර්යට පත්ව උඩ පැනීම නවත්වා වළට වැටී මිය ගියේය. අනික් ගෙම්බා හැකි වෙර යොදා දිගටම උඩ පැන්නේය. නැවතත් අනික් ගෙම්බන් එම ගෙම්බාට දොස් කී අතර හූ කීමටද පටන් ගති. මහන්සිවී මිය යාමට වඩා නිවිසැනසිල්ලේ මිය යාම හොඳ බව කීවේය. කෙසේ හෝ ගෙම්බා උඩ පැන වළෙන් ගොඩට ආවේය. අනිත් ගෙම්බන් පුදුමයට පත්ව වටවී ඇසුවේ "ඔබට අපි කීදේ ඇහුණේ නැද්ද?" යනුවෙනි. මෙම ගෙම්බා ශ්‍රව්‍යාබාධිත ගෙම්බෙක් බවත් ඌ සිතුවේ අනිත් ගෙම්බන් තමාව දිරිගැන්වීමට ප්‍රීති ඝෝෂා කරන බවත් යැයි අන්තිමේදී හෙළිවුණි.




**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අනිත් අයගේ සෘණාත්මක අදහස්වලට ඇහුම්කන් නොදී සෑම විටම ධනාත්මකව සිතූ විට මුලදී කිරීමට අපහසු යැයි පෙනෙන බොහෝ දේ කළ හැක. සෘණාත්මක චින්තනය ඔබගේ බොහෝ සිහින සැබෑ නොකර සෑමදාම සිහින ලෙසම තබයි.
- ඔබ කියන වචනවල විශාල බලයක් ඇති බව මතක තබා ගන්න. යම් අයකුට ඇහෙන දේ ඔහුගේ/ඇයගේ ක්‍රියාවලට බලපානු ඇත. ධෛර්ය දෙන වචන, වළට වැටුණු අයව ගොඩට ඒමට අවශ්‍ය ශක්තිය ඔවුන්ට ලබා දීමට තරම් ප්‍රබලය. එමෙන්ම ධෛර්ය හීන කරන වචන යම් අයෙකු මානසික හෝ ශාරීරිකව මරා දැමීමට තරම්ද ප්‍රබලය. එම නිසා ඔබ කියන දේ ගැන පරිස්සම් වන්න නිතරම දිරි ගන්වන ධනාත්මක වදන් පවසන්න.
- සංජානනයේ ප්‍රබලතාව මෙම කතාවෙන් පෙනේ. අධෛර්ය කරවන සුලු වදන් ශ්‍රව්‍යාබාධිත ගෙම්බා සංජානනය කළේ දිරි ගන්වන වදන් ලෙසය.

# 106. සතුරන් අතට පත්වූ සෙන්පති

දක්ෂ යුධ සේනාධිපතියකු සතුරන් අතට පත්ව හිරකුටියක් තුළ හිර කරන ලදී. හෙට තමාගෙන් ප්‍රශ්න කරන ආකාරයත් වධදී මරා දමන ආකාරයත් සිහිවූ නිසා ඔහුට නින්දක් නොවීය. හදිසියේම ඔහුට තම ගුරුවරයකුගේ වගන්තියක් මතක් විය. "වර්තමාන මොහොතේ ජීවත් වන්න. අතීතයේ සිදුවූ දේ ගැන පසුතැවෙමින් හෝ අනාගතයේ විය හැකි දේ ගැන කරදර වෙමින් කල් නොගෙවන්න". මෙය සිහිවූ රණ ශූරයාගේ මනස සාමකාමී බවට පත්විය. ඔහු නින්දට ගියේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- පසුදා උදෑසන ඔහුට කුමක් සිදුවන්නට ඇත්ද?
- හෙට දවස එන තෙක් ඒ ගැන කරදර නොවන්න. හෙට ගැන කරදර වුවත් එය ඔබට යහපතක් නොකරයි. සියල්ල සැහැල්ලුවෙන් සලකන්න.
- තමාට වෙනස් කළ නොහැකි දෙයක් ගැන ළතැවීමෙන් ඵලක් නැත. මරණයෙන් ගැලවීමට කිසිඳු ඉඩක් නැති බව වටහා ගත් මද්දුම බණ්ඩාරට තෝරා ගත හැකි මාර්ග දෙකක් විය. ඕනෑම පුද්ගලයකු ඇත්තටම මියයාමට අකමැති හා බිය විය හැක. ඔහුට මරණය නියත බව දැන දැන තම වැඩිමහල් සොයුරා මෙන් හඬා වැටී දුක්වීමේ විකල්පය තෝරා ගැනීමට තිබුණි. එහෙත් ඔහු තෝරා ගත්තේ එම අවස්ථාවෙනුත් ප්‍රයෝජනයක් ගෙන නොවැලැක්විය හැකි මරණය අභිමුව වීරයකු මෙන් සිටීමයි. මේ නිසා ඔහුට අද දක්වා ජාතික වීරයෙක් ලෙස සලකනවා පමණක් නොව අප්‍රසාදය රජු වෙත යොමුවිය.එසේම රජුගේ මාන්නයටද නියතවම පහර වැදුණා විය යුතුය.
- බොහෝ දෙනෙකුට මෙවන් අවස්ථාවල න්‍යායයන් අනුව ක්‍රියා කළ නොහැක.
- රණශූරයා කලබල විය යුතු නැති බව සත්‍යයකි. එහෙත් ඔහු කළ යුතුව තිබුණේ සිත සන්සුන් කරගෙන ගැලවී යාමට (සතුරන්ට තොරතුරු දෙන බව කියා මුළා කර මරණය කල්දමා පසුව පැනයාම, හිරගෙය කඩා පැනයාම ආදී) උපක්‍රමයක් සිතීමයි. ඉන් අනතුරුව සැලසුම්, විකල්ප සැලසුම් ආදිය සිතා උදෑසන ශාරීරික සහ මානසික ශක්තිය ඉතිරි කර ගැනීමට නින්දට යාහැක. සැලැස්ම වැරදුණොත් තමාට කළ හැකි සෑම දේම කළ බව මතක් කර මරණයට මුහුණ දීම හැර වෙනත් විකල්පයක් නැත.
- හෙට ගැන කරදර වීම ඵලක් නැත. එහෙත් හෙට දවස වෙනස් කිරීමට ක්‍රියාශීලීව සැලසුම් කිරීම ඵලක් ඇති ක්‍රියාවකි. .

# 107. නිවැරදි පිළිතුර තේරීම

සොලොමන් ඇෂ් විසින් 1950 මුල් භාගයේ කරන ලද පන්ති කාමර පරීක්ෂණයකි මේ. ඔහු සාමාජිකයන් අට දෙනෙකු සිටින කණ්ඩායම් වලට පන්ති කාමරයක වාඩි වන ලෙස කීවේය. ඔහු කාඩ් දෙකක් ඔවුන්ට පෙන්වීය. එහි එකක එක් රේඛාවක් පමණක් තිබුණු අතර අනිකේ රේඛා 3 ක් විය. මෙම රේඛා 3 න් එකක් මුල් කාඩ් එකේ රේඛාවට සමාන විය. සාමාන්‍ය තත්ත්වයන් යටතේ මෙම රේඛාව ගැළපීම ඉතා පහසු වූ අතර වැරදුණේ 1% කටත් වඩා අඩු සංඛ්‍යාවකට පමණි. ශිෂ්‍යයන්ගේ කාර්ය වූයේ ගැළපෙන රේඛාව ශබ්ද නගා ප්‍රකාශ කිරීමයි.

කණ්ඩායමේ මුල් හත් දෙනාම මෙය පරීක්ෂණයක් බව දැන සිටි අතර ඔවුනට ඕනෑකමින්ම වැරදි පිළිතුරක් දීමට උපදෙස් දී තිබුණි. කණ්ඩායමේ අවසානයේම අසුන් ගත් සාමාජිකයා මේ පිළිබඳ දැන සිටියේ නැත. මුල් කණ්ඩායම් දෙකේම මුල් හත් දෙනා නිවැරදි පිළිතුර දුන් අතර අට වැන්නා ද නිවැරදි පිළිතුර දුණි. තුන්වැනි කණ්ඩායමේ දී පළමු වැන්නා උවමනාවෙන්ම වැරදි පිළිතුරක් දුන් අතර ඉතිරි හය දෙනා ද උවනාවෙන්ම පළමු වැන්නා කී වැරදි පිළිතුරම තහවුරු කළේය. අන් අය උවමනාවෙන් වැරදි පිළිතුර දෙන බව නොදත් අට වැන්නා නිවැරදි පිළිතුර හොඳින්ම දැන සිටිය ද දැන දැනම වැරදි පිළිතුරම දුන්නේය. අට වැන්නා මුහුණ දුන් තීරණය නම් අන් අය විසින් ප්‍රසිද්ධියේ ප්‍රකාශ කළ ස්ථාවරයට කැපී පෙනෙන ලෙස වෙනස් ස්ථාවරයක් ප්‍රසිද්ධියේ ප්‍රකාශ කරනවා ද? එසේත් නැතිනම් කණ්ඩායමේ අන් අයගේ ස්ථාවරයන් හා එකඟ වෙන එහෙත් පැහැදිලිවම වැරදි බව දන්නා පිළිතුර ප්‍රකාශ කරනවා ද? යන්නයි.

ඇෂ් මෙම පරීක්ෂණය අට දෙනෙකුගෙන් යුත් කණ්ඩායම් රැසක් යොදා ගෙන වාර ගණනාවක්ම කළේය. අට වැනියාට සිටි අයගෙන් 75% ක් වත් අවම වශයෙන් එක් වරකදීවත් කණ්ඩායම් මතයට සමාන වීමේ අවශ්‍යතාව මත වැරදි පිළිතුර දුණි. එකඟවීම සඳහා වැරදි පිළිතුර ලබාදුන් අයගේ සාමාන්‍යය වුයේ 37% කි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ කණ්ඩායමේ පිළිගත් ධර්මතාවයන්ට ගැළපෙන සේ තම හැසිරීම් සකසා ගැනීම එකඟතාව නම් වේ. කණ්ඩායමේ අනිකුත් සාමාජිකයන්ගේ පිළිගැනීම ලබා ගැනීමේ උවමනාව නිසා මෙසේ කරන අතර කණ්ඩායමක පිළිගත් හැසිරීම්වලට අනුකූලව හැසිරීමට කණ්ඩායම විසින් තම සාමාජිකයින්ට යම් පීඩනයක් එල්ල කරයි.

☞ මින් අපට ගත හැකි පාඩමක් වනුයේ එකඟවීමට පීඩනය එල්ල කරන කණ්ඩායම් ධර්මතාවක් ඇති බවත් මිනිසුන් කණ්ඩායමට අයත් වීමට සහ කැපී පෙනෙන ලෙස වෙනස් නොවීමට කැමති බවත්ය.

# 108. ස්වර්ගයට යන දොරටුව

භික්ෂුවක් හමුවීමට පැමිණි සොල්දාදුවෙක් ඇත්ත වශයෙන්ම අපායක් සහ ස්වර්ගයක් කියා දෙයක් තියෙනවාද? එසේ තියෙනවා නම් ස්වර්ගයට යන දොරටුව විවර කර ගන්නේ කෙසේද? කියා ප්‍රශ්න කළේය.

“ඔබ කවරෙක්ද?” භික්ෂුව ප්‍රති ප්‍රශ්න කළේය.

“මම සොල්දාදුවෙක්” අමුත්තා පිළිතුරු දුණි.

“මොනවා ඔබ සොල්දාදුවෙක්? මොන වගේ අමන පාලකයෙක්ද ඔබව සොල්දාදුවෙක් හැටියට බඳවා ගත්තේ? ඔබේ මූණ හිඟන්නකුගේ මූණටත් වඩා අන්තයිනේ” භික්ෂුව අපහාසාත්මකව පැවසීය. මින් කෝපයට පත් සොල්දාදුවා තම අසිපත කොපුවෙන් එළියට ගත්තේය. භික්ෂුව නොනැවතී කතා කළේය. “ආ ඔබට කඩුවකුත් තියෙනවා වගේ. ඔබගේ ආයුධය මගේ හිස කපා වෙන් කිරීමට බැරි තරමටම මොට්ට එකක් වගේ” සොල්දාදුවා කඩුව ඔසවනවාත් සමගම භික්ෂුව මෙසේ කීවේය. “ඔන්න අපායට යන දොරටුව ඇරුණා.” මෙම වචන ඇසීමෙන් තමා කළ වරද වටහාගත් සොල්දාදුවා වහාම අසිපත කොපුවේ දමා ගෙන දණගසා වැන්දේය. “ඔන්න ස්වර්ගයට යන දොරටුව ඇරුණා” භික්ෂුව පැවසීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ආවේගශීලී ක්ෂණික තීරණ නොගෙන හොඳින්, සිහි බුද්ධියෙන් කටයුතු කිරීම, තම වරදවල් වටහා ගැනීම සහ ඒවා නිවැරදි කරගැනීම යහපත් මාර්ගයට පැමිණීම උපකාරී වේ.

# 109. දිනකට මැසිය හැකි පිජාමා ගණන

ඇමරිකානු ඇඟළුම් කම්හලක 1948 දී පරීක්ෂණයක් කළේය. මෙම පරීක්ෂණයේ අරමුණ වූයේ කණ්ඩායමක පිළිගත් ධර්මතා සහ හැසිරීම්, කණ්ඩායම් සාමාජිකයකුගේ හැසිරීමට කෙසේ බලපාන්නේ ද යන්න සෙවීමයි. පරීක්ෂණය සඳහා යොදා ගත් කණ්ඩායමේ අවිධිමත් ධර්මතාව වූයේ දවසකට එක් අයකු ඇඟළුම් 50 ක් මසා නිම කිරීමයි. අලුත් සාමාජිකයකු කණ්ඩායමට ඇතුළත් කරන ලදී. ඔහු දින කීපයක් වැඩ ඉගෙනීමෙන් පසුව කණ්ඩායමේ පිළිගත් සම්මතය වන කෑලි 50 ඉක්මවා නිෂ්පාදනය කිරීමට පටන් ගත්තේය. කණ්ඩායමේ පැරණි සාමාජිකයන් තම කණ්ඩායම් රීතීන්ට පිළිගත් හැසිරීම්වලින් පිටත වැඩ කිරීම නිසා අලුත් සාමාජිකයාට දඬුවම් කිරීමටත් කොන් කිරීමටත් පටන් ගති. ටික දිනකට පසුව නව සාමාජිකයා කණ්ඩායමේ හැසිරීමට අනුකූල වී පිළිගත් සංඛ්‍යාවටත් වඩා ස්වල්පයක් අඩුවෙන් නිපදවීමට පුරුදු විය. දින 20 කට පසු කණ්ඩායම විසුරුවා හැර අනිකුත් සාමාජිකයන් වෙනත් ස්ථානවලට මාරු කර හරින ලදි. නව සාමාජිකයා පමණක් ඉතිරි විය. ඔහුගේ නිෂ්පාදනය ඉතා ශීඝ්‍රයෙන් ඉහළ ගොස් දිනකට කෑලි 90 ක් බවට පත්විය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- කණ්ඩායමක් උපරිම ඵලදායි තත්ත්වයකට ගෙන ඒමට නම් එය තුළ ඇති අහිතකර කණ්ඩායම් ධර්මතාවන් ඉවත් කළ යුතුය.
- මිනිසා වැඩ කරන්නේ සමාජයට අවශ්‍ය විදියටය.
- අළුත් සේවකයා කලබල නොවී අන් අයගේ ආකල්ප වෙනස් කර ඔවුනුත් තමන් මෙන් නිසි උත්සහය යොදා වැඩ කිරීමට වෙනස් කළ හැකිව තිබෙන්නට හැක.

# 110. මල් හාමි මාමා අමුඩය බේරාගත් හැටි

සසර කළකිරුණු මල් හාමි මාමා තම සියලු දේපළ දන් දී වන වැදී බ්‍රහ්මචාරි භාවනානුයෝගී ජීවිතයක් ගත කිරීමට තීරණය කළේය. ඔහු කෙතෙක් දුරට වස්තුව අත්හැරියා දැයි කිව හොත් ඔහු සතුව තිබුණු එකම දෙය වූයේ විලි වසා ගත් අමුඩ ලේන්සුව පමණි. මෙසේ ටික කලක් සාර්ථකව භාවනා කළ පසුව රෑට රෑට මීයකු ඇවිදින් අමුඩ ලේන්සුව ටිකින් ටික කා දැමීමට පටන් ගත්තේය. මීට පිළියමක් කල්පනා කළ මල්හාමි මාමා බළල් පැටවකු ගෙන ආවේ මී උවදුරෙන් ගැලවීමටය. බළලා ලොකු වූ පසු මීයන්ගෙන් ප්‍රශ්නයක් නොවූවත් බළලාට ආහාර මදිවූ බැවින් ඌ කැලෑ වැදී කුඩා සතුන් දඩයම් කිරීමට පටන් ගත් අතර බළලා නැති වෙලාවට නැවතත් මීයන් පැමිණ අමුඩය කා දැමීමට පටන් ගති. මීට පිළියමක් ලෙස මල්හාමි මාමා එළදෙනක් ගෙන ආවේ බළලාට කිරි ලබා දීමටය. එළදෙන ආ පසු බළලා කැලෑ වැදීම නතර වුණු අතර මී උවදුරද නැවතුණි. එහෙත් එළදෙනට සාත්තු කිරීමටත් ඌට කන්න දීමටත් දිනකට සෑහෙන වේලාවක් ගත වූ බැවින් එම කාර්යය පැවරීම සඳහා මල්හාමි මාමා ගමෙන් තරුණ ගැටවරයකු ගෙනාවේය. ටික කාලයක් යන තෙක් ඔහු එළදෙනට හොඳින් සාත්තු කළේය. එහෙත් කල් යන්න යන්න පාලුව දැනුණු ඔහු ගම් වැදී තැන තැන රස්තියාදු විය. මීට පිළියමක් ලෙස මල්හාමි තරුණයාට විවාහයක් කර දුණි. ටික කලකින් ඔවුන්ට දරුවන් ද ලැබුණි. දැන් මල්හාමි මාමාට වැඩ අධිකය. ඔහුට පිණ්ඩපාතේ ගොස් මුළු පවුලකටම ආහාර උපයාගෙන ඒමට සිදු විය. ඔවුන්ගේ ඕනෑ එපාකම් බැලීමට සිදුවිය. සියලු වස්තුව අත්හැරි මල් හාමි මාමාට අන්තිමට සිදුවූයේ අමුඩය රැකීමටය.



# 111. ටයර් විකුණු සිල්ලර වෙළඳ සැල

Nordstrom නම් සිල්ලර සුපිරි වෙළඳ සැල් ජාලය ආරම්භක අවස්ථාවේ පවතින කාලයේ පාරිභෝගිකයකු එහි පැමිණියේ තමා මිලදී ගත් කාර් ටයර් හතරක් නැවත බාරදී මුදල් ලබා ගැනීමටය. අලෙවි නියෝජිතයා මෙම තත්ත්වය කෙසේ හැසිරිය විය යුතුදැයි තරමක අවිනිශ්චිතතාවකින් පසුවිය. Nordstrom මහතා ඒ අසලින් ඇවිදින විට මෙම සංවාදය කණ වැකී වහාම මැදිහත් විය. ඔහු පාරිභෝගිකයාගෙන් ඇසුවේ ඔහු ටයර්වලට කොපමණ මුදලක් ගෙව්වේ ද යන්නයි. අනතුරුව අලෙවි නියෝජිතයාට ටයර් බාර ගෙන සම්පූර්ණ මුදල ආපසු ගෙවන ලෙසට අණ කළේය. පාරිභෝගිකයා මුදල් ද රැගෙන සන්තෝෂයෙන් පිටව ගිය පසු අලෙවි නියෝජිතයා තම සේවායෝජකයා ඇමතීය. ''නමුත් නෝර්ඩ්ස්ට්‍රොම් මහත්මයා අපි ටයර් විකුණන්නේ නෑනෙ''. ''ඔව් මම දන්නවා. එත් අපි පාරිභෝගිකයාව සතුටු කිරීමට අවශ්‍ය ඕනෑම දෙයක් කළ යුතුයි'' යනුවෙන් පිළිතුරු දුන් ඔහු දුරකථනය ගෙන ටයර් සාප්පුවක් අයිති මිතුරකුට අමතා ඔහුට ටයර් විකුණා මුදල් ලබා ගත්තේය.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ පාරිභෝගික තෘප්තිය සෑමවිටම ඉහලින්ම සැලකිය යුතු බව මෙයින් හොඳින් මතක් කර දෙන අතරම ඔවුන්ගේ පහසුව, සතුට වෙනුවෙන් අමතර දුරක් යාමට පවා මැලි නොවිය යුතු බව පෙන්වා දෙයි. ඒ සඳහා තම විෂය සීමාවෙන් මෙන් පිට කටයුතු කිරීමට වුවද සූදානම් විය යුතුය.

☞ සරලව මෙම සාප්පුවේ ටයර් නොවිකුණ බව කීවා නම්, පාරිභෝගිකයාට තමන්ට වැරදීමක් ඇති බව වැටහෙනු ඇත. පාරිභෝගිකයා උවමනාවෙන්ම වංචා කිරීමට උත්සහ කළේ නම් මෙසේ වැඩකිරීම තුළින් වංචා කිරීමට අනුබල ලැබේ.

# 112. සෙන්පතියෙක් යුදට ගියා

එක් සෙන්පතියෙක් රටක් ආක්‍රමණය කර එහි සෑම ගමක්ම තමා යටතට ගැනීමට ගමක් ගමක් පාසා යමින් සිටියේය. මෙම සෙන්පතියාගේ දරුණුකම සහ හමුදාවේ විනාශකාරී බව අසා තිබූ ගම්වාසීහු හමුදාව එන බව ඇසූ පමණින් ගම් බිම් අතහැර පළා ගියහ. එක් ගමක සිටි භික්ෂුවක් පමණක් පළා නොගොස් එහිම රැඳුණි. මෙම වයසක භික්ෂුව ගැන කුතුහලයක් ඇතිවූ සෙන්පතියා මොහු කුමන වර්ගයේ පුද්ගලයෙක්දැයි බැලීමට එම පන්සලට ගියේය. සෙන්පතියා සාමාන්‍යයෙන් පුරුදුව සිටි යටහත් පහත් භය පක්ෂපාතී සැලකිල්ල වෙනුවට භික්ෂුව සාමාන්‍ය අයෙක් ලෙස සෙන්පතියාව පිළිගැනීම නිසා සෙන්පතියා උරණ විය. "මෝඩයා උඹට තේරෙන්නේ නැද්ද උඹ ඉදිරියේ හිටගෙන ඉන්නේ ඇහි පිල්ලන් ගහන්න කලින් උඹේ බෙල්ල කඩින් වෙන් කරන්න පුළුවන් තරමේ මිනිහෙක් කියලා" සෙන්පතියා කඩුවට අත යවන ගමන් කෑගසා ඇසුවේය. "ඔබට තේරෙන්නේ නැද්ද ඔබ ඉදිරියේ හිටගෙන ඉන්නේ ඇහි පිල්ලමක්වත් නොගසා බෙල්ල කඩින් වෙන් වෙනකම් බියකින් තොරව බලා හිටිය හැකි මිනිහෙක් කියලා" භික්ෂුව තැන්පත්ව පිළිතුරු දුණි.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අවිහිංසාවාදී පුද්ගලයකු වීමට ශක්තිය සහ ධෛර්යය වඩාත් අවශ්‍යයි.
- ඔබගේ හතුරා විසින් ඔබව සිරකරගෙන වදදෙන විටත්, ඔබට තවදුරටත් ජයගත හැකිය. ඒ ඔබ වේදනාවෙන් කෑ නොගසා නිර්භීතභාවය පෙන්නුවොත්ය.
- ප්‍රතිවාදියා බලාපොරොත්තු වන ආකාරයට නොහැසිරෙන්න. ඔහු මානසිකව පරාජය වේ.
- මෙවන් දෙයක් කළ හැකි එක් මාර්ගයක් වන්නේ තම සිරුර දෙතිස් කුණපයන්ගෙන් සෑදී ඇති බවත්, පංචස්කන්ධයට බලපාන අනිත්‍ය, දුක්ඛ අනාත්ම යන ත්‍රිලක්ෂණ පිළිබඳව අවබෝධයක් ඇති කර ගැනීමෙනුත්ය. ඔහුට/ඇයට තම සිරුර වැදගත් නොවේ.
- බහුතරය බියට තම ජීවිත පාලනය කිරීමට ඉඩදේ
- ඔබ ජීවිතයේ ප්‍රශ්නවලින්, ගැටුම්වලින් පළා යා යුතු නැත. ඇස් දෙක විවර කර හිස කෙලින් තියා ගෙන ඒවාට මුහුණ දෙන්න.
- සෙන්පතියාට ප්‍රචණ්ඩ විය හැක්කේ අන් අය ඊට ඉඩ දෙන විට පමණි. සංවාද විග්‍රහයේ එක් අයකුට විවේචක දෙමව්පියකු ලෙස දිගින් දිගට හැසිරිය හැක්කේ අනිකා හැඩගස්වන ලද ළමයකුගේභූමිකාව බාර ගන්නේ නම් පමණි.
- මෙම කතාව බාහිරව ශක්තිමත් අය සහ අභ්‍යන්තරිකව ශක්තිමත් අයගේ මනස විදහා පායි.
- භික්ෂුව සම්පූර්ණ ස්වයං පාලනයක් යටතේ සිටින අයකු හෝ උමතු වූ අයකු විය හැක.
- සෙන්පතියාගේ සෙන්පති භූමිකාවත්, භික්ෂුවගේ භික්ෂු භූමිකාවත් එකිනෙකාගේ හැසිරීම් කෙරෙහ කොතෙක් දුරට බලපෑවාද? භික්ෂුවක් වෙනුවට වඩු කාර්මිකයකු සිටියා නම් සෙන්පතියාගේ ප්‍රතිචාරය කුමක් විය හැකිද? එමෙන්ම මෙම කතාව කියවන අප සිත් තුළ මවා ගන්නා රූපය කොයි ආකාරයෙන් වෙනස් වේද?
- මෙම කතාවේ ඊළඟට සිදුවූයේ කුමක්ද?

# 113. ගුවන් ගමන් අවදානම්

පුද්ගලයෙක් පැවසුයේ තමා ගුවන් යානාවල ගමන් කිරීමට බිය බවත් එය ඉතා අනතුරුදායක බවත්ය. එහි සිටි තවත් අයකු ඊට පිළිතුරු ලෙස කීවේ ගුවන් ගමන් අනතුරුදායකය යන මතය සත්‍යයක් නොවන බවයි. ඔහු කීවේ රිය පැදවීම ඊට වඩා භයානක බවත් දත්ත අනුව මාර්ග අනතුරකින් මිය යාමේ අවදානමට සමාන වීමට නම් සම්පූර්ණයෙන් මගීන්ගෙන් පිරුණ බෝයිං 747 ගුවන් යානා 2 ක් සෑම සතියකට වරක් එහි සිටින සියලු දෙනා මරණයට පත් කරමින් අනතුරට ලක් විය යුතු බවත්ය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ගුවන් අනතුරුවලට මාධ්‍යයන් තුළින් වැඩි අවධානයක් ලැබෙන නිසා මිනිස්සු ගුවන් අනතුරුවල අවදානම අධි තක්සේරු කිරීමටත් මාර්ග අනතුරුවල අවධානම අවතක්සේරු කිරීමටත් පෙළඹෙති.
- වඩාත්ම පහසුවෙන් ලබා ගත හැකි තොරතුරු මත තම විනිශ්චයන් පදනම් කිරීම මිනිස් ගතියකි.
- පොලව මත ගමන් කිරීම සාමාන්‍ය දෙයක් ලෙස දකින අය ගුවන් ගමනක්, ජලයෙන් ගමන් කිරීමක් වැනි අවස්ථා "අවදානම්" ලෙස වර්ග කිරීමට පෙලඹේ.

# 114. උතුරායන තේ කෝප්පය

මහාචාර්යවරයකු භික්ෂුවක හමු වීමට ගියේ බුද්ධ ධර්මය ඉගෙන ගැනීමේ පරමාර්ථයෙනි. භික්ෂුව මහාචාර්යතුමාට තේ හදන අතර ඔහු දිගින් දිගටම තමා පොත පතින් බෞද්ධ දර්ශනය ගැන උගත් දේ පිළිබඳව කතා කරන්නට පටන් ගත්තේය. භික්ෂුව තේ කෝප්පයක් මහාචාර්යතුමා ඉදිරිපස තබා එයට තේ පෝච්චියෙන් තේ වක්කිරීමට පටන් ගති. තේ කට ළඟටම පිරී උතුරා යන්නට පටන් ගත්තත් භික්ෂුව තේ වක්කිරීම නතර නොකළේය. තවදුරටත් මෙය බලා සිටිය නොහැකි වූ මහාචාර්යතුමා ''කෝප්පය ඕනෑවටත් වඩා පිරිලා තවත් තේ දාන්න ඒකේ ඉඩ නෑ'' යැයි කෑ ගැසුවේය. ''ඔබ හරි, ඔබත් මේ තේ කෝප්පය වගේ ඕනෑවටත් වඩා පිරිලා ඔබ ඔබගේ තේ කෝප්පය හිස් කර ගන්නා තාක් කල් මම ඔබට කෙසේ බුදු දහම උගන්වන්නද?'' භික්ෂුව පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ යමෙක් තමා දැනටමත් දන්නවාය යන ආකල්පය දරා සිටින තාක් අලුතෙන් යමක් ඉගෙනීම අපහසුය.
- ☞ පූර්වාකල්ප ඇත්ත ඇති සැටියෙන් දැකීමට අපට බාධා කරයි
- ☞ ඉගෙන ගත් දෙයක් ඉවත් කිරීම යමක් අලුතෙන් ඉගෙන ගන්නවාට වඩා අපහසුය (learning is easier than unlearning). නමුත් අලුත් ඥානයක් ලබා ගැනීමට නම් තමා උගත් දෙය ඉවත් කිරීමට හෝ පසෙක තබා තැබීමට හෝ පරණ දැනුම මත නව දැනුම ගොඩ නැගීමට සිදුවේ.
- ☞ ඔබ දැනටමත් විශාල දැනුම් සම්භාරයකින් පිරී ඉතිරී සිටියත් තවදුරටත් ඊටත් වඩා විශාල දැනුම් සම්භාරයක් ඉගෙනීමට ඇතැයි යන සත්‍යයට විවෘත විය යුතුය.
- ☞ ඉගෙන ගත යුතු නම් කට පියා ගෙන කන් දෙක සහ මනස විවෘත කිරීමට පුරුදු වන්න.
- ☞ සෑම විටකම අලුත් මතයක් හෝ දැනුමක් ලබා ගැනීමේ දී එය අප තුළ දැනටමත් ඇති මතයකට එකතු කර ගන්නේ නැතිව එය අලුත් මතයක් ලෙස සලකන්න පුරුදුවන්න.
- ☞ යමක් ඉගෙනීමට නම් තමාගේ පළිහ පහළට දමා විවෘත විය යුතුය.
- ☞ මා ගැන වැරදි යමක් විශ්වාස කරන අයකුට මම මෙම කතාව පවසමි.

# 115. යන්නෙ කොහේද? මල්ලෙ පොල්

එක් ළමයෙක් එළවළු ගැනීමට පොළට යමින් සිටියේය. ඔහුට අතරමගදී අසල් වැසි තවත් ළමයකු හමු විය. ''ඔබ කොහේ ද යන්නේ?'' පළමු වැන්නා ඇසීය. ''මම මගේ කකුල් දෙක අරන් යන තැනට යනවා'' දෙවැන්නා පිළිතුරු දුණි. මෙම පිළිතුරින් වික්ෂිප්ත වූ පළමු ළමයා තම මව වෙත ගොස් මේ බව කීවේය. ''හෙට උදේට ඒ ළමයා හමුවුණහම නැවතත් එම ප්‍රශ්නයම අහන්න. එවිට ඔහු අද දීපු පිළිතුරම දේවි. එතකොට පුතා අහන්න ඔබට කකුල් නැහැයි කියා සිතුවොත් ඔබ කොහේ ද යන්නෙ? කියලා. එතකොට එයා නිශ්ශබ්ද වෙයි'' මව කීවාය. ළමුන් දෙදෙනා පසුදා උදෑසනත් හමු විය. පළමුවැන්නා මවගේ අවවාදය පරිදි ඔබ කොහේ ද යන්නේ? යැයි විමසීය. ''මම හුළඟ හමන අතට යනවා'' දෙවැන්නා පිළිතුරු දුණි. බලාපොරොත්තු නොවූ මෙම පිළිතුරෙන් අන්දුන් කුන්දුන් වූ ළමයා  මවට මේ බව පැවසීය. ඊළඟ දවසේ එයාව හමුවුණාම අහන්න හොඳයි හුළං හැමුවේ නැත්තම් කොයි අතට ද යන්නේ?" කියලා මව උපදෙස් දුන්නාය. තුන්වන දවසෙදීත් ළමුන් දෙදෙනා මුණ ගැසුණි. පළමු වැන්නා පෙර පරිදිම ''ඔබ කොහේ ද යන්නේ?'' කියා ප්‍රශ්න කළේය. ''මම එළවළු ගේන්න පොළට යනවා'' දෙවැන්නා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ දෙවැන්නාගේ චර්යා රටාව අනුව ඔහු ඊළඟට කරන දේ අනුමාන කළ නොහැක.

☞ පළමු ළමයා ස්ථානෝචිත නුවණ භාවිත කරමින් අවස්ථාව ආදී පාරිසරික සාධකවලට සුදුසු පරිදි තම ප්‍රශ්න හා සන්නිවේදන රටාව ක්ෂණිකව වෙනස් කර ගැනීමට පුරුදු වී නැත. අවස්ථානුකූල නායකත්වය ආදී පරායත්ත න්‍යායයන්  වැදගත් වන්නේ කලින් තීරණය කළ නොහැකි පාරිසරික සාධක සහ අවස්ථාව අනුව තම හැසිරීම, නායකත්ව ශෛලිය, තීරණ ගැනීමේ ක්‍රමය ආදිය ක්ෂණිකව මාරු කිරීම අත්‍යවශ්‍ය දක්ෂතාවක් වී ඇති  නිසාය.

☞ යමෙක් ප්‍රශ්නයක් ඇසූ විට පිළිතුරු දිය හැකි ක්‍රම කීපයකි.
**ප්‍රශ්නය** : වේලාව කීයද?

1) සෘජු පිළිතුර : 9.10 යි.
2) හරස් පද පිළිතුර : ඇයි ඔබට ඔරලෝසුවක් නැත්ද?

# 116. ඒකත් එහෙමද?

ගමේ සිටි රූමත් අවිවාහක තරුණියක් ගැබ් ගත්තාය. කෝපයට පත් ඇයගේ දෙමව්පියෝ ඇතුළු වැඩිහිටි ගම්වාසීහු දරුවාගේ පියා කව්දැයි පවසන ලෙස ඇයට බල කළහ. මෙම පීඩනයෙන් ගැලවිය නොහැකිවූ තරුණිය පිවිතුරු සිල්වත් ජීවිතයක් ගත කරන, ගම්වාසීන්ගෙන් පුද පූජා ලැබූ, ගමේ පන්සලේ නායක භික්ෂුව දරුවාගේ පියා බවට ප්‍රකාශ කරන ලදී. කෝපයට පත් දෙමව්පියන් නායක හාමුදුරුවන් හමුවට ගොස් තම දුවගේ චෝදනාව කී විට ඔහු කීවේ "ඒකත් එහෙමද?" යන්න පමණි. දරුවා ඉපදුණු පසුව තරුණියගේ දෙමව්පියෝ මේ වන විට ගමේ සියලු දෙනා විසින්ම දුස්සීලයකු ලෙස කොන්කර සිටි භික්ෂුව වෙත දරුවා ගෙන ගියහ. මෙම දරුවාගේ වගකීම බාරගෙන ඔහුව හදා වඩා ගන්නා ලෙසට තරුණියගේ දෙමව්පියන් ඔහුට බල කළ විට භික්ෂුව සන්සුන්ව "ඒකත් එහෙමද?" යනුවෙන් පවසා දරුවා බාර ගත්තේය. තමා කී බොරුව තවදුරටත් සඟවාගෙන සිටිය නොහැකි වූ තරුණිය, දරුවාගේ ඇත්ත තාත්තා ගමේ සිටි තරුණයකු බව පැවසුවාය. ඇයගේ දෙමව්පියන් හා ගම්වාසීන් වහාම භික්ෂුව වෙත ගොස් සමාව අයැද සිදුව ඇතිදේ විස්තර කර නැවතත් දරුවා තමන් වෙත බාර දිය හැකි දැයි ඇසුවේය. භික්ෂුව "ඒකත් එහෙමද?" යනුවෙන් පවසා දරුවා බාර දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- බොරුවට ආයුෂ කෙටිය
- බොරුව සදාකාලික නැත.

# 117. කොළොම්බස් ඇමරිකාව සොයා ගැනීම

ක්‍රිස්ටෝපර් කොලොම්බස් විසින් ඇමරිකාව සොයා ගැනීමේ ප්‍රීතිය සැමරීමට විශාල ධන කුවේරයෙක් රාත්‍රී භෝජන සංග්‍රහයක් සංවිධානය කළේය. එහි පැමිණි ප්‍රභූ ජනතාව කොලොම්බස් ඇමරිකාව සොයා ගැනීම එතරම් වැදගත් නොවන බව හැඟවෙන සේ විවේචන එල්ල කළහ. ඔවුන් කීවේ කොලොම්බස් වෙනුවට වෙන අයෙක් එම මාර්ගයේ යාත්‍රා කළේ නම් ඇමරිකාව හමුවන්නේ ඔහුට බවත්, කොලොම්බස්ට ඇමරිකාව හමුවූයේ අහම්බෙන් බවත්ය. රාත්‍රී භෝජන සංග්‍රහය සංවිධානය කළ ප්‍රභූවරයා මේ පිළිබඳ තම අදහස් පවසන ලෙසට කොලොම්බස්ට ආරාධනා කළේය. කොලොම්බස් අමුත්තන්ට අභියෝගයක් බාර දුණි. "මෙහි ඉන්න කාට හරි පුළුවන් නම් මේ බිත්තරය මේසය උඩ කෙළින් අතට හිටවන්න" යැයි කියූ ඔහු කට්ට සහිත බාගෙට තම්බපු බිත්තරයක් පෙන්වීය. එහි සිටි ප්‍රභූ පිරිස බිත්තරය සිරස් අතට සිටවීමට විවිධ උපක්‍රම දරමින් උත්සහ දැරුවත් හරිගියේ නැත. විනාඩි 30 කට පමණ පසු උත්සහය අත් හැර දැමූ ඔවුහු කොලොම්බස්ට හැකි නම් එය සිටුවා පෙන්වන ලෙසට අභියෝග කළහ. කොලොම්බස් බිත්තරය ගෙන එහි එක් කෙළවරක් මේසය මත ගසා බිඳ එය සිරස් අතට සිටුවීය. එවිට ප්‍රභූවරු සියලු දෙනාම එකවරම පැවසූයේ "අයියෝ ඔහොම නම් අපටත් හිටවන්න තිබුණා" කියාය "මේකත් ඇමරිකාව සොයා ගත්තා වගේ තමයි. යම් අයෙක් යම් දෙයක් පළමුවරට නිෂ්පාදනය කළොත් හෝ අලුතින් යමක් කර පෙන්වුවොත් අනිත් අයටත් ඉතා පහසුවෙන් කියන්න පුළුවන් අපිටත් ඕක ඔහොමම කරන්න පුළුවන්කම තිබ්බා කියලා" කොලොම්බස් පිළිතුරු දුණි.





**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- කියන්න ලේසියි කරන්න තමයි අමාරු.
- කොපි කරන්න ලේසි වුණත් යමක් මුලින්ම සොයා ගැනීමයි අමාරු.
- හැමෝම කතා කරන්නේ කොලොම්බස් තනියම ඇමරිකාව හොයා ගත්තා වගේ. අප පාසලේදී කොලොම්බස් සමග යාත්‍රා කළ කණ්ඩායමේ අනිත් අයගේ නම් කවදාවත් ඉගෙන ගෙන තියෙනවාද? ඉතිහාසය මතක් කරන්නේ රජවරුන් මිස සොල්දාදුවන් නොවේ.

# 118. රාමුවෙන් පිට සිතීම

මා එක්තරා ආයතනයක සේවය කරන කාලයේ අලුතින් බඳවා ගත් කළමනාකරණ පුහුණුලාභීන් පිරිසකට ඇගයීමක දිය හැකි ප්‍රශ්නයක් සොයමින් සිටියදී මගේ මිතුරකු විසින් විද්‍යුත් තැපෑලෙන් එවන ලද ප්‍රශ්නයක් වෙනස් ආකාරයකින් ඉදිරිපත් කිරීමට මට සිතුණි. මගේ මිතුරා ඒවා තිබූ මුල් ප්‍රශ්නය වූයේ, "ඔබ කුණාටු සහිත අඳුරු රැයක දෙදෙනකුට පමණක් ගමන් කළ හැකි කාර් රථයක් පදවාගෙන යනවා. බස් නැවතුම්පළක් අසල පුද්ගලයින් තිදෙනෙක් බස් රථයක් එනතෙක් බලා සිටිනවා. ඉතා අසනීප තත්ත්වයෙන් සිටින මිය යාමට ඔන්න මෙන්න බව පේන වයසක කාන්තාවක්, වරක් ඔබගේ ජීවිතය බේරාගත් මිතුරෙක්, සහ ඔබගේ ජීවන සහකරු/සහකාරිය ලෙස තෝරා ගැනීමට ඔබ සිහින මවමින් සිටින සිහින කුමරා හෝ කුමරිය යන අය මේ පුද්ගලයින් තිදෙනායි. මේ තිදෙනා අතුරින් ඔබ කාර් රථයේ ගෙන ගොස් ඇරලවන්නේ කවුරුන්ද?" යන්නයි.

මෙම විද්‍යුත් තැපෑලට අනුව අගය කර තිබූ නිර්මාණශීලි පිළිතුර වූයේ, " මම මගේ කාර් එකේ යතුර මිතුරාට දී ඔහුට / ඇයට වයසක කාන්තාව රෝහලට බස්වන ලෙස පවසා, මගේ සිහින කුමරා / කුමරිය සමග බස් රථය එන තුරු නැවතී සිටිමි ". යන්නයි. මෙයින් ගත යුතු පාඩම ලෙස එම විද්‍යුත් තැපෑලේ පෙන්වා තිබුණේ 'රාමුවෙන් පිට සිතීම' හෙවත් සාම්ප්‍රදායික රාමුවෙන් පිටතට සිතීමයි.

නමුත් මා මෙම ප්‍රශ්නය යොදා ගත් විට අපේක්ෂා කළ පරිදිම මෙම විද්‍යුත් තැපෑල කලින් කියවා තිබූ එක් පුහුණුලාභියකු ඉහත සඳහන් පිළිතුරම දී තිබුණි. එහෙත් ඔහුට මුළු ලකුණු ලැබුණේ නැත. මන්දයත් අප ලකුණු දුන්නේ වෙනත් පටිපාටියකට අනුව බැවිනි . එම පටිපාටිය වූයේ,

1. තර්කානුකූල / අත්‍යවශ්‍ය චින්තනය (Critical Thinking)
   උදා :- මගේ මිතුරාට වාහන පැදවිය හැකි ද? ඔහුට රියදුරු බලපත්‍රයක් තිබේද, යන කොන්දේසිය මත තර්කය ගොඩ නැගීම හෝ එසේ තිබේය යන උපකල්පනය කර තිබීම.

2. සදාචාරාත්මක චින්තනය
   උදා :- වයසක තැනැත්තාගේ ජීවිතයට දෙන ස්ථානය කුමක් ද? ප්‍රමුඛතා තීරණ කරන විට සදාචාරයට දෙන ස්ථානය කුමක් ද?

3. සංස්කෘතික පැතිකඩ
   උදා :- මැදියම් රෑ ප්‍රතිවිරුද්ධ ලිංගයකට අයත් පුද්ගලයකු සමග උපක්‍රමිකව බස නැවතුමක තනි වුවහොත් ඔහු හෝ ඇය ඔබ ගැන කුමක් සිතයිද? එය ලංකාවේ සංස්කෘතියට අනුව ගැළපේද? එම පුද්ගලයා කුමන ප්‍රතිචාරයක් දක්වයිද?

4. තමන්ගේ තෝරා ගැනීමට හේතු දැක්වීම සහ එම තෝරා ගැනීම සාධාරණීකරණය කර පෙන්වීම.
5. පිළිතුර ඉදිරිපත් කර තිබූ ව්‍යුහය හා ආකර්ෂණීය භාවය යන ඒවාය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබ රාමුවෙන් පිටත සිතනවා යැයි සිතන විට ද ඔබ කලින් සිටියාට වඩා ලොකු රාමුවක් තුළ සිතනවා විය හැක. ඒ නිසා රාමුවෙන් පිටත සිතීම අඛණ්ඩව පුරුද්දක් ලෙස කර ගෙන යා යුතු ක්‍රියාවකි.

☞ ලකුණු දැමීමේ පටිපාටිය කලින් පිළිතුරු ලියන්නන්ට කලින් නොදන්වා ලකුණු දැමීම අසාධාරණ බවට යම් අයකුට තර්ක කළ හැක.

# 119. ගඟ ගලන අතට යෑම

ඉතා උස දිය ඇල්ලක් ආසන්නයේ ඉතා වේගයෙන් ගලා යන ගංගාවකට මහලු මිනිසකු වැටුණි. බලා සිටියවුන් සිතුවේ ඔහුගේ සිරුරේ කැබලිවත් සොයා ගැනීමට අපහසු වනු ඇත කියාය. එහෙත් කවුරුත් පුදුමයට පත් කරමින් මහලු මිනිසා දිය ඇල්ල පහළ ගංගාවෙන් පණපිටින් මතුවිය. ඔහු ගොඩට ආපසු සියලු දෙනාම ඔහුගෙන් ඇසුවේ දිවි ගලවා ගත්තේ කෙසේද? යන පැනයයි. ඔහු පිළිතුරු දෙමින් කීවේ "මම මාව වතුරේ පාලනයට බාර කළා. නැතුව වතුර මගේ පාලනයට ගන්න ගියේ නෑ. සිතන්නේ නැතිව මම මගේ ශරීරය වතුරට අවශ්‍ය විදිහට හැඩ ගැසීමට ඉඩ දී දිය සුළිය තුළට ගොස් ඉන් පිටතටත් පැමිණියා."



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ භයානක අවස්ථාවකදී හැඟීම්වලට හෝ බියට තමාව පාලනය කිරීමට ඉඩ නොදී සන්සුන්ව සිටීම හා තර්කානුකූලව සිතීමෙන් එම අවස්ථාවට සාර්ථකව මුහුණ දීමට ඇති ශක්‍යතාව වැඩි කර ගත හැක.

☞ මෙම කතාව යථාර්ථවාදී නැත. හුදෙක් ඔහු වාසනාවන්ත වූවා පමණි.

☞ තමාගේ දෛවය තමාම හදා ගත යුතුය. බාහිර බලවේගවලට බාරදිය යුතු නොවේ. මෙම අවස්ථාවේදී කළ හැකි හොඳම දෙය ඔහු කර තිබේ.

☞ ජීවිතයේදීත් සමහර විට උඩු ගං බලා පීනීමට වෙර දැරීමට වඩා ගඟ ගලන අතට යෑම යෝග්‍ය විය හැක. නමුත් මෙය අවස්ථානුකූල සාධක මත රඳා පවතී.

☞ කාලය සමහර ප්‍රශ්න ඉතා හොඳින් විසඳයි.

☞ සෑම දෙයක්ම උපෙක්ෂාවෙන් මැදහත් සිතින් බාර ගැනීමේ වාසි පෙන්වන කතාවකි.

# 120. ලොව පහසුම ප්‍රශ්න පත්‍රය

දිනක් ගුරුවරියක් තම සිසුන්ට ප්‍රශ්න 3කට උත්තර සපයන ලෙස කීවාය. එම ප්‍රශ්න වූයේ....

01. අවසාන වරට හේස්මන් ශූරතාවය දිනා ගත් පස් දෙනා නම් කරන්න.
02. පසු ගිය වසර පහේ ශ්‍රී ලංකා රූ රැජිණිය වූ පස් දෙනා නම් කරන්න.
03. නොබෙල් සම්මානය දිනා ගත් පුද්ගලයින් 10 දෙනකු නම් කරන්න.

මෙම ප්‍රශ්නවලට සම්පූර්ණ ලකුණු ගැනීමට කිසිවකුටත් හැකිවූයේ නැත. ගුරුවරිය තවත් ප්‍රශ්න පත්‍රයක් දුනි. එහි තිබූ ප්‍රශ්න වූයේ...

01. තමන්ගේ ජීවිතයට ප්‍රයෝජනවත් යමක් කියා දුන් පුද්ගලයන් පස්දෙනකු නම් කරන්න.
02. තම ජීවිතය සාර්ථක කර ගැනීමට උපකාර වූ ගුරුවරු පස්දෙනකු නම් කරන්න.
03. තමා කරදරයේ වැටුණු විට උපකාර කළ මිත්‍රයන් පස්දෙනකු නම් කරන්න.
04. තමාව අගය කළ පුද්ගලයන් පස්දෙනකු නම් කරන්න.
05. තමා කාලය ගත කිරීමට කැමති පුද්ගලයන් පස්දෙනකු නම් කරන්න.
06. තමන්ගේ ජීවිතයට ආදර්ශ ලබාගත් වීරවරයන් පස්දෙනකු නම් කරන්න.

මෙම ප්‍රශ්න පත්‍රයට සියලුම සිසුන් ලකුණු 100 න් 100 ම ලබාගෙන තිබුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබගේ ජීවිතයට වෙනසක් ඇති කරන පුද්ගලයන් වන්නේ, ලොව වඩාත්ම ධනය තිබෙන, ප්‍රසිද්ධම හෝ සම්මාන දිනාගත් පුද්ගලයන් නොව, ඔබ ගැන සැලකිලිමත්වන ඔබට හිතවත් පුද්ගලයින්ය.

☞ පළමු ප්‍රශ්න පත්‍රයේ තිබූ පුද්ගලයන් අත් කරගත් ජයග්‍රහණ සුළු පටු නොවේ. ඒවා තම තමන්ගේ ක්ෂේත්‍රවල ඉහළම අත්පත් කරගැනීම්ය. එහෙත් අත්පුඩි වියැකී යයි. සම්මාන මළකඩ කයි. අත්පත්කර ගැනීම් අමතක වේ. බොහෝ සහතික හා සම්මාන ඒවායේ අයිතිකරුවන් සමගම වළ දැමේ.

# 121. මැදියම් රැයේදී ලියූ ලියුම

දිනක් මා රෝහලක නතරව සිටින විට යාබද ඇඳේ සිටින ලෙඩා රෑ 2.00 ට පමණ ලියුමක් ලියමින් සිටින බව දක්නට ලැබුණි. අනුන්ගේ වැඩවලට හොට දමා පුරුදු මම ඔහුට කතා කර කාටද ඔය ලියුම ලියන්නේ යැයි විමසීය. "මහත්තයා අහපු නිසා කියන්නම්. මම මේ මගේ දුවට ලියුමක් ලියන්නේ. මම දිවිනසා ගන්නයි හදන්නේ" යැයි ඔහු කීවේය. මින් වික්ෂිප්ත වූ මම "ඇයි ඔබතුමාට දරුවෝ සලකන්නේ නැද්ද?" යැයි ඇසුවෙමි. ඔහු කීවේ තමා විශ්‍රාමලත් විදුහල්පතිවරයකු බවත් තමාට දරුවන් හොඳින් සලකන බවත්ය. එහෙනම් සියදිවි නසා ගන්න උත්සහ කරන්නේ ඇයිදැයි විමසූ විට ඔහු කීවේ තමාට හෘදයාබාධයක් වැළඳී යන්තමින් බේරුණ බැවින් වෛද්‍යවරුන් තමාට මල්පෝච්චියක් තරම් බරක්වත් උස්සන්නට එපා යැයි අවවාද දී තිබෙන බවය. තවදුරටත් ඔහු කීවේ තමා තරුණ කල ඉඳන් හෘදයාබාධය වැළඳෙන තෙක්ම ඉතා ක්‍රියාශීලීව සිටි අයකු බවත් තමාට පැයකටත් වඩා එක දිගට පිහිනීමට හැකියාව තිබූ බවත් තමා බර ඉසිලීම ප්‍රගුණ කළ අයකු බවත් සැතපුම් 14 ක් එකදිගට දිවිය හැකිව තිබූ බවත්ය. "මල් පෝච්චියක්වත් උස්සන්න බැරිව ජීවත් වෙලා මොකටද මහත්තයෝ "යැයි ඔහු කතාව සම්පූර්ණ කළේය. "මහත්තයා කිව්වා නේද ඔබතුමා විශ්‍රාමික විදුහල්පතිවරයෙක් කියලා ඔබතුමා පොත් එහෙමත් ලියලා ඇති නේද ? "මම ඇසුවෙමි. "ඔව් ඔව් මම දැනටම පොත් හතරක්ම ලියලා තියෙනවා" එතැන් පටන් අප අතර ඇතිවූ සංවාදය පහත පරිදිය.



**මම**:- ඔබතුමාට සෑහෙන කථිකත්වයකුත් ඇති නේද?

**විශ්‍රාමික විදුහල්පති** :- නැතිව නැතිව මම හැම සඳුදාම ළමයින්ට නායකත්වය වගේ දේ ගැන දේශනා පවත්වනවා .

**මම**:- ඒ කියන්නේ ඔබතුමාට වැඩිහිටියන්ට පවා දේශනා පවත්වලා ඔවුන්ගේ ජීවිත යහමගට වෙනස් කිරීමේ හැකියාවක් තියෙනවා. එතකොට ඔබතුමාට කතන්දර කියන්නත් පුළුවන්ද?

**විශ්‍රාමික විදුහල්පති** :- අපොයි ඔව් මම මගේ මුණුපුරන්ට රසවත් වගේම ආදර්ශවත් කතා කියනවා. ආ මට කියන්න මතක නැති වුණානේ. මම දහම් පාසලකත් උගන්වනවා.

**මම**:- දැන් බලාගෙන ගියාම ඔබතුමාට මල් පෝච්චි උස්සන්න බැරිවුණාට කරන්න පුළුවන් සමාජ සත්කාර රාශියක්ම තියෙනවානේ.

"ඒකත් හැබෑවනේ " කියූ ඔහු කොළය කුණු කූඩයට දමා නිදා ගැනීමට සැරසුණි.

# 122. අහසින් ගිය ඉබ්බී

එක් නියං කාලයක වතුර හිඳෙමින් තිබූ විලක ඉබි සොයුරු සොයුරියන් තිදෙනෙක් විසූහ. විලේ වතුර නැතිව තව ටික කාලයක් සිටියොත් මිනිසුන් පැමිණ තමන්ව මරා ගෙන කන බවත් අහල පහලක වතුර පිරි විලක් නැති බවත් ඉබි සොයුරෝ දැන සිටියහ. ඔවුහු ළඟ ළඟ පෙනෙන මරණයෙන් බේරීමට විවිධ උපා කල්පනා කළෝය. එම විලට මාළු කෑමට එන කොක්කු ජෝඩුවක් සමග මිත්‍ර වූ ඉබි අයියා උන් කැමති කරවා ගෙන අහසින් ගොස් වෙන විලකට ඇරලීමට සැලසුමක් සාදා ගත්තේය. කොක්කු ජෝඩුව කෝටුවක දෙකෙළවරින් හොටෙන් අල්ලා ගෙන ඉබ්බා කෝටුවේ මැද කටින් එල්ලී අහසින් යාම ඔවුන්ගේ සැලසුම විය. එහෙත් කොළඹ ප්‍රදේශයේ පාසලක් ඉහළින් කොක්කු ජෝඩුව ඉගිලෙන කොට අනුන්ගේ වැඩට අත නොදා සිටීමට නොහැකි වූ පහළ සිටි ළමුන් අන්න ඉබ්බෙක් අහසින් යනවෝ කියා විහිළු කළහ. එවිට කට පියාගෙන සිටීමට නොහැකි වූ ඉබි අයියාද ළමුන්ට බනින්නට කට ඇරිය පමණින් බිම වැටී කුඩුපට්ටම් වී ගියේය.



මෙම කොක්කු ජෝඩුව නැවතත් ඉබි සහෝදරයන් සිටින විලට මාළුන් කෑමට පැමිණි විට ඉබි මල්ලි කීවේ තමන් අයියා මෙන් මෝඩ වැඩ නොකරණ බවත් තමන් එහා ගමේ විලට ඇරලවන ලෙසත්ය. ඉබි අයියාට වූ ඇබැද්දිය මතක් වූ හෙයින් කොකුන් මීට මුලින් අකමැති වුවද ඉබි මල්ලීගේ බලවත් පෙරැත්තය නිසා පසුව කැමති විය. කොකුන් කීවේ අයියාගේ වරදින් පාඩමක් ඉගෙන ගන්නා ලෙසත් පාසල් ළමුන් කොපමණ විහිළු කළත් බනින්න නොයන ලෙසත්ය. මෙම අවවාදය තරයේ පිළිගත් ඉබි මල්ලී පාසල් ළමුන් අන්න ඉබ්බෙක් අහසින් යනවෝ කියා කෑ ගැසුවත් කට ඇරියේ නැත. පාසල නොපෙනී යන තෙක් සිටි ඉබි මල්ලී “කෙහොමද මං හොඳයි නේද?
මං ළමයින්ට බනින්න කට ඇරියේ නෑනේ ”යැයි කියනවාත් සමඟම බිමට වැටී කුඩුපට්ටම්වී ගියේය.

නැවතත් පරණ පුරුදු විලට ගිය කොක්කු ජෝඩුවට ඉබි නංගී හමුවිය. ඉබි නංගීද පෙර ඉබි සහෝදරයන් දෙදෙනා මෙන්ම එහා ගමේ විලට ගොස් ඇරලවන මෙන් ඇවටිලි කළේ තවදුරටත් මෙහි සිටියහොත් මරණය නියත බව කියමිනි. ඉබි නංගී කීවේ ඉබි මල්ලීට වැරදුණේ ඉබි අයියාගේ පාඩමේ මතුපිට හරය පමණක් ගෙන පාසල් ළමුන්ට නොබැනීමට පමණක් තීරණය කළ නිසා බවත් උගත යුතුව තිබූ පාඩම විය යුතුව තිබුණේ “කෝටුව කටෙන් ගිලිහි යාමට හේතුව වූ කට නො ඇරීම බවත්ය. එමෙන්ම ඉබි නංගී ප්‍රකාශ කළේ තමන් තම සහෝදරයන් මෙන් නොව ඉතා අචාරශීලී බවත් ළමුන් බැන්නත් ඉන් කෝප නොවන බවත්ය.

ඉබ්බිගේ විශ්ලේෂණය ගැන පැහැදුණු කොකුන් දෙදෙනා ගුවන් ගමනේදී කළ යුතු නොකළ යුතු දේ ගුවන් සේවිකාවකටත් වඩා හොඳින් තේරුම් කරදී ඉබි නංගීව ගුවනින් ගෙන යාමට පටන් ගති. පාසල් ළමුන් විහිළු කළද ඉබ්බී කට ඇරියේ නැත.ඉබි මල්ලී කට ඇරිය තැන පාස් කළද ඉබි නංගී කට ඇරියේ නැත. මින් පැහැදුණු කොක්කු ජෝඩුව මේ ඉබ්බී නම් මොළකාරියක් යැයි කියනවාත් සමගම කෝටුව ගිලිහී ඉබ්බී බිම

වැටීමට පටන් ගත්තේ සතුට වැනි හැඟීම් අබියස ගුරුන්ටත් අකුරු වරදින බව සිහි කරවමිනි. එහෙත් කලබල නොවී තැනට සුදුසු නුවණ පාවිච්චි කළ ඉබ්බී කෝටුව අත්හැරියේ නැත. කොකුන් දෙදෙනා වහාම ගුවන් හමුදාවේ ගුවන් සංදර්ශනයක ගුවන් යානා මෙන් බල්ටියක් ගසා නැවතත් කෝටුව කටින් අල්ලා ගත්තේය. මින් සතුටට පත් ආචාරශීලී ඉබි නංගී “thank you” යැයි කීවාය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඉබි සහෝදරයනුත් කොකුන් ජෝඩුවත් බාහිරව සහ තමන් තුළින්ම එන බාධා නිසා තම අරමුණින් සිත ඉවත් කර ගැනීමෙන් අමාරුවේ වැටුණි. අනුන්ට දොස් කීම, ස්වයං වර්ණනාව, සතුට දුක ආදී හැඟීම්, ආචාරශීලී බව ආදී කුමන කරුණකින් වත් තම මුල් අරමුණ අමතක කර මාර්ගයෙන් පිට පැනීම නුසුදුසු බව ඉබි සොයුරු සොයුරියන් සහ කොකුන් ජෝඩුව අපට මතක් කර දෙයි.
- එමෙන්ම කොකුන් ජෝඩුව තමන් හොටෙන් ගිලිහුණු කෝටුව නැවත ඩැහැගත්තාක් මෙන් අප කරන සමහර වැරදි නිවැරදි කර ගැනීමට අපට දෙවන අවස්ථාවක් ලැබේ.
- එහෙත් සමහර වැරදි ඉබ්බා කෝටුව අත හැරියා වාගේ විය හැක. එමෙන්ම සැලසුම්කරණයේදී එහි වැරදි ඇති තැන්, ඇති විය හැකි බාධා සහ ඒවා මග හරවා ගැනීමට පෙර සැලසුම් කිරීමේ (trouble shooting) වටිනාකම මෙම කතාවෙන් පෙන්නයි.
- ඕනෑම අත්දැකීමක හරය මතුපිටින් පමණක් නොගෙන එය ගැඹුරින් විශ්ලේෂණය කර නිවැරදි පාඩම් උකහා ගැනීම වැදගත්ය.
- ඉබි අයියා මෙන් අනුන්ගේ කතාවලින් තම සිත අරමුණින් ඉවත් කර නොගෙන තමා කරන වැඩය අවධානයෙන් යුතුව කරන්න. මීට හොඳ නිදසුනක් වන්නේ ප්‍රේමදාස ජනාධිපතිතුමා පාර්ලිමේන්තුවේදී දෝෂාභියෝගයට පිළිතුරු කතාව කරන විට විපක්ෂය සහ ලලිත් පාර්ශ්වය දැඩිව ඝෝෂා කළද ප්‍රේමදාස මැතිතුමා ඒවා නොඇසුණු කන්ව දිගින් දිගටම තම දේශනය පවත්වාගෙන යාමයි.
- මානෙල් සුවඳමය - කුඩමසු පිලී ගඳමය<br>දෙකට එක දියමය - හොඳට නරකට දෙකට කටමය.
- නීති රීති එයට සම්බන්ධ සියලුම පාර්ශව විසින් අනුගමනය කළ යුතුය.

# 123. සත්‍යය කොහිද?




සත්‍යය සොයා ගැනීම සඳහා භාවනා කිරීම ඉගැන්වූ ගුරුවරයකු වෙතින් එක් ශිෂ්‍යයෙක් ශිල්ප ඉගෙන ගත්තේය. එම ගුරුවරයාගේ ඉගැන්වීම්වල මූලික හරය වූ "සත්‍යය නම් තමාගේම මනසයි" යන්න පදනම් කරගෙන භාවනා කිරීමට සිතූ ශිෂ්‍යයා කැලයකට ගොස් අවුරුදු 20 ක් භාවනා කර දිනක් නගරයට පැමිණියේය. ඔහුට අහම්බෙන් තම ගුරුවරයා වෙතින් ශිල්ප ඉගෙන ගන්නා තවත් භාවනා යෝගියකු හමුවිය. "කරුණාකරලා මට කියන්න ඔබ මොනවද දන්නේ අපේ ගුරුතුමාගේ ඉගැන්වීම්වල හරය ගැන" යනුවෙන් භාවනානුයෝගියා ඇසුවේය. අමුත්තාගේ ඇස් සන්තෝෂයෙන් දැල්වී "අපේ ගුරුතුමා ඒ ගැන ඉතා පැහැදිලිව කියලා තිබෙනවා. ඔහුගේ ඉගැන්වීම්වල මූලිකම හරය තමයි සත්‍යය නම් තමාගේ මනස නොවේ යන්න".

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ඕනෑම ඉගැන්වීමක් එක් අවස්ථාවක කෙතරම් තර්කානුකූල බව පෙනුණත් එය කාලයත් සමඟ වෙනස් විය හැක. වෙනස් වීම් සහ අදහස්වල වෙනස්වීම් වලට අප නම්‍යශීලීවිය යුතුය. කලක කතෝලික සභාව ලෝකය පැතලි බවත්, ඉර සහ සඳ ලෝකය වටා භ්‍රමණය වන බවත් ඉගැන්වීය. ගැලීලියෝට වස පානය කර මිය යාමට සිදු වූයේද ඊට ප්‍රතිවිරුද්ධ මත ප්‍රකාශ කිරීමට යාමෙනි. එහෙත් කතෝලික සභාව පසුකාලීනව මෙම ඉගැන්වීම වැරදි බව පිළිගත්තේය.
- බොහෝ ආගම් සර්වකාලීන ධර්මයන් සේ අනුගාමිකයෝ සලකති. බෞද්ධ දර්ශනයද මීට උදාහරණයකි.
- තමන්ට ඇසෙන උගන්වන සියලු දෙයම එක පාරටම විශ්වාස කර ඒ මත ක්‍රියා කිරීමට තරම් කලබල නොවන්න. හොඳින් විමසා බලා එහි යටි අරුත තේරුම් ගෙන ක්‍රියාවට නංවන්න.
- යම් තේමාවකට කොටු නොවී විවෘත මනසකින් සත්‍යය සෙවීමට භාවනා කළා නම්, යම් කර්තව්‍යයක යෙදුණා නම් මීට වඩා ප්‍රයෝජනවත් වනු ඇත.
- එකිනෙකට පරස්පර වූ සත්‍යයන් පවතී.
- සත්‍යය සාපේක්ෂය. එක් අයකුට, එක් ආගමකට සත්‍යයක් තවත් ආගමකට තවත් අයකුට සත්‍යයක් නොවේ. බෞද්ධයාගේ දෘෂ්ටියට බෞද්ධ දර්ශනය සම්මා සං දුට්ඨිකය. අනිකුත් ආගම් මිත්‍යා දෘෂ්ටිකය .ඉස්ලාම් භක්තිකයාද, ක්‍රිස්තියානි භක්තිකයාද සිතන්නේ තම දහම පමණක් සත්‍ය බවය. ධනවාදී ඇමරිකාවට, උතුරු කොරියාව, චීනය අන්තවාදී කොමියුනිස්ට්කාරයන්ය. සමාජවාදී විජේවීරලාට ඇමරිකාව ධනවාදී සූරා කන්නන්ය. තමන්ගේ මතය සංදෘෂ්ටික සහ අනුන් මතය මිත්‍යා දෘෂ්ටිකයි යන අදහස ලොව පවතින තාක් කල් සැබෑ සහජීවනයක් නැත.
- කොන්ෆියුෂියස් පැවසුයේ ලොව කෝටි ගණනක ජනතාවක් විශ්වාස කළද අසත්‍යයක් සත්‍යයක් නොවන බවය. එසේම පාරම්පරිකව විශ්වාස කළද, බහුතරය විශ්වාස කළද, සමාජ සම්මතය වුවද, කෙතරම් උගතුන් කීවද සත්‍යයක් අසත්‍යයක් වන්නේද, අසත්‍යයක් සත්‍යයක් වන්නේද නැත.
- බොහෝ ආගම්වල මෙම කතන්දරයේ හරය ඇත.
- සෑම දෙනාම යමක් පිළිබඳව දරන ආකල්ප සහ තමන් සමාජය දකින දෘෂ්ටිය නිරන්තරයෙන්ම වෙනස් වේ. භාවනා ගුරුතුමා අවුරුදු 20කට පෙර දැක්ක විදියට වඩා වෙනස් දෘෂ්ටියකින් අද දක හෙට වෙනස් විදියකට නොදකී යයි සහතික කළ ද නොහැක.

# 124. මල් පැළ සිට වූ විධායක නිලධාරියා

ප්‍රසිද්ධ ව්‍යාපාරයක් ගොඩ නැගූ සාර්ථක ව්‍යාපාරිකයෙක් මහලු වියට ළංවෙමින් සිටි අතර තමාගෙන් පසුව ව්‍යාපාරය බාර ගැනීමට සුදුස්සකු තෝරා ගැනීමට තීරණය කළේය. තමාගේ පුතා හෝ දුව හෝ වෙනත් ඥාතියකු ප්‍රධාන විධායක නිලධාරියා ලෙස පත් කිරීම වෙනුවට සියලු දෙනාටම සමාන අවස්ථාවක් දීමට ඔහු තීරණය කළේය.

ආයතනයේ සියලුම සේවකයින්, අධ්‍යක්ෂක මණ්ඩලය, පවුලේ උදවිය ආදි සියලු දෙනා කැඳවූ ඔහු ''දැන් මට මෙම ආයතනයේ ප්‍රධාන විධායක නිලධාරී සහ සභාපති තනතුරින් ඉවත්ව නව සභාපති කෙනෙක් පත් කිරීමට කාලය ඇවිත් තියෙනවා. මම තීරණය කළා ඔබ අතුරින් වඩාත්ම සුදුසු කෙනා එම තනතුරට තෝරා ගැනීමට". මෙය ඇසූ සුළු සේවකයින් පුදුමයට පත් වූ අතර පවුලේ උදවිය සහ ජ්‍යෙෂ්ඨ කළමනාකරුවන් තරමක් අමනාපයට ද පත්විය. ඔහු දිගටම කතා කරගෙන ගියේය. ''මම අද සෑම දෙනාටම බීජයක් බැගින් ලබා දෙනවා. ඒවා ඉතා විශේෂිත වූ බීජ. ඔබ මෙම ඇටය පෝච්චියක පැළ කර වතුර දමා අවුරුද්දකට පසුව මා ඔබට දුන් බීජයෙන් ඔබ වගා කළ පැළයත් සමග මෙහි පැමිණිය යුතුයි. එවිට මම ඔබ අතරින් මේ තනතුරට සුදුසුම කෙනා තෝරා ගන්නම්''

ඈන් නැමති ආයතනයට අලුතින් බඳවා ගත් කළමනාකාර අභ්‍යාසලාභිනියක් ද මේ අතර සිටියාය. ඇය ගෙදර ගොස් තම බීජය පෝච්චියක පැළ කර තම සැමියාට ද මේ බව දන්වා සිටියාය. ඈන් දිනපතා වතුර දමා බීජයට සාත්තු කළාය. සති තුනකට පමණ පසු ආයතනයේ අනිකුත් සේවකයන් තම තමන්ගේ බීජ දළුලා වැඩෙන හැටි විස්තර කළත් ඈන්ගේ බීජයේ දල්ලක්වත් ඉහළ ආවේ නැත. මාස දෙකක් පමණ යනවිට ඈන්ට තමා ගැන හීනමානයක් සහ තමා අසාර්ථක තැනැත්තියක් ය යන හැඟීම ඇති වී තිබුණි. මාස 6කේ ගත වන විට අනිත් සේවකයන්ගේ පැළ ගස් බවට පත්ව තිබූ අතර සමහරු මල් සහ එල ගැනත් වර්ණනා කිරීමට පටන් ගත්තේය. ඈන් කොතරම් අධෛර්‍යයට පත් වුව ද දිනපතා වතුර දැමීම අත් හැරියේ නැත. අවුරුද්දක් ගෙවී අවසන් වූ තැන ව්‍යාපාරිකයා සියලු දෙනාටම තමන්ගේ පෝච්චිත් රැගෙන ආයතනයේ ප්‍රධාන දේශන ශාලාවට පැමිණෙන ලෙස නියෝග කළේය. ඈන්ට ලැජ්ජාව උහුලාගත නොහැකිව එදිනට ලෙඩ නිවාඩු දැමීමට සිතුව ද ඈන්ගේ සැමියා පැවසුවේ අවංකව ගොස් තමන්ට සාර්ථකව එය කිරීමට බැරි වූ බව පවසා යථාර්ථයට මුහුණ දෙන ලෙසයි. ඇය තමාගේ හිස් පෝච්චියත් ගෙන දේශන ශාලාවේ මුල්ලකට වී බලා සිටියේය. අනිත් සේවකයන්ගේ සහ සභාපතිතුමාගේ නැදෑයින් ශාලාවට ගෙන ආ විවිධ වර්ගවල අලංකාර මල් සහ පලතුරු පැළ දුටු ඈන්ට ලැජ්ජාව උහුලා ගත නොහැකි විය. සමහර සේවකයෝ ඈන්ට සිනහවූ අතර සමහරු ඇයට අනුකම්පා කළහ.

සභාපතිතුමා පැමිණි විට සියලු දෙනාම මීයට පිම්බාක් මෙන් නිශ්ශබ්ද විය. ''මෙච්චර ලස්සන පැළ ගොඩක් මම ජීවිතේටම දැකලා නෑ'' සභාපතිතුමා කීවේය. ඉන් පසු ඔහු සියලු දෙනාගේම පෝච්චි පරීක්ෂා කරමින් ශාලාව වටේටම ගියේය. අවසානයේ ඈන්ට ඉදිරියට එන ලෙස සභාපතිතුමා කීවේය. ඇය වෙව්ලමින් ඉදිරියට ආවේ ඇයගේ අසාර්ථකභාවය නිසා ඇයව ආයතනයෙන් අස් කිරීමට ඔහු සූදානම් වන බව සිතමිණි. පෝච්චියේ පැළයක් නැති වීමට හේතු දක්වන ලෙස සභාපතිතුමා ඈන්ට කී විට ඇය ඇත්තටම සිදු වූ දෙය කීවාය. සභාපතිතුමා ඇයව නැවත තම අසුනට යවා ''මම දැන් අලුත් සභාපති නම් කිරීමට යන්නේ, ඇය තමා ඈන්'' යනුවෙන් පැවසීය. අනිත් සේවකයෝ නොසන්සුන්ව විශාල කාලගෝට්ටියක් ඇති කළහ. සභාව තරමක් සන්සුන් වූ පසු සභාපතිතුමාගේ පුතා පිරිස වෙනුවෙන් කට හඬ අවදි කළේය. ''ඈන්ට පැළයක් හරියට හිටුව ගන්නවත් බැරිව කොහොම ද එයා මේ තනතුරට සුදුසු වුණේ.''

''අවුරුද්දකට ඉස්සෙල්ලා මේ ශාලාවේ දී මම ඔබ සියලු දෙනාටම දුන්නේ තම්බාපු මැරිච්ච බීජයක්, එම බීජයෙන් පැළ හටගැනීමට කිසිම විදිහයක් නෑ. ඇන් ඇරුණහම අනිත් හැමෝම අද මෙතනට විවිධ පැළ වර්ග ගෙනැල්ලා. ඔබලා කළේ එම බීජය වැවුණේ නැති විට වෙන බීජයක් ඒ  වෙනුවට සිටවීම. ඇන්ට විතරයි අවංකකම සහ ධෛර්යයක් තිබුණේ මා දුන් බීජය සහිත හිස් පෝච්චිය මෙහි ගෙන ඒමට. ඒ නිසයි ඇය මෙම තනතුරට වඩාත්ම සුදුසු වන්නේ "යනුවෙන් සභාපතිතුමා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- අවංකකම සමාජයේ අනිත් අයට වඩා වෙනස් බව ප්‍රසිද්ධියේ පිළිගැනීමේ ධෛර්යය, තමාගේ අසාර්ථකත්වයට සෘජුව මුහුණ දීමේ හැකියාව ආදිය සභාපති තනතුරට අත්‍යවශ්‍ය ගුණාංග විය හැක. නමුත් ඈන්ට ව්‍යාපාර පරිපාලනයට අවශ්‍ය අනිකුත් දක්ෂතා, දැනුම සහ හෝ එම දැනුම සහ දක්ෂතා වර්ධනයට අවශ්‍ය ශක්‍යතාවන් බුද්ධි මට්ටම් නැතිනම්, අත්දැකීම් සහ ව්‍යවසායකත්වය නැතිනම් ව්‍යාපාරයට යන කල දවස් කෙසේ වේවිද?
- වැරදිලාවත් හිස් මල් පෝච්චි එකකට වැඩි ගණනක් තිබුණා නම්?

# 125. කලබලයකදී ක්‍රියා කළ යුතු විදිය

දිනක් පාසලක් භූමිකම්පාවකට හසුවී ඉන් කොටසක් කඩා වැටුණි. භූමිකම්පාව අවසන් වූ පසු පාසලේ විදුහල්පති තම ගෝලයන් රැස්කරවා දේශනයක් දුන්නේය. “දැක්කද කලබලයකදී කොහොමද හැසිරිය යුත්තේ කියලා.” මම පොඩ්ඩක්වත් කලබල වුණේ නෑ. මම තේරුම් ගත්තා මොකක්ද වෙන්නේ කියලා. ඊළඟට මම තීරණයක් ගත්තා කළ යුත්තේ කුමක්ද කියලා. මම ඔබ සියලු දෙනාම පාසලේ හයියම කොටස වන ගෘහ විද්‍යා අංශයේ මුළුතැන් ගෙය වෙතට ගෙන ගියා. ඒක හොඳ තීරණයක්. මොකද අපි කාටවත් තුවාලයක්වත් නැතිව බේරෙන්න පුළුවන් වුණා. මම මෙච්චර තැන්පත්ව කලබල නොවී ක්‍රියා කළත් ඔබට දකින්නට පුළුවන් වෙන්න ඇති මමත් තරමක් ආතතියකින් සිටිය බව. ඔබ දකින්න ඇතිනේ මම සාමාන්‍යයෙන් නොකරන විදිහට ලොකු වතුර ජෝග්ගුවක්ම බීගෙන බීගෙන ගිය බව.”

එක් කුඩා ශිෂ්‍යයෙක් මෙය ඇසූ විට හිනා වීමට පටන් ගත්තේය. එවිට විදුහල්පති “ඔබ මොනවටද හිනාවෙන්නේ” යැයි තරමක් තරහින් ඇසුවේය. “ඒ වතුර නෙවෙයි. ඒ ලොකු සෝයා සෝස් ජෝග්ගුවක්” සිසුවා පිළිතුරු දුණි.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- සමහර විට හදිසි අනතුරකදී තැන්පත්ම ලෙස පෙනෙන පුද්ගලයා ඇතුළතින් ඉතාමත් ආතතියෙන් සිටින්නා විය හැක.
- ආතතියක් සහිත අවස්ථාවලදී තමන් කරන්නේ මොනවාදැයි හරි අවබෝධයක් නැති විය හැක. එය වැටහෙන්නේ වෙන අයෙක් පෙන්වා දුන් පසුය.
- බියවීමට බියවෙන්න එපා.
- පාසලේ සියලුම දෙනාගේ ජීවිත බේරාගත් පසු විදුහල්පති සෝයා සෝස් බීම ප්‍රශ්නයක් නොවේ. ඔහු තුළ ආතතියක් තිබුණත් ඔහු තම බිය යටපත් කරගෙන එම අවස්ථාවේ නිවැරදි තීරණය ගෙන කළ යුතු දේ කිරීමයි වැදගත්.

# 126. බස් දෙබස්

පොදු ප්‍රවාහන සේවාවන් හිඟ කාලයක රාත්‍රී 10 ට පමණ පිටකොටුව බස් නැවතුම් පොළට මා පැමිණියේ දෙහිවල පිහිටි මගේ නිවසට යාමටයි. බස් හිඟකම නිසා තවත් දහ පහළොවක පිරිසක් එම බස් නැවතුමේ රැඳී සිටි අතර ඔවුන් අතර වයසක ආච්චි අම්මා කෙනෙක්ද, හාමුදුරුනමක්ද සිටියෝය. යම් අකරතැබ්බක් වූ විට එකමුතුව කණ්ඩායමක් ලෙස වැඩ කර පොදු අරමුණ සපුරා ගැනීම මනුෂ්‍ය ගතිය වූ හෙයින් එහි සිටි පිරිස එකිනෙකා හා කතාවට වැටුණි. අප සියලු දෙනා එක්ව වෑන් රථයක්වත් කුළියට ගෙන සමානව ගාස්තුව බෙදාගෙන යමුයැයි කතා කරමින් සිටින අතර "දෙහිවල, ගල්කිස්ස, රත්මලාන, මොරටුව, මොරටුව, මොරටුව" යැයි යටි ගිරියෙන් කෑගසාගෙන ආ කොන්දොස්තරවරයකු සිටි බට්ටා බස් එකක් අප ඉදිරිපස නතර කළේය. මම අපේ සාමූහික හැඟීම, කණ්ඩායම් වැඩ, ආදී සියල්ල අමතකව ආච්චි අම්මාවත් හාමුදුරුවන්වත් ඔන්න මෙන්න පෙරළාගෙන දනි පනිගා බසයට නැග සීට් එකක් අල්ලා ගත්තෙමි. බසයට නැග වාඩි ගත් අනික් අය එකිනෙකාගේ මුහුණට මුහුණ බලන විට, මගේ ආත්ම කේන්ද්‍රීය හැසිරීමේ තරම මට වැටහුණි. එහෙත් වැරදි කිරීම මනුස්ස ගතියක් හා සමාව දීම දේව ගතියක් වන නිසාදෝ අනිත් උදවිය මගේ ආත්ම කේන්ද්‍රීය බව අමතක කර දමා නැවතත් මා හා කතාවට වැටුණි. බසය වැල්ලවත්ත ප්‍රදේශය පසුකරනවාත් සමඟම එන්ජිමෙන් ගොර ගොර ශබ්දයක් පිටවීමට පටන් ගති. එක් අයකු කීවේ බසයේ යාන්ත්‍රික දෝෂයක් ඇති බවත් බසය කැඩෙන්නට යන බවත්ය. දෙවරක් නොසිතූ මම "අඩුම ගානේ දෙහිවලටවත් ගිහිල්ලා බස් එක කැඩුණාට කමක් නෑ" යනුවෙන් පැවසුවෙමි. අනික් අය එකිනෙකාගේ මුහුණ බලා ගත් නමුත් කිසිවක් නොකියා මුනිවත රැකීය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ ළමයකු කුඩා කළ, ලොවම තමා කේන්ද්‍ර කර ගෙන සිතන්නේ "බබාගේ අම්මා," "බබාගේ බෝලේ" ආදී වශයෙනි. එහෙත් වැඩිහිටියකු වන විට බදා ගැනීමට නොව බෙදා ගැනීමට පුරුදු විය යුතුය. නැතහොත් ආත්ම කේන්ද්‍රීයතාව අඩුකර, යටපත් කර අන්‍ය කේන්ද්‍රීයතාව වර්ධනය කර ගත යුතුය

# 127. මිය ගිය භාවනානුයෝගියා

ගිහියෙක් භාවනානු යෝගියකු හමුවීමට පැමිණ ඔහුගෙන් ප්‍රශ්නයක් ඇසුවේය.

**ගිහියා** : භාවනානු යෝගියකුට මරණයෙන් පසුව සිදුවන්නේ කුමක්ද?

**භාවනානු යෝගියා** : මම දන්නේ නෑ.

**ගිහියා** : ඒත් ඔබ භාවනානු යෝගියෙක්නේ?

**භාවනානු යෝගියා** : ඔව් ඒත් මම මැරිච්ච භාවනානු යෝගියෙක් නෙවෙයිනේ.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- බොහෝ දෙනෙක් තමන් නොදන්නා බව කීමට බිය වෙති. බුද්ධිමතා තමන් උගත් නැති බව දනී.
- තමන් හරියටම නොදන්නා දෙය තවත් අයකු කී පමණින් හෝ පොතක තිබූ පමණින් තමන්ගේම මතයක් ලෙස, තමා හොඳින් දන්නා දෙයක් ලෙස ප්‍රකාශ නොකරන්න. නොදන්නා දෙය නිර්මාණය නොකර නොදන්නා බව කියන්න.
- මෙම කතාවෙන් ප්‍රකාශ වෙන්නේ අප හරියටම දන්නේ අප අත්දැකීම් ලද දෙය පමණක් බවද?.
- මෙම භාවනානුයෝගියා නිවන් දැක සත්‍යය අවබෝධ කර ගෙන තිබුණා නම් මෙම පැනයට පිළිතුරු දිය හැකි වේවිද?
- බෞද්ධ දර්ශනය නැතිනම් ක්‍රිස්තියානි ධර්මය අනුව පුද්ගලයකුට මරණින් පසුව සිදුවන්නේ කුමක්දැයි ඇසුවොත් ප්‍රශ්නයට වඩාත් පහසුවෙන් පිළිතුරු දිය හැකි වනු ඇත.
- ජීවිතයෙන් පසුව/මරණින් පසුව වෙන්නේ කුමක්දැයි එක් එක් ආගම්වල තිබෙන එක් එක් පුද්ගලයා කියන දේ විශ්වාස කිරීම තේරුමක් නැති බව මෙම කතාව පෙන්නුම් කරයි. මරණය වෙත ආ විට ඊට මුහුණ දෙන්න.
- සත්‍ය වන එකම සත්‍යය නම් අප සත්‍යය නොදන්නා බවය.
- භික්ෂුවට පිළිතුරු දිය හැකි විධි රාශියකි.
- "මම දන්නෙ නෑ.
  "මම දන්නෙ නෑ - ඔබ දන්නවාද?"
  "මම දන්නෙ නෑ - මම කවදාවත්ම දැන ගනීවියැයි මම හිතන්නේ නෑ.
- සෑම ප්‍රශ්නයකටම පිළිතුරු තියෙනවාද?.

# 128. හිස් සබන් පෙට්ටිය

ජපානයේ විශාලතම සබන් නිෂ්පාදන කර්මාන්ත ශාලාවකට පාරිභෝගිකයකුගෙන් පැමිණිල්ලක් ලැබුණි. ඒ තමන් මිලදී ගත් සබන් පෙට්ටියක් තුළ සබන් කැටයක් තිබුණේ නැති බවටය. මෙම කර්මාන්ත ශාලාවේ සබන්, පෙට්ටි තුළට බහාලුයේ යාන්ත්‍රිකවය. සබන් පෙට්ටි ස්වයං ක්‍රියාකාරී බෙල්ටයක් උඩින් ගමන් කරන විට ඒවාට රොබෝ අතක් මගින් සබන් පුරවනු ලැබිණ. ඉහළ කළමනාකරණය මෙසේ අහඹු ලෙස පෙට්ටියක සබන් නැතිව ඇසිරීම වැළැක්වීමට පියවර ගන්නා ලෙස ඉංජිනේරුවන්ට දැන්වීය. ඉන්ජිනේරුවන් අධි තාක්ෂණික එක්ස්රේ යන්ත්‍ර වර්ගයක් යොදා පුද්ගලයන් දෙදෙනෙක් එම තිරය මත දිස්වන බෙල්ටය හරහා යන සෑම සබන් පෙට්ටියක්ම නිරීක්ෂණය සඳහා යෙදවූයේ ඒ හරහා එක හිස් පෙට්ටියක්වත් නොයන ලෙසට වග බලා ගැනීමටය. මෙම ඉංජිනේරුවන් ඉතා ඉක්මණින් නමුත් අධික මහන්සියක් දරා මෙම යන්ත්‍රය නිපදවූ අතර, එහි නිෂ්පාදන වියදම, ඉංජිනේරුවන්ගේ ශ්‍රමයට ගෙවනු ලැබූ වැටුප් අලුත් සේවකයින් දෙදෙනාගේ වැටුප් ආදිය බැලූ කළ ප්‍රශ්නය විසඳීමට ගිය වියදම ඉතා අධික විය.

මෙම ගැටලුව කුඩා කර්මාන්ත ශාලාවක සුළු සේවකයකු වෙත ඉදිරිපත් කළ විට ඔහු එයට වෙනස් ආකාරයේ විසඳුමක් ගෙන ආවේය. ඔහු ප්‍රබල කාර්මික විදුලි පංකාවක් ගෙනවුත් එය සබන් පෙට්ටි ගමන් කරන ස්යංක්‍රීය බෙල්ටය දෙසට එල්ල කර ක්‍රියා කරවීය. හිස් පෙට්ටි පමණක් බෙල්ටයෙන් ඉවතට විසි වී සබන් සහිත පෙට්ටි ඉදිරියට ගියේය.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- සරලව සිතන්න. KISS මුලධර්මය එනම් Keep it simple and short / Summarized අනුගමනය කරන්න.

# 129. මනසින් පොහොසත් වීම

එකෝමත් එක කාලෙක ෂෙට්ටියාර් නමින් හැඳින්වුණු පොහොසත් මනුස්සයෙකුත් ඔහුට සේවය කරන කරුපෙන් කියලා දුප්පත් මනුස්සයෙකුත් හිටියා. ෂෙට්ටියාර් තමන්ගේ සේවකයන්ට ඉතා කරුණාවෙන් සලකනවා. කරුපෙනුත් ෂෙට්ටියාර්ට බොහොම පක්ෂපාතිව සේවය කළා.

දවසක් කරුපෙන් මිදුල අතුගාන කොට මැණිකක් හම්බවුණා. කරුපෙන් මැණික වත්ත පහළ පඳුරක් අස්සේ හැංගුවේ කාටවත් හොයා ගන්න බැරි වෙන විදියට. මැණික ලැබුණ දා පටන් කරුපෙන් ටිකෙන් ටික වෙනස් වෙන්න පටන් ගත්තා. ඔහු ෂෙට්ටියාර් කියන දේවල් ගණන් ගත්තේ නැහැ.හැමදාම උදේට මැණික හංගපු තැනට ගිය කරුපෙන් මැණික වළෙන් ගොඩට ගෙන අත ගා බලා සතුටු වී නැවත හංගලා තමයි වැඩ පටන් ගත්තේ. සුළු සුළු වැඩ කළත් කරුපෙන් දැන් මනසින් ෂෙට්ටියාර් කෙනෙක්.

ෂෙට්ටියාර් තමාට කරුපෙන් කියලා කතා කරන එක ඔහුට දැන් මදිපුංචිකමක්. දවසක් ෂෙට්ටියාර් කරුපෙන් කියලා කතා කරන කොට කරුපෙන් මෙහෙම කියනවා.

“ෂෙට්ටියාර් මීට පස්සේ මට කරුපෙන් කියලා අඬ ගහන්න එපා. කරුපෙන් අයියා කියලා කතා කරන්න”.

ෂෙට්ටියාරුත් කරුපෙන්ට කරුපෙන් අයියා කියලා කතා කරන්න පටන් ගත්තා. මෙහෙම ටික කලක් කතා කරන කොට කරුපෙන්ට ඒකත් මදිපුංචිකමක් විදිහට දැණුනා.

කරුපෙන් ෂෙට්ටියාර්ට කියනවා ඇයි ෂෙට්ටියාර් මට කරුපෙන් අයියා කියලා අවනම්බු වෙන විදිහට කතා කරන්නේ මීට පස්සේ මට කරුපෙන් ෂෙට්ටි කියලා කතා කරන්න කියලා.

ෂෙට්ටියාරුත් එදා පටන් කරුපෙන්ට කරුපෙන් ෂෙට්ටි කියලා කතා කරන්න ගත්තා. ටික දවසක් මෙහෙම කතා කරන කොට කරුපෙන් කියනවා ෂෙට්ටියාර් මට නම්බු දීලා කතා කරන්නෙ නෑනේ. මීට පස්සේ මට කරුපෙන් ෂෙට්ටි කියන්න එපා. ෂෙට්ටි අයියා කියන්න කියලා.



ෂෙට්ටියාර්ට කරුපෙන්ගේ වෙනස් වීම ගැන සැක සිතී සොයා බලන විට කරුපෙන් උදේ පාන්දර මැණික වළලපු තැනට යන එක දැක්කා. ෂෙට්ටියාර් කරුපෙන්ට හොරෙන් මැණික ගොඩ අරන් වෙන තැනක හැංගුවා. පහුවදා උදේ කරුපෙන් මැණික තියෙන තැනට ගිය විට මැණික නැති බව දැනගෙන තදින් දුක් වුණා.

ෂෙට්ටියාර් කරුපෙන්ට ෂෙට්ටි අයියා කියලා කතා කරන විට කරුපෙන් මෙහෙම කියනවා. “මීට පස්සේ මට ෂෙට්ටි අයියා කියලා කතා නොකරාට කමක් නෑ. මට කරුපෙන් කියලම කතා කරන්න.”

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ කටුස්සාගේ කරේ රත්තරන් බැන්දා වගේ.

☞ ගරු නම්බු නාම සෑම විටම ධනය, කුලය, නිලය, බලය ආදිය සමග බැඳේද? නැතිනම් ශීලය, සමාජයට කරන සේවය ආදියටත් ඒවා හිමිද?.

☞ බොහෝ අයගේ ස්වයං ප්‍රතිරූපය, පෞරුෂය, රඳා පවතින්නේ ධනය රැකියාව වැනි බාහිර සමාජ සාධක මතය

# 130. හතරැස් පත්තක්කා



පත්තක්කා ගෙඩි ගබඩා කර තබා ගැනීම ජපානයේ සිල්ලර වෙළඳ සැල්වලට විශාල කරදරයක් වූයේ ඒවායේ රවුම් හැඩය සහ විශාල ප්‍රමාණය නිසාය. බහුතරයක් මෙම ප්‍රශ්නයට දෙන විසඳුම වනුයේ පත්තක්කා ගෙඩි ස්වාභාවයෙන්ම රවුමට වැවෙන බවත් ඒ නිසා ඊට හැඩ ගැසීම හැර වෙනත් විසඳුමක් නැති බවත්ය. එහෙත් ජපානයේ ගොවීහු මීට වඩා වෙනස් ප්‍රවේශයක් ගත්තෝය. ඔවුහු රවුම් වෙනුවට ගබඩා කිරීමට පහසු හතරැස් පත්තක්කා ගෙඩි වැවීමට, පත්තක්කා ගෙඩිය කුඩා කාලයේම හතරැස් පෙට්ටියක් තුළට බහාලූහ. එය පෙට්ටියේ හැඩය ගනිමින් වර්ධනය විය. සිල්ලර වෙළඳ සැල්වල පත්තක්කා ගබඩා කිරීමේ ප්‍රශ්නය විසඳුණු අතර පාරිභෝගිකයන් ද සාමාන්‍යයෙන් අසාමාන්‍ය වූ දෙයක් වැඩි මිලක් දී මිලදී ගැනීමට රුචිකත්වයක් දැක් වූ බැවින් ලාභයද වර්ධනය විය.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ අපි සැමදා පත්තක්කා දැක ඇත්තේ රවුමටය. මේ නිසා හතරැස් පත්තක්කා නිෂ්පාදනය කළ නොහැක්කක් බව ඉබේටම උපකල්පනය කරනු ලැබේ. හතරැස් පත්තක්කා වැවිය හැකිදැයි සිතා බැලීමටවත් අප කාලය වැය නොකරන්නේ මෙම උපකල්පනය නිසාය. අප ජීවිතයේ කරන බොහෝ දේ දිගු කාලයක් තිස්සේ වැඩි දුර සිතීමකින් තොරව යම් ආකාරයකට කරගෙන ආ දේවල් බැවින් ඒවා එසේ කරන්නේ ඇයි? වෙනස් ආකාරයකට කළ නොහැකිද? ආදිය ගැන සිතීමටවත් අප කාලය මිඩංගු නොකරයි. මෙසේ උපකල්පනය කිරීමේ පුරුද්ද කඩාගෙන අත් මිදීමට අපට පුළුවන් නම් අප කරන සෑම දෙයක්ම කිරීමට නව සහ වඩාත් හොඳ ප්‍රවේශයන් සොයාගෙන ජීවිතය සහ ලෝකය විශාල වශයෙන් සංවර්ධනය කළ හැක. මා හට නම් මෙසේ කිරීම ඉතා අසීරු කර්තව්‍යයකි. මන්ද යත් මා උපකල්පන කරන බවවත් මා සවිඥානිකව දැන නොසිටින නිසාය. පත්තක්කාවල ස්වභාවය රවුම් යැයි උපකල්පනය කරනවාක් මෙන්ම ජීවිතයේ අප කරන උපකල්පනද ඉතාමත් තර්කානුකූල බව මතුපිටින් පෙනේ. ඒ නිසා එම උපකල්පනයන් ප්‍රශ්න කිරීමට අප නිරන්තරවම සවිඥානිකවම උත්සාහ දැරිය යුතුය.

☞ යමක් කිසිසේත්ම කළ නොහැක්කක්ය යන අදහස ඇතිව වැඩය දෙස බැලුවහොත් එය අනිවාර්යයෙන්ම කළ නොහැක්කක් බවට පත්වනු ඇත. ඒ වෙනුවට තත්ත්වය වෙනස් කළ හැකි යම් විකල්පයක් සොයා ගැනීමට ඔබ තීරණය කළහොත් උත්සාහයන් හා වැරදීම් තුළින් ඔබට මාර්ගයක් පෑදෙනු ඇත.

☞ ජීවිතයේ වැඩ, ආර්ථිකය, සම්බන්ධතා ආදී සැම දේම හතරැස් කළ හැකි රවුම් පත්තක්කා ගෙඩි ලෙස දකින්න.

☞ අප පුරුදු රාශියක් ස්වයංක්‍රීයව කරගෙන යයි. යම් පුරුද්දක් ගැන හොඳින් සිතා බලා එම පුරුද්ද පවත්වාගෙන යාම සාමාන්‍යයෙන් ප්‍රයෝජනවත් දෙයක් විය හැක.

☞ ඔබගේ පුරුදු සහ ඔබ යමක් කරන ආකාරය නිරන්තරයෙන්ම ප්‍රශ්න කරන්න. ප්‍රශ්න කිරීම කිසිදා නිම නොවන පුරුද්දක් කර ගන්න.

☞ නිර්මාණශීලී විසඳුම් සෙවීමේ වැදගත්කමත්, විවිධ දෘෂ්ටිකෝණවලින් ප්‍රශ්නයක් දෙස බැලීමේ වැදගත්කමත්, රාමුවෙන් පිට සිතීමේ වැදගත්කමත්, විශේෂයෙන්ම සරල විසඳුම් සෙවීමේ වැදගත්කමත්, මෙම කථාවෙන් පෙන්වා දෙයි. හතරැස් පත්තක්කා නිපදවීමට විද්‍යාඥයකුට බාර දුනහොත් ඔහු/ඇය ජාන තාක්ෂණය මගින් හතරැස් පත්තක්කා සෑදීමට සිතනු ඇත.

☞ නිතරම මෙය මීට වඩා හොඳින් කිරීමට විදිහක් නැත්දැයි තමාගෙන්ම ප්‍රශ්න කරන්න. උදාහරණ ලෙස මෙම වෙළඳසැල් රවුම් පත්තක්කා ගබඩා කිරීමට මීට වඩා හොඳ ක්‍රමයක් නැද්දැයි ප්‍රශ්න කළේය. අදාළ විසඳුම් ඒ වෙලාවේ කළ නොහැකි සේ පෙනුනත් ඒවා ලයිස්තු ගත කර සිතා බලන විට හතරැස් පත්තක්කා වැනි පෙර කළ නොහැකි දේ සේ පෙනුණ විසඳුම් දක්නට ලැබෙනු ඇත.

# 131. ලැජ්ජා බය

දිනක් අපගේ හිතවතෙක්, තනිවම විසූ ඔහුගේ මිතුරකු හමුවීමට ගියේය. ඔහු සමඟ වාදයට පැටළුණු අප මිතුරා තමා ඕනෑම දෙයකට බය නැති බවට ප්‍රකාශයක් කළේය. යහළුවා දිගින් දිගටම කිවේ බය නැති මිනිසුන් නැති බවත් ඕනෑම පුද්ගලයකු යම් දෙයකට බය බවත්ය. එහෙත් අප හිතවතා තමා කිසිම දෙයකට බය නැති බව පැවසීය. ඔහුගේ මිතුරාට තදින් කේන්ති ගොස් "හොඳයි ඔබ කිසිම දේයකට බය නෑනේ?"යැයි ප්‍රශ්න කරමින් තම කාමරයට ගියේය. මිනිත්තු කිහිපයකින් උණ්ඩ පිරවූ රිපීටර් වර්ගයේ තුවක්කුවක් රැගෙන ආ ඔහු අප හිතවතාගේ හිසට තබා "දැන් මොකද කියන්නේ ? තවමත් කියනවද බය නෑ කියලා"යැයි ඇසුවේය. තමාගේ මිතුරා හිතුනොත් යමක් කරන දඩබ්බරයකු බව දන්නා අප හිතවතාට හීන් දාඩිය දැම්මේය. ඔහු එකවරම කිවේ "බය නැහැ. ඒත් ලැජ්ජා බය තියනවා" කියාය. එවිට මිතුරාට ලැජ්ජා සිතී තුවක්කුව පහළට දමා සමාව ඉල්ලා සිටියේය.



# 132. ගඟේ ගැඹුර

දිනක් කුඩා අශ්ව පැටවකු ගමනක් යන අතරමග දියපහරක් මුණ ගැසුණා. ඒ අසළ සිටි මහළු ගවයකු අමතමින් අශ්ව පැටියා ඇසුවේ ''ඔබ හිතනවාද මට මේ ගඟෙන් එතෙර වීමට හැකිවේවි කියලා'' මීට පිළිතුරු දෙමින් ගවයා කීවේ අයියෝ! ඕක සුළු දෙයක්නේ, මම ඊයෙත් ගඟෙන් එගොඩට ගියා. මගේ මැණික් කටුව ලඟට විතරයි වතුර තිබුනෙ,'' අශ්ව පැටියා දියපාර තරණය කරන්නට යන කොටම දිය පාර ලඟ ගහක අත්තක හිටපු ලේනෙක් මහා හඬින් කෑ ගැසුවා ''නවතින්න නවතින්න බහින්න එපා'' අශ්ව පැටියා බියටත් කුතුහලයටත් පත්ව ලේනා දිහා බැලුවා. එයා කියනවා,''ගඟ ගොඩක් ගැඹුරුයි ඊයේ මගේ යාළුවෙක් ගඟේ ගිලුණා'' අශ්ව පැටියාට හිතාගන්න බැහැ කවුද ඇත්ත කියන්නේ කවුද බොරු කියන්නේ කියලා? එයා ප්‍රඥාවන්තයකු වන තම මව වෙත දිව ගොස් මේ දෙදෙනාගෙන් ඇත්ත කියන්නේ කවුදැයි ඇසුවා. අශ්ව අම්මා කිව්වේ දෙදෙනාම කියන්නේ ඇත්ත නමුත්, තමන්ගේ පැනයට තමන්ම පිළිතුරු සොයාගත යුතය කියයි. ''ගවයා උසයි එයා විශාල සතෙක් ඒ නිසා එයාට ගඟ ගැඹුරු නැහැ" නමුත් ලේනා කුඩා සතෙක් නිසා එයාව ගිලෙන තරමට වතුර තියෙනවා, එයාට ගඟ ගැඹුරුයි. දෙදෙනාම තමන්ගේ දෘෂ්ඨි කෝණයෙන් කතා කරන්නේ, දෙන්නාම කියන්නේ ඇත්ත. තමන් තමන්ගේම උත්තරය සොයාගත යුතුයි'' අශ්ව අම්මා කීවා. අශ්ව පැටියා එක පිම්මේ නැවතත් ගඟ ලඟට දිව ගියා. මේ වන විටත් තමන් හරි බව දැඩිව විශ්වාස කළ ගවයාත්, ලේනාත් ගඟ ගැඹුරු බවටත්, නොගැඹුරු, බවටත් කියමින් වාද කරමින් සිටියා. අශ්ව පැටියාට හදිසියේම අදහසක් ආවා. ඔහු තමාගේ උස ගවයාගේ උසටත් ලේනාගේ උසටත් සන්සන්දනය කර ඒ දෙදෙනා කී දේවල් සිහියට ගෙන බලා තමන්ම ගඟෙන් එතෙර වීමේ අත්දැකීම ලැබීමට තීරණය කළේ දෙදෙනා කීදේ විශ්ලේෂණය කිරීමෙන් පසු එය තමාට කළ හැකියයි නිගමනය කිරීමෙන් පසුවයි. අශ්ව පැටියා පරිස්සමින් පියවරින් පියවර තබමින් ගඟෙන් එතෙර වුණා. එය ගවයා කී තරම් නොගැඹුරු වුනේවත් ලේනා කියූතරම් ගැඹුරු වුනේවත් නැහැ. ඒ අශ්ව පැටියා ලේනාට වඩා උසින් වැඩි වූ නිසාත් ගවයාට වඩා කොට වූ නිසාත්. එදා පටන් අශ්ව පැටියා තමන් කළ යුත්තේ කුමක් දැයි දන්නේ නැතිනම් හෝ යම් ප්‍රශ්ණයකට පිලිතුරක් දන්නේ නැතිනම් මුලින්ම අන් අයගේ අදහස් විමසනවා. කීපදෙනෙක්ගේම අදහස් විමසන්නත් වග බලා ගන්නවා. ඊට පස්සේ තමන්ගේ තත්ත්වය සහ තම දෘෂ්ටිකෝණයෙන් එම තොරතුරු විශ්ලේෂණය කර තමන්ගේම පිළිතුරක් සොයා ගන්නවා. ඊටත් පස්සේ එම විසදුම ආරක්ෂා සහිතව ප්‍රවේශම්කාරීව ක්‍රියාත්මක කරලා තමන්ගේ විසදුමේ සාර්ථක අසාර්ථක භාවය ඇගයීමට ලක් කරලා වැරදුනොත් වැරදුනේ ඇයි දැයි සිතා බලනවා.



# 133. මාළු 12යි ලෝක 12යි

පහත දැක්වෙන්නේ 1970 දශකයේ ජනප්‍රිය කුංෆූ ටෙලි නාට්‍ය මාලාවේ දෙබසකි.

**මාස්ටර් කාන් :** ඔබ ජීවත්වන ලෝකය දෙසත් මෙම මාලු රංචුව දිහාත් බලන්න. මෙහි මාලුන් දොළොස් දෙනෙකු සහ ලෝක 12 ක් තිබෙනවා.

**කුඩා ක්වායි චෑන් කේන් :** නමුත් එකම පොකුණක් පමණයි තියෙන්නේ.

**මාස්ටර් කාන් :** නෑ පොකුණු ගොඩක්. ඔබ දකින පොකුණ, මම දකින පොකුණ සහ එක් එක් මාලුවා. දකින පොකුණ ඒ එකිනෙකාගේ ලෝක වෙනස්. ඔබ ජීවත්වන ලෝකය තරුණයි, උද්‍යෝගජනකයි. කුතුහලය පිරි බොහෝ දේ තිබෙනවා. මගේ ලෝකය මහළුයි, බොහෝ දේ හුරු පුරුදුයි, සන්සුන්. ඔබට කිසිම විටක මගේ ලෝකයවත් මට කිසිම විටක ඔබගේ ලෝකයවත් දැනගන්න බෑ.

**කුඩා ක්වායි චෑන් කේන් :** කිසිම විටක ?

**මාස්ටර් කාන් :** ඔබට මගේ ඇස් දෙකෙන් දකින්නවත් මගේ මොළෙන් හිතන්නවත් පුළුවන්ද?

**කුඩා ක්වායි චෑන් කේන් :** නමුත් ගුරුතුමනි ඔබ විශ්වයේ කොටසක් මමත් එසේමයි.

**මාස්ටර් කාන් :** අපි එකයි. එහෙත් අපි දෙදෙනාම එකම දේ නොවේ. මිලියන 10 ක ප්‍රාණීන්ට වෙන වෙනම ලෝක මිලියන 10ක් තියෙනවා. ඔබ විශ්වයේ කේන්ද්‍රය ලෙස නොසිතන්න.





# 134. ප්‍රතිබිම්බ පරීක්ෂණය

1885 සිට 1901 වසර දක්වා ලන්ඩනයේ ජර්මානු තානාපතිවරයා වශයෙන් ක්‍රියා කළ Paul Woulff Hatzfeldt ජර්මනියේ විදේශ ඇමති හෝ චාන්සලර් වරයා ලෙස උසස් වීමේ ශක්‍යතා පෙන්නුම් කළේය. වරක් ඔටෝ වොන් බිස්මාර්ක් පෝල්ව විස්තර කළේ ''තානිපති සේවය නම් ඉස්තාලයේ සිටින හොඳම අශ්වයා යනුවෙනි. එහෙත් 1901 දී ඔහු හදිසියේම සිය තනතුරෙන් ඉල්ලා අස්විය. බ්‍රිතාන්‍යයේ 7 වන එඩ්වර්ඩ් රජතුමාට රාත්‍රී භෝජන සංග්‍රහයක් සංවිධානය කිරීමට තානාපති වරුන්ගේ නිළ සංවිධානය වු "Diplomatic Corps" සූදානම් කරතිබුණි.

මෙහි සභාපති ධූරය දැරුයේ ජර්මානු තානාධිපති වරයාය. එඩ්වඩ් රජු කාන්තාවන් ඇසුරට ලොල් අයකු වූ අතර තමන්ට අවශ්‍ය කුමන ආකාරයේ සංග්‍රහයක්දැයි ඔහු තානාපති වරුන්ට දැනුම් දී තිබුණි. රාත්‍රී භෝජන සංග්‍රහය අවසන විදුලි ආලෝකය අඩුකර එහි තිබූ විශාල කේක් ගෙඩියක් තුළින් නිරුවත් කාන්තාවන් දුසිමක් පමණ මතුවී රංගනයක නිරතවීමට සැළසුම් කර තිබුණි. මෙම භෝජන සංග්‍රහය සංවිධානය කිරීම ප්‍රතික්ෂේප කරමින් පෝල් තම තනතුරෙන් ඉල්ලා අස්විය. ඔහු පැවසුවේ තමා උදෑසන රැවුළ කැපීමට කණ්නාඩිය ඉදිරියට යන විට ඒ තුළින් ගණිකාවක් සපයන තැරව්කරුවෙකු දක්නට තමාට උවමනාවක් නැති බවයි.

**මෙම කථාව පිළිබඳව විවිධ අදහස්**

මෙය සදාචාරය පිළිබඳ ප්‍රශ්නයකි.
ඔබට යමක් කිරීමේදී එය සදාචාරාත්මකදැයි ප්‍රශ්නයක් මතුවූ විට ඔබට කණ්නාඩිය තුළින් දකින්නට අවශ්‍ය කුමන ආකාරයේ පුද්ගලයකුගේ ප්‍රතිරූපයක්දැයි ඔබගෙන්ම අසා ගන්න.

ප්‍රශ්නයකට විසඳුම් සෙවීමේදී සහ විශේෂයෙන්ම සදාචාරාත්මක තීරණ ගැනීමේදී ANSWER නමින් නම්කර ඇති තීරණ ගැනීමේ ආකෘතිය ප්‍රයෝජනවත් විය හැක.

A - Analize the issue
තීරණයක් ගැනීමට ප්‍රශ්නයක් ඔබ ඉදිරියට ආ විට, ඔබ මුලින්ම සලකා බැලිය යුත්තේ ඔබ තීරණය ගත යුතුමද? එසේ නම්, ඒ ඇයි ? මෙම තීරණය ගැනීම කෙතරම් වැදගත්ද ? කියාය. මම මේ තීරණය නොගෙන සිටීමට තීරණය කළොත් හෝ ප්‍රශ්නය මග හැරියොත් සිදුවන්නේ කුමක්ද? ඒ ප්‍රශ්නයට පිළිතුරු නොසෙවීමේ හෝ වැරදි පිළිතුරකින් අත්විය හැකි අයහපත් ප්‍රතිඵල මොනවාද? ඔබ ප්‍රශ්නය විශ්ලේෂණය කිරීමෙන් අනතුරුව ප්‍රශ්නය කෙටියෙන් හා පැහැදිලිව නිර්වචනය කර විස්තර කිරීම මගින් ඔබගේ විශ්ලේෂණයේ ප්‍රතිඵල සාරාංශ ගත කරන්න. ඉන් පසුව පහත දැක්වෙන SSPP ෆිල්ටරය තුළින් යවා මතුවිය හැකි ගැටළු හඳුනාගෙන ඒවාට විසඳුම් සොයන්න.
N = Name Possible solutions
නිර්මාණශීලීව සහ තමන්ට සීමා පනවා ගන්නේ නැතිව විකල්ප විසඳුම් රැසක් ලැයිස්තු ගත කර ගන්න. අවම වශයෙන් විකල්ප විසඳුම් 3ක් වත් සොයාගන්න.
S = Solution Rating
එක් එක් විසඳුම වෙන වෙනම සළකා බලමින් ඒවායේ ධනාත්මක හා ඍණාත්මක පැති සළකා බලන්න. මෙසේ කිරීමේදී එක් එක් විසඳුම යටතේ + හා - තීරු දෙකක් සටහන් කර ගැනීම ප්‍රයෝජනවත් විය හැක. මෙම විශ්ලේෂණය තුළින් ඔබගේ පිළිතුරු වඩාත්ම කැමති සහ අඩුවෙන්ම කැමති වශයෙන් අනුපිළිවෙලට සකසාගන්න. ඔබගේ විසඳුම් අනුපිළිවෙල ගත කිරීමේදී හැකිතාක් විෂය මූලික වීමට බලන්න. හැකියාවක් ඇත්නම් සහ ප්‍රායෝගිකව තවත් අයකුගේ හෝ සමූහයක අදහස් විමසා ප්‍රශ්නය සහ විසඳුම් පිළිබඳව නැවුම් දෘෂ්ටි කෝණ ලබා ගන්න.විසඳුම් පිළිවෙළගත කළ පසු එය SSPP ෆිල්ටරය තුළින් යවා සදාචාරාත්මක නොවන විකල්ප විසඳුම් ලැයිස්තුවේ පහළ ස්ථානයකට දමන්න.

W = Workout an action Plan
හොඳම විසඳුම් තෝරාගෙන එය ක්‍රියාත්මක කිරීමට සවිස්තර ක්‍රියාමාර්ග සැලසුම් කරන්න.
E= Execute your decision
විසඳුමක් තෝරාගෙන තිරණයක් ගෙන එය ක්‍රියාත්මක කරන්න.
R = Review the effectiveness of your choice
තීරණය ක්‍රියාත්මක කිරීමෙන් පසුව ප්‍රතිඵල ඇගයීමකට ලක් කරන්න. ඔබගේ තීරණය තුළින් බලාපොරොත්තුවූ ප්‍රතිඵලය ලැබුණේද? බලාපොරොත්තුවූ අරමුණුවලට ලඟාවුණේද? ප්‍රශ්නය සාර්ථක ලෙස විසඳුනේද? ඔබගේ තීරණයේ ප්‍රතිඵලයක් ලෙස අළුත් ප්‍රශ්න මතුවූයේද? ඔබගේ තීරණය සදාචාරාත්මකදැයි බැලීම සඳහා නැවතත් එය SSPP ෆිල්ටරය හරහා යවන්න.

ANSWER ආකෘතියේදී තොරතුරු විශ්ලේෂණය කළයුතු පියවර තුනක් (A,S, හා R) හමුවේ. මෙම විශ්ලේෂණයන් සදාචාරාත්මක ෆිල්ටරයක් හරහා යැවිය යුතුය. වෙනත් වචනවලින් කියනවා නම් එක් එක් විසඳුමක් /ප්‍රශ්ණයක් එකම කාරණා සැළකිල්ලට ගෙන තක්සේරු කළ යුතුය. මේ සඳහා ඩබල් S ඩබල් P (SSPP) සදාචාරාත්මක ෆිල්ටරය භාවිතා කළ හැක.

ඩබල් S ඩබල් P සදාචාරාත්මක ෆිල්ටරය
S = Statute, Laws and Regulations
මෙම විසඳුම් යම් නීතියක් හෝ රෙගුලාසියක් උල්ලංඝනය කරයිද? එය නීති විරෝධීද?
S = Standards, Policies and guidelines
මෙම විසඳුම තමන් අයත් ආයතනයේ, සමාජ සංස්ථාවේ ප්‍රමිතීන්, ප්‍රතිපත්ති හෝ උපදෙස් උල්ලංඝනය කරන්නේද? ඒවාට අනුකූල නැත්ද?
P=Principles and Values
මෙම විසඳුම ඔබ අයත් ආයතනයේ සමාජ සංස්ථාවේ සංස්කෘතිය විසින් අගය කරනු ලබන ප්‍රතිපත්ති, ධර්මතාවයන් හා හරයන්ට එකඟද?
P=Personal principles and Values
මෙම විසඳුම ඔබගේ පුද්ගලික ප්‍රතිපත්ති, හර පද්ධතීන් සහ සදාචාරාත්මක අගයන්ට පටහැණිද?

සදාචාරාත්මක විසදුම් ගැනීම අසීරු කාර්යක් වන්නේ ඔබට නිවැරදි හා වැරදි විසඳුම් දෙකක් අතරින් තෝරා ගැනීමක් කිරීමට පමණක් නොව නිවැරදි විසඳුම් දෙකක් අතරින් එකක් තෝරා ගැනීමට සිදුවන හෙයිනි. ඔබල් S ඩබල් P වැනි සදාචාරාත්මක ෆල්ටරයක් සමග ANSWER වැනි විසදුම් සෙවීම් අකෘතයක් භාවිත කිරීම තුළින් ඔබටත් සදාචාරාත්මක තීරණ ගැනීමේ හැකියාව වර්ධනය කර ගත හැක.





# 135. මිට මෙලවූ රත්තරන් සහ දෙදෙනකුට අවශ්‍ය වූ දොඩම් ගෙඩිය.

මහත්මා ගාන්ධිගේ මුණුබුරකු පවුල් ජීවිතය පිළිබඳව දේශනයක් පැවැත්වීමට ඇමරිකාවට ගියේය. එම දේශනයට විවාහක ජෝඩු රැසක් සහභාගී වී සිටියෝය. දේශකයා පැවසුවේ සියලු බිරින්දෑවරුන්ට තම හුරු අත මිට මොළවා ගන්නා ලෙසටය. එම අත තුළ ඇමරිකානු ඩොලර් මිලියන 50 කටත් වඩා වටිනා රත්තරන් ඇති බවට උපකල්පනය කර ගන්නා ලෙස පැවසූ ඔහු බිරින්දෑවරුන්ට පැවසුවේ එය අත් නොහරින ලෙසත් තදින් මිට මොළවා ගන්නා ලෙසත්ය. ගාන්ධි සැමියන්ට උපදෙස් දුන්නේ තම බිරිඳගේ අතේ ඇති රත්තරන් කෙසේ හෝ ලබා ගන්නා ලෙසය. සැමියන් පොර කමින් තම මුළු ශක්තියම යොදමින් බිරිඳගේ ඇඟිලි කඩා හෝ මිට මෙළවූ අත දිග හැරීමට උත්සහා ගති. මෙම අභ්‍යාසය අවසන් කරමින් දේශක තුමා විමසුයේ “හොඳයි සැමියන්ගෙන් කීදෙනෙක් කල්පනා කරලා මට ඔය රත්තරන් ටික දෙන්න පුළුවන්ද?. කියලා තම බිරිදගෙන් ඉල්ලීමක් කරාද” යනුවෙනි.

තවත් දේශකවරියක් සභාවට පැණයක් ඉදිරිපත් කළාය. කුඩා ගැහැණු ළමයින් දෙදෙනකු කුස්සියට ගියේ තමන්ට දොඩම් ගෙඩියක් අවශ්‍ය වූ නිසාය. එහෙත් එහි තිබුනේ එක් දොඩම් ගෙඩියක් පමණි. මෙම ගැහැණු ළමයින් දෙදෙනාගේම අවශ්‍යතා සපුරා ගත්තේ කෙසේදැයි ඇය සභාවෙන් විමසුවාය. සභාව දොඩම් ගෙඩිය දෙකට කපා භාගය බැගින් ගත යුතු බව, කඩේට ගොස් තවත් දොඩම් ගෙඩියක් මිලදී ගත යුතු බව ආදී විවිධ විසදුම් ඉදිරිපත් කළේය. දේශකවරිය මෙම තත්වය විසඳීමට තවත් තොරතුරක් ඉදිරිපත් කරමින් කීවේ එක් දැරියකට දොඩම් ගෙඩිය අවශ්‍යව තිබුනේ එහි යුෂ වලින් බීම වීදුරුවක් සෑදීමට බවත් අනික් දැරියට දොඩම් ගෙඩියක් අවශ්‍යව තිබුනේ එහි ලෙල්ල යොදාගෙන කේක් එකක් සෑදීමට බවත්ය.





**මෙම කථාව පිළිබඳ විවධ අදහස්**

- තම බිරිදගෙන් නොඅසාම ඇයට රත්තරන් අවශ්‍ය බවද ඇය එය නොදේවී යැයිද අප උපකල්පනය කෙරුවේ ඇයි?
- ප්‍රශ්ණය තේරුම් ගැනීමටත් පෙර අප විසඳුම් සෙවීමට යනවා නේද?
- එකිනෙකාගේ අවශ්‍යතා තේරුම් ගෙන බලමු ඒවා අන්‍යෝන්‍යව විසදිය හැකි ඒවා වියහැක.

# 136. පැණි රස කෑම

දිනක් මහත්මා ගාන්ධි හමුවීමට මවක් පැමිණියේ, තමාගේ සත් හැවිරිදි පුතාද කැටුවය. මව ගාන්ධිතුමාට පැවසුවේ තම පුතා තදින් පැණිරස කෑමට ඇබ්බැහි වී ඇති බවත්, ඔහුට පැණිරස කෑම අඩු කරන ලෙසට අවවාද දෙන ලෙසත්ය. ගාන්ධිතුමා මීට පිළිතුරු ලෙස කීවේ තව සතියකින් පැමිණෙන ලෙසය. මව පුතා කැටුව සතියකට පසුව ගාන්ධිතුමා හමුවීමට ගියේය. ගාන්ධිතුමා තව සති දෙකකින් ආපසු එන ලෙස ඉල්ලීමක් කළේ කිසිදු උපදෙසක් ලබා නොදෙමිනි. තුන්වන වරට මව සහ පුතා ගාන්ධි තුමා හමුවීමට ගිය විට ගාන්ධිතුමා දරුවාගේ හිස අතගා ''පුතා පැණි රස කෑම අඩු කරන්න'' යනුවෙන් පැවසීය. මෙයින් කෝපයට පත් මව '' ඇයි ඔබතුමාට ඕක අපි මුලින්ම ආපු දවසෙම කියන්න තිබුණා නේද?'' යැයි විමසා සිටියාය. ගාන්ධිතුමා පැවසුයේ තමාද අධික ලෙස පැණි රස කෑමට ඇබ්බැහි වී සිටි බැවින් තමා එය අඩු කිරීමට දැඩි උත්සාහයක යෙදුණ බවත් එය සාර්ථක වූ පසුව දරුවාට උපදෙස් දීමට ඉදිරිපත් වුණු බවත්ය.



**මෙම කථාව පිළිබඳ විවිධ අදහස්**

☞ ඔබා දෙනු පරහට තමා සම්මතයේ පිහිටා සිට

# 137. වැඩිපඩි ලැබුන නවක සේවිකාව

එක් ආයතනයක ඉතා දිගු කලක් පක්ෂපාතීව රාජකාරිය කළ සේවකයකු සිටියේය. මෑතකදී බඳවා ගත් සේවිකාවකට තමන්ට වඩා පඩියක් ගෙවන බව දැනගන්නට ලැබුණු ඔහු තම හාම්පුතා හමුවීමට ගොස් ඊට හේතු කාරණා විමසීය.

හාම්පුතා පාරේ යන කරත්තකරුවකු පෙන්වා, ඔහු කරන්නේ කුමක්දැයි සොයා ගෙන එන ලෙසට පැරණි සේවකයාට පැවසීය. කුරුල්ලා මිටෙන් හැරියාක් මෙන් දිවගිය ඔහු කරත්ත කරු හමුවී නැවත පැමිණ ඔහු ගඩොල් වගයක් ප්‍රවාහනය කරන බව හාම්පුතාට වාර්තා කළේය. කරත්තකරු එම ගඩොල් තොගය ගෙන යන්නේ කොහේටදැයි විමසූ විට පැරණි සේවකයා නැවතත් වේගයෙන් දිවගොස් ආපසු පැමිණ  වාර්තා කළේ පිටකෝට්ටේ ඇති වැඩපොළකට ඒවා ගෙනයන බවය. මෙසේ අවශ්‍ය තොරතුරු ලබා ගැනීමට කිහිපවරක්ම කරත්තය වෙතටත් හාම්පුතා වෙතටත් දිවයාමට ඔහුට සිදුවිය.

අනතුරුව නවක සේවිකාව එම ස්ථානයට කැඳවූ හාම්පුතා ඇයට පෙර උපදෙසම ලබා දුන්නේය. ඇය හාම්පුතාගෙන් විමසුයේ ඔහුට අවශ්‍ය වූයේ කුමන ආකාරයේ තොරතුරු ද යන්නත් එසේ තොරතුරු සෙවීමේ අරමුණ කුමක්ද යන්නත්ය. හාම්පුතා එය පැහැදිළි කර දුන් අනතුරුව අපැහැදිළි තැන් කිහිපයක්ද නැවත පැහැදිළි කරවා ගත් ඇය කරත්තය වෙත දිව ගොස් ආපසු ආවාය. ඇය වාර්තා කළේ එය බර කරත්තයක් බවත්, එහි අගල් 2 x 6 පොලිෂ් ගඩොල් කියුබික් මීටර් 2 ක් ඇති බවත්, කරත්තය පදවන්නාගේ නම ජිනදාස බවත්, ඔහු එම ගඩොල් පිටකෝට්ටේ හන්දියේ සිට මීටර් 500ක් ඇතුල් කෝට්ටේ දෙසට වූ වැඩ බිමක ක්‍රීඩාගාරයක් සෑදීම සඳහා ගෙන යන බවත්ය.



තමන්ට අඩු පඩියක් ලැබෙන්නේ ඇයි දැයි ක්ෂණිකව වැටහුණු පැරණි සේවකයා එතැනින් ඉවත්ව ගියේ තමන්ගේ අඩුපාඩු නිවැරදි කර වැඩි පඩි ලබා ගැනීමේ දැඩි අධිෂ්ඨානයෙනි.

**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

- ☞ වැඩක් කිරීමට පෙර එම වැඩය කිරීමේ අරමුණ ඉන් බලාපොරොත්තු වන ප්‍රථිපල ආදිය ක්‍රියාව පිළිබඳව සම්පූර්ණ අවබෝධයක් ලබා ගෙන වැඩය ආරම්භ කරන්න.
- ☞ කරන්නන් වාලේ නොකර ඉතා සුළු කරුණු වලටත් අවධානය යොමු කරන්න (Pay attention to details)

# 138. දෙවියන්ට ඇති කැපවීම

ආගමික ආයතන කිහිපයක ප්‍රධාන පූජකවරු එක් වී තම ආගමික කටයුතු පිළිබඳ විමර්ශනයක යෙදුණි. තම ආයතන වලට ලැබෙන ආධාර මුදල් වැය කරන අයුරුත් එම මුදල් දෙවියන් හා බෙදාගන්නා අයුරුත් පිළිබඳ ඇති වූ සාකච්ඡාවකදී එක් ආයතනයක නියෝජිතයකු පැවසුවේ අපට ලැබෙන ආධාර මුදල් දෙවියන් සමග බෙදාගැනීම අප කරන්නේ රටහුණු කෑල්ලකින් පොලවේ රවුමක් ඇඳ ඒ මැද සිට මුළු මුදල උඩ දමා රවුම තුළට වැටෙන ඒවා දෙවියන්ට වෙන් කිරීමෙනුත් රවුමෙන් ඉවතට වැටෙන මුදල් තමන්ගේ භාවිතයට තබා ගැනීමෙනුත් බවය.

මේ ක්‍රමය විහිළුවට ලක් කළ තවත් ආයතනයක නියෝජිතකු කීවේ තමන් එය ඉතාමත් සාධාරණ ක්‍රමයකට කරන බවය. එනම් කෙලින් ඉරක් ඇඳ ඉරමත හිටගෙන මුදල් උඩ දමා ඉරේ එහා පැත්තට වැටුණු මුදල් දෙවියන්ටත් මෙහා පැත්තට වැටෙන මුදල් තමන්ටත් වෙන් කරන බවය.

තුන්වන ආගමික ආයතනය නියෝජනය කළ නියෝජිතයා තමන් අන් දෙදෙනාටම වඩා ඉතාමත් දෙවියන් කෙරෙහි භක්තිමත් වන බවත් කිසිම ලෝබකමක් නැතිව දෙවියන් වහන්සේට සියලු මුදල් දෙන බවත් පැවසීය. “මා පොළොවේ රවුම් අඳින්නෙවත් ඉරි අඳින්නෙවත් නැහැ. මම සියලු මුදල් උඩ දමා දෙවියන්ට කැමති තරමක් අරගෙන ඉතිරිය බිමදමන්න යැයි කියනවා” ඔහු පැවසීය.



# 139. තනි කකුලෙන් පීනන කකුල් දෙකෙන් පියාඹන සතා

එක් පණ්ඩිතයකු හා එතරම් අධ්‍යාපනයක් නොමැති යුද සෙබලෙකු දුම්රියේ මුහුණට මුහණලා තිබූ අසුන් වල වාඩිවී ගමන් කළා. තම පණ්ඩිත කමින් උදම්වූ පණ්ඩිතයා සෙබලාට කථා කොට '' අප දෙදෙනා එකිනෙකාගේ ප්‍රශ්ණ අසමු. ඔබ අසන ප්‍රශ්ණයට මට පිළිතුරු දිය නොහැකි වුවොත් ඔබට මම රුපියල් සියයක් දෙන්නම් මා අසන ප්‍රශ්නයකට ඔබට පිළිතුරු දිය නොහැකි වුවොත් ඔබ මට රුපියල් සියයක් දිය යුතුයි'' කීවා. නමුත් සෙබලා කීවේ ඔබ උගතෙක් මම සාමාන්‍ය සෙබලෙක්, එමනිසා මට උත්තර දෙන්න බැරි වුවොත් රුපියල් දහයකුත් ඔබට උත්තර දෙන්න බැරි වුනොත් රුපියල් සියයකුත් දෙමු යනුවෙනි. පණ්ඩිතයා එයට එකඟවෙලා සෙබලාට ප්‍රශ්නයක් ඇසීමට යෝජනා කළා. සෙබළා ඇසුවා මුහුදේ පිහිනන විට එක කකුලකුත් අහසේ පියාඹන විට කකුල් දෙකකුත් පාවිච්චි කරන සතා කවරෙක්ද කියා. පණ්ඩිතයා පිළිතුරු නොදැන උඩ බිම බලමින් තමා පිළිතුරු නොදන්නා බව කියා සෙබලාට රුපියල් සියයක් දුන්නා. සෙබලාගෙන් එම ප්‍රශ්නයට පිළිතුරු දක්වන ලෙස පණ්ඩිතයා ඉල්ලුවා. සමාවන්න එම ප්‍රශ්නයට පිළිතුරු මා දන්නේ නැහැ කියමින් සෙබලා පණ්ඩිතයා අත රුපියල් දහයක් තැබුවා. පරාජයට හා ලැජ්ජාවට පත් පණ්ඩිතයා වහාම වෙනත් දුම්රිය මැදිරියකට ගොස් කථා නැතිව නින්දට වැටුණා.



# 140. මල් බඳුනක් නැති නිවස

ජෝර්ජ් බර්නාඩ් ෂෝ ගේ ගෙදරට ආ අමුත්තකු ඔහුගේ නිවස තුළ මල් පෝච්චියක්වත් නොමැති වීම ගැන ඔහුට සරදම් කළේ ''ඔබ මල් වල ලස්සනවත් නොදන්නා රළු මිනිහෙක්'' යනුවෙනි. බර්නාඩ් ෂෝ කීවේ'' මා මල් වලට මෙන්ම කුඩා දරුවන්ටද හරිම කැමතියි. දරුවන්ට කැමති වුන පලියට දරුවන්ගේ ඔළු ගලවලා මේසය උඩ තබා ගැනීමට තරම් මම කෲර නැහැ'' කියාය.



George Bernard Shaw

# 141. ඒකාග්‍රතාවය

දුටු ගැමුණු රජතුමා ලෝවාමහාපාය සාදන අවසාන අදියරේදී එහි වැඩබැලීමට ගියා. පලංචියක් උඩ, උඩු බැලි අතට දිගාවී සිටිමින් සිතුවම් අඳිමින් සිටි චිත්‍ර ශිල්පයකු තමා පහළින් සිටි දුටු ගැමුණු රජතුමා තම ගෝලයා යැයි සිතා'' ඒයි කොල්ලෝ ඔය කෙළ ගහන පොල්කටුව මට දීපන් '' යැයි කීවා. පලංචියට මුවාවූ රජතුමා සිත්තරාට කෙළ ගැසීමට පොල් කටුව ඇල්ලුවා. පලංචියෙන් බැස්සාට පසුව සිදු වූ දෙය අනිත් සේවකයන් සිත්තරාට කීවා. තමන් කරගත් විනාශය ගැන කෙතරම් බිය වූවාද කීවොත්, ඔහුට උණ හැදී ගිලන් වුණා. පසු දින රජමාලිගාවට එන ලෙස සිත්තරාට රජතුමාගෙන් පණිවුඩයක් ලැබුණා. වෙන්න යන විනාශය ගැන බියෙන් මරණයට පවා සූදානම්ව සිත්තරා රජ මාලිගය වෙත ගියත්, රජතුමා ඔහුගේ ඒකාග්‍රතාවය සහ කරන වැඩය වෙතම පමණක් සිත යොමු කිරීම පිළිබඳව ප්‍රශංසා කර තෑගි බෝග ලබාදුන්නා.



# 142. තනිවම නැටූ නයා

එක් අහිකුණ්ටිකයෙකු නයකු නටවමින් තම ජීවිකාව කරගත්තා. ඔහු වයනා නලා හඬට කූඩයෙන් එලියට එන නයා නටන විට මිනිසුන් සතුටු වී ඔහුට මුදල් වීසි කළා. දවසක් නයාට හිතුණා “කුමටද මේ අහිකුණ්ටිකයාගේ අණට කීකරුවෙමින් නටන්නේ. නටන්නේ මම, සල්ලි හම්බවෙන්නෙ මෙයාට ඒනිසා මමම තනියෙන් නැටුම් පෙන්වලා හම්බකරන්න ඕන”කියලා. නයි නටවන්නා බැහැර ගිය විටක නයා තනියම පෙට්ටියෙන් එළියට අවුත් නටන්න පටන් ගත්තා. මෙය දුටු මිනිසුන් බියට පත්ව ගල් මුල් ගසා නයාව මරා දැමුවා.



**මෙම කථාව පිළිබඳ විවිධ අදහස්**

- අනුන් යටතේ රැකියාව කරන අපිත් නයාට සමානයි.
- ව්‍යවසායකයා හම්බ කරන්නේ තමා යටතේ වැඩ කරන අයගේ ශ්‍රමය හා දක්ෂතා නිසයි. එහෙත් ඒ එක් එක් සේවකයාට ව්‍යවසායකත්වයකින් තොරව හම්බ කිරීමට හැකියාවක් නැත.
- මෙම කථාව ප්‍රේමදාස ජනාධිපතිතුමා දෝෂාභියෝග පිළිතුරු කථාව කරමින් නායකයන් හා අනුගාමිකයන් පිළිබඳ උදාහරණයක් ලෙස කීවේය.

# 143. හිරු දෙව් පූජාව

එක් වියත් භික්ෂුවක් දිනපතා උදේ පින්ඩපාතයේ වැඩීමට පෙර පාත්තරය රුගෙන ගඟට ගොස් එය සෝදා ගඟ දිය මත පාකර පාත්තරය හිරු දෙසට හරවා ටික වේලාවක් බලා සිට පිණ්ඩපාතයේ වඩිනවා. මෙම පුරුද්ද දුටු අනික් භික්ෂුන් සිතුවේ ඔහු වැඩිපුර දානය ලැබීමට හිරු දෙවියන්ට පූජාවක් පවත්වන බවයි. මෙසේ සිතූ අනික් භික්ෂූන්ද එම චාරිත්‍රය අනුගමනය කිරීමට පටන් ගත්තා. මෙය දුටු බුදුන් වහන්සේ භික්ෂූන්ගෙන් මේ පිළිබඳව විමසූ විට ඔවුන් කීවා තමන් හිරු දෙවියන්ට පූජාවක් පවත්වන බවත් තමන් එසේ කිරීමට ඉගෙන ගත්තේ ඈත වසන භික්ෂුවගෙන් බවත්ය. බුදුන් එම භික්ෂුව වෙත ගොස් ඔහු කරන්නේ මොකක්දැයි ඇසුවා.තම පාත්‍රය හිල් වී ඇති බවත් හිල් වූ තැන සොයා ගැනීමට වතුරේ පාකර හිරු දෙසට අල්ලන බවත්, එසේ හිල් වී ඇති තැන සොයා ගත්තාට පස්සේ එතැනට අත තබා දානය වලදන බවත් භික්ෂුව කීවා.



# 144. අඩ මස්සකට මිල කළ පෙළහර

බුදු හාමුදුරුවෝ ඇතුළු සංඝයා වහන්සේ තොටුපලක් අසලට වී තොටියා එන තුරු බලා සිටියා. බ්‍රාහ්මනයෙක් එතනට පැමිණියේ ගඟෙන් එගොඩ වීමටය බුදුන් හා සංඝයා දැක ඔවුන්ට තම හැකියාවන් පෙන්වීමට සිතූ බ්‍රාහ්මණයා බුදුන් දෙස සාවඥව බලා ගඟ දිය මත ඇවිදිමින් ප්‍රතිහාර්යය පෑවා.

මෙය දුටු සංඝයා වහන්සේට මෙය මදිකමක් සේ පෙනී බුදුන්ට කීවා අපි ආසයි ඔබ වහන්සේ බ්‍රාහ්මනයාට දැක ගන්නට ඊටත් වඩා ලොකු ප්‍රතිහාර්යයක් පානවා දකින්නට කියලා. බුදුන් එවිට කීවේ තොටියා මෙගොඩට පැමිනෙණ තෙක් ඉන්න කියලා. තොටියාගෙන් ඇහුවා කලින් ගිය අයගෙන් ගඟෙන් එගොඩ වීමට කීයක් අය කරාද කියලා. ඔහු කිව්වා අඩ මස්සක් වැනි සුළු ගණනක් අය කළා කියලා.

බුදුන් වහන්සේ සංඝයාට පෙන්වා දුන්නේ බ්‍රාහ්මණයා බොහෝ කල් මහන්සි වී ලබා ගත් පෙළහර පෑමේ බලය අඩ මස්සක් වටිනා කමකට බැස්සවූ බවත්, තමන් කල්ප ගණනක් පෙරුම් පුරා ලබා ගත් බුදු බව ඒ අයුරින් නොවටිනා දෙයකට වැය නොකරන බවත් ඊට වඩා වටිනා දෙයකට කාලය යෙදවිය යුතුබවත්ය.



**මෙම කථාව පිලිබද විවිධ අදහස්**

☞ යමෙක් යමක් කළ විට ඊට පිළිතුර ලෙස එකිනෙක කිරීමට නොයන්න

☞ නොවටිනා දෙයකට බොරු සෝබන පෙන්වන්න එපා.

# 145.සොක්‍රටීස්ට බිරිඳගෙන් වතුර ප්‍රහාරයක්

ග්‍රීක දාර්ශණිකයකු වන සොක්‍රටීස් දිනක් තවත් දාර්ශණිකයින් කිහිප දෙනෙකු සමග තම නිවසේදී ඉතා වැදගත් සාකච්ජාවක යෙදී සිටියේය.

යම් කාරණයක් වෙනුවෙන් තම සැමියාගේ අවධානය යොමු කිරීමට සොක්‍රටීස්ගේ භාර්යාව කිහිපවිටක්ම උත්සාහ කළ මුත්, සොක්‍රටීස්ගේ දැඩි අවධානය යෙදී තිබුණේ සාකච්ජාව වෙතටමය. මින් කෝප වූ ඔහුගේ බිරිද ගෙතුලට ගොස් වතුර බාල්දියක් ගෙන අමුත්තන් ඉදිරියේම සොක්‍රටීස්ගේ ඇග පුරා වත් කළාය.

මෙම ක්‍රියාවෙන් අමුත්තන් ඉමහත් කලබලයටත් කෝපයටත් පත් වූ බව පෙණුනි.

එහෙත් සොක්‍රටීස්, “ෂා අද වැනි ග්‍රීස්ම දිනයක වතුර ටිකක් ඇගට වැටුනහම කොතරම් සනීපයක් දැනෙනවාදැයි” පවසමින් කිසිම වෙනසක් කලබලයක් නොදක්වා දිගටම සාකච්ජාවේ නිරත විය.



**මෙම කතාව පිළාබදව විවිධ අදහස්**

☞ තමන්ට රිද්දවීමට අවශ්‍ය අයකු ඔහුගේ /ඇයගේ අරමුණ ජය ගන්නේ තමන් ඔහු/ඇය බලාපොරොත්තු වන ආකාරයට ප්‍රතිචාර දැක්වුවහොත් පමණි. වතුර බාල්දිය ඇගට වැටුන විට කලබල වී කෝප වූවා නම් ඔහු කරන්නේ තම බිරිද බලාපොරොත්තු වූ ආකාරයටම හැසිරීමය.

# 146. මධ්‍යගත උපදෙස්

කැළෑබද ප්‍රදේශයක තිබූ සංචාරක බංගලාවක කළමණාකරුවා තම මූලස්ථානයෙන් උපදෙස් ගැනීමට තිබූ දුෂ්කරතාවය නිසාම තීරණ ගැනීම තමා විසින් කරගෙන ගියා. මේ ගැන අමනාප වූ සාමාන්‍යාධිකාරී වරයා කළමණාකරු කොළඹ මූලස්ථානයට ගෙන්වා අවවාද දුන්නා, මූලස්ථානයෙන් අහන්නේ නැතිව කිසිවක් නොකරන ලෙසට.

දිනක් මේ කැළෑ බද පෙදෙසේ සංචාරක බංගලාවේ නිවාඩු ගැනීමට සාමාන්‍යාධිකාරී තුමාගේ පවුලේ අය ආවා. කොටියකු සංචාරක බංගලාවට පැන ඔවුන් මරන්න හැදුවා. කළමණාකරු කොළඹ මූලස්ථානයට කතා කර උපදෙස් පැතුවා. උපදෙස් ලැබෙන විට කොටියා සාමාන්‍යාධිකාරීවරයාගේ පවුලේ උදවිය මරා දාලා ඉවරයි.



# 147. දෙවියන් දුන් මුදල් වංචා කළ තැපැල් මහත්තයා

එක් දුප්පත් ගොවියෙක් තමා දුක් මහන්සි වී වගා කළ කුඹුරෙන් රුපියල් පන්දහසක් අලාබ වූ බැවින් එය ඉවසා ගත නොහැකිව තම දුක කියා එම අලාභය ලබා දෙන මෙන් ලිපියක් ලියා එය දෙවියන් වහන්සේ නමට ලියා ලියුම් කවරයක බහා මුද්දර ගසා තැපැල් කළා. තැපැල් කාර්යාලයේදී මෙම ලිපිය භාර දීමට ලිපිනයක් නොමැති නිසා තැපැල් ස්ථානාධිපතිතුමා එය කඩා කියෙව්වා. මෙම ගොවියා ගැන අනුකම්පා ඇති වූ ඔහු තම සේවක පිරිසටද කතා කොට ඉතා අමාරුවෙන් රුපියල් හාරදහසක් පමණ එකතු කොට තැපෑලෙන් එම ගොවියා වෙත යැව්වා. මුදල් ලද ගොවියා ඉතා පුදුමයටත් සතුටටත් පත්ව දෙවියන්ට ස්තුති කොට ලිපියක් ලියා නැවතත් තැපෑලට දැම්මා. එම ලියුමද තැපැල් ස්ථානාධිපති විසින් කඩා බැලුවා.

එහි ලියා තිබුණේ කාරුණික දෙවියන් වහන්ස මාගේ වගාවෙන් පාඩු වූ රුපියල් පන්දහස ලබා දෙන මෙන් ඔබ වහන්සේ වෙත එවන ලද ලිපියට පිළිතුරු වශයෙන් එවූ මුදල් ලැබුණා. ඔබ වහන්සේට පින් නමුත් මම ඉල්ලා එවූ මුදලින් මට ලැබුණේ රුපියල් හාරදහසක් පමණයි. අනුමානයක් නැහැ ඉතිරි රුපියල් දාහ තැපැල් කාර්යාලයේ සේවකයින් සොරකම් කරන්නට ඇතැයි සිතනවා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ හොදක් කළාට ප්‍රශංසාම බලාපොරොත්තු වන්න එපා.

☞ සමහරුන් හොද කළත් ප්‍රශංසාව යන්නේ වෙන කෙනෙකුටයි. එවිට ඇත්තටම හොද කළ කෙනාට යම් හිතේ අමාරුවක්ද ඇතිවෙන්නට පුලුවන්.

# 148. ජීවිතෙන් භාගයක්ම අපතේ

මහාචාර්යවරයෙක් තොටුපලකට පැමිණ ඔරුවෙන් ගඟ තරණය කරද්දී තොටියා හා කථාවට වැටුණා. "ඔබ ක්ෂීර පථය ගැන දන්නවාද?" මහාචාර්ය වරයා තොටියාගෙන් විමසුවා. තොටියා තමා නොදන්නා බව පැවසුවා. මහාචාර්ය වරයා තවදුරටත් තොටියාගෙන් ප්‍රශ්ණ කිහිපයක් ඇසුවත් ඉන් එකකටවත් පිළිතුරු දීමට තොටියා අපොහොසත්වීම නිසා තොටියාට නිගා කොට "තොටිය නුඹ උගත්කමක් නැති බැවින්, දැනටමත් ඔබගේ ජීවිතයෙන් හරි අඩක්ම විනාශ කරගෙන ඇත" යනුවෙන් පැවසුවා. ඔරුව ගඟ මැදට පැමිණි විට මහ වැසි සහිත කුණාටුවක් ඇතිවී ගඟද රළු වුණා. තොටියා මහාචාර්යවරයාට කතා කොට ඔබ පිහිනන්න දන්නවාදැයි ඇසුවා. මහාචාර්යවරයා පිහිනන්නට නොදන්නා බව කීවා. එහෙනම් ''ඔබගේ ජීවිතය සම්පූර්ණයෙන්ම විනාශ වුනා'' යැයි කියූ තොටියා පිහිනා තම ජීවිතය බේරා ගත්තා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ පොතේගුරෙකු පමණක් නොවී ප්‍රායෝගික දක්ෂතාද වර්ධනය කර ගන්න.

# 149. කුදුකම නැතිකර ගත් කුමාරයා

රටේ රජකම හිමිවන්නට නියම වූ කුමාරයකු තම සිරුරේ තිබූ කුදු බව තම අනාගත වගකීමට බාධාවක් බව සිතමින් සිත් තැවුලට පත්ව සිටියා. ඔහුගේ මිතුරකුගෙන් ලත් උපදෙසක් අනුව ඉතාම දක්ෂ මූර්ති ශිල්පියෙකු ලවා කුමාරයාගේ ප්‍රතිමාවක් නිම කළේ අර කුදු බව නොමැතිව ඉතාමත් හුරුබුහුටි කඩවසම් කුමාරයකු ලෙසයි. මෙම ප්‍රතිමාව තම රාජකීය උද්‍යානයේ ප්‍රමුඛ ස්ථානයක ඉදිකරවා එය දෙස දිනපතා බලමින් ප්‍රතිමාව ගැන මෙනෙහි කරමින් එහි තිබූ සෘජු කඩවසම් සිරුර කෙරෙහි අවධානය යොමු කළා. ක්‍රමක්‍රමයෙන් ප්‍රතිමාවට අනුව තම සිරුරද සෘජු බවක් ඇති කර ගනිමින් තම කුදු බව නැතිකර ගත්තා.



**මෙම කතාව පිළිබඳ විවිධ අදහස්**

☞ මෙම පොතේ වෙනත් කතා දෙකක සඳහන් වුණු පිග්මැලියන් බලපෑම අනුව ස්වයං යෝජනාවක් පනවා ඒ මත උත්සාහය යොදා තමන්ට අවශ්‍ය කෙනා බවට පරිවර්තනය වීමේ උදාහරණයකි මෙය .

# 150. සිටුමැදුරෙන් හිඟමණට

ඉස්සර කාලේ ඉන්දියාවේ හුඟක් පොහොසත් සිටු පවුලක එකම සිටුකුමරිය තවත් එවැනිම පොහෙසත් සිටු පවුලක එකම සිටු කුමාරයා සමග විවාහ වුණා. එම සිටු පවුල් දෙකටම අයත්ව තිබූ වස්තුව සියල්ලම අයිති වුනේ මෙම දෙන්නටයි. කල් යාමේදී සිටු යුවලට පුතුන් දෙදෙනෙකු ලැබුණා. ඉන් වැඩිමලා ඉතාමත් කීකරු, නිහතමානී, නීතිගරුක, හොඳ ළමයෙක් වුණා. ඔහු ඉතාමත් ප්‍රවේසමෙන් හා අරපිරිමැස්මෙන් යුතුව කටයුතු කළා. මල්ලී හැදුනේ වැඩුනේ අයියාට හාත්පසින්ම වෙනස් අයුරින්. එයා දෙමව්පියන්ටත් අයියාටත් අකීකරු වුණා. සැමටම නරක විදියට බනින්නත්, නිග්‍රහ කරන්නත් පටන් ගත්තා. පොත්පත් ඉතාමත් අපිරිසිඳුව තබාගත් ඔහු ඒවා ටිකක් හෝ ඉරුණු විට අලුත් ඒවා මිලදී ගැනීමට පුරුදුව සිටියා. ඇඳුමක් පැළඳුමක් ඉරුණු විටද එය පසෙක දමා අලුත් ඇඳුම් ඉල්ලා කරදර කිරීමටත් පෙළඹුණා.

අවුරුදු කීපයකට පසු සිටුවරයා රෝගයකින් පෙලී මරණාසන්න වුණා. මැරෙන මෙහොතේදීද, තම බාලපුතා ඇඳ ළඟට කැඳවා අරපිරිමැස්මෙන් කටයුතු කරන ලෙසත් අනාගතයේදී සියලු වස්තුව ඉක්මනින් විනාශ විය හැකි බවත් පෙන්වා දුන්නා. පියා මළ පසු ඔහුට මේ අවවාදය අනුව ජීවත් වීමට හැකි වූයේ ඉතාම කෙටි කාලයක් පමණයි. නැවතත් පුරුදු පරිදි නාස්තිකාර ජීවිතය ආරම්භ කළා. පියාගේ අභාවයෙන් වසරකට පසු මවද රෝගාතුර වුණා. අවසාන හුස්ම හෙළීමට පෙර පියාගේ සියලු වස්තුව වැඩිමල් පුතාටද, මවගේ සියලු වස්තුව බාල පුතාටද භාර කොට ඒවා හොඳින් පාලනය කරන මෙන් අවවාද කළා. මවගේ මරණයෙන් පසු පියාගේ ගමේ වැඩිමහල් සහෝදරයාද, බාලයා මවගේ ගමේද සිටු මාළිගාවල පදිංචි වුණා. වැඩිමහල් පුතා තම ධනය ක්‍රමවත්ව පාලනය කරමින් තව තවත් ධනය රැස්කරමින් දියුණුවෙන් දියුණුවට පත් වුණා. බාල පුතා කුඩා කාලයේදීම ඇති කරගත් පුරුදු අනුව ඉතාමත් නොසැලකිලිමත් ලෙස තම කටයුතු කරගෙන ගියා. වැඩිකල් යන්නට පෙර ඔහු ලඟ තිබූ සියලුම මිල මුදල් අවසන් වුණා. අත්‍යවශ්‍ය කෑම්බීම් ආදිය ගැනීම සඳහා සිටු මාළිගාවේ තිබූ වටිනා භාණ්ඩ එකිනෙක විකුණන්නට පටන් ගත්තා. මේවා විකුණා අවසන් වූ පසු සිටු මාලිගාවේ දොර ජනෙල් පවා ගලවා විකුණුවා. අවසානයේදී සිටු මාළිගාවද විකුණා මහ මගට බැසීමට ඔහුට සිදු වුණා. දෙමව්පියන්ගේ අවවාද දැන් ඔහුට සිහි වෙන්නට පටන් ගත්තා. නමුත් දැන් ප්‍රමාද වැඩියි. ඔහුට අයියා මතක් වුණා. අයියා තමාට පිහිට වෙතැයි සිතා ඔහු සොයා යාමට පිටත් වුණා. යොදුන් ගණනක් ඈතින් වූ වැඩමල් සෙහොයුරාගේ සිටු මාළිගාවට යන අතරමග දී කෑමට යමක් ඉල්ලා ගැනීමට නොයෙක් ගෙවල්වලට යාමට සිදු වුණා. මොහුගේ හොඳට වැඩුණු ශරීරය දුටු කිසිවකු ඔහුට අනුකම්පා කළේ නැහැ. සැවොම සිතුවේ කිසිම අංග විකලත්වයක් නොමැති මොහුට කෑමට උපකාර කළ යුතු නැති බවයි. කෑමට ඉඳුල් බත් ටිකක් ලද ඔහුට නිතැතින්ම සිහි වූයේ මීට පෙර ආහාර පිළිබඳ ඔහු දැක්වූ නිගරු බවයි. කවර දුකක් හෝ විඳ තම සොහුරා වෙත ගියහොත් සියලු ප්‍රශ්න විසඳේ යැයි සිතූ ඔහු ඉඳුල් බත් කමින්, අගුපිල්වල නිදමින් දින ගණනක් දුක් විඳ තම සොහොයුරා වෙත ගියා.

මල්ලී සිටි තත්ත්වය දුටු වැඩිමල් සොහොයුරා ඔහුගෙන් කරුණු විමසුවා. වැඩිහිටි අවවාද නොපිළිපැදීම නිසා තමා දුගියකු බවට පත්වූ සැටි මල්ලී විස්තර කළා. බඩගිනි බව පැවසූ මල්ලීට අයියාගෙන්ද ලැබුණේ ඉඳුල් බත් පිඟානක්. මේ ගැන පුදුමයටත් දුකටත් පත්වූ මල්ලීගේ සියළු බලාපොරොත්තු සුන් වුණා. වෙනත් කළ හැකි දෙයක් නොවූ නිසා කෙසේ හෝ අයියා ළඟම සිටීමට සිතා ගත්තා. අයියා මල්ලීට ඇඳීමට දුන්නෙත් වැරහැලි ඇඳුම්. ඉතා අකමැත්තෙන් වුවද මල්ලී මේවා ඇන්දා. සතියකට පමණ පසු තත්ත්වය වෙනස් නොවන බව දුටු මල්ලී තම වැරහැලි ඇඳුම පිළියම් කොට අඳින්නට පටන් ගත්තා. මේ වෙනස ඇතිවන තුරු යටිහිතේ වේදනාවෙන් ගත කළ අයියාට ඉතාමත් සතුටක් දැනුණා. මල්ලීට බාල කාලයේදීම දුන් අවවාද නොපිළිපැදීම නිසා ඇති වූ විපාකය පෙන්වා දී අවවාද කොට සිටු ඇඳුම් පැළඳුම් නැවතත් ඇන්දෙව්වා.

කහවනු සියයක් දී මේ මුදල හොඳින් පාලනය කොට දියුණු වන මෙන් දැන්වූවා. තමාගේ විශාල ධනයක් විනාශ වූයේ කුඩා කාලයේදී මව්පිය සොහොයුරු වැඩිහිටි ආදීන් දුන් අවවාද නොපිළිපැදි බැවින් යැයි වටහා ගත් ඔහු අවවාද පිළිගැනීමට සිතා ගත්තා. ඔහු කුඩා වෙළඳ සළක් ආරම්භ කළා. කාරුණිකව පාරිභොගිකයන්ට කථා කිරීමට අදිටන් කර ගත්තා. සාධාරණ ලෙස වෙළඳසැල කරගෙන ගියා. හොඳ ගුණ වගා කරමින් දිනෙන් දින දුයුණු වුණා. වැඩි කලක් යන්නට මත්තෙන් ඔහු කලින් සිටියාටත් වඩා පොහොසතෙක් වුණා.

**මෙම කතාව ගුණපාල වික්‍රමසිංහ මහතා විසින් රචනා කර 1984 වර්ෂයේදී මිහිර පත්‍රයේ පළ කරණ ලද්දකි**



# ගුණපාල වින්ඩ්සර් මහතා



ගුණපාල වින්ඩ්සර් මහතා 1939 මාර්තු මස 17 වනදා චාල්ස් හෙන්රි වින්ඩ්සර් මහතාට දාව චාලට් වින්ඩ්සර් මහත්මියගේ කුසින් මෙලොවට බිහි විය. ඔහු තම ළමා විය මෙන්ම වැඩිහිටි වියේ මුල් භාගයද ගතකළේ ගාල්ලේ, පඩව්තොට හා මාගාල්ල යන ප්‍රදේශයවලය. ව්‍යාපාරික පවුලකට අයත් වූ ඔහු ගාල්ලේ පෙට්ටිගල වත්තේ ජාතික මුද්‍රණාලය නමින් ප්‍රකට වූ අච්චු කන්තෝරුව පවත්වා ගෙන ගියේය. පසු කාලීනව තම මුල්ම වෘත්තිය ලෙස ගුරු වෘත්තියට බට වින්ඩ්සර් මහතා ගාල්ලේ සියලු ශාන්තුවරුන්ගේ (All saints) විද්‍යාලයේත්, රිච්මන්ඩ් විද්‍යාලයේත් ගුරු වෘත්තියේ නිරත විය. මේ අතර කාලයේ ඔහු රිපන් විද්‍යාලයේ ගුරුවරියක ලෙසද පසුව විදුහල්පතිනිය ලෙසද ක්‍රියා කළ ඩල්සි ගොඩවත්ත මෙනවිය හා අතිනත ගත්තේය.

ගුරු වෘත්තියේ නියැලුණු කාලයේ ඔහු ශාන්ත ජෝන් ගිලන් රථ සංගමයේ සහ බාලදක්ෂ ව්‍යාපාරයේ පුහුණුකරුවෙක් ලෙස ක්‍රියා කිරීමට පටන් ගති. බාලදක්ෂ ව්‍යාපාරයේ අඛණ්ඩව නියැලුණු ඔහු වෘත්තිය බාලදක්ෂ ක්ෂේත්‍රයට පිවිස බාලදක්ෂ මූලස්ථානයේ ලේකම් ලෙසද කටයුතු කළේය. ඔහු 1999 දී රජත පද්මය සම්මානයෙන් පිදුම් ලදී.

1980 දශකයේදී ඔස්ට්‍රියන් සමාජ සේවා ආයතනයක් වන SOS ළමා ගම්මාන ජාත්‍යන්තරයේ අධ්‍යක්ෂවරයා වශයෙන් පත්වූ ගුණපාල වින්ඩ්සර් මහතා ගෙවල් 22 ක පවුල් පසුබිමක් යටතේ ජීවත්වූ අනාථ, අත් හල ළමුන් 250 ක් පමණ සිටි පිළියන්දල SOS ළමා ගම්මානය බාරව ක්‍රියා කළේය. එම කාලය අතර ඔහු පිළියන්දල හර්මන් මයිනර් විද්‍යාලයද ගාල්ලේ සහ නුවරඑළියේ ළමා ගම්මාන 2ක්ද විවෘත කිරීමට මුල් වී ක්‍රියා කළේය.

ඉන් අනතුරුව 1990 දශකයේදී නුවරඑළියේ ස්විට්සර්ලන්ත සමාජ සේවා ආයතනයක් වන Terre Des Homes සහ CINDA නම් වූ අඩු වරප්‍රසාද සහිත ළමුන් 500කට පමණ වෘත්තිය පුහුණුව ලබා දුන් ආයතනයක, විධායක අධ්‍යක්ෂ ලෙස ක්‍රියා කළේය. මෙම ආයතනයේ ළමා දිවාසුරැකුම් මධ්‍යස්ථානයක්, ළදරු පාසලක්, වෘත්තීය පුහුණු පාසලක්, පැවැත්වුණු අතර සතියේ දවස් පහම ළමුන් 500කට පමණ ආහාර සපයන ලදි.

1990 අග භාගයේදී බඩල්ගම නෙදර්ලන්ත මහළු ගම්මානයේ නේවාසික පරිපාලකවරයා ලෙස වින්ඩ්සර් මහතා ක්‍රියා කළේය. මෙම මහළු ගම්මානයේ නිවාස 100ක, වීදිවල අසරණව සිට මහළු වියට පත් උදවියට පිළිසරණ ලබා දුන් අතර එම පරිශ්‍රයේම රෝහලක්, ආබාධිතයන්ට විශේෂ මධ්‍යස්ථානයක් , බේකරියක්, මුළුතැන්ගෙයක්, පුස්තකාලයක්, බාබර් සාප්පුවක් ආදී සියලුම පහසුකම් පවත්වාගෙන ගියේය.

ගුණපාල වින්ඩ්සර් මහතා ශ්‍රී ලංකා රතු කුරුස සමාජයේද සහකාර අධ්‍යක්ෂ (සංවර්ධන) ලෙස ක්‍රියා කළේය. මෙකල ඔහු ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක 25 ම ශාඛා සංගම් ගොඩනැගුවේය.

2000 වර්ෂයේදී ඔස්ට්‍රේලියාවට පදිංචියට ගිය වින්ඩ්සර් මහතා එහිදීද තම සමාජ සේවා කටයුතු අඛණ්ඩව කරගෙන ගියේය. 2000 වසරේ සිඩ්නි ඔලිම්පික් උළෙලේ ඔලිම්පික් ප්‍රවාහන අධිකාරියේ රියදුරන් 100 ක පමණ කණ්ඩායමක් පරිපාලනය කිරීම ඔහුට බාර විය. එමෙන්ම ඔස්ට්‍රේලියානු රතුකුරුස සංගමයේ දුරකථන රතුකුරුස සේවයේද ස්වේච්ඡා සේවකයකු ලෙස ඔහු ක්‍රියා කළේය.

ඔස්ට්‍රේලියාවට ගියත් ශ්‍රී ලංකාව අමතක නොකළ ඔහු 2004 සුනාමි ව්‍යසනයෙන් පසු CCF ක්‍රිස්තියානි ළමා අරමුදලෙන් ලද ආරාධනයක් අනුව එහි ගාලු ශාඛාවට නායකත්වය දුන්නේය. මෙහිදී සුනාමියෙන් අනාථ වූ ළමුන්ට පිළිසරණ වී වෘත්තීය පුහුණු කටයුතු ආදියටද ඔහු මුල්විය. මෙම කාලය තුළ ඔහු කුඩා කළ සිටම ඇති දැඩි වූ මාගාල්ලේ නැවත පදිංචි වූ අතර 2007 ජනවාරි මාසයේ 16 වනදා සුළු අසනීප තත්ත්වයක් මතුවී රෝහල් ගත කරන ලදුව එම මාසයේ 18 වන දින අභාවප්‍රාප්ත වූයේ තම වෘත්තීය සහ සමාජ සේවා දිවියට තිතක් තබමිනි.

PRINTING HUT - 0777250220

